තෝරාගත් කෘති හතරවැනි වෙළුමෙහි වී. අයි. ලෙනින්ගේ පහත දැක්වෙන ලිපි පළවේ:

යුද්ධය සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය

මහ රුසියානු ජාතිකාභිමානය ගැන

අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ ඉහළම අවධිය ය

නිර්ධන පංති විප්ලවයේ යුද්ධ වැඩ පිළිවෙළ

හා වෙනත් ලිපි

ලෙනින්



තෝරාගත් කෘති

3

# ලෙනින්

## තෝරාගත් කෘති

### වෙළුම් දෙළහ



වෙළුම

**3**

රුසියාවෙහි විප්ලවයේ ආරම්භය

ප්‍රජාතන්ත්‍රික විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක

මොස්කව් නැගී සිටීමෙන් උගත යුතු පාඩම්

හෙර්ට්සන් සමරුව

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත
කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 3
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 336
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

සූචිකරණ දත්ත
කෘතියः ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 3
කතෘ/පරිවර්තකः වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශකः ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීමः 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්ः V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණනः 336
භාෂා මාධ්‍යः සිංහල
ගොනු ආකෘතියः PDF



# ලෙනින්

## තෝරාගත් කෘති
## වෙළුම් දෙළහ



## වෙළුම
## 3



මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1979

අනුවාදය — උ. මු. අබයරත්න

**В. И. ЛЕНИН**

ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ

Том 3

*на языке синхала*



Л $\frac{10102—726}{014(01)—79}$ 919—79

## පටුන

# රුසියාවෙහි විප්ලවයේ ආරම්භය

ජිනීවා, ජනවාරි 25(12) බුද දින.

රුසියාව තුළ අති මහත් ඓතිහාසික වැදගත් කමකින් යුත් සිදුවීම් ඇති වෙයි. නිර්ධන පංතිය සාර්වාදයට විරුද්ධව කැරළි ගසමින් නැගී සිටී. නිර්ධන පංතිය කැරළි ගසන තත්වයට පත් කරන ලද්දේ ආණ්ඩුව විසිනි. ආණ්ඩුව උවමනාවෙන් ම, වැඩ වර්ජන ව්‍යාපාරය වර්ධනය වීමට සහ පැතිරුනු පෙළපාලියක් ආරම්භවීමට, එක්තරා දුරකට බාධා නොකරම පාහේ ඉඩ දුන් බවට, දූන් සැකයක් තිබිය නො හැක. එය එසේ කළේ, යුද්ධ හමුද බලය යෙදීමට හැකි තත්වයක් ඇති කිරීම පිණිස ය. එහි උපාය සාර්ථක විය! මිය ගිය හා තුවාල ලද සංඛ්‍යාව දහස් ගණනකි. සාන්ත පීටර්ස්බර්ග් හි ලේ ගැලූ ජනවාරි 9 වන ඉරිද[1] යුද්ධ හමුදව නිරායුධ කම්කරුවන්, ස්ත්‍රීන් හා ළමයින් පරදවා ජය ගත්තේ ය. යුද්ධ හමුදව සතුරා පරාජය කළේ, බිම වැටී පොළොව බද ගෙන සිටින කම්කරුවන්ට වෙඩි තැබීමෙනි. ''අපි ඔවුනට හොඳ පාඩමක් උගැන්නුවෙමු''. සාර්ගේ බැලයෝ සහ ගතානුගතික ධනපති පංතියෙන් එන ඔවුන්ගේ පාලෙවකන්නෝ, ඔළොක්කු දමමින් එසේ කියති.

එසේය, එය ලොකු පාඩමක් විය. රුසියානු නිර්ධන පංතිය එය කිසිකලෙකත් අමතක නො කරනු ඇත. දහ දුක් විඳින ජනතාවකගේ පෙත්සම ''සාර්තුමෝ ම'' හමුවේ තැබීම අවංකව ම අපේක්ෂා කළ, කම්කරු පංතියේ ඉතාමත් නූගත් හා නොදියුණු එසේම බොළඳ ලෙස සාර් කෙරෙහි විශ්වාස තැබූ කොටස් සියල්ලට ම, සාර් නැතහොත් ඔහුගේ මාමා වන මහා ආදිපාද ව්ලදිමීර්ගේ නායකත්වයෙන් යුත් හමුදව පාඩමක් උගැන්විය.

කම්කරු පංතියට සිවිල් යුද්ධය ගැන බරපතල පාඩමක් ලැබී ඇත. අවිශේෂ, අනුද්යෝගී හා කාලකණ්ණි පැවැත්මෙන් මාස ගණනකදී

අවුරුද්දකදී ලැබිය හැකිවාට වඩා, විප්ලවවාදී අධ්‍යාපනයේ ප්‍රගතියක් නිර්ධන පංතියට එක දිනකින් ලැබී ඇත. "මරණය හෝ නිදහස" වීර-සාන්ත පීටර්ස්බර්ග් නිර්ධන පංතියේ, ඒ සටන් පාඨය රුසියාව දසත රැව් පිළිරැව් දෙන්නේ ය. මවිතකර තරම් සීඝ්‍ර ලෙස සිදුවීම් ඇති වෙයි. සාන්ත පීටර්ස්බර්ග් සමන්ත මහා වැඩ වර්ජනය පැතිරී යයි. සියලුම නිෂ්පාදන මහජන හා දේශපාලන කටයුතු ඇන හිට තිබේ. සඳුදා, එනම්, ජනවාරි 10 දින කම්කරුවන් හා යුද්ධ හමුදාව අතර තව තවත් වේගවත් ගැටුම් ඇති විය. ආණ්ඩුවේ බොරු වාර්තාවල දක්වා ඇතිසේ නොව, අගනුවර බොහෝ පෙදෙස්වල ලේ වැගිරෙන්නේ ය. කල්පිනෝ හි කම්කරුවෝ කැරළි ගසමින් නැගී සිටිති. නිර්ධන පංතිය තමන් ආයුධ සන්නද්ධ වෙමින්, ජනතාව ද අයුධ සන්නද්ධ කරති. සෙස්ත්‍රොරෙත්ස්ක් ආයුධ ගබඩාව කම්කරුවන් විසින් අල්ලාගන්නා ලදැයි කියනු ලැබේ. ඔවුහු රිවෝල්වර් සපයා ගනිති; ඔවුන්ගේ උපකරණ ආයුධ ලෙසට සකස් කර ගනිති. නිදහස සඳහා තීරණාත්මක ලෙස සටන් කිරීමට බෝම්බ ලබා ගනිති. සමන්ත මහා වැඩ වර්ජනය අන් පළාත්වලට පැතිරෙමින් පවතී. දැනටමත් මොස්කව්හි දස දහසක් වැඩ නතර කර ඇත. හෙට දිනට (ජනවාරි 13 අඟහරුවාදට) මහා වැඩ වර්ජනයක් සඳහා මොස්කව්හි කැඳැවීම් කර තිබේ.රිගාහි කැරැල්ලක් පැන නැග ඇත. ලොඩ්ස් කම්කරුවෝ පෙළපාලි දක්වති. වෝර්සෝහි කැරළි ගසමින් නැගී සිටීමකට කටයුතු සූදනම් කරනු ලැබේ. හෙල්සිංෆෝර්සිහි නිර්ධන පංති පෙළපාලි පවතී. බාකු, ඔඩෙස්සා, කීව්, හාර්කොව්, කව්නෝ හා විල්නා යන පෙදෙස්වල කම්කරුවන් අතර නොසන්සුන් කම පැතිර යමින් වැඩ වර්ජනය ව්‍යාප්ත වන්නේ ය. සෙවස්තෝපල්හි නාවුක ගබඩා හා ආයුධ ගබඩා ගිනි තබා ඇත; කැරළි ගසන භටයන්ට වෙඩි තැබීම යුද්ධ හමුද ප්‍රතික්ෂේප කරති. රිවෙල්හි හා සරාතොව්හි වැඩ වර්ජන පවතී. රදෝම්හි කම්කරුවන් හා අතිරේක හමුද භටයන් අතර ගැටුම් ඇති වේ.

විප්ලවය ඇවිළී යයි. ආණ්ඩුවේ ඔළුව අවුල් වන්නට පටන් ගෙන ඇත. එය, ලේ වගුරන මර්දනයෙන් ආර්ථික සහනයන් වෙතට, ප්‍රතිපත්ති මාරුවක් කිරීමට උත්සාහ දරයි — කම්කරුවන්ට සුළු වාසියක් දීමෙන්, නැතහොත්, පැය නමයක වැඩ දිනයක් පොරොන්දු වීමෙන් ගැලවී යාමට එය උත්සාහ කරයි. නමුත් ලේ ගැලූ ඉරිද දිනය අමතක කළ හැකි නොවේ. කැරළි ගසන සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන්ගේ ඉල්ලීම, එනම්, සර්වජන, ඍජු සහ සමාන ඡන්ද බලය හා රහස් ඡන්දය පදනම් කරගෙන වහාම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවනු, යන්න වැඩ වර්ජිත කම්කරුවන් ගේ ඉල්ලීම බවට පත්විය යුතුය. සාර් කෙරෙහි විශ්වාසය තැබූ සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන් පවා, ජනවාරි 9 දින ඝාතනයට



පිළිතුරු දුන්නේ, වහාම ආණ්ඩුව පෙරළා දමනු, යන සටන් පාඨයෙනි. ඔවුන් පිළිතුරු දුන්නේ ඔවුන්ගේ නායකයා වූ, පූජක වර ගියෝර්ගි ගපොන් මගිනි.ලේ ගැලූ ජනවාරි 9 වැනි දට පසු ඔහු මෙසේ කීවේ ය: "දැන් අපට සාර්කෙනෙක් නැත. ලේ ගංගාවකින් සාර් හා ජනතාව වෙන් වී ඇත. නිදහස සඳහා සටන දිනේවා!"

විප්ලවවාදී නිර්ධන පංතිය දිනේවා! යයි අපි කියමු. සමන්ත මහා වැඩ වර්ජනය නිසා කම්කරු පංතික හා නාගරික දුප්පත් ජනතාවන් වැඩි වැඩියෙන් උද්යෝගිමත් වෙයි, ඒකරාශී වෙයි. ජනතාව ආයුධ සන්නද්ධ කිරීම විප්ලවවාදී අවස්ථාවෙහි හදිසි කර්තව්‍යයක් බවට පත්වෙමින් පවතී.

පොදුජන නිදහසේ නියම බල පවුර විය හැක්කේ ආයුධ සන්නද්ධ ජනතාවකට පමණකි. නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ වීම ඉක්මණින් සාර්ථක කරගත් තරමට, වැඩ වර්ජකයා සහ විප්ලවවාදියා වශයෙන් එය වැඩි කලක් එහි සටන්කාරී තත්වය රැකගෙන සිටි තරමට, යුද්ධ හමුදාව ඉක්මණින්, වැනෙනසුලු තත්වයට පත් වේ; සොල්දාදුවන් කරන දෙය ඔවුන්ටම අන්තිමේදී අවබෝධ වන්නට පටන් ගෙන, අධමයන්ටද, දූෂ්‍ය පාලකයාටද, ආරක්ෂාවක් නොමැතිව සිටින කම්කරුවන්, ඔවුන්ගේ භාර්යාවන් හා දරුවන් ඝාතනය කරන්නන්ටද, විරුද්ධව ඔවුන් ජනතාවගේ පැත්ත ගැනීම, එන්න එන්න ම වැඩි වේ. සාන්ත පීටර්ස්බර්ග්හි ගසන වර්තමාන කැරැල්ලේ ප්‍රතිඵලය කුමක් වුවද, එය, කෙසේ නමුත්, වඩාත් පුළුල්, වඩාත් විඥත, වඩාත් හොඳින් සංවිධානය වූ නැගී සිටීමක ප්‍රථම පියවර වනු ඇත. සමහර විට ආණ්ඩුව තම අවසානය ගෙනඑන දිනය කල් දමනු ඇත. එහෙත්, එවැනි කල් දැමීමකින් සිදුවන්නේ, විප්ලවීය උදවේ ඊළඟ පියවර වඩාත් දැවැන්ත එකක් කිරීම පමණකි. මෙයින් අදහස් වන්නේ, සංවිධිත සටන් කරුවන් ඒකරාශී කිරීම සහ සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන් ගත් ආරම්භක පියවර ගැන තොරතුරු ප්‍රචාරය කිරීම සඳහා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එම කල් දැමීමෙන් ප්‍රයෝජන ගන්නා බව පමණකි. නිර්ධන පංතිය සටනට එළඹෙනු ඇත. ඔවුන් මෝල් සහ පැක්ටරි වලින් එළියට අවුත් තමන්ට නිසි ආයුධ සූදනම් කර ගනු ඇත. අරගලය පිළිබඳ සටන් පාඨය, වඩ වඩාත් පුළුල් ලෙස නාගරික දුප්පතුන් හා කෝටි ගණන් ගොවි ජනයා අතරට ගෙන යනු ලැබෙනු ඇත. සෑම පැක්ටරියකම, සෑම නාගරික දිස්ත්‍රික්කයකම, සෑම ලොකු ගමකම, විප්ලවවාදී කාරක සභා පිහිටුවනු ඇත. කැරළි ගසන ජනතාව, සාර්වාදී ඒකාධිපත්‍යයේ ආණ්ඩු ආයතන සියල්ලම බලයෙන් පහකර දමා, වහාම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීම ප්‍රකාශයට පත් කරනු ඇත.

කම්කරුවන් සහ පොදුවේ සියළුම පුරවැසියන් වහාම ආයුධ සන්නද්ධ

කළ යුතුය. ආණ්ඩුවේ බලධාරීන් හා ආයතන බලයෙන් නෙරපා දැමීම සඳහා, විප්ලවවාදී බලවේග සකස් කිරීම හා සංවිධානය කිරීම අවශ්‍ය ය. පොදු ප්‍රහාරය දීම සඳහා, සෑම වර්ගයකම විප්ලවවාදීන්ට එක්සත්විය හැකි වන්නේත්, ඔවුන් එක්සත් විය යුත්තේත්, එම පදනම මතය. නිර්ධන පංතිය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සමග වූ එහි සම්බන්ධය කිසි කලෙකත් අමතක නො කරම, මිනිස් වර්ගයා සියළු සූරාකෑමෙන් නිදහස් කර ගැනීම පිළිබඳ එහි අවසාන අරමුණ සඳ සිත්හි දරා ගනිමින්ම, එය තමන්ගේ ම ස්වාධීන මාවතෙහි ගමන්ගත යුතුය. නමුත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංති පක්ෂයේ මෙම නිදහස නිසා නියත විප්ලවවාදී අවස්ථාවේදී, පොදු සටන් වැදීමක අවශ්‍යතාවය, අපට කිසි කලෙකත් අමතක නො වනු ඇත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවවාදීන්ගෙන් ස්වාධීනව කටයුතු කිරීමෙහි සමත් වෙමු. එසේ කටයුතු කළ යුත්තෙමු. අපි ඔවුන්ගෙන් නිර්ධන පංතියේ පංති ස්වාධීනත්වය ආරක්ෂා කළ යුත්තෙමු. එහෙත් කැරළි ගසමින් නැගී සිටින අවස්ථාවේදී, සාර්වාදයට විරුද්ධව එක එල්ලේම පහර දෙන අවස්ථාවේ දී, යුද්ධ හමුදවන්ට ප්‍රතිරෝධනය දැක්වීමේදී, සමස්ත රුසියානු ජනතාවගේ ම සතුරාගේ බැස්ටයිල් බලකොටු බිඳ හෙළද්දී, අපි ඔවුන් සමග අතිනත් ගෙන යා යුත්තෙමු.

මුළු ලෝකයේ ම නිර්ධන පංතිය දැන් මහත් ඕනෑ කමකින් රුසියාවේ නිර්ධන පංතිය දෙස බලා සිටියි. අපගේ කම්කරු පංතිය එතරම් වීරෝදර ලෙස ආරම්භ කළ, සාර්වාදය පෙරළා දැමීමේ කටයුත්ත, සියළුම රටවල ඉතිහාසයේ සන්ධිස්ථානයක් වනු ඇත. ලෝකයේ .සියළුම ජාතීන්ගේ, සියළුම රාජ්‍යවල, සියළුම පෙදෙස් වල කම්කරුවන් ගේ කර්තව්‍යය එයින් පහසු වනු ඇත. එනිසා, සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ම, පංති විඥානය ඇති සෑම කම්කරුවෙක් ම, ඔහුගේ දෙ උර මත දැන් රඳන, පුළුල් ජනතා අරගලයේ උදාර කර්තව්‍යයන් සිතෙහි දරා ගත යුතු ය. තමන් මුළු ගොවි ජනතාවගේ ම, වැඩ කරන සියළු දෙනාගේ ම, සූරා කනු ලබන සියළු දෙනාගේ ම, අවශ්‍යතාවයන් හා අයිතිවාසිකම් වෙනුවෙන්ද, ජනතා සතුරාට විරුද්ධව, මුළුමහත් ජනතාවගේ ම අවශ්‍යතාවයන් හා අයිතිවාසිකම් වෙනුවෙන්ද, පෙනී සිටින බව, ඔහු අමතක නො කළ යුතු ය. සාන්ත පීටර්ස්බර්ග්හි නිර්ධන පංති වීරයෝ දැන් සියල්ලන්ට ම ආදර්ශයක් සේ නැගී සිටිති.

විප්ලවය දිනේවා!
කැරළි ගසන නිර්ධන පංතිය දිනේවා!

''වපිරියොද්'' අංක 4, 1905 ජනවාරි 31 (18)

වි. අයි ලෙනින්, සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 9, පිටු 201-204



# ප්‍රජාතන්ත්‍රික විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක[2]

## පෙරවදන

විප්ලවවාදී පක්ෂවල උපක්‍රමීය සටන් පාඨ ගැන අගය කිරීමට ඉවහල් වන අලුත් කරුණු පුදුමාකාර තරම් විශාල ප්‍රමාණයක් ඉදිරිපත් වන විප්ලවීය කාල පරිච්ඡේදයක, සිදුවීම් සමග එකට පා තබා යාම ඉතාමත් දුෂ්කර කාරියකි. මෙම පොත ලියන ලද්දේ ඔඩෙස්සා සිදුවීම්* වලට පෙර ය. ක්‍රියාදාමයක් වන කැරළිගසමින් නැගී සිටීම පිළිබඳ න්‍යාය නිර්මාණය කළා වූ ද, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් සඳහා ප්‍රචාරය ප්‍රතික්ෂේප කළා වූ ද, ඒ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට පවා මෙම සිදුවීම් නිසා, ඔවුන් ගේ විරුද්ධ කරුවන්ගේ පැත්තට නියත වශයෙන් ම යාමට හෝ යාමට පටන් ගැනීමට බල කෙරුණු බව, අපි දැනටමත් ''ප්‍රොලිතාරි''[4] පත්‍රයෙන් (අංක 9 — ''විප්ලව පාඩම් උගන්වයි'',) පෙන්වා දී ඇත්තෙමු. සාමකාමී දේශපාලන සංවර්ධන කාල සීමාවලදී සිදුවෙතැයි විශ්වාස කිරීමට පවා අපහසු තරම් සීඝ්‍ර ලෙස හා අංග සම්පූර්ණ ලෙස උගැන්වීම, විප්ලවයෙන් කෙරෙන බව නිසැක ය. එහිදී විශේෂයෙන්ම වැදගත් වන කරුණ නම්, එම උගැන්වීම නායකයන්ට පමණක් නොව, පොදු ජනතාවට ද ලැබීම ය.

රුසියාවේ පොදු කම්කරු ජනතාවට විප්ලවය විසින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය උගන්වනු ලැබෙණු ඇතැයි යන්න ගැන ස්වල්ප හෝ සැකයක් නොමැත. සමාජයේ විවිධ පංතිවල නිමය පංති ස්වභාවය විදහා දැක්වීමෙන් ද, අප ප්‍රජාතන්ත්‍රවාදයේ ඇති ධනපති ස්වභාවය සහ ගොවි ජනතාවගේ, එනම්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී අර්ථයෙන් විප්ලවවාදී වන අතරම තමන් තුළ ''සමාජ සන්තක කිරීමේ'' අදහස නොව ගොවි ධනපති පංතිය හා ග්‍රාමීය නිර්ධන පංතිය අතර නව පංති අරගලයක බීජ දරා සිටින ගොවි

* මෙහි සඳහන් කර ඇත්තේ ''පොටෙම්කින් කුමාරයා''[3] නැමති සන්නද්ධ ක්‍රූසර් නෞකාවේ ඇති වූ කැරැල්ල ගැනය. (1907 මුද්‍රණයට කතුගේ සටහන — සංස්කාරක)

ජනතාව ගේ, සැබෑ අභිප්‍රායයන් විදහා දක්වීමෙන්ද, විප්ලව විසින්, ප්‍රත්‍යක්ෂ ව්‍යවහාරයේ දී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වැඩ පිළිවෙළ හා උපක්‍රම ස්ථිර කෙරෙනු ඇත. පැරණි නරෝද්නික්වාදයේ[5] සියළුම පැරණි මායා මත, නිදසුනක් ලෙසට, රුසියාවේ ධනපති ක්‍රමයේ සංවර්ධනය ගැන ප්‍රශ්නය, අපගේ ''සමාජයේ'' ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවය ගැන ප්‍රශ්නය හා ගොවි ජනතා නැගිටීමක සම්පූර්ණ ජයග්‍රහණයක වැදගත්කම ගැන ප්‍රශ්නය සම්බන්ධයෙන් වූ ''සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ'' වැඩ-පිළිවෙළෙන්[6] ඉතා පැහැදිලි ලෙස පෙනෙන, මෙම සියළු මායා මත, විප්ලවය විසින් සම්පූර්ණයෙන් ම හා නිර්දය ලෙස බැහැර කරනු ලැබෙනු ඇත. ප්‍රථම වතාවට එය විවිධ පංතිවලට දේශපාලන බවුතීස්මය ලබා දෙනු ඇත. මෙම පංති නිශ්චිත දේශපාලන හැඩහුරු කමක් සහිතව විප්ලවයෙන් මතු වී එනු ඇත. මන්දයත්, ඒවායේ දෘෂ්ඨිවාදීන් ගේ වැඩ පිළිවෙළවල් හා උපක්‍රමීය සටන් පාඨ තුළින් පමණක් නොව, පොදු ජනතාවගේ විවෘත දේශපාලන සටනෙහිදී ද, ඒවායේ යථා ස්වරූපය හෙළිදරව් කෙරෙනු ඇති බැවිනි.

නිසැක වශයෙන් ම විප්ලවය අපට පාඩම් උගන්වනු ඇත. පොදු ජනතාවට පාඩම් උගන්වනු ඇත. එහෙත් සටන්කාමී දේශපාලන පක්ෂයක් හමුවේ දැන් උද්ගතව ඇති ප්‍රශ්නය නම්, මෙයයි. විප්ලවයට යමක් උගැන්වීමේ හැකියාව අපට තිබේ ද? විප්ලවය මත නිර්ධන පංති ලාංජනය තැබීමටත්, වචනයෙන් පමණක් නොව ක්‍රියාවෙන්, විප්ලවය නියම, තීරණාත්මක, ජයග්‍රහණයක් කරා ගෙන යාමටත්, ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතියේ චපල බව, මන්දෝත්සාහී ස්වභාවය හා ද්‍රෝහීභාවය අකර්මන්‍ය කිරීමටත්, අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ධර්මයෙහි නිවැරදි බවෙන් හා සම්පූර්ණයෙන්ම විප්ලවවාදී වූ එකම පංතිය වන නිර්ධන පංතිය සමග ඇති අපගේ සම්බන්ධකම්වලින් ප්‍රයෝජන ගැනීමට අපට හැකි වේ ද?

අප ගේ ප්‍රයත්නයන් සියල්ලම යොමු කළ යුත්තේ මෙම පරමාර්ථය කෙරෙහි ය. එම අරමුණෙහි සාර්ථකත්වය, එක් අතකින්, දේශපාලන තත්වය පිළිබඳව අපගේ තක්සේරුවෙහි නිරවද්‍යතාවය හා අපගේ උපක්‍රමීය සටන් පාඨවල උචිතභාවයත්, අනිත් අතට, එම සටන් පාඨවලට පක්ෂව කම්කරු පොදු ජනතාවගේ සැබෑ සටන්කාරී ශක්තිය යොදනු ලැබේ ද යන්නත්, මත රඳා පවතිනු ඇත. අප පක්ෂයේ සියළුම සංවිධානවල හා කණ්ඩායම්වල සාමාන්‍ය, නිත්‍ය හා වර්තමාන කටයුතු, එසේම ඒවායේ ප්‍රචාරක, උද්ඝෝෂණික හා සංවිධානමය කටයුතු, ඉලක්ක කර තිබෙන්නේ පොදු ජනතාව සමග සම්බන්ධකම් ශක්තිමත් කිරීම හා විස්තීර්ණ කිරීම වෙත ය. මෙම කටයුතු කිරීම කවදත් අවශ්‍ය වන අතර,



විප්ලවයේ කාල සීමාවකදී එපමණක් සෑහේ යයි සැලකිය නො හැකි ය. එබඳු අවස්ථාවක දී විවෘත විප්ලවවාදී සටනෙහි යෙදීමේ සහජාසමය ආවේගයක් කම්කරු පංතියට දැනෙන්නේ ය. මෙම සටනේ අරමුණු නිවැරදි ලෙස නියම කිරීමටත්, මෙම අරමුණු හැකි තරම් පුළුල් ලෙස ප්‍රචලිත කිරීමට හා අවබෝධ කරවීමටත්, අප උගත යුතු ය. පොදු ජනතාව හා සමග අපගේ සම්බන්ධකම් පිළිබඳව දැනට ප්‍රචාරය වී තිබෙන අශුභවාදී හැඟීම, බොහෝ විට, විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කාර්ය කොටස ගැන වූ ධනපති පංති අදහස්වලට කඩතුරාවක් වන බව, අමතක නො කළ යුතුය. නිසැකවම, කම්කරු පංතියට අධ්‍යාපනය දීම හා එය සංවිධානය කිරීම උදෙසා අපෙන් තවමත් ඉටු විය යුතුව තිබෙන වැඩ කොටස, අති විශාලය. එසේ වුවද, කාරණය කොටින් කියතොත් මෙසේ ය: උගැන්වීම හා සංවිධානය කිරීම පිළිබඳ මෙම කටයුතු වල දී අප ප්‍රධාන වශයෙන් අවධාරණය යොමු කළ යුත්තේ කොතැනට ද? වෘත්තීය සංගම් හා නිත්‍යානුකූලව පවතින සමිති සංගම් කෙරෙහි ද? නැතහොත්, ආයුධ සන්නද්ධ නැගී සිටීමක්, විප්ලවකාරී හමුදවක් හා විප්ලවකාරී ආණ්ඩුවක් නිර්මාණය කිරීමේ වැඩ කටයුතු කෙරෙහි ද? කම්කරු පංතියට අධ්‍යාපනය දීම හා එය සංවිධානය කිරීම සඳහා මේ දෙකම ඉවහල් වේ. ඇත්ත වශයෙන් ම ඒ දෙකම අවශ්‍ය ය. එහෙත්, වර්තමාන විප්ලවයේ දී ප්‍රශ්නය වන්නේ මෙයයි: කම්කරු පංතියට අධ්‍යාපනය දීමේ හා එය සංවිධානය කිරීමේ වැඩ කටයුතු වලදී අවධාරණය කළ යුත්තේ කුමක්ද? මුලින් කී දෙය ද? නැතහොත්, පසුව කී දෙය ද?

විප්ලවයේ ප්‍රතිඵලය රැඳී පවතින්නේ, කම්කරු පංතිය ධනපති පංතියේ උපකාරක බලවේගයක, එනම්, ඒකාධිපත්‍යයට විරුද්ධව දෙන ප්‍රහාරයේ දී ශක්තියෙන් බලවත් වන නමුත් දේශපාලන වශයෙන් බෙලහීන උපකාරක බලවේගයක, කාර්ය කොටස ඉටු කරයිද, නැතහොත්, එය ජනතා විප්ලවයේ නායක කාර්ය කොටස ඉටු කරයි ද, යන්න මත ය. ධනපති පංතියේ වඩාත් බුද්ධිමත් නියෝජිතයෝ මේ බව හොඳින් ම දනිති. වෘත්තීය සමිති හා නිත්‍යානුකූල ලෙස පවතින සමිති සංගම් දැන් ඉදිරියට ගෙන එන උපනතිය වන, අකීමච්වාදයට,[7] ''ආර්ථිකවාදයට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ ප්‍රශංසා කිරීමට ''අස්වබඡ්ජේනිය''[8] ඉදිරිපත් වන්නේ එනිසා ය. නව ඉස්ක්‍රා අදහස් තුළ දක්නට ලැබෙන අකීමච්වාදී උපනතිය ස්ත්‍රූවේ මහතා විසින් (''අස්වබඡ්ජේනිය'' අංක 72) අගයනු ලබන්නේද එනිසාම ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ[9] තීරණවල විප්ලවවාදී පටු ස්වභාවය පිළිකුල් කරමින්, ඒවාට ඔහු එතරම් තදින් පහර දෙන්නේ* ද එහෙයිනි.

පොදු ජනතාවන්ට නායකත්වය දෙනු පිණිස සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට

නිවැරදි උපක්‍රමීය සටන් පාඨ තිබීම මෙම අවස්ථාවේදී අත්‍යන්තයෙන් ම වැදගත් ය. ප්‍රතිපත්තිමය වශයෙන් නිවැරදි උපක්‍රමීය සටන් පාඨවල වැදගත් කම සුළු කොට තැකීම තරම්, විප්ලව කාලවලදී භයංකර වන, වෙනත් දෙයක් නැත. නිදසුනක් ලෙසට, ''ඉස්ක්‍රා''[10] පත්‍රය, එහි අංක 104 න් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙහි වන එහි ප්‍රතිපාක්ෂිකයන් ගේ පැත්තට යන නමුදු, එය ඒ අතරම, කලට ඉදිරියෙන් යමින්, අසාර්ථකත්වයන්, වැරදි, ආදිය ගණනාවක් සහිතව වුවද ව්‍යාපාරය ගමන් ගන්නා මග සනිටුහන් කරන සටන්පාඨවල හා උපක්‍රමීය තීරණවල වැදගත්කම පහත් කොට දක්වයි. ඊට ප්‍රතිකූල වශයෙන්, හුණදක් සිදුවීම් පසු පස්සේ ඇදී යාමට පමණක් සීමා වීමට නොකැමති හා නිවැරදි මාක්ස්වාදී ප්‍රතිපත්තිවල ජීව ගුණය අනුව නිර්ධන පංතියට නායකත්වය දීමට අපේක්ෂා කරන පක්ෂයකට, නිවැරදි උපක්‍රමීය තීරණ සකස් කර ගැනීම අතිශයින් ම වැදගත් ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේද, පක්ෂයෙන් බිඳී වෙන් වී ගිය කොටසෙහි* සාකච්ඡා සභාවේ ද, යෝජනාවලින් අපට ලැබී ඇත්තේ ඉතාමත් නියත ලෙස, ඉතාමත් සුපරීක්ෂාකාරී ලෙස සලකා බලා හා ඉතාමත් සම්පූර්ණ ලෙස ප්‍රකාශ කරන ලද උපක්‍රමීය අදහස්ය. එම අදහස් තනි පුද්ගල ලේඛකයන් විසින් අනියම් ලෙස ප්‍රකාශිත ඒවා නොව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංතියේ වග කිව යුතු නියෝජිතයින් පිළිගත් අදහස් ය. අප පක්ෂයට නියත හා පොදු වශයෙන් පිළිගත් වැඩ පිළිවෙළක් තිබෙන හෙයින්, එය අන් පක්ෂ සියල්ලට ම වඩා ඉදිරියෙන් සිටී. එය, ප්‍රජාතන්ත්‍රවාදී ''අස්වබෂ්ජේනිය'' ධනපතියන්ටත්, සමාජවාදී-විප්ලවවාදීන් ගේ විප්ලවවාදී වදන් හරඹයටත්, වෙනස් මගක් ගනිමින්, ස්වකීය උපක්‍රමීය යෝජනා කෙරෙහි දක්වන ප්‍රතිපත්තිමය ආකල්පය පිළිබඳව, අන්‍ය පක්ෂවලට ආදර්ශයක් දැක්වීමද කළ යුතුය. ''කෙටුම්පත්'' වැඩ පිළිවෙළක් සමග ඉදිරිපත් වෙමින්, තම ඇස් හමුවේ සිදුවන විප්ලවය ධනපති විප්ලවයක් ද යන්න ප්‍රථම වතාවට පරීක්ෂා කර බැලීමට, සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන්ට හදිසියේ ම මතක් වූයේ, විප්ලවය අතර තුරදී පමණකි.

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ හා සාකච්ඡා සභාවේ උපක්‍රමීය යෝජනා මනා පරීක්ෂාකාරිත්වයකින් අධ්‍යයනය කර, ඒවා මාක්ස්වාදයේ ප්‍රතිපත්තිවලින් පිට පැන ගිය තැන් කවරේදැයි පැහැදිලි කිරීමත්, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයකදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංතියේ නියම කර්තව්‍යයන් පිළිබඳව පැහැදිලි අවබෝධයක් ඇති කර ගැනීමත්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට භාර ඉතාමත් හදිසි කර්තව්‍ය වන බව අප කල්පනා කරන්නේ එහෙයිනි. මෙම පොත මිඩංගු කර තිබෙන්නේ එම කටයුත්ත සඳහා ය. වාචක ලෙස දෙස් දැක්වීමට පමණක් සීමා වී සිටීමට නොව මුළු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේම සම්පූර්ණයෙන්ම ඇතිවන අනාගත සමගියක පදනම වශයෙන්, උපක්‍රමවල එක්සත් භාවයක් ඇති කිරීමට ඇත්ත වශයෙන්ම කැමති අයට මාක්ස්වාදයේ ප්‍රතිපත්ති පිළිබඳ ස්ථාවරය හා විප්ලවයේ පාඩම් අනුව, අපගේ උපක්‍රම උරගා බැලීම අවශ්‍ය වී ඇත.

එන්. ලෙනින්

1905, ජූලි

* රුසියනු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි (ලන්ඩන්, 1905 මැයි) සම්මේලනයට සහභාගි වූයේ බොල්ෂෙවික් වරු පමණකි. ඒ අතර (එම වකවානුවේම, ජිනීවාහි) පැවැත්වුනු ''සාකච්ඡා සභාවට'' මෙන්ෂෙවික්වරු[11] පමණක් සහභාගි වූහ. ''ඉස්ක්‍රා'' දිගටම පළ කරමින් පැරණි හා නව ''ඉස්ක්‍රා'' අතර පරතරයක් තිබෙන බව, මෙන්ෂෙවික්වරු, එවකට ඔවුන්ගේ පක්ෂවාදියෙක් වූ ට්‍රොට්ස්කි මගින් ප්‍රකාශ කළ හෙයින්, මෙම පොතෙහි බොහෝ තැන්වල ඔවුන් ''නව ඉස්ක්‍රා කණ්ඩායම'' යනුවෙන් විස්තර කර ඇත. (1907 සංස්කරණයට කර්තෘගේ සටහන — සංස්කාරක)

## 1. හදිසි දේශපාලන ප්‍රශ්නයක්

වර්තමාන විප්ලවීය අවස්ථාවේ දී, පොදු ජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීම, දවසේ ප්‍රධාන ප්‍රශ්නය වී තිබේ. මෙම ප්‍රශ්නය විසඳිය යුතු ආකාරය ගැන විවිධ මත තිබේ. දේශපාලන උපනති තුනක් හැඩ ගැසෙමින් පවතී. සාර්වාදී ආණ්ඩුව, ජනතාවගේ නියෝජිතයන් රැස් කිරීමේ අවශ්‍යතාවය පිළිගනියි. එහෙත් මොනම තත්වයක් යටතේ වුවද, එම සභාව පොදු ජන මණ්ඩලයක් වීමට හෝ එය ආණ්ඩු ක්‍රම සම්පාදනය සඳහා මණ්ඩලයක් වීමට හෝ ඉඩ දීමට ආණ්ඩුව කැමති නැත. බුලීගින් කොමිසමේ[12] වැඩ කටයුතු ගැන පළවන ප්‍රවෘත්ති පත්‍ර වාර්තා අපට විශ්වාස කළ හැකි නම්, උද්ඝෝෂණය කිරීමේ නිදහසක් නොමැතිව, සීමාකාරී සුදුසුකම් ක්‍රමයක් අනුව හෝ සමහර සමාජ ප්‍රජාවලට පමණක් හෝ සීමා කොට තෝරා පත් කරන උපදේශක සභාවකට, එය එකඟ වීමට කැමති බව සිතා ගත හැකිය. විප්ලවවාදී නිර්ධන පංතිය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකත්වය ලබන නිසා, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට සම්පූර්ණයෙන් ම බලය පවරන ලෙස ඉල්ලයි. එම අරමුණ ඉටු කර ගැනීම සඳහා, සර්වජන ඡන්දය හා උද්ඝෝෂණය කිරීමේ සම්පූර්ණ නිදහස පමණක් නොව, සාර්වාදී ආණ්ඩුව වහාම බලයෙන් නෙරපාදමා, ඒ වෙනුවට තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවීමද, සාර්ථක කර ගැනීමට එය ව්‍යාවෘත වෙයි. අවසාන වශයෙන්, ලිබරල්ධනපති පංතිය, ඊනියා "ව්‍යවස්ථාවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ"[13] නායකයන් මගින් තම සිතැඟි ප්‍රකාශ කරයි. සාර්වාදී ආණ්ඩුව බලයෙන් නෙරපා දමන ලෙස එය නො ඉල්ලයි. එපමණක් නොව, එය තාවකාලික ආණ්ඩුව පිළිබඳ සටන් පාඨය ඉදිරිපත් කරන්නේවත්, තෝරා පත් කිරීම් සම්පූර්ණයෙන්ම නිදහස් හා සාධාරණ වන බව ද, නියෝජිත සභාව නියම වශයෙන් පොදු ජන මණ්ඩලයක් හා නියම ආණ්ඩු ක්‍රම සම්පාදක



මණ්ඩලයක් වන බව ද, ඒකාන්ත වශයෙන් සහතික කරන සේ බල කරන්නේ වත් නැත. "අස්වබෂ්ජේනිය" උපනතියෙහි එකම ප්‍රබල සමාජමය ආධාරකය වන ලිබරල් ධනපති පංතිය, ඇත්ත වශයෙන්ම උත්සාහ කරන්නේ, සාර් හා විප්ලවකාරී ජනතාව අතර හැකි තරම් දුරට සාමකාමී වූ ජාවාරමක් ඇති කරනු සඳහා ය. එපමණක් නොව, එම ජාවාරම, තමන්ට, එනම්, ධනපති පංතියට වැඩිම බලයක් හා විප්ලවකාරී ජනතාවට, එනම් නිර්ධන පංතියට හා ගොවි ජනතාවට අඩුම බලයක් ලැබෙන එකක් කිරීම සඳහා ය.

වර්තමාන වකවානුවේ දේශපාලන තත්වය එයයි. සමකාලීන රුසියාවේ පවතින ප්‍රධාන සමාජ බලවේගයන් තුනට සැසඳෙන ප්‍රධාන උපනති තුන එබඳුය. "අස්වබෂ්ජේනිය" කණ්ඩායම විප්ලවය කෙරෙහි දක්වන මන්දෝත්සාහී ආකල්පය,වඩාත් නොවලහා කියතොත්, ඔවුන්ගේ වංචාකාර, ද්‍රෝහී ආකල්පය, වසං කිරීමට, ඔවුන් ව්‍යාජ-ප්‍රජාතන්ත්‍රවාදී වාග්මාලා උපයෝගි කර ගන්නා ආකාරය අපි දැනටමත් බොහෝ වරක් "ප්‍රොලිතාරි" (අංක 3, 4, 5) මගින් පෙන්වා දී ඇත්තෙමු. අවස්ථාවේ කර්තව්‍යයන් ගැන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කෙසේ තක්සේරු කරන්නේ ද යන්න දැන් විමසා බලමු. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ දී හා පක්ෂයෙන් කැඩී ඉවත් වූ කණ්ඩායමේ "සාකච්ඡා සභාවේදී" සම්මත කරගන්නා ලද යෝජනා දෙකෙන් මේ සඳහා ඉතාමත් අගනා කරුණු සැපයෙන්නේය. දේශපාලන තත්වය වඩාත් නිවැරදි ලෙස තක්සේරු කරන්නේත්, විප්ලවවාදී නිර්ධන පංතියේ උපක්‍රම වඩාත් නිවැරදි ලෙස පැහැදිලි කරන්නේත්, මේ දෙකෙන් කුමණ යෝජනාවද යන ප්‍රශ්නය අතිශයින් වැදගත් ය. එනිසා, ප්‍රචාරකයෙකු, උද්ඝෝෂකයෙකු හා සංවිධායකයෙකු වශයෙන් තමන් ගේ යුතුකම් විඥූත ලෙස ඉටු කිරීමට උනන්දුවක් ඇති සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ම, අදාළ නොවන දේ සියල්ල නො තකා හරිමින්, මෙම ප්‍රශ්නය ගැන සමීප අවධානයෙන් යුතුව, එය අධ්‍යයනය කළ යුතුය.

පක්ෂයේ උපක්‍රම යනුවෙන් අප අදහස් කරන්නේ, පක්ෂයේ දේශපාලන චාරය, නැතහොත් චරිත ලක්ෂණ, එල්ලය හා එහි දේශපාලන ක්‍රියාකාරිත්වයේ විධි ක්‍රම ය. පක්ෂ සම්මේලන විසින් උපක්‍රමීය යෝජනා අනුමත කරනු ලබන්නේ, නව කර්තව්‍යයන් හා සම්බන්ධයෙන් හෝ, එසේ නැතහොත් නව දේශපාලන තත්වයන් අනුව, සමස්තයක් වශයෙන් මුළු පක්ෂයේම දේශපාලන හැසිරීම ඉතාමත් නොවරදින ලෙස පැහැදිලි කිරීම පිණිස ය. රුසියාවේ ඇති වී තිබෙන විප්ලවයෙන්, එනම්, ජනතාවගේ අති බහුතරයත්, සාර්වාදී ආණ්ඩුවත් අතර ඇති වී තිබෙන අංග සම්පූර්ණ, තීරණාත්මක හා විවෘත බිඳී වෙන්වීම නිසා එවැනි අළුත්

තත්වයක් උද්ගත වී තිබේ. ප්‍රශ්නය වී තිබෙන්නේ, සැබවින් ම පොදු ජන ස්වභාවයක් දරන, සැබවින්ම ව්‍යවස්ථා සම්පාදනය සඳහා වන මණ්ඩලයක් කැඳවන ප්‍රායෝගික ක්‍රමය කුමක් ද යන්නය (එවැනි මණ්ඩලයක් පිළිබඳ වූ න්‍යායික ප්‍රශ්නය ගැන, අන් සියළුම පක්ෂවලට පෙර, බොහෝ ඉහත දී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, එහි පක්ෂ වැඩ පිළිවෙළ මගින් නිශ්චිත විසඳීමක් ඉදිරිපත් කර ඇත). ජනතාව ආණ්ඩුව කෙරෙහි කලකිරී ඇති හෙයින්ද, අළුත් පාලන ක්‍රමයක් පිහිටුවීමේ අවශ්‍යතාවය පොදු ජනයාට අවබෝධ වී ඇති හෙයින්ද, ආණ්ඩුව පෙරළා, දැමීමේ අරමුණ ඉටු කිරීම ස්වකීය කාර්ය කොටගත් පක්ෂය, බලයෙන් පහ කරන ආණ්ඩුව වෙනුවට ආදේශ කළ යුත්තේ කුමණ ආණ්ඩුවක්ද යන්න අවශ්‍යයෙන්ම සලකා බැලිය යුතු වේ. මෙහි දී තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිළිබඳ අළුත් ප්‍රශ්නයක් පැන නගී. මෙම ප්‍රශ්නයට සම්පූර්ණ පිළිතුරක් සැපයීමක් පිණිස පංති විඥානය ඇති නිර්ධන පංතියේ පක්ෂය මෙම කරුණු පැහැදිලි කළ යුතු ය: 1) දැනට කෙරෙන විප්ලවයේ දී මෙන්ම, පොදු වශයෙන් නිර්ධන පංතියේ මුළු මහත් අරගලයේ දීම තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක වැදගත් කම; 2) තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් කෙරෙහි නිර්ධන පංතිය දක්වන ආකල්පය; 3) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ආණ්ඩුවට සහභාගිවීම සඳහා අවශ්‍යවන නියත කොන්දේසි; 4) පහළින්, එනම්, ආණ්ඩුව තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නොමැති නම්, ආණ්ඩුව කෙරෙහි බල පෑම් ගෙන ඒමට අදල වන තත්වයන්. මෙම ක්ෂේත්‍රයෙහි පක්ෂයේ දේශපාලන හැසිරීම ප්‍රතිපත්ති අනුකූල, පැහැදිලි හා අවපල වන්නේ මෙම ප්‍රශ්න සියල්ලම පැහැදිලි කළ පසු පමණකි.

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන් වැනි සම්මේලනයේ යෝජනාව මෙම ප්‍රශ්න වලට පිළිතුරු සපයන්නේ කෙසේද යන්න දැන් අපි සලකා බලමු. එහි යෝජනාවෙන් මෙසේ කියවේ.

''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් ගැන යෝජනාව.

1) සමාජවාදයේ අවසාන අරමුණු සඳහා එය කරන අරගලයේ අවශ්‍යතාවයන් සඳහා, මෙන්ම නිර්ධන පංතියේ සුරල අවශ්‍යතාවයන් ද සඳහා ඉතාමත් පුළුල් දේශපාලන නිදහසක් අවශ්‍ය වන අතර, ඒ අනුව ඒකාධිපත්‍යයේ ආණ්ඩු ක්‍රමය වෙනුවට ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් ඇති කළ යුතු හෙයින් ද,

2) රුසියාව තුළ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවිය හැකි වන්නේ, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ස්වකීය ජීවේන්ද්‍රිය කොටගත් ජයග්‍රාහී පොදු ජන නැගී සිටීමක ප්‍රතිඵලයක් ලෙසට පමණක් වන හෙයින් හා මැතිවරණ ව්‍යාපාරය අතරතුර දී උද්ඝෝෂණය කිරීමේ සම්පූර්ණ නිදහස ලබා ගැනීමත්, නියත වශයෙන්ම ජනතා කැමැත්ත ප්‍රකාශ කරන, එමෙන්ම, සර්වජන හා සමාන ඡන්දබලයද, සෘජු තෝරාපත් කිරීම් හා රහස් ඡන්දය ද, පදනම් කොට තෝරා පත් කරන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් රැස් කිරීමත්, ඉටු කිරීමට සමත් වන්නේ තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පමණක් වන හෙයින් ද,

3) වර්තමාන සමාජ හා ආර්ථික ක්‍රමය යටතේ රුසියාවේ මෙම ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය නිසා ධනපති පංතියේ ආධිපත්‍ය දුර්වල නොවී, එහෙත් එය ශක්තිමත් වී, එම පංතිය කිසියම් අවස්ථාවක, විප්ලව කාලයේ දී නිර්ධන පංතිය ලැබූ ජයග්‍රහණයන් හැකි තරම් ප්‍රමාණයක් උදුරා ගැනීම පිණිස හැකි සියල්ලක්ම කිරීමට අනිවාර්යයෙන් ම උත්සාහ ගනු ඇති හෙයින්ද,

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන් වැනි සම්මේලනය මෙසේ තීරණය කරයි:

අ) විප්ලවය බොහෝ දුරට අනුගමනය කිරීමට ඉඩ තිබෙන මාර්ගය ද, විප්ලවයේ එක්තරා අවස්ථාවක තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් උද්ගත වීමේ අවශ්‍යතාවයද, අපගේ වැඩ පිළිවෙළෙහි (අවම වැඩ පිළිවෙළෙහි[14]) අඩංගු දේශපාලන හා ආර්ථික ඉල්ලීම් සියල්ලම ඉටු කරන ලෙස නිර්ධන පංතිය එයින් ඉල්ලනු ඇති බවද, පිළිබඳව නියත අදහසක් කම්කරු පංතිය අතර පතුරුවා ලීම අවශ්‍ය ය;

ආ) බලවේග පෙළ ගැසී ඇති ආකාරයත්, නිශ්චිත ලෙස පූර්ව නිගමනය කළ නො හැකි වෙනත් සාධකත්, සැලකිල්ලට ගනිමින්, සියළුම ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නයන්ට විරුද්ධව, සහනයක් නොදෙන අරගලයක් ගෙන යාම පිණිසද, කම්කරු පංතියේ ස්වාධීන අවශ්‍යතාවයන් ආරක්ෂා කරනු පිණිසද, අප පක්ෂයේ නියෝජිතයන්ට තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවට සහභාගි වීමේ ඉඩ තිබේ;

ඇ) එබඳු සහභාගිත්වයක් සඳහා, පක්ෂය විසින් එහි නියෝජිතයන් තදින් පාලනය කිරීමත්, පූර්ණ සමාජවාදී විප්ලවය සඳහා නිරතුරුව පරිශ්‍රම දරමින් සිටින හා එනිසා, සියළුම ධනපති පක්ෂවලට කිසිසේත් ගැලපිය නො හැකි සේ විරුද්ධ වන සමාජ-ප්‍රජාතන්ත්‍රයේ ස්වාධීනත්වය ආරක්ෂා කිරීමත්, අනිවාර්ය කොන්දේසියක් වන්නේ ය;

ඈ) තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහභාගි වීම සිදු විය හැකි වුවත්, නැතත්, ඒ ගැන නො සලකාම, විප්ලවයේ ජයග්‍රහණයන් ආරක්ෂා කිරීම, තහවුරු කිරීම හා ව්‍යාප්ත කිරීම සඳහා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකත්වයෙන් යුත් ආයුධ සන්නද්ධ නිර්ධන පංතිය, නිරතුරුව තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව කෙරෙහි බලපෑම් ගෙන ආ යුතුය යන අදහස නිර්ධන පංතියේ ඉතාමත් පුළුල් කොටස් අතර ප්‍රචලිත කළ යුතුය.''

## 2. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් සම්බන්ධව රු. ස. ප්‍ර. ක. පක්ෂයේ තුන්වැනි සම්මේලනය සම්මත කළ යෝජනාවෙන් අපට උගත හැකි දේ කුමක්ද?

මාතෘකාවෙන් පැහැදිලි වන ලෙසට ම, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාව මුළුමනින්ම හා තනිකරම තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිළිබඳ ප්‍රශ්නය වෙනුවෙන් මිඩංගු කර තිබේ. එ හෙයින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීම ද, එම ප්‍රශ්නයේ ම කොටසක් වන්නේ ය. අනිත් අතට, තාවකාලික විප්ලවකාරී ආණ්ඩුව ගැනම මිස, අන් කිසිවක් ගැන යෝජනාවෙහි සඳහන් නො වේ. එනිසා, සාමාන්‍යයෙන් ''බලය අල්වා ගැනීම'' ආදිය ගැන වූ ප්‍රශ්නය පවා කිසිසේත්ම වැදගත් සේ සලකා නැත. මෙය හා එවැනි ප්‍රශ්න අත් හැර දැමීමෙන්, සම්මේලනය කළ දේ නිවැරදි ද? නිසැකව ම එය නිවැරදි ය. එසේ කියන්නේ, රුසියාවේ දේශපාලන තත්වය විසින්, එවැනි ප්‍රශ්න, හදිසි කරුණු බවට කිසිසේත් පත් කරනු නොලැබීම නිසාය. ඊට ප්‍රතිකූල ලෙසට, මුළු මහත් ජනතාවම, ඒකාධිපත්‍යය පෙරළා දැමීම හා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්කිරීම පිළිබඳ ප්‍රශ්නය, දැන් මතු කර තිබේ. පක්ෂ සම්මේලනය සලකා බලා තීරණය කළ යුත්තේ, මෙම හෝ අනික් ලේඛකයා, අවස්ථාවෝචිතව හෝ අනුචිතව හෝ සඳහන් කිරීමට යෙදුනු ප්‍රශ්න නොව, බලපවත්නා තත්වයන් හා සමාජ සංවර්ධනයේ වාස්තවික වර්ධන මාර්ගය අනුව, දේශපාලන වශයෙන් ඉතාමත් වැදගත් ප්‍රශ්න ගැන ය.

වර්තමාන විප්ලවයේ දී ත්, නිර්ධන පංතියේ පොදු අරගලයේදීත්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක ඇති වැදගත්කම කුමක් ද? සම්මේලන යෝජනාව, එහි ආරම්භයේදීම, නිර්ධන පංතියේ සරල අවශ්‍යතාවයන් සහ ''සමාජවාදයේ අවසාන අරමුණු'' යන උභයාර්ථයෙන්ම ''ඉතාමත් පුළුල් දේශපාලන නිදහසක්'' අවශ්‍ය බව පෙන්වාදීමෙන්, එය මෙම කරුණ පැහැදිලි කරයි. අපගේ පක්ෂ වැඩ පිළිවෙළ දැනටමත් පිළිගෙන තිබෙන පරිදි සම්පූර්ණ දේශපාලන නිදහස තිබීම සඳහා, සාර්වාදී ඒකාධිපත්‍යය වෙනුවට, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් ආදේශ කිරීම අවශ්‍ය වේ. ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිළිබඳ සටන් පාඨය ගැන සම්මේලන යෝජනාවෙන් අවධාරණය කිරීම තර්ක වශයෙනුත්, පිළිවෙත වශයෙනුත්, යන දෙ විධියෙන් ම අවශ්‍ය වේ. මන්ද යත්, නිර්ධන පංතිය, ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රමුඛතම වීරයා ලෙසට, නියත වශයෙන්ම දිනා ගැනීමට උත්සාහ කරන්නේ ද, සම්පූර්ණ නිදහස ම වන බැවිනි. එපමණක් නොව, ඉදුරාම මෙම අවස්ථාවෙහි, අප රටේ රාජාණ්ඩුවාදීන්, එනම් ඊනියා ව්‍යවස්ථානුකූල ''ප්‍රජාතන්ත්‍රවාදී'' නැතහොත් ''අස්වබෂ්ජේනිය'' පක්ෂය ''ප්‍රජාතන්ත්‍රවාදයේ'' ධජය ලෙලවන නිසා, මෙම කාලයේ දී මේ ගැන අවධාරණය කිරීම වඩාත් නුවණට හුරුය. සමූහාණ්ඩුවක් ස්ථාපිත කිරීම සඳහා, පොදුජන වූද (එනම්, සර්වජන හා සමාන ඡන්ද බලයත්, ඍජු තෝරාපත් කිරීම හා රහස් ඡන්දයක් පදනම් කොට ගෙන පත් කෙරෙන), ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් වූද, ජනතා නියෝජිතයන්ගේ සභාවක් තිබීම අත්‍යාවශ්‍ය ය. සම්මේලන යෝජනාවේ තවත් ඉදිරියට පිළිගෙන ඇත්තේ ද එය ය. එසේ වුවද, යෝජනාව එතෙකින් නවතින්නේ නැත. ''සැබැවින් ම ජනතා කැමැත්ත ප්‍රකාශ කරන'' නව පාලන ක්‍රමයක් ස්ථාපිත කරනු සඳහා, නියෝජිත සභාවකට, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය යන නම තැබීම ප්‍රමාණවත් නොවේ. එවැනි මණ්ඩලයකට ''ආණ්ඩු ක්‍රම සංස්ථාපනය'' සඳහා අධිකාරය හා බලය තිබිය යුතු වේ. මෙය සැලකිල්ලට ගත් සම්මේලන යෝජනාව ''ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය'' පිළිබඳ විධි මාත්‍ර සටන් පාඨයට සීමා නො වී, එවැනි මණ්ඩලයකට, එහි කාර්යයන් නිසි ලෙස ඉටු කිරීමට අවශ්‍යයෙන්ම තිබිය යුතු ද්‍රව්‍යමය තත්වයන්ද එහි දක්වයි. අප එක් වරකට වැඩිය පෙන්වාදී තිබෙන පරිදි, ව්‍යවස්ථානුකූල — රාජාණ්ඩුවාදී පක්ෂය මගින් නියෝජනය වන ලිබරල් ධනපති පංතිය, පොදු ජන ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලයක් පිළිබඳ සටන් පාඨය උවමනාවෙන් ම විකෘති කරමින්, එය හිස් පාඨයක් බවට පෙරලමින් සිටින හෙයින්, නමින් ''ආණ්ඩු ක්‍රම සම්පාදක'' වන මණ්ඩලයක්, ඇත්ත වශයෙන්ම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් වීමට අදළ වන කොන්දේසි විස්තර කිරීම, අනිවාර්යයෙන් ම අවශ්‍ය වන්නේ ය.

මැතිවරණ ව්‍යාපාරයක් ගෙන යාම සඳහා පූර්ණ නිදහස ලබා දිය හැක්කේත්, ඇත්ත වශයෙන්ම ජනතාවගේ කැමැත්ත ප්‍රකාශ කරන සභාවක් කැඳවිය හැක්කේත්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට පමණකැයි ද, එපමණක් නොව, ජයග්‍රාහී පොදුජන නැගී සිටීමක ජීවේන්ද්‍රිය වන තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට පමණක් බව ද, සම්මේලන යෝජනාව ප්‍රකාශ කරයි. මෙම ප්‍රවාදය නිවැරදි ද? එය වැරදි යයි කීමට යමෙක් සිතන්නේ නම්, සාර්වාදී ආණ්ඩුවට ප්‍රතිගාමීත්වයේ පැත්ත නො ගෙන සිටිය හැකි බවත්, මැතිවරනයකදී මධ්‍යස්ථව සිටීමට එයට හැකියාවත් ඇති බවත්, එය ජනතා කැමැත්ත නියම වශයෙන් ප්‍රකාශ වනු දැකීමට කටයුතු කරනු ඇති බවත්, ස්ථිර කොට කිව යුතු වේ. ස්ථිර කොට කරන එබඳු ප්‍රකාශයන් කොතරම් අඥාන ද යත්, කිසිවෙක් ඒවාට

පක්ෂව විවෘත ලෙස ඉදිරිපත් නොවනු ඇත. එසේ වුවත්, අපගේ ''අස්වබෂ්ජේනිය'' මහත් වරු, ඒවා ලිබරල් වර්ණයෙන් ආවරණය කරමින් හොරෙන් ඉදිරිපත් කිරීමට කටයුතු කරති. යමෙක් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස් කළ යුතු ය. යමෙක් මැතිවරණවල නිදහස් භාවය හා සාධාරණත්වය සහතික කළ යුතුය. යමෙක් එවැනි මණ්ඩලයකට සම්පූර්ණ බලය හා අධිකාරය දිය යුතු ය. මේ සියල්ල සම්පූර්ණයෙන්ම අවංක ලෙස අපෙක්ෂා කළ හැක්කේ ද, මෙය ඉටු කර ගැනීම සඳහා අවශ්‍ය සියල්ල කිරීමෙහි සමත් වන්නේ ද, ජනතා නැගී සිටීමක ජීවේන්ද්‍රිය වන විප්ලවවාදී ආණ්ඩුවකට පමණකි. සාර්වාදී ආණ්ඩුව අනිවාර්ය වශයෙන් ම මෙයට විරුද්ධ වනු ඇත. සාර් සමග එකඟත්වයකට එළඹගත්, එසේම, පොදු ජන නැගී සිටීමක් ගැන සම්පූර්ණ විශ්වාසයක් නො තබන, ලිබරල් ආණ්ඩුවක් මෙය අවංකවම අපේක්ෂා කරන්නේ නැත. එපමණක් නොව, එය ඉතාමත් අවංකව එබඳු ඕනෑකමක් ඇතිව සිටියත්, එය එම කටයුත්ත ඉටු කිරීමෙහි අසමත් ය. එනිසා සම්මේලන යෝජනාවෙන් ඉදිරි පත් කෙරෙන්නේ, එකම නිවැරදි හා මුළුමනින්ම සසංගත ප්‍රජා-තන්ත්‍රවාදී සටන් පාඨයයි.

එසේ වුවද, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ පංති ස්වභාවය සැලකිල්ලට නො ගන්නේ නම්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ගැන අගය කිරීම, අසම්පූර්ණ හා සාවද්‍ය වනු ඇත. එම නිසා, විප්ලවයෙන් ධනපති පංතියේ පාලනය ශක්තිමත් වන බව යෝජනාව තවදුරටත් කියයි. වර්තමාන, එනම් ධනපති-සමාජ හා ආර්ථික ක්‍රමය යටතේ, මෙය සිදුවීම නො වැලැක්විය හැකිය. තවද, එක්තරා ප්‍රමාණයක දේශපාලන නිදහස දිනා ගෙන සිටින නිර්ධන පංතියක් මත, ධනපති පංතියේ පාලනය ශක්තිමත් වීම නිසා, බලය සඳහා එම පංති දෙක අතර කෙරෙන දරුණු අරගලයකට මග පැදෙනු ඇත — ''විප්ලව කාලයේ නිර්ධන පංතිය ලැබූ ජයග්‍රහණයන් උදුරා ගැනීම'' සඳහා ධනපති පංතිය වියරු ප්‍රයත්නයන් දරනු ඇත. එනියා, ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන අරගලයේ පෙරමුණ දරමින්, එම අරගලයට නායකත්වය දෙන නිර්ධන පංතිය, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ආවේණිකව පවතින නව සතුරුතාවයන් හෝ අරගලය හෝ, මොහොතකටවත් අමතක නො කළ යුතුය.

මේ අනුව බලන කල, නිදහස හා සමූහාණ්ඩුවක් සඳහා කරන අරගලය සම්බන්ධයෙන් හා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය හා සම්බන්ධයෙන් ද, නව පංති අරගලයකට භූමිය සකස් කරන ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සම්බන්ධයෙන් ද, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක ඇති වැදගත් කම, මෙම යෝජනාවේ අප දුන් සමාලෝචනය කළ කොටසෙන්, සම්පූර්ණයෙන්ම අගය කෙරේ.



ඊළඟ ප්‍රශ්නය වන්නේ තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව කෙරෙහි නිර්ධන පංතිය පොදු වශයෙන් දක්වන ආකල්පය යි.සම්මේලන යෝජනාව මෙයට පිළිතුරු දෙන්නේ, ප්‍රථමයෙන්ම, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් අවශ්‍යය යන අවබෝධය කම්කරු පංතිය අතර පතුරුවන ලෙස පක්ෂයට කෙළින්ම උපදෙස් දෙමිනි. ''ප්‍රජාතන්ත්‍රවාදී'' ධනපති පංතිය, සාර්වාදී ආණ්ඩුව බලයෙන් පහකර දැමීම පිළිබඳ ප්‍රශ්නය පසුබිමෙහි ලන නමුත්, අපි එය ඉදිරියට ගෙන ආ යුත්තෙමු. එසේම තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් අවශ්‍ය බව බලකර කිව යුත්තෙමු. එපමණක් නොව, එවැනි ආණ්ඩුවක් සඳහා, ඓතිහාසික කාලසීමාවේ යථා තත්වයන්ට හා නිර්ධන පංතික ප්‍රජාතන්ත්‍රවාදයේ අරමුණුවලට ගැලපෙන ක්‍රියා කාරී වැඩ පිළි-වෙළක් දළ වශයෙන් සකස් කළ යුත්තෙමු. මෙය අපගේ පක්ෂයේ සම්පූර්ණ අවම වැඩ පිළිවෙළය; මෙය, එක් අතකින්, පවත්නාවූත්, ක්ෂණිකවූත් සමාජ හා ආර්ථික සම්බන්ධකම් පදනම් කරගෙන සම්පූර්ණ-යෙන් ක්‍රියාත්මක කළ හැකි හා අනිත් අතින්, ඊළඟ ඉදිරි පියවර සඳහා, එනම්, සමාජවාදය දිනා ගැනීම සඳහා, අවශ්‍ය වන වැඩ පිළිවෙළ ය.

මෙනයින්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක ස්වභාවය හා ඉලක්කය ගැන එම යෝජනාවෙන් පැහැදිලි ලෙස විස්තර කෙරේ. එවැනි ආණ්ඩුවක ප්‍රභව මූලය හා මූලික ස්වභාවය විය යුත්තේ, එය පොදු ජන නැගී සිටීමක ජීවේන්ද්‍රිය වීම ය. එහි පිළිගත් අරමුණ විය යුත්තේ ජාතික ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් රැස්කිරීම සඳහා උපකරණය ලෙසට සේවය කිරීම ය. එහි ක්‍රියාකාරිත්වයෙහි සන්ධාරය විය යුත්තේ, ඒකාධිපත්‍යයට විරුද්ධව නැගී සිටි ජනතාවගේ අවශ්‍යතාවයන් ආරක්ෂා කිරීමෙහි සමත් එකම වැඩ පිළිවෙළ වන, නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ අවම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීම ය.

තාවකාලික ආණ්ඩුවක්, හුදෙක් ම තාවකාලික වන නිසා, තවමත් මුළු ජනතාවගේම අනුමැතිය නො ලැබූ නිර්මාණශීලී වැඩ පිළිවෙළක් එයට ක්‍රියාත්මක කළ නො හැකි යයි, යමෙක් තර්ක කිරීමට ඉඩ තිබේ. එවැනි තර්කයක් ප්‍රතිගාමීන්ගේ හා ''රාජාණ්ඩුවාදීන්'' ගේ අති පණ්ඩිත කමක් පමණක් වනු ඇත. නිර්මාණශීලී වැඩ පිළිවෙළක් ක්‍රියාත්මක කිරීමෙන් වැළකීම යනු, දූෂිත ඒකාධිපත්‍යයක වැඩවසම් පාලනයේ පැවැත්ම ඉවසා සිටීමක් වන්නේය. එවැනි පාලන ක්‍රමයක් ඉවසා සිටිය හැක්කේ විප්ලවයේ සත්ව්‍යාපාරයට ද්‍රෝහී වුවන් ගේ ආණ්ඩුවකට පමණකි. පොදු ජන නැගී සිටීමක ජීවේන්ද්‍රිය වන ආණ්ඩුවකට එසේ කළ නො හැකි ය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය, රැස්වීමේ නිදහස ස්ථිර නො කිරීමට ඉඩ ඇතැයි යන්න හේතුවක් ලෙසට දක්වමින්, අප රැස්වීමේ නිදහස පාවිච්චි කිරීමෙන් වැලකී සිටිය යුතුයයි යමෙක් කියන විට, එය

විහිළුවකි. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් විසින් වහ වහා අවම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කරනු ලැබීමට විරුද්ධ වීම ද, එබඳු ම විහිළුවකි.

අවම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීම තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවේ කර්තව්‍යය බවට පත්කිරීමෙන්, උපරිම වැඩ පිළිවෙළ වහාම ක්‍රියාවට නැංවීම හා සමාජවාදී විප්ලවයක් සඳහා බලය අල්වා ගැනීම පිළිබඳ විකාර සහ අර්ධ අරාජිකවාදී අදහස්, මෙම යෝජනාව විසින් බැහැර කෙරුනු බව, අපි අවසාන කරුණ වශයෙන් සටහන් කර ගනිමු. රුසියාවේ ආර්ථික සංවර්ධනයේ මට්ටමත් (වාස්තවික තත්වයකි), නිර්ධන පංතියේ පුළුල් ජනතා කොටස් අතර පවතින පංති විඥන හා සංවිධාන මට්ටමත් (වාස්තවික තත්වය සමග නො වෙන් කළ හැකි සේ බැඳුනු මනෝමූල තත්වයකි), අනුව බලන කල, කම්කරු පංතියේ පූර්ණ විමුක්තිය වහාම ලබා ගැනීම කළ නො හැක්කකි. දැනට සිදුවෙමින් පවතින ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ධනපති ස්වභාවය ගැන ඇස් වසාගෙන සිටිය හැක්කේ, කරුණු කිසිවක් නො දත් අයට පමණකි. සමාජවාදයේ අරමුණු සහ එය දිනාගන්නා විධි ගැන, කම්කරු පොදු ජනතා කොටස්වලට ඇත්තේ මොනතරම් සුළු අවබෝධයක් ද යන්න අමතක කළ හැක්කේ, ඉතාමත් බොළඳ සර්ව-ශුභවාදීන්ට පමණකි. කම්කරු පංතියේ විමුක්තිය දිනා ගත යුත්තේ කම්කරු පංතියම විසින්ය යන්න, අපි සියළු දෙනාම අවබෝධ කරගෙන සිටිමු. බහු ජනතාව විඥත ලෙස සංවිධානය වී සමස්ත ධනපති පංතියටම විරුද්ධව විවෘත්ත පංති සටනක් පිළිබඳ දැනුම හා පුහුණුව ලබන තෙක් සමාජවාදී විප්ලවයක් ගැන සිතිය නොහැකිය. අප සමාජවාදී විප්ලවය කල් දමතියි කියමින්, අරාජිකවාදීන් දක්වන විරුද්ධත්වයට, අපි මෙසේ පිළිතුරු දෙන්නෙමු: අපි එය කල් නො දමන්නෙමු. නමුත්, එය කරා යාමට හැකි එකම මාර්ගය, එකම නිවැරදි මාර්ගය වන, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ මාර්ගය ඔස්සේ අපි ප්‍රථම පියවර තබන්නෙමු. දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදයේ මාර්ගයෙන් හැර වෙනත් මගකින් සමාජවාදයට පිවිසීමට අපේක්ෂා කරන කවුරුන් හෝ වේවා, දේශපාලන හා ආර්ථික යන උභයාර්ථයෙන්ම, විකාරයක් හා ප්‍රතිගාමී වන නිගමන වෙත අනිවාරණීය වශයෙන් එළඹෙනු ඇත. අප, උපරිම වැඩ පිළිවෙළ ක්‍රියාවට නැංවීමට ඉදිරියට නොයන්නේ මන්දැයි, උචිත අවස්ථාවෙහි කම්කරුවෙක් අසන්නේ නම්, ප්‍රජාතන්ත්‍රවාදී හැඟීමෙන් යුතු පොදු ජනතාව තවමත් සමාජවාදයට කොතරම් දුරින් සිටින්නේද යනුත්, පංති විරෝධ තාවයන් තවමත් කොතරම් අඩුවෙන් සංවර්ධනය වී තිබේද යනුත්, නිර්ධන පංතිය තවමත් කොතරම් අසංවිධානාත්මක ද යනුත්, පෙන්වා දෙමින් අපි ඔහුට පිළිතුරු දෙන්නෙමු. රුසියාව මුළුල්ලේ ම ලක්ෂ ගණන් සිටින කම්කරුවන් සංවිධානය කරනු, අපගේ වැඩ පිළිවෙළට කෝටි ගණන් ජනයා ගේ අනුකූලත්වය දිනා ගනිමු! මහා ශාබ්දික, එහෙත්, හිස් අරාජිකවාදී වූ සටන් පාඨවලට සීමා නොවී, මෙය කිරීමට උත්සාහ ගන්න. මෙම සංවිධාන කිරීමත්, මෙම සමාජවාදී අවබෝධය පැතිරවීමත්, හැකි තරම් අංග සම්පූර්ණ ලෙස ප්‍රජාතන්ත්‍රවාදී පරිවර්තනයන් ඉටු කිරීම මත රැඳී පවතින බව, එවිට ඔබට එක් වරම පෙනී යනු ඇත.

අපි තවදුරටත් මේ ගැන විමසමු. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක වැදගත් කම හා එය කෙරෙහි නිර්ධන පංතිය දක්වන ආකල්පය පැහැදිලි කරන ලද පසු, පහත සඳහන් ප්‍රශ්නය උද්ගත වේ: එවැනි ආණ්ඩුවකට සහභාගි වීමට (ඉහළ සිට කට යුතු කිරීමට) අපට අවසර තිබේ ද? එසේ නම් ඒ කුමණ කොන්දේසි අනුව ද? අප පහළ සිට කරන කටයුතු මොනවා විය යුතුද? යෝජනාව මෙම ප්‍රශ්න දෙකට ම නියත පිළිතුරු සපයයි. ප්‍රතිපත්තියක් වශයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීමේ අවසරය (ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක සමයේදී හා සමූහාණ්ඩුවක් සඳහා අරගල කරන විට) තිබෙන බව, එය අවධාරණයෙන් යුතුව ප්‍රකාශ කරයි. මෙම ප්‍රකාශය කිරීම නිසා, මෙම ප්‍රශ්නයට ප්‍රතිපත්තියක් වශයෙන් ප්‍රතිරුද්ධ නියායෙන් පිළිතුරු දෙන අරාජිකවාදීන්ගෙන් ද, එවැනි ආණ්ඩුවකට සහභාගි වීම අවශ්‍යවන තත්වයක් ඇතිවීමේ ඉඩ කඩ පෙන්වා දෙමින් අප බිය වැද්දීමට පරිශ්‍රම දැරූ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ (මර්තිනව් සහ නව ''ඉස්ක්‍රා'' ආධාර කරුවන් වැනි) අන්තිමයන් ගෙන් ද, අපි සම්පූර්ණයෙන් ම ඇත් වූයෙමු. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීම මිලෙරාන්වාදයේ[15] ප්‍රභේදයක් වනු ඇතැයිද, ප්‍රතිපත්තියක් වශයෙන් එයට ඉඩ දිය නො හැකි යයි ද, එය ධනපති පාලනයට සුදු හුණු ගෑමක් යයි ද, යනාදිය කියවන ''ඉස්ක්‍රා'' අදහස, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනය විසින් ඒකාන්ත ලෙස ප්‍රතික්ෂේප කරන ලදී.

එහෙත්, සහභාගි වීමට ප්‍රතිපත්තියක් වශයෙන් අවසර තිබීම නිසා, එසේ කිරීමේ ප්‍රායෝගික යථායෝග්‍යතාවය පිළිබඳ ප්‍රශ්නය නො විසඳේ. නව අරගල ක්‍රමය — පක්ෂ සම්මේලනය විසින් පිළිගන්නා ලද ''ඉහළ සිට කරන'' අරගලය — යථායෝග්‍ය වන්නේ කුමණ තත්වයන් යටතේ ද? බලවේගවල සම්බන්ධකම් ආදිය වැනි මූර්ත තත්වයන් ගැන, වර්තමානයේදී කථා කළ නො හැකි බව කිවමනා නොවේ, එනිසා, ස්වාභාවිකව ම යෝජනාව මෙම තත්වයන් ගැන කල් තබා විස්තර කිරීමෙන් වැලකී සිටියි. මෙම විෂය ගැන කිසිම අනාවැකියක් පළ කිරීමට, කිසිම බුද්ධිමත් පුද්ගලයෙක් ඉදිරිපත් නොවනු ඇත. අපට කළ හැක්කේ

හා අප කළ යුත්තේ, අපගේ සහභාගිවීමේ ස්වභාවය සහ අරමුණ නිර්ණය කිරීම ය. යෝජනාවෙන් කර තිබෙන්නේ ද එය යි. අප සහභාගි වන්නේ අරමුණු දෙකක් උදෙසා බව එය පැහැදිලි කරයි. 1) ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නයන්ට විරුද්ධව බුරුලක් නොදී සටන් කිරීම සහ 2) කම්කරු පංතියේ ස්වාධීන අවශ්‍යතාවයන් ආරක්ෂා කිරීම. විප්ලවවාදී ජනතාව බිය ගන්වා, ඔවුන් ඒකාධිපත්‍යය කෙරෙහි අනුකූලතාවයක් කරා යොමු කරවීමේ අටියෙන්, ලිබරල් ධනපති පංතිය ප්‍රතිගාමිත්වයේ මනෝභාවය ගැන උත්සුක්ත ලෙස කථා කිරීමට (''අස්වබෂ්ජේනිය'', අංක 71 හි ස්ත්‍රූවේ මහතාගේ ඉතාමත්, උපදේශාත්මක ''විවෘත ලිපිය'' බලන්න) පටන් ගන්නා කල, විශේෂයෙන්ම, එවැනි අවස්ථාවක, නිර්ධන පංතියේ පක්ෂය විසින්, ප්‍රතිවිප්ලවයට විරුද්ධව සැබෑ යුද්ධයක් කිරීමේ කර්තව්‍යය කෙරෙහි අවධානය යොමු කරවනු ලැබීම, ඉතාමත් උචිත ය. අවසාන විග්‍රහයෙදී දේශපාලන නිදහස සහ පංති අරගලය පිළිබඳ මහා ප්‍රශ්න විසඳෙන්නේ බලය අනුවම පමණකි. මෙම බලය සූදානම් කිරීම හා සංවිධානය කිරීමත්, ආරක්ෂාව සඳහා පමණක් නොව ප්‍රහාරය සඳහා ද, එය ක්‍රියාශීලී ලෙස උපයෝගී කර ගැනීමත්, අප සතු කාර්යය වන්නේ ය. පැරිස් කොමියුනය[16] සමයේ පටන්ම යුරෝපය තුළ අවිච්ඡින්නවම පාහේ, දීර්ඝ කාලයක් තිස්සේ රජ කළ, දේශපාලන ප්‍රතිගාමිත්වය නිසා සටන ක්‍රියාත්මක විය හැක්කේ ''පහළින්'' පමණකැයි යන අදහසට, අප පමණට වඩා පුරුදු වී තිබේ. ආරක්ෂක අරගල පමණක් දැකීමේ ඇබ්බැහි කමක් අප කෙරෙහි ඇතිකර තිබේ. අපි දැන් නිසැක වශයෙන් ම අළුත් යුගයකට පිවිස සිටින්නෙමු. මේ බලවත් කැළඹීම් සහිත යුගයකි, විප්ලව ආරම්භ වී ඇති යුගයකි. රුසියාව දැන් ගෙවමින් සිටින වැනි කාල පරිච්ඡේදයක දී, පැරණි, අනම්‍යශීලී සූත්‍රවලට සීමා වී සිටීමේ ඉඩක් අපට නැත. අපි ඉහළින් සිට කටයුතු කිරීම පිළිබඳ අදහස ප්‍රචලිත කළ යුත්තෙමු; ඉතාමත් ශක්තිමත් ප්‍රහාරක සටන සඳහා අපි සූදානම් විය යුත්තෙමු; එසේම, එවැනි සටන් සඳහා අදාල වන කොන්දේසි හා ආකෘති අධ්‍යයනය කළ යුත්තෙමු. සම්මේලන යෝජනාව මෙම කොන්දේසි අතුරෙන් දෙකක් ප්‍රමුඛ ස්ථානයට ගෙන එයි: ඉන් එකකින් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහභාගී වීමේ ප්‍රශ්නයේ සාමාන්‍ය අංශය සම්බන්ධයෙන් (පක්ෂයේ නියෝජිතයන් කෙරෙහි තද බල පක්ෂ පාලනයක් ගැන) කියවේ. අනිකෙන් එම සහභාගිත්වයේ ස්වභාවය (සම්පූර්ණ සමාජවාදී විප්ලවය සාර්ථක කිරීමේ අරමුණ මොහොතකට හෝ අමතක නො කර) ගැන කියවේ.

''ඉහළ'' සිට කටයුතු කිරීම — මෙම නව හා පෙර නොවූ විරූයයි කිව හැකි අරගල විධිය — සම්බන්ධයෙන් සියළු අංශයන් ගැන ම, එසේ



විස්තර කිරීමෙන් අනතුරුව, ඉහළ සිට කටයුතු කිරීමට අපට නොහැකි විය හැකි අවස්ථාව ගැන ද, යෝජනාවෙහි කරුණු දක්වා ඇත. සෑම තත්වයක් යටතේ ම, අපි තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව කෙරෙහි පහළින් බලපෑම් ගෙන ආයුත්තෙමු. පහළින් බල පෑම ක්‍රියාත්මක කළ හැකි වීම පිණිස, නිර්ධන පංතිය ආයුධ සන්නද්ධව සිටිය යුතුය — විප්ලවීය තත්වයකදී, සිදුවීම් ඉතාමත් සීඝ්‍ර ලෙස, විවෘත සිවිල් යුද්ධ තත්වය දක්වා වර්ධනය වන හෙයින්, එය අවශ්‍ය ය; එසේම, එය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකත්වය යටතේ කටයුතු කළ යුතුය. එහි ආයුධ සන්නද්ධ බල පෑමේ අරමුණ ''විප්ලවයේ ජයග්‍රහණයන් ආරක්ෂා කර, තහවුරු කර, ව්‍යාප්ත කිරීම'' ය. මෙයින් අදහස් කරන්නේ, නිර්ධන පංති අවශ්‍යතා-වයන් ගේ ස්ථාවරය අනුව අපගේ අවම වැඩ පිළිවෙළ සම්පූර්ණයෙන්ම ඉටු කිරීමක් වන ජයග්‍රහණය ගැන ය.

තුන්වැනි සම්මේලනය තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් සම්බන්ධ-යෙන් අනුමත කළ යෝජනාව ගැන, අපගේ කෙටි විග්‍රහය මෙයින් අවසාන කරමු. මෙම නව ප්‍රශ්නයේ වැදගත් කමත්, නිර්ධන පංතියේ පක්ෂය එය කෙරෙහි දක්වන ආකල්පයත්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ඇතුළත හා පිටත යන දෙකෙහිම පක්ෂය අනුගමනය කළ යුතු ප්‍රතිපත්තියත්, යෝජනාවෙන් පැහැදිලි කෙරෙන බව පාඨකයාට පෙනෙනු ඇත.

අපි දැන් 'සාකච්ඡා සභාවේ' අනුරූපී යෝජනාව ගැන සලකා බලමු



## 3. ''සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණය'' යන්නෙහි අර්ථය කුමක්ද?

''සාකච්ඡා සභාවේ'' යෝජනාව ''බලය අල්ලාගැනීම සහ තාවකාලික ආණ්ඩුවකට සහභාගි වීම''* පිළිබඳ ප්‍රශ්නයට මිඩංගු කර තිබේ. අප දැනටමත් පෙන්වා දී තිබෙන පරිදි ප්‍රශ්න ඉදිරිපත් කර තිබෙන ආකාරයම ව්‍යාකූල ය. එක් අතකින් ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන්නේ පටු ආකා-රයකට ය. ඉන් විමසනු ලබන්නේ තාවකාලික ආණ්ඩුවකට අප

* පොතෙහි තැනින් තැන දක්වා ඇති උපුටාගත් කොටස් වලින් සම්පූර්ණ යෝජනාව සකස් කර ගත හැක. (1907 සංස්කරණයට කතුගේ සටහන බලන්න. මෙම පොතෙ හි පිටු 30, 37, 43, 83, 87—88 බලන්න. — සංස්කාරක)

සම්බන්ධවීම ගැන පමණකි. පොදු වශයෙන් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් සම්බන්ධයෙන් පක්ෂයට පැවරෙන කර්තව්‍යයන් ගැන එහි සඳහන් නොවේ. අනිත් අතට එකිනෙකට සම්පූර්ණයෙන්ම වෙනස් ප්‍රශ්න දෙකක්, එනම්, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ එක් අවධියකදී අප එයට සහභාගි වීමේ ප්‍රශ්නයත්, සමාජවාදී විප්ලවයේ ප්‍රශ්නයත් එකට පටලවා ගෙන තිබේ. ඇත්තෙන් ම, සමාජ-ප්‍රජාතන්ත්‍රය ''බලය අල්වා ගැනීම'' යන්නෙන් නිශ්චිතවම අදහස් වන්නේ, සමාජවාදී විප්ලවයකි. අපි මෙම වචන ඒවායේ ඍජු සහ සාමාන්‍ය අර්ථයෙන් යොදන්නමෝ නම්, එය අන් කිසිවක් වීමට ඉඩක් ද නැත. එහෙත්, කෙසේ හෝ වේවා, මෙම වචන වලින් අදහස් කරන ලද්දේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් සඳහා බලය අල්වා ගැනීම නම් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීම ගැන පමණක් කථා නො කර, පොදුවේ ''බලය අල්වා ගැනීම'' ගැන කථා කිරීමේ ඇති අර්ථය කුමක් ද? මෙයින් පෙනෙන්නේ, තමන් කථා කළ යුත්තේ කුමක් ගැනද යන්න, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ගැනද, නැතහොත් සමාජවාදී විප්ලවය ගැන ද,යන්න අපේ ''සාකච්ඡා සභා කාරයින්ට ම'' නිශ්චිත ලෙස වැටහී නො තිබුණු බවයි. මෙම අවුල ආරම්භ කරනු ලැබුවේ මර්තිනව් සහෝදරයා විසින් ඔහුගේ ''ආශ්‍රද්ධෙයකත්ව දෙකක්'' නමැති අපකීර්තිමත් කෘතියෙන් බව, මේ ප්‍රශ්නයට සම්බන්ධ සාහිත්‍යය කියවූ අය දනිති. මෙම ප්‍රශ්නය ඉදිරිපත් කළ ආකාරය ගැන මතක් කිරීමට නව ඉස්ක්‍රාවාදීහු නො කැමතිය හ. එය ඉදිරිපත් කරන ලද්දේ (ජනවාරි 9 දිනට පෙර පවා), ඒ අන්තිමයන්ගේ ලේඛන කලාවේ ආදර්ශයක් යයි කිව හැකි ආකාරයට ය. එසේ ද වුවත්, එය සාකච්ඡා සභාව කෙරෙහි දෘෂ්ටිමය බලයක් පෑ බවට සැකයක් තිබිය නො හැක.

එහෙත් යෝජනාවේ මාතෘකාව ගැන මෙ පමණක් සෑහෙන්නේ ය. ඊට වඩා අතිශයින්ම බරපතල හා ගැඹුරු වැරදි, එහි සන්ධාරයෙන් හෙළිදරව් වේ. එහි පළමු කොටස මෙසේ ය:

''සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණය, ජයග්‍රාහී පොදු ජන නැගී සිටීමකින් උද්ගත වන තාවකාලික ආණ්ඩුවක් ස්ථාපිත කිරීමෙන් හෝ, එසේ නැතහොත්, ජනතාවගේ ඍජු විප්ලවවාදී බල පෑම අනුව පොදු ජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් පිහිටුවීමට තීරණය කරන, එක් හෝ තවත් ආකාරයක නියෝජිත ආයතනයක විප්ලවවාදී ක්‍රියාරම්භකත්වයෙන් හෝ සලකුණු වනු ඇත.''

මේ අනුව, සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණය, ජයග්‍රාහී නැගී සිටීමකින් උද්ගතවන තාවකාලික ආණ්ඩුවක් ස්ථාපිත කිරීමෙන් හෝ එසේ නැතහොත්, ජනතාවගේ ඍජු විප්ලවවාදී බල පෑම අනුව පොදු ජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් පිහිටුවීම



සඳහා වූ නියෝජිත ආයතනයක තීරණයකින් හෝ, සලකුණු විය හැකියයි අපට කියනු ලැබේ! එයින් අදහස් වන්නේ කුමක් ද? අප එය වටහා ගත යුත්තේ කෙසේ ද? තීරණාත්මක ජයග්‍රහණයක්, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් පිහිටුවීමට කරන ''තීරණයකින්'' සලකුණු වනු ඇත?? තවද, එවැනි ''ජයග්‍රහණයක්'' ''ජයග්‍රාහී පොදු ජන නැගී සිටීමකින් උද්ගත වන තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීම සමග සම කොට තබා ඇත!! ජයග්‍රාහී පොදු ජන නැගිටීමකින් සහ තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීමෙන්, ප්‍රත්‍යක්ෂ වශයෙන්ම විප්ලවයේ ජයග්‍රහණය පෙන්නුම් කෙරෙන අතර, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් පිහිටුවීමට කරන ''තීරණයෙන්'' පෙන්නුම් කෙරෙන්නේ, වචන මාත්‍රයෙන් පමණක් විප්ලවයේ ජයග්‍රහණයක් වන බව සටහන් කරගැනීමට, සාකච්ඡා සභාව අපොහොසක් වී ඇත.

නව ඉස්ක්‍රා මෙන්ෂෙවික් වරුන් ගේ සාකාච්ඡා සභාව ද වැටී ඇත්තේ, ලිබරල්වාදීන් නැතහොත්, ''අස්වබඡ්ජේනිය'' කණ්ඩායම නිරතුරුව ම කරන ඒ වරදටම ය. බලය හා අධිකාරය සාර් සන්තකව තිබීම ගැන,ලජ්ජාවෙන් ඇස් වසා ගන්නා සහ ''ආණ්ඩු ක්‍රම සංස්ථාපනය'' කිරීමට නම්, කෙනෙකුට ඒ සඳහා අවශ්‍ය බලය තිබිය යුතු බව අමතක කරන, ''අස්වබඡ්ජේනිය'' කණ්ඩායම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් ගැන බොළඳ බස් දෙඩයි. බලය සාර් අතෙහි පවතින තාක් කල්, නියෝජිතයන් — ඔවුන් කවුරුන් හෝ වුවද කරන ''තීරණය'' ද, එම තීරණය ක්‍රියාත්මක කිරීම ද, අතර විශාල පරතරයක් තිබෙන බව, සාකච්ඡා සභාවට අමතක වී තිබේ. බලය සාර් අතෙහි පවතින තාක් කල්, කුමණ හෝ නියෝජිතයන් වුවද, ගන්නා තීරණ, 1848 ජර්මන් විප්ලවයේ ඉතිහාසයෙහි සුප්‍රසිද්ධ ප්‍රැන්ක්පර්ට් පාර්ලිමෙන්තුවේ[17] තීරණ මෙන්ම, නිස්සාර හා කාලකණ්ණි දෙඩවිලි ලෙසට පවතිනු ඇති බව ද, සාකච්ඡා සභාවට අමතක වී තිබේ. ප්‍රැන්ක්පර්ට් ''අස්වබඡ්ජේනිය'' වර්ගයේ ලිබරල්වාදීන්, රජු අතෙහි ඇත්ත වශයෙන්ම බලය තිබෙන්නට හරිමින්, නෝකාකාර ප්‍රජාතන්ත්‍රවාදී ''තීරණ'' අනුමත කළ නිසාද, අනේක විධ ආකාරයේ නිදහස ගැන ''ව්‍යවස්ථා සංස්ථාපනය'' කළ නිසා ද, ඒ අතර රජුගේ ප්‍රයෝජනය සඳහා තිබුණු යුද්ධ හමුදු වලට විරුද්ධව සන්නද්ධ අරගලයක් සංවිධාන කිරීමට අසමත් වූ නිසා ද, නියත වශයෙන් එම කරුණුම මුල් කර ගෙන, විප්ලවවාදී නිර්ධන පංතියේ නියෝජිතයා වූ මාක්ස් විසින් ඔහුගේ ''නව රයින් පත්‍රය''[18] මගින් ඔවුන් නිර්දය උපහාසාත්මක විවේචනයට ලක් කරන ලදී. ප්‍රැන්ක්පර්ට් ''අස්වබඡ්ජේනිය'' ලිබරල්වාදීන් බොළඳ බස් දෙඩමින් සිටිය දී, රජු යුද්ධ හමුදු ශක්තිමත් කර ගනිමින්, තම වාරය එන තෙක් බලා සිටියේ ය. ඒ අනුව සැබෑ බලය

පමණක් කෙරෙහි විශ්වාසය තැබූ ප්‍රති විප්ලවය, ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අනර්ඝ "තීරණ" සියල්ලම සමග ඔවුන් අන්ත පරාජයට පත් කළේ ය.

ජයග්‍රහණය සඳහා අත්‍යවශ්‍යවන කොන්දේසිය රහිත දෙය ම, සාකච්ඡා සභාව විසින් තීරණාත්මක ජයග්‍රහණයේ මට්ටමෙහි තබනු ලැබේ. අපගේ පක්ෂයේ සමූහාණ්ඩු වැඩ පිළිවෙළ පිළිගන්නා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එවන් වරදක් කිරීමට යෙදුනේ කෙසේ ද? මෙම අද්භූත ප්‍රපංචය තේරුම් ගැනීමට පක්ෂයෙන් බිඳී වෙන් වී ගිය කොටස ගැන තුන්වැනි සම්මේලනය සම්මත කළ යෝජනාව වෙත හැරෙනු යුත්තෙමු.*අප පක්ෂය තුළ "ආර්ථිකවාදයට නැකම් කියන" විවිධ උපනති පවතින

---

* අපි මෙම යෝජනාව සම්පූර්ණයෙන්ම උපුටා දක්වමු: "පක්ෂය ආර්ථිකවාදයට විරුද්ධව සටන් කළ කාලයේ පටන් ම, විවිධ ප්‍රමාණයෙන් හා විවිධ කරුණු සම්බන්ධයෙන් අරගලයේ සිටින පංති හැඟීමෙන් යුත් කොටසෙහි වැදගත් කම ලඝු කොට තකන හා එය ස්වයංසිද්ධිකතාවයට අවනත කිරීමේ පොදු නැඹුරුවක් පෙන්නුම් කරන්නා වූ ද, ඇතැම් උපනති රු. ස. ප්‍ර. ක. ප. තුළ ඉතිරි වූ බව සම්මේලනය වර්තා ගත කරයි. සංවිධාන පිළිබඳ ප්‍රශ්නවල දී, ක්‍රමානුකූල පක්ෂ කටයුතු සමග නො ගැලපෙන ක්‍රියාදාමයක් වන සංවිධානය" පිළිබඳ ප්‍රතිපත්තිය න්‍යායයක් ලෙසට ඉදිරිපත් කරන අතරම, මෙම උපනතිවල නියෝජිතයෝ, ව්‍යවහාරයේ බොහෝ අවස්ථාවල ක්‍රමානුකූල ලෙස පක්ෂ විනයෙන් බැහැර වෙති. අන් අවස්ථාවල ඔවුහු රුසියානු ජීවිතයේ වාස්තවික තත්වයන් සැලකිල්ලට නො ගෙන, පක්ෂයේ ඉතාමත්ම අඩු අවබෝධයක් ඇති කොටසට, තෝරා පත් කිරීමේ ප්‍රතිපත්තිය පුළුල්ව ක්‍රියාත්මක කිරීම ගැන දේශනා කරති. එනයින්, වර්තමානයේ පක්ෂ සම්බන්ධකම් පැවැත්වීම සඳහා තිබිය හැකි එකම පදනම දුර්වල කිරීමට ඔවුහු උත්සාහ ගනිති. උපක්‍රමීය ප්‍රශ්නවල දී, පක්ෂ කටයුතුවල විෂය ක්ෂේත්‍රය පටු කිරීමේ අධ්‍යාසයක් පෙන්වන ඔවුහු, පක්ෂය, ලිබරල් ධනපති පක්ෂ සම්බන්ධයෙන් අනුගමනය කරන, සම්පූර්ණයෙන් ම ස්වාධීන උපක්‍රමවලට විරුද්ධත්වය ප්‍රකාශ කරති; ජනතා නැගිටීමේ සංවිධායක කාර්ය භාරය අප පක්ෂයට පවරා ගත නො හැකි යයි ද, එය පවරා ගැනීම අනුචිත යයි ද කියා සිටින ඔවුහු, කුමණ තත්වයක් යටතේ වුවද, අප පක්ෂය ප්‍රජාතන්ත්‍රවාදී තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීමට විරුද්ධ වෙති.

විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රතිපත්තිවලින් එසේ අර්ධ වශයෙන් පිට පැනීමට විරුද්ධව ශක්තිමත් දෘෂ්ටිමය අරගලයක් කරන ලෙස සම්මේලනය, සැම තැනම සිටින සියළුම පාක්ෂිකයන්ට උපදෙස් දෙයි. එසේ වුවද, ඒ අතරම, පක්ෂ සම්මේලන හා පක්ෂ ව්‍යාවස්ථා පිළිගනිමින්, පක්ෂ විනයට සහ මුලින්ම අවනත වීමේ අනිවාර්ය කොන්දේසියට යටත්ව, කිනම් ප්‍රමාණයකට හෝ එබඳු අදහස් දරන අයට පක්ෂ සංවිධානයන්හි සිටිය හැකි බවද සම්මේලනය අදහස් කරයි. (1907 සංස්කරණයට කතුගේ සටහන — සංස්කාරක.)





බව මෙම යෝජනාව කියයි. අපගේ ''සාකච්ඡා සභා කාරයන්'' (ඔවුන් මර්තිනව් ගේ දෘෂ්ටිමය මගපෙන්වීම යටතේ සිටීම අහම්බෙන් සිදුවූවක් නො වේ) විප්ලවය ගැන කථා කරන්නේත්, හරියටම ආර්ථිකවාදීන් දේශපාලන අරගලය ගැන හෝ පැය අටක වැඩ දිනය ගැන හෝ, කථා කළ ආකාරයට ම ය. ''ආර්ථිකවාදීහු'' එක්වරම ''අවධි න්‍යාය'' ඉදිරියට ගෙන ආහ: 1) අයිතිවාසිකම් සඳහා අරගලය; 2) දේශපාලන උද්ඝෝෂණය; 3) දේශපාලන අරගලය; එසේ නැතහොත්, 1) පැය දහයක වැඩ දිනය; 2) පැය නමයක වැඩ දිනය; 3) පැය අටක වැඩ දිනය. මෙම ''ක්‍රියා දමයක් වන උපක්‍රම'' වල ප්‍රතිඵලය, කවුරුත් සෑහෙන තරම් හොඳින් දනිති. දැන් විප්ලවය ද පහත සඳහන් අවධිවලට ප්‍රාථමික හා පැහැදිලි වශයෙන් බෙදන ලෙස අපට ආරාධනා කරනු ලැබේ: 1) සාර් රජු විසින් නියෝජිත ආයතනයක් රැස් කිරීම; 2) ''ජනතාවගේ'' බලපෑම යටතේ මෙම ආයතනය ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් පිහිටුවීමට ''තීරණය'' කිරීම; 3)... තුන්වැනි අවධිය කුමක් විය යුතු ද යන්න ගැන, මෙන්ෂෙවික් වරු තවමත් ඔවුනොවුන් අතර එකඟත්වයක් ඇති කරගෙන නොමැත. ජනතාව ගේ විප්ලවවාදී බලපෑමට විරුද්ධව සාර්වාදයේ ප්‍රතිවිප්ලවවාදී බලපෑම ඉදිරිපත් වන බවද, එනිසා එක්කෝ ''තීරණය'' ක්‍රියාත්මක නො වී පවතින බවද, නැතහොත්, කාරණය අන්තිමේ දී පොදු ජන නැගිටීමේ ජයග්‍රහණය හෝ පරාජය මගින් තීරණය වන බවද, ඔවුනට අමතක වී තිබේ. සාකච්ඡා සභාවේ යෝජනාව, පහත සඳහන් ''ආර්ථිකවාදී'' තර්කයෙහි අනු පිටපතකට සමානය: කම්කරුවන් ගේ තීරණාත්මක ජයග්‍රහණයක්, එක්කෝ විප්ලවීය මාර්ගයකින් පැය අටක වැඩ දිනය ලබා ගැනීමෙන් හෝ, එසේ නැතහොත්, පැය දහයක වැඩ දිනයක් දීමෙන් හා පැය නමයක වැඩ දිනයක් දක්වා මාරුවීමට කරන ''තීරණයකින්'' හෝ සලකුණු වීමට ඉඩ තිබේ... අනු පිටපත් කිරීම විශිෂ්ඨ ය.

ජනතා නැගිටීමෙහි ජයග්‍රහණය හා සාර් විසින් කැඳවන ලද නියෝජිත ආයතනයෙහි ''තීරණය'' එක මට්ටමක තැබීමට යෝජනාවේ කතුවරුන් අදහස් නො කළ බවත්, ඔවුන් අදහස් කළේ අවස්ථා ද්වයෙහි දීම පක්ෂය අනුගමනය කළයුතු උපක්‍රම යෝජනාවට ඇතුලත් කිරීම බවත් අපට විරුද්ධත්වය පෑමක් ලෙසට කීමට ඉඩ තිබේ. එයට අපි මෙසේ පිළිතුරු දෙන්නෙමු: 1) නියෝජිත ආයතනයක තීරණය ''සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණයක්'' ලෙසට පැහැදිලි හා නිරවුල් ලෙස යෝජනාවේ වචනවලින් විස්තර කෙරේ. සමහර විට එය නො සැලකිලිමත් ලෙස වචන යෙදීමක ප්‍රතිඵලයක් වන්නට පිළිවන. ඇතැම් විට වාර්තාව සමඟ සංසන්දනය කර බලා එය නිවරද කිරීමට ඉඩ තිබෙන්නට පුළුවන. නමුත් එය නිවැරදි කරන තෙක්, දැනට වචන යොද

ඇති ආකාරයෙන් දෙන්නේ එකම අර්ථයක් පමණකි. එසේම, එම අර්ථය ''අස්වබෂ්ජේනිය'' තර්කණ පිළිවෙළ සමග සම්පූර්ණයෙන්ම ගැලපෙන්නේ ය. 2) යෝජනාවේ කර්තෘ වරු ක්‍රමයෙන් ''අස්වබෂ්ජේනිය'' තර්කණ පිළිවෙළට වැටී ඇති අතර, ඔවුන් ගේ එම තර්කණ පිළිවෙළ නව ඉස්ක්‍රා කණ්ඩායමේ වෙනත් සාහිත්‍යික නිශ්පාදිතයන් මගින් ඉතා පැහැදිලි ලෙස කැපී පෙනේ. නිදසුනක් දක්වතොත් තිප්ලිස් කාරක සභාවේ නිල පුවත්පත වන (ජෝර්ජියානු භාෂාවෙන් මුද්‍රිත) ''සොට්සල්-ඩිමොක්‍රට්''[19] පත්‍රයේ ''සෙම්ස්කි සබෝර්'' (ජාතික මණ්ඩලය — සංස්කාරක) හා අපේ උපක්‍රම'' යන හිසින් පළ වූ (''ඉස්ක්‍රා'' අංක 100 කලාපයේ ප්‍රශංසාවට ලක්වූ) ලිපිය කොතෙක් දුරට ගොස් තිබේ ද යත්, ''සෙම්ස්කි සබෝර් මණ්ඩලය (මෙය රැස්කිරීම ගැන තවමත් නිශ්චිත කිසිවක් දැනගන්නට නොමැති බව අප කිව යුතුය!) අප ක්‍රියාකාරිත්වයේ කේන්ද්‍රස්ථානය බවට පත් කර ගන්නා'' ''උපක්‍රම'', ජනතා නැගිටීමේ හා තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවීමේ ''උපක්‍රම'' වලට ''වඩා අපට වාසිදායක'' යයි, ඉන් ප්‍රකාශ කෙරේ. පසුව අපි මෙම ලිපිය ගැන නැවතත් සඳහන් කරන්නෙමු. 3) විප්ලවය ජයග්‍රහණය කළ විට මෙන්ම, එය පරාජය වූ විටත්, ජනතා නැගිටීම සාර්ථක වූ විට මෙන්ම එය සැලකියයුතු බලවේගයක් ලෙසින් සංවර්ධනය නො වූ විටත්, පක්ෂය විසින් පිළිපදිනු ලැබිය යුතු උපක්‍රම පිළිබඳව ප්‍රාථමික සාකච්ඡා පැවැත්වීම ගැන විරුද්ධත්වයක් දැක්විය නො හැක. ලිබරල් ධනපති පංතිය සමග බෙරුමකට එළඹීම පිණිස නියෝජිත සභාවක් කැඳවීමට සාර්වාදී ආණ්ඩුව සමත් වන්නට පිළිවන. එවැනි සිද්ධියක් ඇතිවීමේ හැකියාව ගැන සඳහන් කරන තුන්වැනි සම්මේලන යෝජනාව, ''වංචාකාර ප්‍රතිපත්තිය'', ''බොරු-ප්‍රජාතන්ත්‍රවාදය'' හා ''ඊනියා සෙම්ස්කි සබෝර් වැනි පොදු ජන නියෝජිතත්වයේ විකාරතාවයක්''* ගැන පැහැදිලිවම සඳහන් කරයි.

---

* විප්ලවයේ පූර්වාසන්නයේ දී ආණ්ඩුව අනුගමනය කරන උපක්‍රම කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ යෝජනාව මෙසේ ය:

''වර්තමාන විප්ලවීය කාලයෙහි දී, ආණ්ඩුව ආත්මාරක්ෂක අරමුණු පෙරදැරි කොට ගෙන, ප්‍රධාන වශයෙන් නිර්ධන පංතියේ පංති විඥනය ඇති කොටස්වලට විරුද්ධව සාමාන්‍යයෙන්ම එල්ලකර තිබෙන මර්දනකාරී පියවරයන් උත්සන්න කරන අතරම, එය 1) සහන හා ප්‍රතිසංස්කරණ පිළිබඳ පොරොන්දු දීමෙන් කම්කරු පංතිය දූෂ්‍යකොට ඒ මගින් ඔවුන් විප්ලවීය අරගලයෙන් බැහැරට යොමු කිරීමේ ප්‍රයත්නයක් දරයි; 2) එම අරමුණම ඇතිව, සහන දීමේ එහි වංචනික ප්‍රතිපත්තිය, කොමිසම් හා සාකච්ඡා සභා වලට කම්කරු නියෝජිතයන් පත් කරන ලෙස ආරධනා කිරීමේ පටන්, ඊනියා සෙම්ස්කි සබෝර් වැනි පොදුජන නියෝජිතත්වයේ



නමුත් මෙහි වැදගත් කාරණය වන්නේ, මෙය තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව හා සමග කිසිසේත් සම්බන්ධ නැති නිසා, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් ගැන වූ යෝජනාවකින් එය කියා නො තිබීම යි. මේය සිදු වුවහොත්, එනිසා ජනතා නැගිටීමක් පිළිබඳ ප්‍රශ්නය හා තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවීම පිළිබඳ ප්‍රශ්නය කල් යන්නේ ය. එයින් මෙම ප්‍රශ්නය වෙනසකට භාජන වීම යනාදිය සිදු වේ. මෙකල විවාදයට බඳුන් වන ප්‍රශ්නය වනුයේ, නොයෙකුත් ආකාරයේ සංයෝජනයන් ඇති විය හැකි බව වත්, ජය පරාජය දෙකටම ඉඩ ඇති බව වත්, සෘජු නැතහොත් වක්‍ර මාර්ග තිබිය හැකි බව වත් නො වේ. වැදගත් කාරණය නම්, නියම විප්ලවීය මාර්ගය සම්බන්ධයෙන්, කම්කරුවන් ගේ සිත් තුළ අවුලක් ඇති කිරීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුට අවසර නොමැති බව ය; අස්වබෂ්ජේනිය කරන්නාක් මෙන්, ජයග්‍රහණය සඳහා අවශ්‍යවන ප්‍රධාන කොන්දේසිය නොමැති යමක්, තීරණාත්මක ජයග්‍රහණයක් ලෙසට විස්තර කිරීමට අවසර නොමැති බව ය. එක පහරින් නොව, දීර්ඝ වට වංගු මාර්ගයකින් පමණක් අපට

---

විකාරතාවයක් ස්ථාපිත කිරීම දක්වා වූ, ව්‍යාජ ප්‍රජාතන්ත්‍රවාදී ආකෘතිවලින් සරසනු ලැබේ; 3) ඊනියා කළු සියය පිරිස්[20] සංවිධානය කරමින්, ජනතාව අතර සිටින සියළුම ප්‍රතිගාමී, කාරණා නොදත්, නැතහොත් වර්ගවාදී හෝ ආගමික හෝ වෛරයෙන් වියරුහුනු කොටස්, පොදුවේ විප්ලවයට විරුද්ධව උසි ගන්වයි:

එනිසා පක්ෂ සංවිධාන සියල්ලෙන්ම, පහත සඳහන් පරිදි ක්‍රියා කරන සේ ඉල්ලා සිටීමට, රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය තීරණය කරයි:

අ) ආණ්ඩුවේ සහනවල ප්‍රතිගාමී අරමුණ හෙළිදරව් කරන අතරම, එක් අතකින්, මෙම සහන බලෙන් උදුරාගත් බවත්, අනෙක් අතට, නිර්ධන පංතියට තෘප්තිමත් විය හැකි සහන සැලසීමට ඒකාධිපත්‍යය කිසිසේත්ම සමත් නො වන බවත් ස්වකීය උද්ඝෝෂණයෙහිදී අවධාරණය කිරීම;

ආ) මැතිවරණ ව්‍යාපාරය වාසියට හරවා ගනිමින්, ආණ්ඩුවේ මෙම පියවරයන්හි සැබෑ අර්ථය පැහැදිලි කරදීම සහ සර්වජන හා සමාන ඡන්ද බලය, සෘජු තෝරා පත් කිරීම හා රහස් ඡන්දය පදනම් කරගෙන විප්ලවීය ආකාරයෙන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් රැස්කිරීමේ අවශ්‍යතාවය පෙන්වාදීම;

ඇ) පැය අටක වැඩ දිනය හා කම්කරු පංතියේ වෙනත් හදිසි ඉල්ලීම් විප්ලවකාරී ආකාරයකින් වහාම දිනාගනු සඳහා නිර්ධන පංතිය සංවිධානය කිරීම;

ඈ) කළු සියය පිරිස්වල කටයුතු වලටත්, පොදුවශයෙන් ආණ්ඩුවේ නායකත්වයෙන් යුත් සියළුම ප්‍රතිගාමී කොටස් වලටත් විරුද්ධව ආයුධ සන්නද්ධ ප්‍රතිරෝධය සංවිධානය කිරීම.'' (1907 සංස්කරණයට කතුගේ සටහන. — සංස්කාරක)

පැය අටේ වැඩ දිනය වුවද දිනා ගැනීමට හැකි වනු ඇත. එහෙත්, එබඳු බෙලහීනත්වයක්, එනම්, අතපසු කිරීම්, ප්‍රමාද කිරීම්, තර්ක විතර්ක කිරීම්, ද්‍රෝහී කම් හා ප්‍රතිගාමීත්වය යන මේවාට හරස්වීමට අසමත්වන තත්වයට කම්කරු පංතිය පත්කරන එබඳු දුර්වල කමක්, කම්කරුවන්ගේ ජයග්‍රහණයක් යයි කියන මිනිසෙක් ගැන ඔබට කිව හැක්කේ කුමක් ද? රුසියානු විප්ලවය, ''වපිරියොද්''* පත්‍රය වරක් කී පරිදි, ''අසාර්ථක ව්‍යවස්ථාවකින්'' කෙළවර වන්නට පිළිවන. එහෙත්, තීරණාත්මක අරගලයක පූර්වාරම්භයේදී, මෙම අසාර්ථකත්වය, ''සාර්වාදය පරදවා ලත් තීරණාත්මක ජයග්‍රහණයක්'' ලෙසට හඳුන්වන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් කියන දෙය, එනිසා සාධාරණ වන්නේ ද? නරක ම තත්වයක් ඇති වුව හොත්, සමූහාණ්ඩුවක් දිනා ගැනීමට අපට බැරි වන්නට පමණක් නොව, අපට ලැබෙන ව්‍යවස්ථාව පවා ව්‍යාජයක් වීමට, ''ෂිපොව්'' වර්ගයේ ව්‍යවස්ථාවක්[21] වීමට ඉඩ තිබේ. එසේ වුවත් අපගේ සමූහාණ්ඩු සටන් පාඨයේ සැර බාල කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියකුට සමාව දිය හැකි ද?

නව ඉස්ක්‍රා වාදීන්, තවමත් සැර බාල කිරීම තරම් දුරට ගොස් නැති බව සැබෑය. නමුත්, සියළු දේම අතුරෙන්, සමූහාණ්ඩුව ගැන වචනයක්වත් ඔවුන්ගේ යෝජනාවෙ හි සඳහන් කිරීමට ඔවුනට අමතක වී තිබීමෙන්, විප්ලවීය ජීවය ඔවුන් කෙරෙන් ඇත් වී ඇති තරමත්, අජීවී පණ්ඩිතමානයෙන් ඔවුන් අන්ධ වී ඇති තරමත්, මැනවින් පෙන්නුම් කෙරේ. මෙය විශ්වාස කිරීම පවා බැරි තරම් වුවද එය සත්‍යයකි. සාකච්ඡා සභාවේ විවිධ යෝජනා මගින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සියළුම සටන් පාඨ අනුමත කර, යළි සඳහන් කර, පැහැදිලි කර හා විස්තර සහිතව ඉදිරිපත් කර ඇත. කම්කරුවන් විසින් කර්මාන්ත ශාලා කාර්ය මෙහෙයුම් කරුවන් හා මන්ත්‍රීවරුන් තෝරා පත් කරනු ලැබීම පවා අමතක කර නැත. නමුත් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ගැන සම්මත කළ යෝජනාවක සමූහාණ්ඩුව ගැන සඳහන් කිරීමට ඔවුනට නිකමටවත් අවස්ථාවක් නො ලැබුනි. ජනතා නැගී සිටීමක ජයග්‍රහණය ගැනත්, තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීම

---

* ජිනීවා හි පළ කරන ලද ''වපිරියොද්'' පුවත් පත පක්ෂයේ බොල්ෂෙවික් කණ්ඩායමේ නිල පත්‍රය ලෙස පළ කිරීම 1905 දී පටන්ගන්නා ලදී. ජනවාරි සිට මැයි දක්වා කලාප දහ අටක් පළ විය. රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය ගත් තීරණයක් අනුව ''වපිරියොද්'' වෙනුවට ''ප්‍රොලිතාරි'' පක්ෂයේ නිල පුවත් පත බවට පත් විය. (මෙම සම්මේලනය මැයි මාසයේ ලන්ඩනයේ දී පැවැත්වුනු අතර, මෙන්ෂෙවික් වරු එයට සහභාගි නො වූහ. ඔවුහු ජිනීවා හි ඔවුන් ගේ ම ''සාකච්ඡා සභාවක්'' පැවැත්වූහ). (1907 සංස්කරණයට කතුගේ සටහන. — සංස්කාරක)



ගැනත් කථා කරන අතර, මෙම ''පියවරයන්'' හා ක්‍රියාවන් සමූහාණ්ඩුවක් දිනා ගැනීම සමග සම්බන්ධ වන්නේ කෙසේද යන්න ගැන හෝඩුවාවක් නො දක්වීම යනු, නිර්ධන පංති අරගලයට මග පෙන්වීමක් නොව, නිර්ධන පංති ව්‍යාපාරය පසු පස්සේ බඩ ගෑමේ අරමුණ ඇතිව යෝජනාවක් ලිවීමකි.

සම්පිණ්ඩනය මෙසේය:යෝජනාවේ පළමුවැනි කොටසෙන් 1) සමූහාණ්ඩුවක් සඳහා කරන අරගලයෙහිත් සැබැවින්ම පොදු ජන වූ ද, සැබැවින්ම ආණ්ඩු ක්‍රම සම්පාදක වූ ද මණ්ඩලයක් දිනා ගැනීමේත්, ස්ථාවරය අනුව තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක ඇති වැදගත් කම ගැන කිසිම පැහැදිලි කිරීමක් ඉදිරිපත් කර නැත. 2) සැබෑ ජයග්‍රහණයක් සඳහා අවශ්‍යවන ප්‍රධාන කොන්දේසියම නොමැති තත්වයක්, සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණයක් සමග සම මට්ටමෙහි තැබීමෙන්, එය නිර්ධන පංතියේ ප්‍රජාතන්ත්‍රවාදී විඥනය සම්පූර්ණයෙන්ම අවුල් කළේය.

## 4. රාජාණ්ඩුව අහෝසි කිරීම සහ සමූහාණ්ඩුව

අපි යෝජනාවේ ඊළඟ කොටසට යමු:

''...එම දෙ ආකාරයෙන් කුමණ එක අනුව වුවද, ලබන එවැනි ජයග්‍රහණයකින් විප්ලවීය යුගයේ අළුත් අවස්ථාවක් ආරම්භ වනු ඇත.

දේශපාලන වශයෙන් විමුක්තිය ලැබූ ධනපති සමාජයේ කොටස් අතර, ඔවුන් ගේ සමාජ අවශ්‍යතාවයන් ඉටු කර ගැනීම සහ කෙළින්ම බලය අත්පත් කර ගැනීම සඳහා, කෙරෙන අන්‍යොන්‍ය අරගලයේ ක්‍රියා දමයේ දී, රාජාණ්ඩුවේ සහ සමාජ වංශවල මූළු පාලනයම අවසාන කර දැමීම — මෙම නව සමයේදී, සමාජ සංවර්ධනයේ වාස්තවික තත්වයන් විසින් උද්ගත කරනු ලබන කර්තව්‍යය එය යි.

එනිසා, ඓතිහාසික ස්වභාවය අනුව ධනපති පංතික වූ මෙම විප්ලවයේ කර්තව්‍යයන් ඉටු කිරීමට භාර ගන්නා තාවකාලික ආණ්ඩුවට, විමුක්තිය ලබා ගැනීමේ ක්‍රියා දමයෙහි යෙදී සිටින ජාතියකට, එය තුළවන සතුරු පංති වල අන්‍යොන්‍ය අරගලය හැසිරවීමේ දී, විප්ලවීය සංවර්ධනය ඉදිරියට ගෙන යාමට පමණක් නොව, ධනපති ක්‍රමයේ පදනම් වලට තර්ජනයක් වන එම සංවර්ධනයේ සාධකවලට විරුද්ධව සටන් කිරීමට ද සිදුවේ.''

යෝජනාවෙහි ස්වාධීන කොටසක් වන මෙම ඡේදය පරීක්ෂා කර බලමු. ඉහත උපුටා දක්වා ඇති තර්කවල මූලික අදහස, සම්මේලන යෝජනාවේ තුන්වැනි ඡේදයේ එන අදහසට ගැලපේ. එසේ නමුත්, යෝජනා දෙකේ

මෙම කොටස් එකිනෙකට සංසන්දනය කරන විට, ඒවා අතර පහත සඳහන් මූලික වෙනස තිබෙන බව, එක් වරම හෙළිදරව් වේ. විප්ලවයේ සමාජ හා ආර්ථික පදනම ගැන සැකෙවින් විස්තර කරන සම්මේලන යෝජනාව, නිශ්චිත ජයග්‍රහණ ලබා ගැනීම සඳහා පංතීන් විසින් කරනු ලබන පැහැදිලි අරගලය කෙරෙහි, සම්පූර්ණ අවධානය රඳවමින්, නිර්ධන පංතියේ සටන්කාමී කර්තව්‍යයන් ඉදිරියෙන්ම තබයි. විප්ලවයේ සමාජ-ආර්ථික පදනම ගැන දීර්ඝ, අගක් මුලක් නැති හා පැටලිලි සහිත විස්තරයක් අන්තර්ගත සාකච්ඡා සම්මේලන යෝජනාව, නිශ්චිත ජයග්‍රහණ ලබා ගැනීම සඳහා කරන අරගලයක් ගැන, ඉතා නො පැහැදිලි ලෙස කථා කරමින්, නිර්ධන පංතියේ සටන්කාමී කර්තව්‍යයන් සම්පූර්ණයෙන්ම පසු තලයෙහි තබයි. සම්මේලන යෝජනාව, සමාජයේ විවිධ කොටස් අතර කෙරෙන අන්‍යොන්‍ය අරගලයේ ක්‍රියා දමයේදී පැරණි පාලන ක්‍රමය අවසන් කර දැමීම ගැන කථා කරන්නේ ය. සම්මේලන යෝජනාව කියන්නේ අප මෙම අවසන් කර දැමීම කළ යුතු බවය; පැරණි පාලන ක්‍රමය සැබවින්ම අවසන් කළ බව, සලකුණු වන්නේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවීමෙන් පමණක් බව ය; අප එම සමූහාණ්ඩුව දිනා ගත යුතු බවය; එය සඳහාත්, සම්පූර්ණ විමුක්තිය සඳහාත්, අප ඒකාධිපත්‍යයට පමණක් නොව, ධනපති පංතිය අපගේ ජයග්‍රහණයන් උදුරා ගැනීමට උත්සාහ කරන විට (එය නිසැක වශයෙන් ම එසේ කරනු ඇත), එයට ද විරුද්ධව, සටන් කරන බව ය. නියත ලෙස පැහැදිලි කරන ලද, ක්ෂණික අරමුණක් සඳහා අරගලයක් කරන සේ, සම්මේලන යෝජනාව නියමිත පංතියකට ආයාචනා කරන්නේ ය. සාකච්ඡා සභාවේ යෝජනාව විවිධ බලවේගයන්ගේ අන්‍යොන්‍ය අරගලය ගැන දේශනා කරයි. එක යෝජනාවකින් ක්‍රියාශීලී අරගලයේ මනෝභාවය ප්‍රකාශ වන අතර, අනිකෙන් අක්‍රියාකාරී ප්‍රේක්ෂකයෙකුගේ මනෝභාවය ප්‍රකාශ වේ. එකක්, ප්‍රාණවත් සටන සඳහා කරන හඬ නැගීමෙන් රැව් දෙන අතර,අනික අප්‍රාණික පණ්ඩිතමානයෙහි එරී ඇත. වර්තමාන විප්ලවය අපගේ ප්‍රථම පියවර පමණක් වන බවත්, ඊට අනතුරුව තවත් දෙවැනි පියවරක් ගන්නා බවත්, යෝජනා දෙකෙහි ම සඳහන් ය. නමුත්, මෙයින්, එක යෝජනාවක් එළඹ ගන්නේ, අප මෙම ප්‍රථම පියවර හැකි තරම් කඩිනම්ව ගත යුතු ය, හැකි තරම් ඉක්මනින් එය නිම කළ යුතුය, සමූහාණ්ඩුවක් දිනා ගත යුතුය, නිර්දය ලෙස ප්‍රතිවිප්ලවය මර්දනය කළ යුතුය, එසේ කොට, දෙවැනි පියවර සඳහා බිම සකස් කළ යුතුය, යන නිගමනයට ය. එසේ වුවත්, අනිත් යෝජනාව, ඕජස් බසින්නා වැනි වචන බාහුල්‍යත්වයෙන් ප්‍රථම පියවර විස්තර කර (ගොරහැඩි යෙදුම ගැන සමාවන්න), නිකම්ම එය වමාරා කයි. පැරණි, එහෙත් සදා නැවුම් ගුණයක් ඇති මාක්ස්වාදී අදහස්



(ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක ධනපති පංතික ස්වභාවය), පෙර වදන, නැතහොත්, තර්ක මූලය ලෙසට ගන්නා සම්මේලන යෝජනාව, ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී යන විප්ලව දෙකම සඳහා සටන් කරන ප්‍රගතිශීලී පංතියේ කර්තව්‍යයන්, ඒ අනුව නිගමනය කරයි. සාකච්ඡා සභා යෝජනාව පෙරවදන ඉක්මවා ඉදිරියට නො ගොස්, එය නැවත නැවතත් හපා කමින්, එය හපන්කමක් සේ දැක්වීමට උත්සාහ කරන්නේ ය.

නිත්‍යානුකූල මාක්ස් වාදය[22] පැවති ඒ පැරණි කාලයේ දී, සදූපදේශකයන් හා සටන්කාමීන් ලෙසට ද, නැගී එන ලාබාල පොදු ජන ව්‍යාපාරය සමයේ දී, ආර්ථිකවාදීන් හා දේශපාලනඥයන් ලෙසට ද, දිගු කලක් තිස්සේ, රුසියානු මාක්ස්වාදීන් වෙන් කොට තබන ලද්දේ මෙම වෙනස විසින් ම ය. පොදුවේ පංති අරගලයෙහිත්, විශේෂයෙන්ම දේශපාලන අරගලයෙහිත්, ගැඹුරු ආර්ථික මුල් ගැන වූ නිවැරදි මාක්ස්වාදී තර්ක මූලයෙන්, ''ආර්ථිකවාදීන්'' බැසගත් ඒකාන්ත නිගමනය වූයේ, දේශපාලන අරගලයට පිටු පෑ යුතුය. එහි සංවර්ධනයට බාධා කළ යුතුය එහි පරිමාණය පටු කළ යුතුය, එහි අරමුණු අඩු කළ යුතුය, යන නිගමනයට ය. අනිත් අතට, මෙම තර්ක මූලයම පදනම් කරගෙන, දේශපාලනඥයෝ වෙනත් නිගමනයකට බැස ගත්හ. ඔවුන් බැසගත් නිගමනය වූයේ, අපගේ වර්තමාන අරගලයේ මුල් ගැඹුරට දිවෙන තරමට, අපි වඩාත් පුළුල් ලෙස, වඩාත් නිර්භීත ලෙස, වඩාත් අධිෂ්ඨාන සහගත ලෙස හා වැඩි ක්‍රියාරම්භකතාවයකින්, මෙම අරගලය කළ යුත්තෙමු යන්න ය. දැන් අප මුහුණ පා සිටින්නේ ද, එම විවාදයටම ය. වෙනස්වී ඇත්තේ එහි පරිසරය හා ස්වරූපය පමණකි. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය කිසි ලෙසකින් වත් සමාජවාදී විප්ලවයක් නොවන්නේය යන තර්ක මූලයෙන්,නැතහොත්, එය ගැන ''උනන්දුවක් දක්වන'' අය දුප්පතුන්ට හා අග හිඟ කම් ඇති අයට කිසිසේත් සීමා නො වන්නේ යයි ද, මුළු ධනපති සමාජයේම අවශ්‍යතාවයන් හා ඕනෑ එපා කම් එහි ගැඹුරට මුල් ඇද තිබෙන්නේ යයි ද, යන මෙම තර්ක මූලයන් ගෙන්, අප එළඹගන්නේ, දියුණු පංතිය වඩාත් නිර්භය ලෙස එහි ප්‍රජාතන්ත්‍රවාදී අරමුණු ඉදිරිපත් කළ යුතුය, ඒවා වඩාත් තියුණු ලෙස හා අංග සම්පූර්ණ ලෙස ප්‍රකාශයට පත් කළ යුතුය, සමූහාණ්ඩුවක් පිළිබඳ වූ හදිසි සටන් පාඨය ඉදිරිපත් කළ යුතුය, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවීමේ හා ප්‍රති විප්ලවය නිර්දය ලෙස මර්දනය කිරීමේ අවශ්‍යතාවය ප්‍රචලිත කළ යුතුය, යන නිගමනයට ය. එසේ වුවද, අපගේ ප්‍රතිපාක්ෂිකයන් වන නව ඉස්ක්‍රා කණ්ඩායම මෙම තර්ක මූලයන්ගෙන්ම බැස ගන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී තීරණයන් සම්පූර්ණ වශයෙන් ප්‍රකාශ නො කළ යුතුය, සමූහාණ්ඩුව ගැන සඳහන ප්‍රායෝගික සටන් පාඨ වලින් ඉවත් කර දැමිය හැකිය, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක

අවශ්‍යතාවය පිළිබඳ අදහස ප්‍රචලිත කිරීමෙන් අපට වැලකී සිටිය හැකිය, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීමට කරන හුදු තීරණයක් ම තීරණාත්මක ජයග්‍රහණයක් සේ හැඳින්විය හැකිය යනුවෙන් ද, ''අන්‍යෝන්‍ය අරගල ක්‍රියාදාමයක්'' ගැන කියන දෙයින් (එය වැරදි ලෙස ඉදිරිපත් කර තිබෙන බව අපට දැකගත හැකි වේ) ප්‍රතිවිප්ලවයට විරුද්ධ සටන යටපත් කිරීමට ඉඩ තබාගන්නා අතර, එම සටන කිරීමේ කර්තව්‍යය ඉදිරියට දැමීමේ අවශ්‍යතාවයක් නැත යනුවෙන් ද අර්ථ දෙන නිගමනයට ය. මෙය දේශපාලන නායකයන් ගේ නොව, පැරණි ලේඛණවලට අරක්ගත් හනමිටි කාරයන්ගේ භාෂාව ය.

නව ඉස්ක්‍රා කණ්ඩායමේ යෝජනාවෙහි එන විවිධ කියමන් වඩාත් සමීප ලෙස පිරික්සා බැලූ තරමට, කෙනෙකුට එහි ඉහත සඳහන් මූලික අංගලක්ෂණ වඩ වඩාත් පැහැදිලි වේ. නිදසුනක් ලෙසට, ''දේශපාලන වශයෙන් විමුක්තිය ලැබූ ධනපති සමාජයේ කොටස් අතර අන්‍යෝන්‍ය අරගලයේ ක්‍රියාදාමයක්'' ගැන අපට කියනු ලැබ්. යෝජනාවට විෂය වූ කාරණය (තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක්) මතක් කරමින් අපි විමතියෙන් මෙසේ අසන්නෙමු; ''ඔබ අන්‍යෝන්‍ය අරගලයේ ක්‍රියාදාමය ගැන සඳහන් කරන්නේ නම්, ධනපති සමාජය දේශපාලන වශයෙන් වහල් බවට පත් කරන කොටස් ගැන ඔබ නිහඬ වූයේ කෙසේ ද? විප්ලවය ජයග්‍රහණය කරන බව සාකච්ඡා සභා කාරයින් පිළිගෙන ඇති හෙයින් මෙම කොටස් දැනටමත් අතුරු දහන් වී ඇතැයි ඔවුන් ඇත්ත වශයෙන්ම සිතන්නේ ද? එබඳු අදහසක් පොදු වශයෙන් විකාරයක් වන අතර, විශේෂ-යෙන් ඉතාමත් අන්ත දේශපාලන බොළඳ කම හා අදූරදර්ශී බව ප්‍රකාශ කරන්නක් වේ. ප්‍රති විප්ලවය පරදවා විප්ලවය ජයග්‍රහණය කළ විට, ප්‍රතිවිප්ලවය අතුරු දහන් නොවේ, ඊට ප්‍රතිකූලව, එය, අනිවාරණීය වශයෙන්ම, අළුත් හා වඩාත් දරුණු අරගලයක් පටන් ගන්නවා ඇත. අපගේ යෝජනාවේ අරමුණ, විප්ලවය ජයග්‍රහණය කළ විට අප හමුවේ උද්ගත වන කර්තව්‍යයන් විග්‍රහ කිරීම වන හෙයින් (සම්මේලන යෝ-ජනාවේ කර ඇති ලෙසට), ප්‍රතිවිප්ලවවාදී ප්‍රහාරයන් පලවා හැරීම කෙරෙහි දැඩිතම අවධානය යොමු කිරීම, අපගේ යුතුකම වන්නේ ය. නො එසේව, සටන්කාමී පක්ෂයක මෙම හදිසි, අත්‍යාවශ්‍ය හා ඉතා වැදගත් දේශපාලන කර්තව්‍යයන්, වර්තමන විප්ලවීය කාල පරිච්ඡේදය අවසන් වීමෙන් පසු නැතහොත් ''දේශපාලන වශයෙන් විමුක්තිය ලැබූ සමාජයක්'' දැනටමත් පවතින විට, සිදුවන්නේ කුමක්ද යන්න ගැන කරන සාමාන්‍ය සාකච්ඡා වලට යට කර දැමීම, අපගේ යුතු කම නො වේ. දේශපාලනය ආර්ථිකයට යටත් ය යන සරල සත්‍යය ප්‍රතිරාවය කිරීමෙන්, වර්තමානයේ අත්‍යාවශ්‍ය දේශපාලන කර්තව්‍යයන් වටහා ගැනීමට ඇති තමන් ගේ අසමත් කම



වසා ගත් ''ආර්ථිකවාදීන්'' මෙන්, නව ඉස්ක්‍රා කණ්ඩායම ද දේශපාලන වශයෙන් විමුක්තිය ලැබූ සමාජයක් තුළ අරගල ඇතිවන්නේය යන සරල සත්‍යය ප්‍රතිරාවය කිරීමෙන්, එම සමාජයේ දේශපාලන විමුක්තියේ අත්‍යා-වශ්‍ය විප්ලවවාදී කර්තව්‍යයන් වටහා ගැනීමට ඇති ඔවුන්ගේ නො හැකියාව වසා ගනිති.

''රාජාණ්ඩුවේ සහ සමාජ වංශ වල මුළු පාලනයම අවසන් කර දැමීම'' යන ප්‍රකාශය ගෙන බලමු. සරල බසින් කියතොත්, රාජාණ්ඩු ක්‍රමය අවසන් කර දැමීම යනු, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවීමය. නමුත්, අපගේ හොඳ මර්තිනව් හා ඔහු ගේ ආවැඩුම් කාරයන් කල්පනා කරන්නේ, මෙම ප්‍රකාශය පමණට වඩා පැහැදිලි හා සරල බවය. ඔවුහු, එය වඩාත් ''ගැඹුරු'' කිරීමට හා වඩාත් ''දක්ෂ'' ලෙසින් ඉදිරිපත් කිරීමට බලවත් උවමනාවක් දක්වති. එහි ප්‍රතිඵලයක් වශයෙන්, ගාම්භීරතාවයකින් පෙනී සිටීමට දරන හාස්‍යජනක හා නිෂ්ඵල ප්‍රයත්නයක් අපට එක් පැත්තකින් දක්නට ලැබේ. අනිත් පැත්තෙන්, සටන් පාඨයක් වෙනුවට විස්තර කරනයක් ද, ඉදිරියට ගමන් කරන ලෙස කියන උද්වේගකාරී ආයා-චනයක් වෙනුවට දුක්බර අතීතාවලෝකනයක්ද අපට පෙනේ. අපට ලැබෙන්නේ, මෙහි සිට හා මෙතැන් පටන්, සමූහාණ්ඩුවක් සඳහා සටන් කිරීමේ අභිලාෂයෙන් ඔදවැඩුනු ප්‍රාණවත් ජනයා නොව, ප්‍රශ්නය plusquam-perfectum* දෘෂ්ටි කෝණයෙන් sub specie aeternitatis** බල වැහැරුනු මළ මිනී රැසක් පමණකි.

අපි තවදුරටත් විමසා බලමු: ''... ධනපති පංතික වූ මෙම විප්ලවයේ කර්තව්‍යයන් ඉටු කිරීමට භාර ගන්නා තාවකාලික ආණ්ඩුව...'' නිර්ධන පංතියේ දේශපාලන නායකයන් මුහුණ දෙන නිශ්චිත ප්‍රශ්නයක්, අපේ සාකච්ඡා සභා කාරයන් විසින් අමතක කර තිබීමේ විපාකය, මෙහිදී අපට එක් වරම පෙනී යයි. පොදු වශයෙන් ධනපති විප්ලවයේ අරමුණු ඉටු කරන අනාගත ආණ්ඩු පෙළක් පිළිබඳ, ප්‍රශ්නය නිසා, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිළිබඳ නියත ප්‍රශ්නය ඔවුන්ගේ දර්ශන පථයෙන් මුවා වී තිබේ. ප්‍රශ්නය''ඓතිහාසික''වශයෙන් සලකා බැලීම ඔබට අවශ්‍ය වේ නම්, කිසිසේත් ම ''තාවකාලික'' නොවූ ආණ්ඩු පෙළක් විසින් ධනපති පංතික විප්ලවයේ අරමුණු ඉටු කරන ලද බවත්, විප්ලවය පරාජය කළ ආණ්ඩු වලට පවා, පරාජිත වූ විප්ලවයේ ඓතිහාසික අරමුණු ඉටු නො කර බැරි වූ බවත්, ඕනෑම යුරෝපීය රටක ඉතිහාසයෙන් ඔබට පෙනී යනු ඇත. නමුත් ඔබ කථා කරන්නේ ''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක්''

* පසුගිය අතීතයේ. — සංස්කාරක

** සදාකාලිකත්වයේ පැත්තෙන්. — සංස්කාරක

යනුවෙන් හැඳින්වෙන ආණ්ඩුවක් ගැන නොවේ: එම නමින් හැඳින්වෙන්නේ, විප්ලවීය යුගයක ආණ්ඩුවකි, බලයෙන් පහ කර දමන ලද ආණ්ඩුවේ තැනට වහාම පත්වන ආණ්ඩුවකි. එය ජනතාවගෙන් පත්වන කිසියම් නියෝජිත ආයතනයක් මත නොව, පොදු ජනතා නැගිටීම මත රඳන ආණ්ඩුවකි. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් යනු විප්ලවයේ කඩිනම් ජයග්‍රහණය සඳහා, ප්‍රතිවිප්ලවයේ ප්‍රයත්නයන් වහාම පලවා හැරීම සඳහා, අරගල කිරීමේ ජීවේන්ද්‍රියකි. එය පොදු වශයෙන් ධනපති විප්ලවයේ ඓතිහාසික අරමුණු ඉටු කිරීම සඳහා වූ ජීවේන්ද්‍රියක් නොවේ. අප, නැතහොත්, යම්කිසි හෝ ආණ්ඩුවක්, ධනපති විප්ලවයේ අරමුණු වලින් කිනම් ඒවා ඉටු කළේ ද යන්න හරියටම නිශ්චය කිරීම අනාගත ''රුස්කය ස්තරිනා''[23] සඟරාවක අනාගත ඉතිහාසඥයන්ට භාර කරමු. මින් තිස් වසරකට පසු පවා ඒ සඳහා අවශ්‍ය තරම් කාලය ලැබෙනු ඇත. මේ අවස්ථාවේ අප විසින් කළ යුතුව තිබෙන්නේ, සමූහාණ්ඩුවක් සඳහා අරගල කිරීම පිණිසත්, නිර්ධන පංතිය එම අරගලයට ඉතාමත් ක්‍රියාශීලී ලෙස සහභාගි වීම පිණිසත්, පාන් පාඨ හා ප්‍රායෝගික නිර්දේශ ඉදිරිපත් කිරීම ය.

උපුටා දක්වන ලද ඉහත යෝජනාවේ අවසාන ප්‍රස්තුතයන් ද, යට සඳහන් හේතු නිසා අසතුටුදායක වන්නේ ය. සතුරු පංති අතර අන්‍යොන්‍ය අරගලය ''හැසිරවීමට'' තාවකාලික ආණ්ඩුවට සිදුවන්නේය යන කියමන, ඉතා අනුචිත ය. එසේ නැතහොත් එය ඉදිරිපත් කර තිබෙන්නේ මොන ලෙසකින් වත් නො ගැලපෙන ආකාරයට ය. පංති අරගලයේ ජීවේන්ද්‍රියන් නොව, එම අරගලය ''හසුරුවන්නන්'' වශයෙන් ප්‍රයෝජනවත් වන ආණ්ඩු තිබිය හැකි යයි විශ්වාස කිරීම අපගෙන් අපේක්ෂා කරන, ලිබරල්-අස්වබෂ්ජේනිය ස්වරූපයේ එබඳු සූත්‍ර, මාක්ස්වාදීන් විසින් යොදා ගනු නො ලැබිය යුතුය... ආණ්ඩුවට ''විප්ලවීය සංවර්ධනය ඉදිරියට ගෙන යාමට පමණක් නොව, ධනපති ක්‍රමයේ පදනම් වලට තර්ජනයක් වන එම සංවර්ධනයේ සාධක වලට විරුද්ධව සටන් කිරීමට ද සිදුවේ''. එහෙත්, නිර්ධන පංතියේ නාමයෙන් කථා කරන මෙම යෝජනාවේ සඳහන් මෙම ''සාධකය'' සංයුක්ත වන්නේ නිර්ධන පංතියෙන්ම ය! වර්තමාන කාලයේදී, ''විප්ලවීය සංවර්ධනය තවදුරටත් ඉදිරියට ගෙන යනු'' (ව්‍යවස්ථානුකූල ධනපති පංතිය යාමට ආශා කරනවාට වඩා දුර ඉදිරියට ගෙන යාම) සඳහා, නිර්ධන පංතිය කටයුතු කළ යුත්තේ කෙසේද යන්න පෙන්වා දෙනු වෙනුවට, ධනපති පංතිය විප්ලවයේ ජයග්‍රහණයන් නැති කිරීමට එන විට, එයට විරුද්ධව අරගල කිරීමට නිශ්චිත ලෙස සූදානම් වන සේ උපදෙස් දෙනු වෙනුවට, අප වෙත ඉදිරිපත් කරනු ලබන්නේ, ක්‍රියාදාමයක් පිළිබඳ සාමාන්‍ය විස්තරයකි; අප ගේ



ක්‍රියාකාරිත්වයේ නියත අරමුණු ගැන කිසිවක් නො කියන විස්තර කථනයකි. නව ඉස්ක්‍රාවාදීන් අදහස් ප්‍රකාශ කරන ආකාරය, දයලෙක්තිකවාදයට බාහිර වූ පැරණි ද්‍රව්‍යවාදය ගැන මාක්ස් දැරූ (ෆොයර්බාහ් ගැන වූ සුප්‍රසිද්ධ ''නිබන්ධයන්හි'' සඳහන්) අදහස සිහියට නංවයි. දර්ශනවාදීන් නොයෙක් ආකාරයෙන් ලෝකය ගැන අර්ථ නිරූපනය කර තිබේ යයි මාක්ස් කීවේය: නමුත් ප්‍රශ්නය නම්, එය වෙනස් කරන්නේ කෙසේ ද යන්න ය.[24] ඒ ලෙසින්ම, නව ඉස්ක්‍රා කණ්ඩායමේ ඇස් හමුවේ සිදු වන අරගලයේ ක්‍රියාදාමය ගැන, සාමාන්‍යයෙන් පිළිගත හැකි විස්තරයක් කිරීමට ඔවුහු සමත් වෙති. එහෙත්, මෙම අරගලය සඳහා සටන් පාඨයක් ඉදිරිපත් කිරීමට, ඔවුහු සම්පූර්ණයෙන්ම අසමත් වෙති. හොඳට ගමනේ යන නමුත්, දුර්වල නායකයන් වන මොවුහු, විප්ලවයේ ද්‍රව්‍යමය පූර්ව අවශ්‍යතාවයන් අවබෝධ කරගත් හා ප්‍රගතිශීලී පංතිවල නායක තත්වයන් ගෙන සිටින පක්ෂ විසින් ඉතිහාසයේදී ඉටු කළ හැකි වන හා ඉටු කළ යුතු වන, කාර්යශීලී නායක හා මාර්ග දේශක කාර්ය කොටස අමතක කර දැමීමෙන්, ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පය සුළු කොට සලකති.



## 5. විප්ලවය ඉදිරියට ගෙනයා යුත්තේ කෙසේද?

යෝජනාවේ ඊළඟට එන කොටස උපුටා දක්වමු:

''එබඳු තත්වයක් යටතේ, විප්ලවය මුළුල්ලේම, ඉතාමත් හොඳින්, විප්ලවය ඉදිරියට ගෙන යාමේ හැකියාව තමන්ට නිසැක වශයෙන් ලබා දෙන, ධනපති පක්ෂවල අස්ථිර හා ආත්මාර්ථකාමී ප්‍රතිපත්තිවලට විරුද්ධව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය කරන අරගලයේ දී එහි අත් බැම්මට හසු නොවන හා එය ධනපති ප්‍රජාතන්ත්‍රවාදය තුළ දිය වී යාමෙන් ආරක්ෂා කරන තත්වයක් පවත්වා ගැනීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය උත්සාහ කටයුතු ය.

එනිසා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තාවකාලික ආණ්ඩුවේ බලය අල්ලා ගැනීම හෝ එහි කොටස් කරුවෙකු වීම, තම අරමුණ කර නො ගෙන, අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වය ලෙසින් පැවතිය යුතුය''.

ඉතාමත් හොඳින් විප්ලවය ඉදිරියට ගෙන යාමේ හැකියාව නිසැක වශයෙන් ලබා දෙන තත්වයක් දරා සිටින සේ දෙන උපදෙස ගැන, අපි උදක්ම සතුටු වෙමු. මෙම හොඳ උපදේශය හා සමගම, මේ දැන්, වර්තමාන තත්වය යටතේ, ජනතා නියෝජිතයන් රැස් කරන බවට දූසමාන ආරංචි, අනුමාන කිරීම් හා කථා පැතිරෙන හා යෝජනා ක්‍රම ඉදිරිපත්

කෙරෙන කාලයක, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තවදුරටත් විප්ලවය ඉදිරියට ගෙන යා යුත්තේ කෙසේ ද යන්න, එක එල්ලේ ම පෙන්වා දෙන ලද්දේ නම්, අගනේ යයි අපි හඟිමු. ජනතාව හා සාර් අතර "සමගි සම්මුතියක්" පිළිබඳ අස්වබෂ්ජේනියවාදී න්‍යායෙහි අන්තරාදයක ස්වභාවය තේරුම් ගැනීමට අසමත් වන, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීමට කරන හුදු "තීරණයක්" ම ජයග්‍රහණයකැයි කියන, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් අවශ්‍යය යන අදහස ක්‍රියාශීලී ලෙස ප්‍රචාරය කිරීමේ කර්තව්‍යය ඉටු කිරීමට භාර නො ගන්නා, නැතහොත්, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් ගැන වූ සටන් පාඨය පසු බිමෙහි තබන, අය විසින් දැන් විප්ලවය තවදුරටත් ඉදිරියට ගෙන යනු ලැබිය හැකි ද? එබඳු පුද්ගලයෝ ඇත්ත වශයෙන්ම විප්ලවය පස්සට අදිති. මන්ද යත්, ප්‍රායෝගික දේශපාලනයේ දී, ඔවුන් අස්වබෂ්ජේනිය ස්ථාවරයේ මට්ටමට විත් එහි නැවතී සිටින බැවිනි. විප්ලවයේ කාල පරිච්ඡේදයේ දී, පක්ෂයේ වර්තමාන සහ ක්ෂණික කර්තව්‍යයන් පැහැදිලි කරන උපක්‍රම ගැන වූ යෝජනාවකින්, සමූහාණ්ඩුවක් සඳහා අරගලයක් කිරීම පිළිබඳ සටන් පාඨය අත්හැර දමන්නේ නම්, ඒකාධිපත්‍යය වෙනුවට සමූහාණ්ඩුවක් පිහිටුවන ලෙස ඉල්ලා බල කරන වැඩ පිළිවෙළක් ඔවුන් විසින් පිළිගනු ලැබීමෙන් ඇති ඵලය කුමක් ද? තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් හා සමූහාණ්ඩුවක් ගැන කල්පනා කාරී නිහැඬියාවක් පවත්වා ගන්නා අතරම, පොදු ජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීමට ගන්නා තීරණයක් තීරණාත්මක ජයග්‍රහණයක් සේ සැලකීම, මෙකල නියත ලක්ෂණයක් කොටගත් ස්ථාවරය, අස්වබෂ්ජේනිය ස්ථාවරය ය — ව්‍යවස්ථානුකූල ධනපතියන් ගේ ස්ථාවරය ය! විප්ලවය ඉදිරියට ගෙන යාමට, රාජාණ්ඩුවාදී ධනපති පංතිය එය ගෙන යන සීමාවෙන් ඔබ්බට එය ඉදිරියට ගෙන යාමට, ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ "අස්ථිර භාවය" බැහැර කරන සටන් පාඨ ක්‍රියාශීලී ලෙස ඉදිරිපත් කිරීම, අවධාරණය කිරීම හා පෙරමුණට ගෙන ඒම අවශ්‍ය වන්නේ ය. දැනට ඇත්තේ එවැනි සටන් පාඨ දෙකක් පමණකි. ඒවා නම්: 1) තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක්, හා 2) සමූහාණ්ඩුවක්, යනුයි. එසේ වන්නේ පොදුජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සඳහා වූ සටන් පාඨය රාජාණ්ඩුවාදී ධනපති පංතිය විසින් පිළිගනු ලැබ ඇති හෙයිනි ("අස්වබෂ්ජේනිය සංගමයේ"[25] වැඩ පිළිවෙළ බලන්න). ඔවුන් විසින් එය පිළිගනු ලැබ තිබෙන්නේ, විප්ලවය අප්‍රාණික කිරීමේ, එහි සම්පූර්ණ ජයග්‍රහණය වැළැක්වීමේ හා ධනපති පංතියට සාර්වාදය සමග පොට්ටනි කාර ජාවාරමක් කර ගැනීමට ඉඩ සැලැස්වීමේ එම අරමුණ ඉටු කර ගැනීම සඳහා මය. එනිසා දැන් අපට පෙනෙන්නට ඇත්තේ, විප්ලවය ඉදිරියට ගෙන යාමට සමත් සටන් පාඨ දෙකක් පමණක් වන



අතර, සම්මේලනය, එයින් සමූහාණ්ඩුව පිළිබඳ සටන් පාඨය සම්පූර්ණයෙන්ම අමතක කර ඇත. එමෙන්ම, එය තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිළිබඳ සටන් පාඨයද, පොදුජන ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් ගැන කියන අස්වබෂ්ජේනිය සටන් පාඨය සමග එක මට්ටමක තබා, ඒ දෙකම "විප්ලවයේ තීරණාත්මක ජයග්‍රහණයක්" ලෙසට හඳුන්වයි!

නිසැක සත්‍යය එසේ ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගැන ලියන අනාගත ඉතිහාසඥයාට, මෙය ප්‍රමුඛ කරුණක් වන බව අපට විශ්වාසය. 1905 මැයි මස පවත්වන ලද,සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ සාකච්ඡා සභාව, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ඉදිරියට ගෙන යාමේ අවශ්‍යතාවය ගැන කියන මනස්කාන්ත වචන ඇතුලත්, එහෙත් ඇත්ත වශයෙන් ම එය පස්සට අදින සහ රාජාණ්ඩුවාදී ධනපති පංතියේ ප්‍රජාතන්ත්‍රවාදී සටන් පාඨ ඉක්මවා නොයන, යෝජනාවක් සම්මත කළේ ය.

නිර්ධන පංතිය ධනපති ප්‍රජාතන්ත්‍රවාදය තුළ දිය වී යාමේ අන්තරාය ගැන නො සලකා හැරීම සම්බන්ධයෙන් අපට චෝදනා කිරීමට නව ඉස්ක්‍රා කණ්ඩායම රුචි වෙයි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාවේ අඩංගු කරුණු පදනම් කර ගෙන, එම චෝදනාව ඔප්පු කිරීමට භාර ගන්නා තැනැත්තා දැකීමට අපි කැමැත්තෙමු. අපගේ ප්‍රතිපාක්ෂිකයන්ට අපි මෙසේ පිළිතුරු දෙන්නෙමු. ධනපති සමාජයක කටයුතු කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයකට, සමහර අවස්ථාවල, ධනපති ප්‍රජාතන්ත්‍රය සමග එක පෙළට ගමන් නොකොට දේශපාලනයට සහභාගි විය නොහැකි ය. මේ හා සම්බන්ධයෙන් අප අතර තිබෙන වෙනස මෙය යි. අපි විප්ලවවාදී සහ සමූහාණ්ඩුවාදී ධනපති පංතිය සමග සංයෝජනය නොවී, ඔවුන් සමග එක පෙළට ගමන් කරන්නෙමු. ඒ අතර ඔබද, ලිබරල් හා රාජාණ්ඩුවාදී ධනපති පංතිය සමග සංයෝජනය නො වී, ඔවුන් සමග එක පෙළට ගමන් කරන්නෙහි ය. කාරණා සිදුවන්නේ ඒ ආකාරයෙනි.

සාකච්ඡා සභාවේ නාමයෙන් ඔබ ඉදිරිපත් කළ යෝජනා, "ව්‍යවස්ථානුකූල ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ, එනම්, රාජාණ්ඩුවාදී ධනපති පංතියේ පක්ෂයේ සටන් පාඨ සමග සම්පාත වන්නේ ය. එපමණක් ද නොවේ. මෙම සම්පාතභාවය ගැන දැනුමක් හෝ වැටහීමක් ද, ඔබට ඇති වී නැත. එනිසා, ඔබ ඇත්ත වශයෙන් ම අස්වබෂ්ජේනිය වාදීන් පසුපස ගමන් කර ඇත.

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන් වැනි සම්මේලනයේ නාමයෙන්, අප ඉදිරිපත් කර තිබෙන යෝජනා, ධනපති-විප්ලවවාදී සහ සමූහාණ්ඩුවාදී ධනපති සටන් පාඨ සමග සම්පාත වන්නේ

ය. රුසියාවේ මෙම ධනපති හා සුළු ධනපති පංති, තවමත් ලොකු ජනතා පක්ෂයක් පිහිටුවා ගෙන නැත.* නමුත් එවැනි පක්ෂයක මූලිකාංගයන් දැන් පවතින බව ප්‍රතික්ෂේප කළ හැක්කේ, දැනට රුසියාවේ සිදුවන දේ ගැන කිසිවක් ම නොදන්නා කෙනෙකුට පමණකි. (රුසියානු විප්ලවය වර්ධනය වන්නේ නම්) අප මග පෙන්වීමට බලාපොරොත්තු වන්නේ නිර්ධන පංතියට පමණක් නොවේ. එවිට අප හා සමග එක පෙළට ගමන් කිරීමට සමත් වන සුළු ධනපතියනට ද මග පෙන්වීමේ බලාපොරෝතුව අප වෙත ඇත.

සාකච්ඡා සභාව, එහි යෝජනාව මගින්, නොදැනුවත්වම, ලිබරල් සහ රාජාණ්ඩුවාදී ධනපති පංතියේ තත්වයට පහත වැටෙන්නේ ය. පක්ෂ සම්මේලනය, එහි යෝජනාවෙන් කරන්නේ, අතරමැදියන් වශයෙන් නොසිට අරගලයක් කිරීමෙහි සමත් වන, විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ ඒ කොටස්වල මට්ටමට, තමන් විඥත ලෙසින් ඉහළට නැඟීම ය.

එබඳු කොටස් වැඩි වශයෙන් ඇත්තේ ගොවි ජනතාව අතර ය. විශාල සමාජ කණ්ඩායම්, ඒවායේ දේශපාලන ප්‍රවණතාවයන් අනුව වර්ග කිරීමේ දී,අප කම්කරු පංතිය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සමග එක් කොට හඳුන්වන අර්ථයෙන් ම හා එම විශේෂත්වයන් සහ පිළිගැනීම් වලට යටත්ව, බරපතල වරදකට වැටීමේ අන්තරායට හසු නොවී, විප්ලවවාදී හා සමූහාණ්ඩුවාදී ප්‍රජාතන්ත්‍රවාදය පොදු ගොවි ජනතාවන් සමග එක් කොට හැඳින්විය හැකි ය. වෙනත් වචන වලින් කියතොත්, අපට පහත සඳහන් ආකාරයට ද අපගේ නිගමනයන් ඉදිරිපත් කළ හැක: විප්ලවීය කාල පරිච්ඡේදයකදී, සාකච්ඡා සභාව, එහි දේශ-ව්‍යාප්ත** දේශපාලන සටන් පාඨ මගින් නොදැනම ඉඩම් හිමි ජනකාය ගේ මට්ටමට පහත වැටෙන්නේ ය. පක්ෂ සම්මේලනය එහි දේශ-ව්‍යාප්ත දේශපාලන සටන් පාඨ මගින් පොදු ගොවි ජනතාවන් විප්ලවවාදී මට්ටමකට ඉහළට නංවයි. මෙම නිගමනය නිසා, අප උභතෝකෝටික කියමන් රුචි කරතැයි චෝදනා කරන අයෙක් වෙතොත්, ඔහුට මෙම අභියෝගය කරන්නෙමු. විප්ලවය සාර්ථක නිමාවට ගෙන ඒමට තරම් අපට ශක්තිය නොමැති වුවහොත්, විප්ලවය අස්වබෂ්ජේනිය අර්ථයේ ''තීරණාත්මක ජයග්‍රහණයකින්'', එනම්, සාර් විසින් කැඳවනු ලබන හා සමච්චලය උදෙසා පමණක් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් යයි කිව හැකි නියෝජිත සභාවකින්, කෙළවර වේ නම්, එවිට, එය, ඉඩම් හිමි සහ ලොකු ධනපති පංතියේ අධිපතිත්වය සහිත විප්ලවයක් වනු ඇතැයි යන්න, හැකි නම් බොරු කරන ලෙස ඔහුට කියමු. අනිත් අතට, සැබවින්ම ශ්‍රේෂ්ඨ අත් දැකීම් ලැබීමට අපි ඉරණම්ව සිටිමු නම්, ඉතිහාසය මෙ වර ''ගබ්සාවකට'' ඉඩ නොදේනම්, විප්ලවය සාර්ථක නිමාවකට, එනම්, වචනයේ අස්වබෂ්ජේනිය හෝ නව ඉස්ක්‍රා හෝ නොවන අර්ථයෙන්, තීරණාත්මක ජයග්‍රහණයක් කරා ගෙන යාමට අපට ශක්තිය තිබේ නම්, එවිට, එය ගොවිජන හා නිර්ධන පංති කොටස් අධිපතිත්වය දරන විප්ලවයක් වනු ඇත.

එම කොටස් වල වැඩි බරක් තිබිය හැකිය යන අපගේ පිළිගැනීම, ඇති වෙන්නට යන විප්ලවයේ ධනපති පංති ස්වරූපය ඉවත ලෑමක් ලෙසට අර්ථ නිරූපනය කිරීමට අයෙක් යොමු විය හැකි ය. ''ඉස්ක්‍රා'' පත්‍රය මෙම සංකල්පය උපයෝජනය කර ගන්නා අයථා ආකාරය ගැන සලකා බලන කල, මෙය සිදුවීමට බොහෝ ඉඩකඩ තිබෙන බව පෙනේ. මේ හේතුව නිසා, මෙම ප්‍රශ්නය ගැන සලකා බැලීම, කිසිසේත් ම අනවශ්‍ය දෙයක් නොවනු ඇත.

## 6. අස්ථිර ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී නිර්ධන පංතිය, එහි අත් බැඳුනු තත්වයට පත්වීමේ අන්තරාය එල්ල වන්නේ කොහෙන් ද?

රුසියානු විප්ලවයේ ධනපති පංතික ස්වභාවය ගැන මාක්ස්වාදීන් මනා සේ ඒත්තු ගෙන ඇත. එයින් අදහස් වන්නේ කුමක් ද? එයින් අදහස් වන්නේ, දේශපාලන ක්‍රමයෙහි ප්‍රජාතන්ත්‍රවාදී වෙනස් කම් හා රුසියාවට අවශ්‍ය වී තිබෙන සමාජ හා ආර්ථික ප්‍රතිසංස්කරණයන් කිරීම ම හේතු කොට ගෙන ධනපති ක්‍රමය දුර්වල වෙතැයි, නැතහොත්, ධනපති පංති පාලනය දුර්වල වෙතැයි අදහස් නො කෙරෙන බවයි. ඊට ප්‍රතිකූල ලෙසට ඒවා නිසා, ධනපති ක්‍රමයේ, ආසියාතික නොව, පුළුල් හා සීඝ්‍ර යුරෝපීය සංවර්ධනයකට, ප්‍රථම වතාවට බිම සකස් වනු ඇත. ඒ නිසා ධනපති පංතියට, ප්‍රථම වතාවට, පංතියක් වශයෙන් පාලනය කිරීමේ හැකියාව ලැබෙනු ඇත. සමාජවාදී-විප්ලවවාදීහු මෙම අදහස ග්‍රහණය කිරීමෙහි අසමර්ථය හ. වෙළඳ භාණ්ඩ සහ ධනපති නිෂ්පාදනයේ සංවර්ධන

*''සමාජවාදී-විප්ලවවාදීන්''එවැනි පක්ෂයක කලල ස්වරූපයකට වඩා, බුද්ධිමතුන් ගේ ත්‍රස්තවාදී කණ්ඩායමක් වේ. මෙ කණ්ඩායම මේ කටයුතු වල අර්ථය, විප්ලවවාදී හා සමූහාණ්ඩුවාදී ධනපති පංතියේ මෙම කර්තව්‍ය ඉටු කිරීම ලෙසට ම සරල කොට ගත හැකි වුවත්, එහි ස්වභාවය එය යි.

** අප මෙහි සඳහන් කරන්නේ වෙනම යෝජනා මගින් විස්තර කර ඇති විශේෂ ගොවි ජන සටන් පාඨ ගැන නොවේ.

නියාමයන් ගැන අ යන්න ආ යන්න වත් ඔවුහු නො දනිති. ගොවි ජන නැගී සිටීමක සම්පූර්ණ ජයග්‍රහණය පවා, ගොවීන්ට හිමිකම් ලැබෙන පරිදි හා ගොවීන් ගේ කැමැත්ත පරිදි ඉඩකඩම් සියල්ලම යළි බෙදා දීම (''පොදු නැවත බෙදීමක්'' හෝ එවැනි දෙයක්) පවා, ක්‍රියාත්මක කිරීමෙන් ධනපති ක්‍රමය විනාශ නොවන බවද, එනිසා, ඊට ප්‍රතිකූල ලෙසට, එහි සංවර්ධනයට රුකුලක් ලැබී, ගොවි ජනතාවම පංති වලට බෙදීයාම ඉක්මන් වන බව ද, ඔවුන්ට පෙනෙන්නේ නැත. මෙම සත්‍ය ග්‍රහණ කිරීමට නොහැකි වීම නිසා, සමාජවාදී-විප්ලවවාදීහු, තමන් නො දනම, සුළු ධනපති පංතිය් දෘෂ්ටිවාදීන් බවට පත් වෙති. මෙම සත්‍යය ගැන බල කර සිටීම, න්‍යායෙහි පමණක් නොව ප්‍රායෝගික දේශපාලනයෙහි ද ස්ථාවරයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රයට අතිශයින් වැදගත් වේ. මක් නිසා ද යත්, වර්තමාන ''පොදු ප්‍රජාතන්ත්‍රවාදී'' ව්‍යාපාරයේ දී, නිර්ධන පංතියේ පක්ෂයෙහි සම්පූර්ණ පංති ස්වාධීනත්වය අවශ්‍යයෙන් තිබිය යුතු කොන්දේසියක් බව, එයින් නිගමනය වන හෙයිනි.

නමුත්, නිර්ධන පංතියට, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක (සමාජ හා ආර්ථික හරය අනුව ධනපති පංතික වූ විප්ලවයක) ඇති අතිමහත් වැදගත් කමක් නැතැයි යන්න, ඉන් කිසි සේත් අදහස් නො වේ. ප්‍රධාන වශයෙන් ලොකු ධනපතියන්ට, මූල්‍යාධිකාරීන්ට සහ ''ප්‍රබුද්ධ'' ඉඩම් හිමියන්ට වාසි වන ආකාරයකටද, ගොවීන්ට හා කම්කරුවන්ට වාසිදයක වන ආකාරයකට ද, යන දෙවිධියෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ඇතිවිය නො හැකිය යන්න, එයින් අදහස් නොවේ.

ධනපති විප්ලවය, ප්‍රවර්ගයක් වශයෙන් ගත් කල, එහි ඇති අර්ථවත් කම හා වැදගත් කම නව ඉස්ක්‍රා කණ්ඩායම විසින් සම්පූර්ණයෙන්ම වරදවා වටහා ගනු ලැබේ. ඔවුන් ගේ තර්ක ඔස්සේ නිතරම දිවෙන අදහස වී තිබෙන්නේ, ධනපති විප්ලවය යනු ධනපති පංතියට පමණක් වාසිදයක වියහැකි විප්ලවය කැයි යන්න ය. එහෙත් ඊට වඩා සදෙස් තවත් අදහසක් විය නො හැකිය. ධනපති විප්ලවය යනු ධනපති පංතියේ, එනම් ධනපති සමාජ-ආර්ථික ක්‍රමයේ රාමු කට්ටුවෙන් බැහැර නොයන විප්ලවයකි. ධනපති විප්ලවයකින් — ධනපති සංවර්ධනයේ අවශ්‍යතාවයන් ප්‍රකාශිත වන්නේය. ධනපති ක්‍රමයේ අත්තිවාරම් කිසිසේත් විනාශ නො කරන එය, ඊට ප්‍රතිකූලව ක්‍රියාත්මක වෙමින්, ඒවා පුළුල් කරයි, ගැඹුරු කරයි. එනිසා, මෙම විප්ලවය කම්කරු පංතියේ පමණක් නොව මුළු මහත් ධනපති පංතියේ ද අවශ්‍යතාවයන් ප්‍රකාශ කරන්නේ ය. ධනපති ක්‍රමය යටතේ, කම්කරු පංතිය මත, ධනපති පංති පාලනය බලපැවැත්වීම නො වැළැක්විය හැකි හෙයින්, ධනපති විප්ලවය ධනපති පංතියේ අවශ්‍යතාවයන් තරමට, නිර්ධන පංතියේ අවශ්‍යතාවයන් ප්‍රකාශ නො කරන බව කීමෙහි වරදක් නැත. නමුත් ධනපති විප්ලවයෙන් කිසිම නිර්ධන පංති අවශ්‍යතාවයක් ප්‍රකාශ නොවන්නේ යයි කීම අමනෝඥ ය. මෙම විකාර අදහසෙන් අවසානයේ දී එළඹ ගත හැකි වන්නේ, ධනපති විප්ලවය නිර්ධන පංතියේ උවමනාවන්ට පටහැනි වන්නේ යයිද, එනිසා අපට ධනපති දේශපාලන නිදහස අවශ්‍ය නැතැයිද යන, යල් පිනූ නරෝද්නික් න්‍යායය හෝ, එසේ නැතහොත්, ධනපති දේශපාලනයටද, ධනපති විප්ලවයකට හා ධනපති පාර්ලිමේන්තුවාදයට ද සහභාගිවීම සම්පූර්ණයෙන් ම ප්‍රතික්ෂේප කරන අරාජිකවාදය, යන දෙකෙන් එකකට ය. න්‍යාය පිළිබඳ ස්ථාවරයෙන් බලන කල, මෙම අදහස, වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ පදනම මත අනිවාරණීය ලෙසම ධනපති සංවර්ධනය ඇතිවන බව කියන මාක්ස්වාදී ප්‍රස්තුතයන් නො සලකා හරින්නකි. වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය පදනම කොට ගත්තා වූ ද, ශීලාචාර ධනපති ජාතීන් සමග වාණිජ ගනුදෙනු කරන්නා වූ ද, සමාජයක්, එහි සංවර්ධනයේ කිසියම් අවධියක දී, අනිවාරණීය වශයෙන්ම ධනපති මාවත ගන්නා බව මාක්ස්වාදය අපට උගන්වයි. නිදසුනක් වශයෙන් මෙම ධනපති ක්‍රමයේ ම, පදනම මත හා එහි ම රාමුකට්ටුව තුළ සිටිමින්, පංති අරගල මාර්ගයෙන් හැර වෙනත් කිසියම් හෝ මාර්ගයකින් ධනපති සංවර්ධනය මග හැර ගිය හැකි යයි ද, එසේ නැතහොත්, එයට උඩින් පැන යා හැකි යයි ද, කියන නරෝද්නික් හා අරාජිකවාදී පල් හැලි සමග නො පැහිය හැකි සේ, මාක්ස්වාදය එයින් වෙන් වී ඇත.

මෙම මාක්ස්වාදී ප්‍රතිපත්ති සියල්ල ම, පොදු වශයෙන් හා විශේෂයෙන් ම රුසියාවට අදාල ආකාරයෙන්, ඉතාමත් විස්තරාත්මක ලෙස ඔප්පුකර හා පැහැදිලි කර දක්වා තිබේ. ධනවාදයේ තවදුර සංවර්ධනයෙන් හැර, වෙනත් ලෙසකින් කම්කරු පංතියේ විමුක්තිය සෙවීමේ අදහස ප්‍රතිගාමී වන බව මෙම ප්‍රතිපත්ති අනුව නිගමනය වේ. රුසියාව වැනි රටවල කම්කරු පංතිය පීඩා විඳින්නේ, ධනපති ක්‍රමයට වඩා, ධනපති ක්‍රමයේ ඌන සංවර්ධනය නිසා ය. එනිසා, කම්කරු පංතිය, ඉතාමත් නිසැක වශයෙන්ම, ධනපති ක්‍රමයේ ඉතාමත් පුළුල්, ඉතාමත් නිදහස් හා ඉතාමත් සීඝ්‍ර සංවර්ධනය ගැන උවමනාවක් දක්වන්නේ ය. ධනපති ක්‍රමයේ පුළුල් තම, නිදහස්තම හා සීඝ්‍රතම සංවර්ධනයට බාධා කරන, පැරණි පාලන ක්‍රමයේ නටබුන් ඉවත් කිරීම කම්කරු පංතියට පරම වාසියකි. ධනපති විප්ලවය යනු, අතීතයේ නෂ්ඨාවශේෂයන් ද, (ඒකාධිපත්‍යය පමණක් නොව රාජාණ්ඩුවද ඇතුලත් කොට ගත්) ප්‍රවේණි-හිමි ක්‍රමයේ නෂ්ඨාවශේෂයන්ද, දැඩිතම ලෙස අතු ගා දමන හා ධනපති ක්‍රමයේ පුළුල්තම, නිදහස්තම හා සීඝ්‍රතම සංවර්ධනය ඉතාමත් පරිපූර්ණ ලෙස සහතික කරන, නියම පෙරළියකි.

ධනපති විප්ලවයක්, නිර්ධන පංතියට ඉතාමත් උසස් මට්ටමින් වාසිදයක වන්නේ, එහෙයිනි. නිර්ධන පංතියේ අභිවෘද්ධිය පිණිස ධනපති විප්ලවය පරම අවශ්‍යතාවයක් වේ. ධනපති විප්ලවය වඩාත් සම්පූර්ණ වූ, වඩාත් අධිෂ්ඨාන සහගත වූ හා සසංගත වූ තරමට, ධනපති පංතියට විරුද්ධ හා සමාජවාදය සඳහා වූ නිර්ධන පංතියේ අරගලය, වඩාත් සුරක්ෂිත වන්නේ ය. මෙම නිගමනය අළුත්, අද්භූත හෝ උභතෝ-කෝටික දෙයක් ලෙසට ගිණිය හැක්කේ, විද්‍යාත්මක සමාජවාදයේ අ යන්න ආ යන්න වත් නො දන්නා අයට පමණකි. තවද, මෙම නිගමනය අනුව, අදහස් වන වෙනත් කරුණු අතර, එක්තරා අර්ථයකින් ධනපති විප්ලවය, ධනපති පංතියට වඩා නිර්ධන පංතියට වාසිදයක වන්නේය යන ප්‍රවාදය ද වේ. මෙම ප්‍රවාදය පහත සඳහන් අර්ථයෙන් නිවැරදි බව විවාද රහිත ය: නිර්ධන පංතියට එරෙහි තත්වයෙන් බලන කල, නිදර්ශන වශයෙන් රාජාණ්ඩුව, ස්ථිර යුද්ධ හමුදාව යනාදිය වැනි, අතීතයේ සමහර නෂ්ඨාවශේෂයන් කෙරෙහි විශ්වාසය රැඳවීම, ධනපති පංතියට වාසි දයක ය. ධනපති විප්ලවය විසින් අතීතයේ නෂ්ඨාවශේෂයන් සියල්ලම පමණට වඩා දැඩි ලෙස අතුගා නො දමනු ලැබ, එයින් සමහරක් තබා ගැනීම, නැතහොත්, මෙම විප්ලවය සම්පූර්ණයෙන්ම සසංගත නොවීම, අධිෂ්ඨාන සහගත නොවීම හා ලිහිලෙන් තොර නොවීම, ධනපති පංතියට වාසිදයක ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී හු බොහෝ විට මෙම අදහස තරමක් වෙනත් ආකාරයකින් ප්‍රකාශ කරති. ධනපති පංතිය ආත්ම ද්‍රෝහී වන බවත්, නිදහසේ සත්ව්‍යාපාරයට ද්‍රෝහී වන බවත්, ධනපති පංතිය සසංගත ලෙස ප්‍රජාතන්ත්‍රවාදී වීමෙහි අසමත් බවත්, ඔවුහු කියති. ධනපති ප්‍රජා-තන්ත්‍රය වෙතට යොමු වූ අවශ්‍ය විපර්යාසයන් විප්ලවය මගින් නොව, වඩාත් හෙමින්, වඩාත් ක්‍රමානුකූල ලෙස, වඩාත් ප්‍රවේසම් සහිත ලෙස හා නො දැඩි ලෙස, ප්‍රතිසංස්කරණ මගින් සිදුවීම, ධනපති පංතියේ වාසියට හේතු වේ. එසේම, මෙම විපර්යාසයන්ගෙන් ප්‍රවේණි හිමි ක්‍රමයේ (රාජා-ණ්ඩුව වැනි) ''ගෞරවනීය'' ආයතන වලට හානි විය නොදී හැකි තරම් දුරට ඒවා ඉතිරි කර ගැනීම ද, මෙම විපර්යාසයන් විසින් පොදු ජනතා-වගේ, එනම්, ගොවි ජනතාවගේ හා විශේෂයෙන් ම කම්කරුවන්ගේ ස්වාධීන ක්‍රියාකාරිත්වය, ක්‍රියාරම්භකත්වය හා ශක්තිය හැකි තරම් අඩුවෙන් සංවර්ධනය කරනු ලැබීම ද, ධනපති පංතියේ වාසියට හේතු වේ. නො එසේ නම්, ප්‍රංශුවන් කියන ලෙසට ''රයිපලය එක උරයකින් අනිත් උරයට මාරු කිරීමට'' එනම්, ධනපති විප්ලවය සපයන ආයුධය ධනපති පංතියට විරුද්ධව එල්ල කිරීමට, විප්ලවය ගෙන එන නිදහස හා ප්‍රවේණි හිමි ක්‍රමය ඉවත් කොට ශුද්ධ කළ භූමියෙහි පැන නගින ප්‍රජා-තන්ත්‍රවාදී ආයතන ධනපති පංතියට විරුද්ධව එල්ල කිරීමට, කම්කරු-වන්ට පහසු වනු ඇත.

අනිත් අතට, ධනපති ප්‍රජාතන්ත්‍රය වෙත යොමු වූ අවශ්‍ය විපර්යා-සයන්, ප්‍රතිසංස්කරණ මාර්ගයෙන් නොව, විප්ලවයේ මාර්ගයෙන් සිදුවීම කම්කරු පංතියට වඩාත් වාසිදයක ය. එසේ කියන්නේ ප්‍රතිසංස්කරණයේ මාර්ගය, ප්‍රමාදයේත්, අතපසු කිරීමේත්, ජාතික දේහයේ කුණු වූ කොටස් වේදනා සහිතව වියෝජනය වීමේත්, මාවතක් වන හෙයිනි. කුණු වීම නිසා ප්‍රථමයෙන්ම හා වැඩියෙන්ම පීඩා විඳින්නේ නිර්ධන පංතිය හා ගොවි ජනයා ය. විප්ලවීය මාර්ගය යනු, නිර්ධන පංතියට ඉතාමත් අඩු වේදනා ගෙන දෙන, සීඝ්‍රයෙන් කපා ඉවත් කිරීමේ මාර්ගය ය; කුණුවෙන කොටස් වහාම ඉවත් කිරීමේ මාර්ගය ය; රාජාණ්ඩුවට හා ඊ සමග එකට බැඳුනු කුට, ජරා සහ දුගඳ හමන ආයතන වලට අඩුවෙන්ම අනුකූල වන හා අඩුවෙන්ම සැලකිල්ල දක්වන මාර්ගය ය.

මේ අනුව බලන කල අපගේ ධනපති-ලිබරල් පත්‍ර, විප්ලවවාදී මාර්-ගයේ සම්භාව්‍යතාව ගැන අපවාදක අදහස් පළ කරන්නේද, විප්ලවයට බිය වන්නේ ද, විප්ලවයේ බිල්ලා පෙන්වා සාර් බිය කිරීමට උත්සාහ කරන්නේ ද, විප්ලවය මඟ හැරීමට උත්සාහ කරන්නේ ද, ප්‍රතිසංස්කරණ මාවතට අඩිතාලම් දැමීමක් වශයෙන් කාලකණ්ණි ප්‍රතිසංස්කරණ සඳහා, නිවට ලෙස යාඥ කරන්නේ ද, අතවැසි කම් කරන්නේ ද පුවත් පාලනය නිසාම, ''යුදෙව්වන්ට ඇති බිය නිසාම'' නොවේ. මෙම ස්ථාවරය පිළි-ගන්නේ ''රුස්කිය වියදමස්ති'', ''සින් ඔතෙචෙස්ත්ව'', ''නාෂ ෂිස්න්'' හා ''නාෂි ද්නි''[26] පමණක් නොවේ. පුවත් පාලනයට යටත් නො වූ, නීති විරෝධී ''අස්වබෂ්ජේනිය'' ද එය පිළිගන්නේ ය. ධනපති පංතිය, ධනපති සමාජය. තුළ පංතියක් ලෙසට දරන තත්වය නිසාම, එය අනිවාරණීය වශයෙන්ම, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දී චපල ස්වභාවයක් දක්වීමට යොමු වන්නේය. එසේ ම, නිර්ධන පංතිය, පංතියක් ලෙසට දරන තත්වය නිසාම, සසංගත ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවයක් දැරීමට එයට සිදුවේ. නිර්ධන පංතිය ශක්තිමත් කිරීමේ තර්ජනය ගෙන එන ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රගතියට බිය වන, ධනපති පංතිය ආපසු හැරෙන්නේ ය. නිර්ධන පංතිය බැඳ තබන යදම් හැර, එයට නැති වීමට වෙනත් දෙයක් නැත. එහෙත්, ප්‍රජාතන්ත්‍රවාදයේ ආධාරය ඇතිව, එයට දිනා ගැනීමට මුළු ලෝකය ම තිබේ. ධනපති විප්ලවය, එහි ප්‍රජාතන්ත්‍රවාදී පරිවර්තනයන් වඩාත් සසංගත ලෙස ඉටු කළ තරමට, එය ධනපති පංතියට පමණක් වාසි සලසන දේ ඉටු කිරීමට සීමා වීම අඩු වන්නේ එහෙයිනි. ධනපති විප්ලවය වඩාත් සසංගත වූ තරමට, ප්‍රජා-තන්ත්‍රවාදී විප්ලවයෙන් නිර්ධන පංතියට හා ගොවි ජනතාවට අභිවෘද්ධිය සැලසීම වඩ වඩාත් සහතික වන්නේ ය.

ධනපති විප්ලවයෙන් ඈත් වී නොසිටින ලෙස, එය ගැන නො සලකා නො හරින ලෙස, විප්ලවයේ නායකත්වය අත්පත් කර ගැනීමට ධනපති පංතියට ඉඩ නොදී, ඊට ප්‍රතිකූල වශයෙන්, ඉතාමත් ශක්තිමත් ආකාරයෙන් එයට සහභාගිවන ලෙස හා සසංගත නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදය සඳහාත්, විප්ලවය එහි අවසාන අරමුණ දක්වා ගෙන යාම සඳහාත්, ඉතාමත් දැඩි සටන් කරන ලෙස, මාක්ස්වාදය නිර්ධන පංතිකයාට උගන්වයි. රුසියානු විප්ලවයේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී මායිම් ඉක්මවා යාමට අපට නො පුළුවන. නමුත් අපට මෙම මායිම් බොහෝ සෙයින් ව්‍යාප්ත කිරීමේ හැකියාව ඇත. මෙම මායිම් තුළ සිටිමින් ම, නිර්ධන පංතියේ උවමනාවන් සඳහා, එහි හදිසි අවශ්‍යතාවයන් හා එහි අනාගත සම්පූර්ණ ජයග්‍රහණය උදෙසා, එහි බලවේගයන් සූදානම් කර ගැනීමට අදාළවන තත්වයන් ඇති කර ගැනීම සඳහා, අපට සටන් කළ හැකිය, අප සටන් කළ යුතු ය. ධනපති ප්‍රජාතන්ත්‍රයේ විවිධ ප්‍රභේද ඇත. කප්පාදු කළ ව්‍යවස්ථාවක් සඳහා සාර් සමග ජාවාරමක් රහසින් ඇති කර ගන්නා අතරම, සර්වජන ඡන්ද බලය "ඉල්ලන" සහ ඉහළ මණ්ඩලයකට පක්ෂපාත වන සියම්ස්ත්ව-රාජාණ්ඩුවාදියා[27] ද ධනපති ප්‍රජාතන්ත්‍රවාදියෙකි: ඉඩම් හිමියන්ට හා ආණ්ඩුවේ නිලධාරීන්ට විරුද්ධව අවි අමෝරා සහ "බොළඳ සමූහාණ්ඩුවාදයක්" පිළිගෙන "සාර් රජු එළවා දැමීමට"* යෝජනා කරන ගොවියාද, ධනපති ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ජර්මනියේ හා එංගලන්තයේ මෙන් ද, එසේම, ඔස්ත්‍රියාවේ මෙන් ද, ඇමෙරිකාවේ හා ස්විට්සර්ලන්තයේ මෙන් ද නොයෙක් ආකාරයේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී පාලනයන් ඇත. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව සමයක දී, ප්‍රජාතන්ත්‍රවාදයේ මට්ටම්වල මෙම වෙනස හා එහි ආකෘති අතර වෙනස දැකීමට අසමත්ව, කොහොම වුවත්, එය "ධනපති විප්ලවයකි", නැතහොත්, "ධනපති විප්ලවයේ" ප්‍රතිඵලයකි යනුවෙන් "දක්ෂ ලෙස" කීමට සීමා වී සිටින තැනැත්තේ, ඇත්ත වශයෙන්ම, අපූරු මාක්ස්වාදියෙකි.

අපගේ නව ඉස්ක්‍රාවාදීහු එවැනිම දක්ෂ අය වෙති. ඔවුහු ඔවුන්ගේ අදූරදර්ශී බව හපන් කමක් ලෙසට ප්‍රදර්ශනය කරති. සමූහාණ්ඩුවාදී-විප්ලවවාදී ධනපති ප්‍රජාතන්ත්‍රය හා රාජාණ්ඩුවාදී-ලිබරල් ධනපති ප්‍රජාතන්ත්‍රය අතර වෙනස පෙන්නුම් කිරීම අවශ්‍ය වන අවස්ථාවේම, ඔවුහු විප්ලවයේ ධනපති ස්වභාවය ගැන දේශනා කිරීමට සීමා වෙති. අස්ථිර ධනපති ප්‍රජාතන්ත්‍රවාදයක් සසංගත නිර්ධන පංතික ප්‍රජාතන්ත්‍රවාදයක් අතර වෙනස පෙන්නුම් කිරීම ගැන කිවමනා නොවේ. දැන් මතු වී තිබෙන්නේ, වර්තමාන විප්ලවයට ප්‍රජාතන්ත්‍රවාදී නායකත්වය දීමත්, ස්ත්‍රුවේ

* "අස්වබෂ්ජේනිය" අංක 71, පිටු 337, දෙවැනි පා සටහන.



මහතා සහ සමාගමේ ද්‍රෝහී සටන් පාඨවලින් වෙනස්ව යමින් ප්‍රගතිශීලී ප්‍රජාතන්ත්‍රවාදී සටන් පාඨ අවධාරණය කිරීමත්, ඉඩම් හිමියන්ගේ සහ කර්මාන්ත කරුවන් ගේ කේවෙල් කිරීම්වලට වෙනස් ආකාරයට, නිර්ධන පංතියේ සහ ගොවිජනතාවගේ සැබැවින්ම ප්‍රජාතන්ත්‍රවාදී වන අරගලයේ හදිසි අරමුණු කෙළින් ම හා එක එල්ලේ ම කියා පෑමත්, පිළිබඳ ප්‍රශ්නයක්ව තිබිය දී, "මජ්ලර් කාරයා"[28] මෙන්, ඔවුහු, "සතුරු පංතිවල අන්‍යොන්‍ය අරගලයේ ක්‍රියාදමය" ගැන දුක්බර කථාවලින් සැනසෙති. මහත් වරුනි, ඔබට හසු නොවූ ප්‍රශ්නවල හරය මෙයයි: අපගේ විප්ලවය නියම මහා ජයග්‍රහණයකට පත් වේද? නැතහොත් එය නින්දිත ජාවාරමකින් කෙළවර වේද? එය නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය තරම් දුරට යනු ඇද්ද? නැතහොත් ෂිපොව් වර්ගයේ ලිබරල් ව්‍යවස්ථාවක් වෙත "යොමු වී නවතිනු" ඇද්ද?

මෙම ප්‍රශ්නය මතු කිරීමෙන්, අප සම්පූර්ණයෙන්ම මාතෘකාවෙන් පිට පනින්නාක් මෙන් බැලූ බැල්මට පෙනෙන්නට පුළුවන. එසේ වුවද, එසේ පෙනෙනු ඇත්තේ බැලූ බැල්මට පමණකි. සත්‍ය කරුණු අනුව බලන කල, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ උපක්‍රම හා නව ඉස්ක්‍රා ආධාර කරුවන්ගේ සාකච්ඡා සභාව ඉදිරිපත් කළ උපක්‍රම අතර, දැනටමත් පැහැදිලි ලෙස සලකුණු වී තිබෙන, ප්‍රතිපත්ති වෙනස්කම් පතුලෙහි ඇත්තේ මෙම ප්‍රශ්නය ය. කම්කරුවන්ගේ පක්ෂයට අතිශයින් වැදගත් හා අත්‍යාවශ්‍ය වූ ද, උපමා නො කළ හැකි තරම් සංකීර්ණ හා වැදගත් වූද, ප්‍රශ්න විසඳීමේදී, ආර්ථිකවාදය කළ වැරදිවලට පණපොවා ගැනීමට, ඉහත සඳහන් සාකච්ඡා සභාව දැනටමත් අඩි දෙකක් නොව අඩි තුනක්ම පස්සට තබා ඇත. අප මතු කර තිබෙන ප්‍රශ්නය නිසි සම්පූර්ණ අවධානයෙන් යුතුව විග්‍රහ කර බැලිය යුත්තේ එබැවිනි.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ධනපති පංතියේ චපල ප්‍රතිපත්තියට විරුද්ධව අරගල කිරීමේ දී, එය තම අත් බැම්මට හසු කර ගැනීමේ හා ධනපති ප්‍රජාතන්ත්‍රය තුළ දිය වී යාමේ අන්තරායට මුහුණ පෑම ගැන නව ඉස්ක්‍රාවාදීන්ගේ ඉහත උපුටා දක්වන ලද කොටසින් පෙන්නුම් කෙරේ. නියම වශයෙන්ම නව ඉස්ක්‍රාවාදී වන සාහිත්‍යය මුළුල්ලෙහිම, මෙම බිය හඟවන අදහස පැතිර තිබේ. (ආර්ථිකවාදය වෙත හැරීම නිසා බෙදීම පිළිබඳ වාද විවාද සම්පූර්ණයෙන්ම යටපත් වී ගිය තැන් පටන්) අප පක්ෂයේ බෙදීමට අදල වූ ප්‍රතිපත්තියෙහි කේන්ද්‍රස්ථානය වූයේ එම ප්‍රශ්නය ය. මෙම අන්තරාය යථාර්ථ වශයෙන් ම පවතින බවත්, මෙම වර්තමාන කාලයේම, රුසියානු විප්ලවයේ උච්ඡ අවස්ථාවේම, එය

බැරැරුම් වී ඇති බවත්, අපි පැහැදිලි ලෙසම පිළිගන්නෙමු. න්‍යායවාදීන් වන අපි සියළු දෙනාම, නැතහොත්, මා ගැන විස්තර කිරීමට මා කැමති ලෙසට, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රකාශකයන් සියළුදෙනාම වෙත පැවරුණු ඉතාමත් හදිසි හා ඉතාමත් වගකීම් සහිත කර්තව්‍යය නම්, මෙම අන්තරාය ඇත්ත වශයෙන් ම එල්ල වන්නේ කුමණ දිසාවෙන්ද යන්න සොයා ගැනීම ය. එසේ කියන්නේ, අප අතර අසමඵයට හේතු වූ කරුණ, එවැනි අන්තරායක් තිබේද යන්න ගැන ආරවුලක් නොවන නිසා ය. එම අසමඵයට හේතු වී තිබෙන්නේ, ''අඩු පිරිසේ'' ඊනියා වල්ගාවාදය ද, නැතහොත් ''වැඩි පිරිසේ'' ඊනියා විප්ලවකාරිත්වයද යනුයි.

වැරදි අර්ථ නිරූපන හා වැරදි අවබෝධයන් සියල්ල දුරලනු පිණිස, අප සඳහන් කරන අන්තරාය රැඳී පවතින්නේ කාරණයේ මනෝමූල පැත්තෙ හි නොව, වාස්තවික පැත්තෙහි බවත්, මෙම අරගලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගන්නා විධිමත් ප්‍රතිෂ්ඨාව තුළ නොව, වර්තමානයේ කෙරෙන සමස්ත විප්ලවවාදී අරගලයේම ද්‍රව්‍යමය ප්‍රතිඵලය තුළ බවත්, ප්‍රථමයෙන්ම, සටහන් කර ගනිමු. ප්‍රශ්නය වී තිබෙන්නේ එක් හෝ තවත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමකට ධනපති ප්‍රජාතන්ත්‍රය තුළ දියවීයාමට උවමනා වී තිබේද, නැතහොත්, එය එසේ දියවී යන බව එයට අවබෝධ වී තිබේද යන්න නො වේ. කිසිම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් එබඳු ආශාවක් ඇතිව සිටින්නේ යයි අපි සැක නො කරමු. එමෙන්ම, එය ආශාව අනුව කෙරෙන දෙයක් ද නොවේ. එසේම, එය, මෙම හෝ අනික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම, එහි අනන්‍යතාවය, පෞද්ගලිකත්වය හා ස්වාධීනත්වයත්, විප්ලව කාලය මුළුල්ලේම, විධිමාත්‍ර ලෙස ධනපති ප්‍රජාතන්ත්‍රවාදයෙන් ආරක්ෂා කර ගන්නේ ද යන්න හා සම්බන්ධ ප්‍රශ්නයක් ද නොවේ. ඔවුන් එම ''ස්වාධීනත්වය'' ප්‍රකාශයට පත්කිරීමට පමණක් සීමා නොවී එය විධිමාත්‍ර ලෙස රැකගන්නට පුළුවන. එසේද වුවත්, ධනපති පංතියේ අස්ථිර ස්වභාවයට විරුද්ධව කරන අරගලයේ දී, ඔවුන්ගේ අත් බැඳී තිබෙන තත්වයක් ඇති වන්නට පිළිවන. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ විධිමාත්‍ර ''ස්වාධීනත්වය'' තිබුණත්, වෙනම පක්ෂයක් ලෙසට එහි සම්පූර්ණ සංවිධානම ය පෞද්ගලිකත්වය තිබුණත්, විප්ලවයේ අවසාන දේශපාලන ප්‍රතිඵලය අනුව, එය ඇත්ත වශයෙන්ම ස්වාධීනත්වය නැති තත්වයකට පත්වන්නට ඉඩ තිබේ. සිදුවීම් ඔසය මත තමන්ගේ නිර්ධන පංති සටහන තැබීමට එයට නුපුළුවන් වනු ඇත. එවිට එය ඉතා දුර්වල තත්වයකට පත් වීමෙන්, අවසානයේ දී, එය ධනපති ප්‍රජාතන්ත්‍රය තුළ ''දිය වී යාම'' ඓතිහාසික සත්‍යයක් වනු ඇත.

සැබෑ අනතුර වන්නේ එයයි. මෙම අන්තරාය එල්ල වන්නේ කුමණ



දිසාවෙන්දැයි දැන් බලමු: නව ඉස්ක්‍රාවෙන් නියෝජනය වන පරිදි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන්, අප සිතන ලෙසට, දකුණට, අපගමනය කිරීමෙන් ද, එසේ නැත හොත්, ''වැඩි පිරිස'', ''වපිරියොද්'' ආදීන්ගෙන් නියෝජනය වන පරිදි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයෙන්, නව ඉස්ක්‍රා කණ්ඩායම විශ්වාස කරන ලෙසට, වමට අපගමනය කිරීමෙන් ද?

අප පෙන්වා දී ඇති ලෙසට, මෙම ප්‍රශ්නයට පිළිතුර නිශ්චය වන්නේ, විවිධ සමාජ බලවේගයන්ගේ ක්‍රියාකාරිත්වය වාස්තවික ලෙස ඒකාබද්ධ වීම තුළිනි. රුසියානු ජීවිතය ගැන මාක්ස්වාදී විශ්ලේෂණයක් කිරීම මගින්, මෙම බලවේගවල ස්වභාවය න්‍යායික වශයෙන් පැහැදිලි කර තිබේ. වර්තමාන වකවානුවේදී, කණ්ඩායම් හා පංති විසින් විප්ලවය අතරතුර දී කරනු ලබන විවෘත ක්‍රියා මගින්, එය ව්‍යවහාරික වශයෙන් නිර්ණය කෙරෙන්නේ ය. අප දැන් ගතකරමින් සිටින කාල පරිච්ඡේදයට බොහෝ පෙර මාක්ස්වාදීන් කළ සමස්ත න්‍යායික විශ්ලේෂණයෙන්ද, විප්ලවීය සිදුවීම් ගැන කරන ලද සියළු ප්‍රායෝගික නිරීක්ෂණයන්ගෙන් ද, රුසියානු විප්ලවයට ගත හැකි මාර්ග දෙකක් තිබෙන බවත්, එයින් ඇතිවිය හැකි ප්‍රතිඵල දෙකක් තිබෙන බවත් පෙනේ. රුසියාවේ ආර්ථික සහ දේශපාලන ක්‍රමය ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාමාර්ගයක් ඔස්සේ පරිවර්තනය වීම අනිවාර්යණිය ය; එය නො වැලැක්විය හැකි ය. එවැනි පරිවර්තනයක් ඇති වීම වැලැක්විය හැකි බලවේගයක් මිහි පිට නොමැත. එහෙත් එය ක්‍රියාත්මක කරන වර්තමාන බලවේගයන් ගේ ඒකාබද්ධ ක්‍රියාකාරිත්වයෙන් ප්‍රතිඵල දෙකකින් එකක් ඇති විය හැක; එය දෙ ආකාරයකින්, එක ආකාරයක පරිවර්තනයක් ඇති කරනු ඇත. එක්කෝ 1) ''සාර්වාදය පරදවා විප්ලවය තීරණාත්මක ලෙස ජයග්‍රහණය කිරීමෙන්'' සිදුවීම් නිමාවට පත් වෙනු ඇත; නැතහොත් 2) තීරණාත්මක ජයග්‍රහණයක් ලැබීමට තරම් බලවේග ප්‍රමාණවත් නො වීමෙන්, සාර්වාදය ද, ධනපති පංතියේ ඉතාමත් අස්ථිර හා ''ආත්මාර්ථ කාමී'' කොටස් ද, අතර ජාවාරමක් ඇති කරගැනීමෙන් සිදුවීම් අවසන් වනු ඇත. කිසිවෙකුට කල්තබා සිතාගත නොහැකි අනේක විධ විස්තර කරුණු හා සංයෝග, බොහෝ දුරට, මෙම ප්‍රතිඵල දෙකෙන් එකකට උපස්තම්භක වෙයි.

දැන් අපි මෙම සම්භාව්‍යතාවයන් දෙක ගැන සලකා බලමු. ප්‍රථමයෙන් ඒවායේ සමාජමය වැදගත් කම පිළිබඳ ස්ථාවරයෙන්ද, දෙවනුව, එක් හෝ අනික් ප්‍රතිඵලය සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රයේ (එය ''දිය වී යාමේ'' හෝ ''එහි අත් බැම්මට හසුවීමේ'') ස්ථාවරයෙන් ඒ ගැන සලකා බලමු.

''සාර්වාදය පරදවා විප්ලවය තීරණාත්මක ලෙස ජයග්‍රහණය කිරීම'' යනුවෙන් අදහස් කරන්නේ කුමක්ද? මෙම පාඨය උපයෝජනය

කර ගැනීමේදී නව ඉස්ක්‍රා කණ්ඩායමට එහි නියත දේශපාලන වැදගත්කම වත් වටහා ගත නොහැකි බව අපි දුටුවෙමු. එහි අන්තර්ගත පංති සංකල්පය ඔවුන්ට එතරම් වත් වැටහෙන්නේ නැත. බොහෝ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් (ගපොන් වර්ගයේ) මෙන් නොව, මාක්ස්වාදීන් වන අපි, ඇත්තෙන්ම, වචනවලින්, ''විප්ලවය'', නැතහොත් ''ශ්‍රෙෂ්ඨ රුසියානු විප්ලවය'' වැනි වචන වලින් රැවටීමට පත් නොවිය යුත්තෙමු. ''සාර්වාදයට'' විරුද්ධ වන්නේ හා එය පරදවා ''තීරණාත්මක ජයග්‍රහණය'' ලැබීමෙහි සමත් වන්නේ, කුමණ සැබෑ බලවේගයන්ද (සැබෑ බලවේගයක් යනු කුමක් ද යන්න කාටත් හොඳින් පැහැදිලිය) යන්න ගැන, අප සිත් තුළ ඉතාමත් පැහැදිලි අදහසක් තිබිය යුතුය. ලොකු ධනපතියන්ට, ඉඩම් හිමියන්ට, පැක්ටරි හිමියන්ට, ''අස්වබෂ්ජේනිය'' අනුගමනය කරන ''සමාජය''ට එවැනි බලවේගයක් විය නො හැකි ය. ඔවුනට තීරණාත්මක ජයග්‍රහණයක් අනවශ්‍ය බව පවා අපට පෙනේ. ඔවුන් දරන පංති තත්වය නිසා ඔවුන් සාර්වාදයට විරුද්ධ තීරණාත්මක අරගලයක් කිරීමෙහි අසමත් බව අපි දනිමු. තීරණාත්මක අරගලයකට පිවිසීමට බැරිවන තරම් තදින් ඔවුහු පෞද්ගලික දේපලට, ප්‍රාග්ධනයට හා ඉඩම් වලට බැඳී සිටිති. ඔවුනට, සාර්වාදයත්, නිර්ධන පංතියට හා ගොවි ජනතාවට විරුද්ධව පාවිච්චි කිරීම සඳහා, එහි නිලධාරිවාදී පොලිස් යුද්ධ හමුදවනුත් අත්‍යාවශ්‍යව ඇති හෙයින් ඔවුහු සාර්වාදය විනාශ කිරීමට පක්ෂ නොවෙති. නැත, ''සාර්වාදය පරදවා තීරණාත්මක ජයග්‍රහණයක්'' ලැබීමෙහි සමත් එකම බලවේගය ජනතාව ය. ප්‍රධාන බලවේග ගෙන, ගම්බද හා නාගරික සුළුධනපති පංතිය (එයද ජනතාවගේ කොටසක් ලෙසට) එම බලවේග අතර බෙද හැරිය විට, ඉන් අදහස් වන්නේ, නිර්ධන පංතිය හා ගොවි ජනතාව ය. ''සාර්වාදය පරදවා විප්ලවය තීරණාත්මක ලෙස ජයග්‍රහණය කිරීම'' යනුවෙන් අදහස් වන්නේ, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය ස්ථාපිත කිරීම ය. බොහෝ ඉහත දී ''එපිරියොද්'' පෙන්නුම් කළ මෙම නිගමනයෙන් ගැලවීමට අපගේ නව ඉස්ක්‍රා කණ්ඩායමට නො පුළුවන. සාර්වාදය පරදවා තීරණාත්මක ජයග්‍රහණයක් ලැබීමට වෙනත් බලවේගයක් සමත් නොවේ.

තවද, එවැනි ජයග්‍රහණයක් නියත වශයෙන් ම ආඥාදායකත්වයක් වන්නේ ය. ඉන් අදහස් වන්නේ, ''නීති සහගත'' හා ''සාමකාමී'' ආකාරයෙන් පිහිටුවන ලද, එක් හෝ තවත් වර්ගයක ආයතන මත විශ්වාසය නොතබා, යුද්ධමය බලය, ජනතාව ආයුධ සන්නද්ධ කිරීම හා කැරළි ගසමින් නැගී සිටීම කෙරෙහි විශ්වාසය තැබීමට, එයට අනිවාර්‍ය වශයෙන් ම සිදු වන බව ය. නිර්ධන පංතියට හා ගොවි ජනතාවට පරම අවශ්‍යතාවයක් වන වෙනස් කම් ක්‍රියාත්මක කිරීමේ දී, ඊට විරුද්ධ ඉඩම් හිමියන් ගේ, ලොකු ධනපතියන්ගේ හා සාර්වාදයේ දරුණු ප්‍රතිරෝධනය උද්ගත වනු ඇති නිසා, එය ආඥාදායකත්වයක් ම විය යුතුය. ආඥාදායකත්වයක් නොමැතිව, ප්‍රතිරෝධනය බිඳහෙළීම හා ප්‍රතිවිප්ලවවාදී ප්‍රයත්නයන් පලවා හැරීම, කිසිසේත් කළ නොහැකිය. නමුත් එය සමාජවාදී ආඥාදායකත්වයක් නොව ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක් වනු ඇත. (විප්ලවීය සංවර්ධනයේ අන්තර් අවධි මාලාවක් නොමැතිව) ධනපති ක්‍රමයේ අත්තිවාරම් දුර්වල කිරීමට එය අසමත් වනු ඇත. උපරිම වශයෙන් එයින් ඉටු වනු ඇතැයි බලාපොරොත්තු විය හැක්කේ, ගොවි ජනතාවට හිමි කම් ලැබෙන සේ ඉඩම් සම්පූර්ණයෙන්ම නැවත බෙද දීම, සමූහාණ්ඩුවක් පිහිටුවීම ඇතුළුව සසංගත හා පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය ස්ථාපිත කිරීම, ග්‍රාමීය පමණක් නොව පැක්ටරි ජීවිතයේ ද ආසියාතික බන්ධනයන්ගේ සියළුම පීඩාකාරී අංග ලක්ෂණ ඉවත් කිරීම, කම්කරුවන්ගේ තත්වයන් එමුමනින් ම වැඩි දියුණු කිරීම හා ඔවුන්ගේ ජීවන තත්වය උසස් කිරීම සඳහා අඩිතාලම් දැමීම හා අවසාන වශයෙන්, එහෙත් වැදගත් කමින් නො අඩු කාරණයක් වන, විප්ලවීය ගිනි ජාලය යුරෝපයට ගෙනයාමය. එවැනි ජයග්‍රහණයක් නිසා අපගේ ධනපති විප්ලවය කිසි ලෙසකින් වත් සමාජවාදී විප්ලවයකට පරිවර්තනය වන්නේ නැත. ධනපති විප්ලවය යනු, වහාම ධනපති සමාජ හා ආර්ථික සම්බන්ධකම් වල සීමාවන් ඉක්මවා යාමක් නොවනු ඇත. එසේ වුවද, රුසියාවේත්, සමස්ත ලෝකයේත් සංවර්ධනය සඳහා, එවැනි ජයග්‍රහණයක වැදගත් කම, අති මහත් වන්නේ ය. රුසියාවේ දැනට ආරම්භවී තිබෙන විප්ලවයේ ජයග්‍රහණය තරම්, ලෝක නිර්ධන පංතියේ විප්ලවීය ශක්තිය ඉහළට නංවන, එහි සම්පූර්ණ ජයග්‍රහණයට යන මාර්ගය එතරම් දුරට කෙටි කරන, වෙනත් කිසිම දෙයක් නොමැත.

එබඳු ජයග්‍රහණයකට කොතරම් දුරට ඉඩකඩ තිබේ ද යනු වෙනත් ප්‍රශ්නයකි. ඒ සම්බන්ධයෙන් හේතු විරහිතව සර්වශුභවාදී බලාපොරොත්තු ඇති කර ගැනීමට අපි කිසි සේත් ම යොමු නො වෙමු. මෙම කර්තව්‍යයේ අති මහත් දුෂ්කරත්වය ගැන අපි මොහොතකට හෝ අමතක නො කරන්නෙමු. එහෙත් අප සටන් කිරීමට ම අධිෂ්ඨාන කරගෙන සිටින නිසා අපි ජයග්‍රහණය පැතිය යුත්තෙමු. එයට ළඟා වන නිවැරදි මාර්ගය පෙන්විය හැකි විය යුත්තෙමු. එබඳු ජයග්‍රහණයකට මාර්ගය විවෘත කරන උපනති නිසැක වශයෙන් ම පවතී, නිර්ධන පංති පොදු ජනතාවන් කෙරෙහි අප පාන බලය, එනම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය පාන බලය, තවමත් බොහෝ අප්‍රමාණවත් ය. ගොවි ජනතාවන් කෙරෙහි වූ විප්ලවවාදී බලපෑම ඉතාමත් සුළු ය. නිර්ධන පංතිකයෝ හා විශේෂයෙන් ම ගොවි ජනතාව තවමත් භයානක ලෙස භේද භින්න වූ, නොදියුණු

හා නූගත් තත්වයේ පසුවෙති. එසේ වුවද විප්ලවය සීඝ්‍ර ලෙස එක්සත් කරයි; සීඝ්‍ර ලෙස කරුණු අවබෝධ කරයි. විප්ලවයේ සංවර්ධනයෙහි සෑම පියවරකින් ම ජනතාව කුළු ගැන්වෙන අතර, ඔවුන් ගේ සැබෑ සහ යථාර්ථ අවශ්‍යතාවයන් සම්පූර්ණ වශයෙන් සහ සසංගත ලෙස ප්‍රකාශ කරන, එකම වැඩ පිළිවෙළ වන, විප්ලවවාදී වැඩ පිළිවෙළ වෙතට ඔවුන් නො වැලැක්විය හැකි ලෙසට ආකර්ෂණය වෙයි.

යාන්ත්‍රික විද්‍යාවේ නියාමයක් අනුව ක්‍රියාව සහ ප්‍රතික්‍රියාව නිතරම එක සමාන ය. එසේ ම, ඉතිහාසයේ දී ද, විප්ලවයක විනාශකාරී බලය බොහෝ දුරට රඳා පවතින්නේ, නිදහස සඳහා දරන අධ්‍යාසය කොතරම් තදින් හා කොතරම් දීර්ඝ ලෙස මර්දනය කරන ලද්දේ ද යන්නත්, යල්පිනූ "උඩුව්‍යූහය" හා කාලයේ ජීවමාන බලවේගයන් අතර ප්‍රතිවිරෝධය කොතරම් බරපතල ද යන්නත්, මත ය. බොහෝ කරුණු අනුව බලන කල, ජාත්‍යන්තර තත්වයද, රුසියානු විප්ලවයට වාසිදයක වන ලෙසට හැඩ ගැසෙමින් පවතී. කම්කරුවන් හා ගොවිජනතාව කැරළි ගසමින් නැගී සිටීම දැනටමත් ආරම්භ වී තිබේ. එය අතරින් පතර හා සාංසිද්ධික වශයෙන් ක්‍රියාත්මක වන අතර දුර්වලව පවතී. එහෙත්, තීරණාත්මක අරගලයක් කිරීමට හා තීරණාත්මක ජයග්‍රහණයක් දෙසට ගමන් කිරීමට සමත් බලවේග පවතින බව, එයින් විවාද රහිත ලෙස හා නිසැක ලෙස ඔප්පු වේ.

මෙම බලවේගයන් ප්‍රමාණවත් නො වුවහොත්, එක අතකින් බුලීගින්ලාත්, අනික් අතින් ස්ත්‍රූවෙලාත්, දැනටමත් අන්ත දෙකකින් සූදනම් කරමින් සිටින පරිදි වූ, ජාවාරමක් කිරීමට අවශ්‍ය කාලය සාර්ට ලැබෙනු ඇත. එවිට කප්පාදු කළ ව්‍යවස්ථාවකින් කටයුතු සියල්ල හමාර වනු ඇත. එසේ නැතහොත්, තත්වය අන්තයට ම නරක් වුවහොත්, එය ව්‍යවස්ථාවක් නමින් ඉදිරිපත් කරන රැවටිල්ලක් පවා වන්නට ඉඩ තිබේ. මෙය ද ධනපති විප්ලවයක් වනු ඇත. එහෙත්, එය වැරදුනු විප්ලවයක්, කල් මත්තෙන් වූ උපතක්, නැතහොත් ගබ්සාවක් වනු ඇත. මේ සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, වැරදි වැටහීම් නො දරයි. එය ධනපති පංතියේ ද්‍රෝහී ස්වභාවය ගැන දන්නේ ය. ධනපති ව්‍යවස්ථානුකූල වාදී "ෂිපොව්" ප්‍රමෝදය බල පවත්වන, ඉතාමත් අනුද්යෝගී, නිද්‍රාජනක කාලයේදී වුව, එය මන්දෝත්සාහී නො වනු ඇත; එය නිර්ධන පංතියට පංති පුහුණුව දීම සඳහා, නිරන්තරව හා එක දිගටම, කරන වැඩ අත් නො හරිනු ඇත. එවැනි ප්‍රතිඵලයක්, බොහෝ සෙයින්, දහනව වැනි සිය වසෙහි යුරෝපයේ ඇති වූ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවවල ප්‍රතිඵල වලට සමාන වනු ඇත. එසේ වුවහොත්, අපගේ පක්ෂයේ සංවර්ධනය අසීරු, දීර්ඝ, එහෙත්, සුපුරුදු හා හුරු මාර්ගයෙහි ඉදිරියට යනු ඇත.



දැන් මෙම ප්‍රශ්නය උද්ගතවෙයි: චපල හා ආත්මාර්ථකාමී ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ස්වකීය අත් බැඳුනු තත්වයට, තමන් ධනපති ප්‍රජාතන්ත්‍රවාදය තුළ "දියවීගිය", නැතහොත්, ඊට බොහෝ දුරට සමාන, තත්වයකට පත්වනු ඇත්තේ, විය හැකි ප්‍රතිඵල දෙකෙන්, කුමන ප්‍රතිඵලය ඇති වුවහොත් ද?

මොහොතක හෝ අපහසුවක් නොමැතිව පිළිතුරක් ලබා ගැනීම සඳහා, මෙම ප්‍රශ්නය පැහැදිලි ලෙස ඉදිරිපත් කිරීම ම, ප්‍රමාණවත් වේ.

සාර්වාදය සමග එකඟත්වයට පැමිණීමෙන්, රුසියානු විප්ලවය ව්‍යර්ථ කිරීමට ධනපති පංතිය සමත් වන්නේ නම්, චපල ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රය, එහි අත් බැඳුනු තත්වයට පත්වනු ඇත; එසේ නම්, නිර්ධන පංතියට, විප්ලවය මත තමන් ගේ පැහැදිලි සටහන තැබීමට නොහැකි වීමෙත්, නිර්ධන පංති, නැතහොත්, මාක්ස් කී ලෙසට, "ප්ලීබියන් ආකාරයෙන්"* සාර් සමග ගනු දෙනු බේරුම් කර ගැනීමට නොහැකි වීමෙත්, අර්ථයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රය ධනපති ප්‍රජාතන්ත්‍රය තුළ "දියවී ගිය" තත්වයකට පත් වනු ඇත.

විප්ලවය තීරණාත්මක ලෙස ජයග්‍රහණය කරන්නේ නම්, එවිට අපි ජැකොබින් ආකාරයෙන් නැතහොත්, ඔබ එසේ කීමට කැමති නම්, ප්ලීබියන් ආකාරයෙන් සාර්වාදය සමග ගනුදෙනු බේරුම් කරන්නෙමු. "මුළු ප්‍රංශ ත්‍රස්තවාදයම, අනිකක් නොව, ධනපති පංතියේ සතුරන් සමග, ඒකාධිපතිවාදය,රදළ ක්‍රමය හා අමනවාදය සමග ගනු දෙනු බෙරීමේ "ප්ලීබියන් ක්‍රමයක් වී" යයි මාක්ස් 1848 දී සුප්‍රසිද්ධ "නව රයින් පත්‍රයේ" ලීවේ ය (Marx' "Nachllass" මේරිංග් සංස්කරණය III, පිටු 21 බලන්න).[29] ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක කාලයේ දී "ජැකොබින්වාදයේ" බිල්ලා පෙන්වා, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවන් බිය ගැන්වීමට උත්සාහ කරන ඒ පුද්ගලයෝ, මාක්ස් ගේ මෙම වචනවල අර්ථවත් භාවය ගැන කිසිකලෙක හෝ සිතා බැලුවෝ ද?

සමකාලීන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජිරොන්ඩ්වාදීන්[30] වන නව ඉස්ක්‍රා කණ්ඩායම, අස්වබෂ්ජේනිය කණ්ඩායම සමග එකට සංයෝජනය නොවේ. නමුත් ඔවුන්ගේ සටන්පාඨ වල ස්වභාවය හේතු කොට ගෙන ඔවුහු ඔවුන් පසු පස ගමන් කරති. ඒ අතර, අස්වබෂ්ජේනිය කණ්ඩායම, එනම් ලිබරල් ධනපති පංතියේ නියෝජිතයින්, ඒකාධිපත්‍යය සමග ගනුදෙනු බේරුම් කිරීමට කැමති වන්නේ ප්‍රතිසංස්කරණවාදී ආකාරයකට ය; මෘදු ලෙස හා අවනත ලෙස ය; රදළයින්, වංශවතුන් හා රාජ්‍ය සභාව අමනාප නොවන ආකාරයට ය; කිසිදෙයක් නොබිඳෙන සේ

* "පොදු ජන ආකාරයෙන්". — පරිවර්තක

ප්‍රවේසම් සහිතව ය; (ලේ තැවරුනු නිකොලායි[31] විසින් පවත්වන ලද, ''ජනතා නියෝජිතයින්'' පිළිගැනීමකට (?) පැළඳගෙන යාම සඳහා, පෙත්‍රන්කේවිච් මහතා බාෂිබුසුක්[32] වරයෙකුගෙන් ඉල්ලා ගත් වැනි, ''ප්‍රොලිතාරි'' අංක 5 බලන්න) සුදු අත් මේස් පළඳින මහත් වරුන්ට ගැළපෙන සේ කාරුණිකව හා ආචාරවත් ලෙසට ය.

සමකාලීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජැකොබින්වරු වන, බොල්ෂෙවික්වරු, විපිරියොද් ආධාර කරුවන්, සම්මේලන කණ්ඩායම නොහොත් ප්‍රොලිතාරි ආධාරකරුවන්[33] ආදී වශයෙන් හඳුන්වනු ලබන අය, ස්වකීය සටන්පාඨ මගින්, විප්ලවවාදී හා සමූහාණ්ඩුවාදී සුළු ධනපති පංතියත්, විශේෂයෙන්ම ගොවිජනතාවත්, පංතියක් වශයෙන් තම අනන්‍යතාවය සම්පූර්ණයෙන් ම රැක ගන්නා නිර්ධන පංතියේ සසංගත ප්‍රජාතන්ත්‍රවාදයේ මට්ටමට නැංවීමට කැමැත්තෝ ය. නිදහසේ සතුරන් නිර්දය ලෙස විනාශ කරමින්, ඔවුන්ගේ ප්‍රතිරෝධනය බලහත්කාරය මගින් පොඩි පට්ටම් කර දමමින්, නින්දිත ප්‍රවේණි හිමි ක්‍රමයේ, ආසියාතික ම්ලෙච්ඡත්වයට හා මිනිසා පිරිහෙළීමේ උරුමයට කිසිම සහනයක් නො දෙමින්, ජනතාව, එනම්, නිර්ධන පංතිය හා ගොවිජනතාව, රාජාණ්ඩුව සහ රදළ පැළැන්තිය සමග ''ප්ලීබියන් ආකාරයෙන්'' ගනුදෙනු බේරනු දැකීම ඔවුන්ගේ අපේක්ෂාවයි.

නමුත්, අප, අවශ්‍යයෙන්ම, 1793 ජැකොබින් වරු අනුකරනය කරන බවක් සහ ඔවුන් ගේ අදහස්, වැඩ පිළිවෙළවල්, සටන් පාඨ හා සටන් ක්‍රම ණයට ගන්නා බවක්, එයින් අදහස් නො කෙරේ. එවැනි කිසිම දෙයක් අදහස් නො කෙරේ. අපේ වැඩ පිළිවෙළ පරණ නොව, අළුත් එකකි. එය, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ අවම වැඩ පිළිවෙළය. අපට අළුත් සටන් පාඨයක් ඇත. එනම්, නිර්ධන පංතියේ සහ ගොවිජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක්, යනුයි. විප්ලවයේ නියම ජයග්‍රහණයක් දැකීමට අප ජීවත් වුව හොත්, සම්පූර්ණ සමාජවාදී විප්ලවයක් සඳහා වෙහෙසෙන කම්කරු පංති පක්ෂයේ ස්වභාවය හා අරමුණුවලට ගැලපෙන අළුත් කාර්ය විධි ද ඇති කරන්නෙමු. මෙසේ සමාන්තර නිදර්ශනයක් දැක්වීමෙන් අප හුදෙක් ම අපේක්ෂා කරන්නේ, දහ අටවැනි සියවසේ ප්‍රගතිශීලී පංතිය වූ, ධනපති පංතිය ජිරොන්ඩිවරුන් හා ජැකොබින් වරුන් වශයෙන් බෙදී සිටි ලෙසට ම, විසිවැනි සියවසේ ප්‍රගතිශීලී පංතිය වන, නිර්ධන පංතිය, එනම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ද, අංශ දෙකකට (අවස්ථාවාදී සහ විප්ලවවාදී) බෙදී ඇති බව පැහැදිලි කිරීමට පමණකි.

චපල ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේ දී නිර්ධන පංතියට එහි අත් නිදහස්ව තබාගත හැකි වන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය පූර්ණ ජයග්‍රහණයක් ලැබුව හොත් පමණකි: එය, ධනපති ප්‍රජාතන්ත්‍රය තුළ ''දිය නොවී'' පවතිනු ඇත්තේ සහ, සමස්ත විප්ලවයම මත නිර්ධන පංති, නැතහොත්, නිර්ධන පංති-ගොවිජන සටහන තබනු ඇත්තේ, එසේ වූ විට පමණකි.

කොටින් කියතොත්, නිර්ධන පංතිය චපල ධනපති ප්‍රජාතන්ත්‍රවාදයට විරුද්ධව කරන අරගලයේදී තම අත් බැඳුනු තත්වයට නොවැටීමට නම්, පංති විඥනය ඇතිව සිටිමින්, ගොවිජනතාව විප්ලවවාදී විඥනයෙන් කුළුගැන්වීමටත්, එම ජනතාවගේ ප්‍රහාරයට මග පෙන්වීමටත්, එමගින් සසංගත ලෙස නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාමාර්ගය ස්වාධීනව අනුගමනය කිරීමටත් සෑහෙන තරම් ශක්තිමත් විය යුතුය.

චපල ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේ දී, අපගේ අත් බැඳුනු තත්වයකට පත් වීම පිළිබඳ අන්තරාය ගැන වූ ප්‍රශ්නය සම්බන්ධයෙන් නියම කරුණු එසේ ය. නව ඉස්ක්‍රා කණ්ඩායම ඊට පිළිතුරු සපයා ඇත්තේ ඉතාමත් අදක්ෂ ලෙසට ය. ධනපති පංතිය කවදත් චපල වනු ඇත. ධනපති ප්‍රජාතන්ත්‍රවාදියා ජනතාවගේ අවංක මිතුරා යයි අපට සැලකිය හැකි වීම පිණිස, ඉටු කළ යුතු වන කොන්දේසි සහ කාරණා ඉදිරිපත් කිරීමට ප්‍රයත්න දැරීමට* වඩා බොළඳ හා නිෂ්ඵල තවත් දෙයක් නැත. ප්‍රජාතන්ත්‍රවාදය සඳහා සසංගත සටන් කරුවා විය හැක්කේ නිර්ධන පංතියට පමණකි. එයට ප්‍රජාතන්ත්‍රවාදය සඳහා සටන් කරන ජයග්‍රාහී සටන් කරුවෙකු විය හැක්කේ ගොවි ජනතාවත් එහි විප්ලවවාදී අරගලයට එක්වුවහොත් පමණකි. මෙය ඉටුකිරීම සඳහා නිර්ධන පංතියට සෑහෙන තරම් ශක්තියක් නොමැති නම්, ධනපති පංතිය විප්ලවයේ මුල් තැන ගෙන, එයට අස්ථිර හා ආත්මාර්ථකාමී ස්වභාවයක් ගෙන දෙනු ඇත. නිර්ධන පංතියේ සහ ගොවි ජනතවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයකින් හැර වෙනත් මගකින්, මෙය වැළැක්විය නො හැක.

ඒ අනුව නව ඉස්ක්‍රා උපක්‍රමවල සැබෑ අර්ථය අනුව බලන කල ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වාසියට හේතු වන්නේ එම උපක්‍රම යයි කියන නිගමනයට එළඹෙන්නෙමු. ජන වරම් තරම් දුරට යන සංවිධානමය විසාරිතාවය ගැන දේශනා කිරීම, පාවාදීමේ ප්‍රතිපත්තිය අනුගමනය කිරීම හා පක්ෂ සාහිත්‍ය පක්ෂයෙන් වෙන් කිරීම, කැරළි ගසමින් නැගී සිටීමේ අරමුණු ලඝු කොට දැක්වීම, විප්ලවවාදී නිර්ධන පංතියේ ජනතා දේශපාලන සටන් පාඨ රාජාණ්ඩුවාදී ධනපති පංතියේ සටන් පාඨ සමග පටලැවීම, ''සාර්වාදය පරදවා විප්ලවය තීරණාත්මක ලෙස ජය ගනු''

---

* තුන්වැනි සම්මේලනය විසින් අවලංගු කරන ලද ස්තරොවේර් ගේ යෝජනාවෙන්[34] ඔහු කළ උත්සාහය, එවැනිම දුර්වල යෝජනාවකින් තුන්වැනි සම්මේලනය කළ උත්සාහය වැනිය.

පිණිස අවශ්‍යවන කරුණු විකෘති කිරීම, යන මේ සියල්ල එකට ගත් කල එයින් විප්ලවවාදී කාල පරිච්ඡේදයක දී නියෝජනය වන්නේ එම වල්ගා-වාදී ප්‍රතිපත්තියම ය. ජයග්‍රහණයට ඇති එකම මාර්ගය පෙන්වා දෙමින්, ජනතාවගේ සියළුම විප්ලවවාදී සහ සමූහාණ්ඩුවාදී කොටස් නිර්ධන පංති සටන්පාඨය අනුගමනය කිරීමට සැලැස්වීම වෙනුවට, එයින් කෙරෙන්නේ නිර්ධන පංතිය වික්ෂිප්ත කර, අසංවිධාන කර, අවුල් කිරීම ය.

---

යෝජනා විශ්ලේෂණය කිරීම මගින් අප එළඹ ගත් මෙම නිගමනය තහවුරු කරනු සඳහා අපි වෙනත් අංශ වලින් මෙම ප්‍රශ්නය වෙත ළඟා වෙමු. ප්‍රථමයෙන්, නෝන්ජල්, එහෙත් නොසඟවා කථා කරන මෙන්-ෂෙවික් වරයෙක්, ජෝජියානු ''සොට්සල් ඩිමොක්‍රට්'' හි නව ඉස්ක්‍රා උපක්‍රම විස්තර කරන ආකාරය විමසා බලමු. දෙවැනුව, නව ඉස්ක්‍රා උපක්‍රම වලින් ඇත්ත වශයෙන්ම ප්‍රයෝජන ලබන්නේ කවුදැයි බලමු.

## 7. ''ආණ්ඩුවෙන් ගතානුගතිකවාදීන් තුරන් කිරීමේ'' උපක්‍රම

තිපිලිසි හි මෙන්ෂෙවික් ''කාරක සභාවේ'' නිල ප්‍රකාශනයෙහි (''සොට්සල් ඩිමොක්‍රට්'' අංක 1) පළ වූ, අප ඉහතින් සඳහන් කළ ලිපියේ මාතෘකාව ''සෙම්ස්කි සබෝර් සහ අපේ උපක්‍රම'' යනුයි. එහි කතු වරයා තවමත් අපගේ වැඩ පිළිවෙළ සම්පූර්ණයෙන් ම අමතක කර නැත. ඔහු සමූහාණ්ඩුවක් පිළිබඳ සටන් පාඨය ඉදිරිපත් කරන නමුත්, එහි උපක්‍රම ගැන සාකච්ඡා කරන්නේ මෙසේ ය:

''මෙම අරමුණ (සමූහාණ්ඩුවක්) ඉටු කර ගැනීමේ මාර්ග දෙකක් දක්විය හැකිය: එක්කෝ ආණ්ඩුව විසින් කැඳවනු ලබන සෙම්ස්කි සබෝර් සභාව සම්පූර්ණයෙන්ම නොසලකා හැර, ආණ්ඩුව අවි බලයෙන් පරාජය කර, විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් රැස් කළයුතුය; නැතහොත්, සෙම්ස්කි සබෝර් සභාවේ සංයුතිය කෙරෙහි හා එහි කටයුතු වලට අවි බලයෙන් බල පෑමෙන්, තමන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් බව ප්‍රකාශ කරන ලෙසට හෝ එය මගින් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවන ලෙස, එයට බලහත්කාරය පා බල කිරීමෙන්, එය අපගේ ක්‍රියාකාරිත්වයේ කේන්ද්‍රස්ථානය බවට පත් කර ගත යුතු ය. මෙම උපක්‍රම දෙක එකකින් අනික තියුණු ලෙස වෙනස් වන්නේ ය. එයින් අපට වාසිදායක වන්නේ කුමක් දැයි බලමු.''



අප විසින් විශ්ලේෂණය කරන ලද යෝජනාවට පසුව ඇතුලත් කරන ලද අදහස්, නව ඉස්ක්‍රාවාදීන් විසින් ඉදිරිපත් කරනු ලබන්නේ එසේය. මෙය ලියා ඇත්තේ ට්සුසිමා[35] සටනට පෙර, බුලීගින් ''යෝජනා ක්‍රමය'' දවල් එළියට නො පැමිණ තිබුණු අවධියේ බව සටහන් කරගන්න. ලිබරල් වාදීන් ගේ පවා ඉවසීම ඉක්ම යාමෙන්, ඔවුහු නීත්‍යානුකූල පුවත් පත් මගින් අවිශ්වාසය පලකිරීමට පටන් ගත්හ. එසේ වුවද, නව ඉස්ක්‍රා වර්ගයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා, ලිබරල් වාදීන්ටත් වඩා ඉක්මණින් විශ්වාස ඇතිකරගන්නාසුලු අයෙක් විය.සෙම්ස්කි සබෝර් සභාව''කැඳවනු ලබන'' බව ප්‍රකාශ කරන ඔහු, සාර් ගැන කොතරම් විශ්වාසයක් තබන්නේ ද යත්, තවමත් නො පවතින මෙම සෙම්ස්කි සබෝර් සභාව (නැතහොත්, සමහර විට ''රාජ්‍ය දූමා සභාව'' හෝ ''උපදේශක ව්‍යවස්ථාදයක සභාව''?) අපගේ ක්‍රියාකාරිත්වයේ කේන්ද්‍රස්ථානය කිරීමට ද, යෝජනා කරයි. සාකච්ඡා සභාවේ දී සම්මත කරන ලද යෝජනාවේ කර්තෘවරුන්ට වඩා පැහැදිලිව හා කෙළින් කථා කරන, අපගේ තිපිලිසි වැසියා (ඔහු අනුකරණය කළ නොහැකි නෝන්ජල් භාවයකින් ඉදිරිපත් කරන) උපක්‍රම දෙක එක සමාන මට්ටමක නො තබා, ඉන් දෙවැන්න වඩාත් ''වාසිදයක'' බව ප්‍රකාශ කරයි. මදක් ඇහුම් කන් දෙන්න:

''ප්‍රථම උපක්‍රමය. ඔබ දන්නා පරිදි, මතු එන විප්ලවය ධනපති විප්ලවයකි. එහි අර්ථය වනුයේ, (වෙනස්කිරීම) නිර්ධන පංතියට පමණක් නොව, මුළු ධනපති සමාජයටම අවශ්‍ය වන ආකාරයට වර්තමාන සමාජය වෙනස් කිරීම ය.සියළුම පංති ආණ්ඩුවට විරුද්ධය.ධනපතී හු පවා ආණ්ඩුවට විරුද්ධය හ.සටන් කරන නිර්ධන පංතියත්,සටන් කරන ධනපති පංතියත්, විවිධ පැති වලින් එකට ගමන් කරමින්, ඒකාබද්ධව ඒකාධිපත්‍යයට පහර දෙන බව, එක් ආකාරයකින් පෙනේ. ආණ්ඩුව සම්පූර්ණයෙන්ම කොන් වී ඇත. එයට මහජන සහයෝගීතාවයක් නොමැත. මෙම හේතුව නිසා, එය විනාශ කිරීම* ඉතා පහසු ය. සමස්තයක් වශයෙන් ගත් කල රුසියානු නිර්ධන පංතිය, එයට විප්ලවය තනිවම ක්‍රියාත්මක කිරීමට තරම් පංති විඥානයක් හා සංවිධාන වූ ස්වභාවයක් තවමත් ඇති කරගෙන නැත. එයට එම හැකියාව තිබුණත්, එය ක්‍රියාත්මක කරනු ඇත්තේ නිර්ධන පංතික (සමාජවාදී) විප්ලවයක් මිස ධනපති විප්ලවයක් නොවේ. එනිසා, ආණ්ඩුවට මිතුරන් නොමැතිවීමත්,] විරුද්ධ පාර්ශවය භේද කිරීමට, ධනපති පංතිය සමග අත්වැල් බැඳ ගැනීමට හා නිර්ධන පංතිය කොන්කර තැබීමට එයට නො හැකි වීමත්... අපගේ යහපතට හේතු වේ''.

---

* අත් පිටපතෙහි උපුටා දක්වූ කොටසෙහි ලෙනින් විසින් ඇතුලත් කොට කපා හරින ලද වරහන් තුළ යෙදූ ප්‍රශ්නාර්ථ ලකුණු දෙකක් මෙතැන ඇත. — සංස්කාරක

මේ අනුව, සාර්වාදී ආණ්ඩුවට ධනපති පංතිය හා නිර්ධන පංතිය වෙන් කිරීමට නො හැකි වීම නිර්ධන පංතියේ යහපතට හේතු වේ! මෙම ජෝර්ජියානු පත්‍රයට ''අස්වබෂ්ජේනිය'' නො කියා ''සොට්සල්-ඩිමොක්‍රට්'' කියන්නේ වැරදීමකින් නොවේ ද? ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ගැන, එහි දෙසා ඇති අසමසම දර්ශනය සටහන් කර ගත මැනවි! මෙම අසරණ තිෆ්ලිසි වැසියා, ''ධනපති විප්ලවය'' පිළිබඳ පණ්ඩිතමානී, වල්ගාවාදී අර්ථ නිරූපනයෙන් සම්පූර්ණයෙන්ම හිස අවුල් කර ගෙන සිටිනවා නො වේද? ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී නිර්ධන පංතිය කොන්-වීමේ හැකියාව පිළිබඳ ප්‍රශ්නය ගැන හේ සාකච්ඡා කරයි; ඒ අතර ඔහුට අමතක වීමකි... සුළු අමතක වීමකි... ඔහුට ගොවිජනතාව ගැන අමතක වෙයි! නිර්ධන පංතියට මිතුරු විය හැකි කොටස් අතුරෙන් ඔහුට පෙනෙන්නේ හා ඔහු පක්ෂ වන්නේ සියම්ස්ත්වො ඉඩම් හිමියන්ට ය. නමුත් ගොවි ජනතාව ගැන ඔහුට කල්පනාවක් නැත. තවද, මෙය සිදුවන්නේ ද කොකේසියාවේ දී ය. නව ඉස්ක්‍රා පත්‍රය, එය තර්ක කරන ආකාරයෙන් කරන්නේ, විප්ලවවාදී ගොවි ජනතාව අපගේ මිතුරා වන තත්වයට උසස් කිරීම වෙනුවට, තමන්ම රාජාණ්ඩුවාදී ධනපති පංතියේ තත්වයට ඇද වැටීම යයි අප කී දෙය නිවැරදි නොවේ ද?

''...නො එසේ නම් නිර්ධන පංතියේ පරාජය සහ ආණ්ඩුවේ ජයග්‍රහණය නො වැලැක්විය හැකි වනු ඇත. ඒකාධිපත්‍යය වෙහෙසෙන්නේ ඉඳුරාම එය සඳහා ම ය. එය නිසැක වශයෙන් ම, එහි සෙම්ස්කි සබෝර් සභාවේ සිටින වංශවතුන් ගේ නියෝජිතයින්, සියම්ස්ත්ව සංවිධානවල, නගරවල, විශ්ව විද්‍යාලවල හා වෙනත් ධනපති ආයතනවල* නියෝ-ජිතයින් තමන් පැත්තට ඇදගන්නවා ඇත. මේ ආකාරයෙන් ශක්තිමත් වූ එය, තනි කරනු ලැබ සිටින නිර්ධන පංතියට විරුද්ධව එහි ප්‍රහාරයන් සියල්ලම එල්ල කරනු ඇත. එවැනි අවාසනාවන්ත ප්‍රතිඵලයක් ඇතිවීම වැලැක්වීම අපගේ යුතු කම ය. නමුත් එය ප්‍රථම ක්‍රමයෙන් කළ හැකි වේ ද? සෙම්ස්කි සබෝර් සභාව ගැන කිසිම සැලකිල්ලක් නො දක්වා, කැරළි ගසමින් නැගී සිටීම සඳහා අපිම කටයුතු සූදනම් කර, එක් යස දිනයක සටනට සූදනම්ව අවි රැගෙන වීදි වලට වන්නෙමුයි සිතමු. එහි ප්‍රතිඵලය වනු ඇත්තේ අපට එක සතුරෙකුට නොව සතුරන් දෙදෙනෙකුටම මුහුණ දීමට සිදුවීම ය: එනම්, ආණ්ඩුව සහ සෙම්ස්කි සබෝර් යන දෙකට ම මුහුණ දීමට සිදුවීම ය. අප කටයුතු සූදනම් කරමින් සිටිය දී, ඔවුනට එකඟත්වයක් ඇති කරගැනීමටත්, එකිනෙකා සමග ගිවිසුමක් ඇති කර

---

* ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි පහත සඳහන් කොටස ලියා කපා හැර තිබේ. ''වංශවතුන්, විශ්ව විද්‍යාල සහ වෙනත් ධනපති ආයතන! මෙවැනි නො ඉඳුල් පිරිහෙළන ''මාක්ස්වාදය'' සොයා ගැනීමට අයෙක් ''රබෝචය මිස්ල්'' වෙත ආපසු යා යුතුය''.— සංස්කාරක



ගැනීමටත්, ඔවුනොවුන් අතර බලය බෙදා ගැනීමටත් හැකි විය*. මෙම උපක්‍රමය එක එල්ලේම ආණ්ඩුවට වාසිදයක ය. එනිසා අපි එය ඉතාමත් බලවත් ලෙස ප්‍රතික්ෂේප කළ යුත්තෙ මු...''

මෙය අවංක කථාවකි! කැරළි ගසමින් නැගී සිටීමට කටයුතු සූදනම් කරන අතරවාරේ ආණ්ඩුව ධනපති පංතියත් සමග එකඟත්වයක් ඇති කර ගන්නා නිසා එසේ නැගී සිටීමට සූදනම් වීමේ ''උපක්‍රම'' තදින්ම ප්‍රතික්ෂේප කළ යුත්තෙමු. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට කරන මෙතරම් වූ නින්දවකට යම්තමින් හෝ සමාන දෙයක්වත්, ඉතාමත් වියරු ''ආර්ථිකවා-දයේ'' සාහිත්‍යයෙන් සොයා ගැනීමට කෙනෙකුට හැකිවේද? වරක් එක් තැනෙකත්, වරක් තවත් තැනෙකත්, කම්කරුවන් හා ගොවිජනයා කැරළි ගසමින් නැගී සිටීම සිදුවන බව සත්‍යයකි. කෙසේ හෝ වේවා සෙම්ස්කි සබෝර් සභාව යනු බුලීගින් පොරොන්දුවකි. එසේ තිබිය දී, කැරළි ගසමින් නැගී සිටීමක් සූදනම්. කිරීමේ උපක්‍රමය ඉවත ලා, ''බලපෑමේ කේන්ද්‍රස්ථානයක්'', වන සෙම්ස්කි සබෝර් සභාව,... බලා-පොරොත්තුව සිටිය යුතු බව තිෆ්ලිසි නගරයේ ''සොට්සල්-ඩිමොක්‍රට්'' පත්‍රය තීරණය කරයි.

''...ඊට ප්‍රතිකූල වශයෙන් දෙවැනි උපක්‍රමය සංයුක්ත වන්නේ, සෙමස්කි සබෝර් සභාවට එහි කැමැත්ත අනුව කටයුතු කිරීමට සහ ආණ්ඩුව සමග එකඟත්වයකට එළඹීමට අවස්ථාව නොදී**, එය අපගේ පරිපාලනය යටතට ගෙන ඒමෙනි***.

''සෙම්ස්කි සබෝර් සභාව ඒකාධිපත්‍යයට විරුද්ධව සටන් කරන තාක් දුරට අපි ඊට සහාය දෙමු. එය ඒකාධිපත්‍ය සමග සමාදනයක් ඇති කරගන්නා අවස්ථා වලදී අපි එයට විරුද්ධව සටන් කරන්නෙමු. ශක්තිමත් ලෙස මැදහත් වීමෙන් සහ බලහත්කාරයෙන් අපි මන්ත්‍රී වරු අතර භේදයක් ඇති කර****, උන්නතිකාමී කොටස් අප පැත්තට දිනා

---

* ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි මෙසේ ලියා කපා හැර තිබේ: ''මොනතරම් ජැකොබින්වාදී වීමක් ද! කැරළි ගසමින් නැගී සිටීමකට කටයුතු සූදනම් කිරීමකි!'' — සංස්කාරක

** ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි මෙසේ ලියා කපා හැර තිබේ: ''හහ්. මොන විප්ලවීය ජීව ගුණයක්ද?'' — සංස්කාරක

*** සියම්ස්ත්ව ජනතාවට ඔවුන් ගේ කැමැත්ත අහිමි කළ හැක්කේ මොන මාර්ගයෙන් ද? සමහර විට විශේෂ වර්ගයක ලිට්මස් කඩදසි උපයෝගි කර ගැනීමෙන්?

**** දෙවියනි! මෙය නම් සත්තකින්ම උපක්‍රම ''ගැඹුරු කිරීමකි''! වීදි වලට බැස සටන් කිරීමට බලවේග නොමැත. නමුත් ''බලහත්කා-රයෙන්'' ''මන්ත්‍රීවරුන් අතර භේදයක් ඇති කිරීමට'' ''බලය යෙදීමෙන්'' පුළුවන. මේ අහන්න, තිෆ්ලිසි සහෝදරය. ඔබට අවශ්‍යම නම්, බොරු කියන්න. එහෙත් එයටත් සීමාවක් තිබේ.

ගෙන* ආණ්ඩුවෙන් ගතානුගතික කොටස් ඉවත් කර, ඒ මගින් මුළු** සෙම්ස්කි සබෝර් සභාවට විප්ලවයේ මාවතට යොමු කරන්නෙමු. එවැනි උපක්‍රම වලට ස්තුති වන්නට, ආණ්ඩුව නිතරම කොන් වී සිටිනු ඇත; විරුද්ධ පාර්ශවය*** ශක්තිමත්ව පවතිනු ඇත; ඒ අනුව ප්‍රජාතන්ත්‍රවාදී පාලන ක්‍රමයක් ස්ථාපිත කිරීමට ඉඩ සැලසෙනු ඇත.''

හොඳයි!නව ඉස්ක්‍රාවාදීන්,''ආර්ථිකවාදය'' මෙන් ඉතාමත් පිරිහෙලුනු ස්වභාවය වෙත හැරීම ගැන අප අතිශයෝක්තියක් කර ඇතැයි යමෙක් කියතොත් ඊට අවස්ථාව දෙන්නෙමු. මෙය නිශ්චය වශයෙන්ම මැස්සන් වඳ කිරීමට ගන්නා කුඩු වර්ගය වැනි ය: පළමුව ඔබේ මැස්සා අල්ලා ගෙන, ඌට මැහි කුඩු ඉසින්න. එවිට මැස්සා මැරෙනු ඇත. සෙම්ස්කි සබෝර් සභාවේ මන්ත්‍රීන් අතර බලෙන් භේදයක් ඇති කරන්න; ''ගතානුගතික කොටස් ආණ්ඩුවෙන් ඉවත් කරන්න'' — එවිට මුළු සෙම්ස්කි සබෝර් සභාවම විප්ලවයේ මාවත ගන්නවා ඇත... කිසිම ආකාරයක ''ජැකොබින්'' සන්නද්ධ නැගී සිටීමක් නැත. නමුත් මෙකී ලෙසට ම, සෙම්ස්කි සබෝර් සභාවේ සාමාජිකයින්ට සුකුමාර ලෙස බොහෝ දුරට පාර්ලිමේන්තු ක්‍රමයටම මෙන්, ''බල පෑමෙන්'' එය ඉටු කෙරෙනු ඇත.

අසරණ රුසියාව! ඇය නිතරම පළඳින්නේ, යුරෝපය ඉවත ලූ පරණ තාලේ හිස් වැසුම් බව කියනු ලැබේ. අපට තවමත් පාර්ලිමේන්තුවක් නැත. එකක් දෙන බවට බුලීගින්වත් පොරොන්දු වී නැත. නමුත් අපට ඕනෑ තරම් පාර්ලිමේන්තු විකලාංගවාදය[36] තිබේ.

''... මෙම මැදිහත් වීම කෙසේ ක්‍රියාත්මක කළ යුතු ද? ප්‍රථමයෙන්ම, සර්වජන හා සමාන ඡන්ද බලයත්, රහස් ඡන්දයෙන් සෘජු තෝරා පත් කිරීම් මගින් සෙම්ස්කි සබෝර් සභාව කැඳවන ලෙසත්, ඉල්ලමු. මෙම මැතිවරණ ක්‍රියාමාර්ගය දැනුම් දීමත්**** සමග එක්වරම, මැතිවරණ ව්‍යාපාරය කර ගෙන යාමට සම්පූර්ණ නිදහස, එනම්, රැස්වීමේ, කථා කිරීමේ සහ පුවත් නිදහසද, ඡන්ද දායකයන්ගේ සහ අපේක්ෂකයන්ගේ සුරක්ෂිතතාවයද, දේශපාලන සිර කරුවන් සියළු දෙනාම නිදහස් කිරීම ද,

---

* ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි මෙම කොටස ඇතුලත් කර කපා හැර තිබේ: ''අසරණ ස්ත්‍රුවේ! ඔහු උන්නතිකාමීන්ගේ ගණයට ඇතුලත් වී තිබේ! ඉරණමක හැටි — බලහත්කාරයෙන් නව ඉස්ක්‍රාවාදීන් සමග එක්සත් කිරීම...'' — සංස්කාරක

** ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි මෙම කොටස ඇතුලත් කර කපා හැර තිබේ: ''අසව්, අසව්!'' — සංස්කාරක

*** ලෙනින් විසින් ලියන ලද අත් පිටපතෙහි මෙම කොටස ඇතුලත් කර, කපා හැර තිබේ: ''ඉවත් කළ ගතානුගතික කොටස් හැර?'' — සංස්කාරක

**** ''ඉස්ක්‍රා'' වෙහි ද?



නීති ගත කළ යුතුය*. මැතිවරණ පැවැත්වෙන දිනය හැකි තරම් කල් මත්තෙන් නියම කර ජනතාවට කරුණු දක්වා ඔවුන් සූදනම් කිරීමට කාලය දිය යුතුය. සබෝර් සභාව රැස්කිරීම පිළිබඳ කටයුතු පාලනය කෙරෙන රෙගුලාසි කෙටුම්පත් කිරීම ස්වදේශ කටයුතු භාර ඇමති බුලීගින් ගේ නායකත්වයෙන් යුත් කොමිසමට භාර කර ඇති හෙයින්, මෙම කොමිසම හා එහි සාමාජිකයන් කෙරෙහිද අපි බලපෑම් කළ යුතුය**. බුලීගින් අපගේ ඉල්ලීම් ඉටු කිරීම ප්‍රතික්ෂේප කර*** දේපල හිමියන්ට පමණක් තේරී පත්වීමේ බලය දුනහොත්, එවිට අප මෙම මැතිවරණවලට මැදිහත් වී, ප්‍රගතිශීලී අපේක්ෂකයන් තෝරා පත්කරන ලෙස ඡන්ද දායකයන් විප්ලවවාදී මාර්ගයෙන් යොමු කර, සෙම්ස්කි සබෝර් සභාව තුළ දී ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් ඉල්විය යුත්තෙමු****. අවසාන වශයෙන්, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවන ලෙසට හෝ සෙම්ස්කි සබෝර් සභාවට ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සේ ප්‍රකාශයට පත් කරන ලෙසට හෝ හැකි සියළුම පියවරයන් මගින්, පෙළපාලි, වැඩ වර්ජන හා අවශ්‍ය වූවහොත් කැරළි ගසමින් නැගී සිටීමක් ද මගින් එය පෙළඹවිය යුත්තෙමු. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයේ ආරක්ෂකයා විය යුත්තේ ආයුධ සන්නද්ධ නිර්ධන පංතිය ය. ඒ දෙකම***** එක්ව ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් කරා ඉදිරියට ගමනේ යනු ඇත.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රම එබඳුය. අපේ ජයග්‍රහණය සුරක්ෂිත වන්නේ එයින් පමණකි.''

මෙම නො ඇදහිය හැකි විකාර කථා කියා ඇත්තේ, නව ඉස්ක්‍රා අදහස් ඇති කුලුඳුල් ලේඛකයෙක්, නැතහොත් අධිකාරයක් හෝ බලයක් හෝ නොමැති අයෙක් යයි, පාඨකයා නො සිතිය යුතුය. නැත. මෙය ප්‍රකාශ කර ඇත්තේ, නව ඉස්ක්‍රා ආධාර කරුවන් ගේ මූළු කාරක සභාවකම, එනම්, ති‍ෆ්ලිස් කාරක සභාවේ නිල පත්‍රයෙහි ය. ''ඉස්ක්‍රා'', එහි අංක 100 මගින්, මෙය විවෘත ලෙසම අනුමත කර තිබේ. ඒ ගැන සඳහන් කරමින්, ''සොට්සල් ඩිමොක්‍රට්'' පත්‍රය පළ කිරීම ගැන, එහි මෙසේ ලියා ඇත.

---

* සාර් නිකොලායි විසින්ද?

** ''ආණ්ඩුවෙන් ගතානුගතික කොටස් ඉවත් කිරීමේ'' උපක්‍රම යනුවෙන් අදහස් කරනු ලබන්නේ මෙයයි!

*** අප නිවැරදි හා ගැඹුරු උපක්‍රම අනුගමනය කළහොත් ඇත්තෙන්ම මෙවැනි දෙයක් සිදුවිය නොහැකිය!

**** ලෙනින් ගේ අත් පිටපතෙහි මෙහිදී මෙම කොටස ලියා කපාහැර තිබේ: '' 'තෝරා පත්කරන ලෙස ඡන්ද දායකයන් විප්ලවවාදී මාර්ගයෙන් යොමු කර'! අපට හමු වන විප්ලවවාදී රිපිට්ලව්වාදයක[37] හැටි!'' — සංස්කාරක

***** ආයුධ සන්නද්ධ නිර්ධන පංතියත්, ''ආණ්ඩුවෙන් ඉවත් කළ'' ගතානුගතික කොටසුත් යන දෙකම?

''ප්‍රථම කලාපය ප්‍රාණවත් ලෙස හා දක්ෂ ලෙස සංස්කරණය කර තිබේ. සමර්ථ 'කතුවරයෙකුගේ හා ලේඛකයෙකුගේ කෘතහස්ත හස්තය ඉන් විද්‍යාමානවේ... මෙම පුවත් පත තමන් වෙත පවරාගත් කර්තව්‍යය විශිෂ්ඨ ලෙස ඉටු කරනු ඇතැයි යන්න නො අනුමානව කිව හැකි ය.''

ඔව්! නව ඉස්ක්‍රා උපනතියේ අන්ත දෘෂ්ටිමය පිරිහීම කොයි කාටත් හොඳ හැටි පෙන්වා දීම එසේ පවරාගත් කර්තව්‍යය නම්, ඇත්ත වශයෙන් ම එය ''විශිෂ්ඨ'' ලෙස ඉටු කර තිබේ. නව ඉස්ක්‍රා වාදීන්, ලිබරල් ධනපති අවස්ථාවාදය දක්වා පහත ඇද වැටීම මීට වඩා ''ප්‍රාණවත්, දක්ෂ හා සමර්ථ'' ආකාරයකින් ප්‍රකාශ කිරීමට වෙන කිසි කෙනෙකුට පුළුවන් කමක් නැත.

## 8. අස්වබඕෂ්ජේනිය සහ නව ඉස්ක්‍රා උපනති

නව ඉස්ක්‍රා උපනතියෙහි දේශපාලන වැදගත්කම සිත් කාවදින සේ තහවුරු කරන තවත් කරුණක් දැන් අපි ගනිමු.

''තමා ගැන දැනගන්නේ කෙසේද?'' යන මාතෘකාව යටතේ (''අස්වබඕෂ්ජේනිය'' අංක 71 කලාපයේ) පළ කරන ලද කදිම, විශිෂ්ට හා ඉතාමත් උපදේශාත්මක ලිපියකින්, ස්ත්‍රුවේ මහතා අපගේ අන්තවාදී පක්ෂවල ''වැඩ සටහන්වාදී විප්ලවවාදයට'' විරුද්ධව යුද්ධ ප්‍රකාශ කරයි*. මා ගැන සඳහන් කරතොත්, මා සතුටු කිරීමට මීට වඩා දෙයක්

* ''ලෙනින් මහතා ගේ සහ ඔහුගේ සගයන්ගේ විප්ලවවාදය සමග සංසන්දනය කරන කල, බේබෙල් ගේ සහ කෞට්ස්කි ගේ පවා බටහිර යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අවස්ථාවාදය යි. නමුත්, දැනටමත් සැර බාල කර ඇති මෙම විප්ලවවාදයේ පවා අඩිතාලම් ඉතිහාසය විසින් බුරුල් කර සෝදා හැර තිබේ''. ඉතාමත් කෝපාවිෂ්ඨ ප්‍රහාරයකි. ජීවතුන් අතර නැති ප්‍රතිපාක්ෂිකයෙකු මත සියළු දෙස් දමන පරිද්දෙන් ම, මා පිටද සියළු වැරදි පැටවීමට තමාට හැකි යයි යන්න පමණක් ස්ත්‍රුවේ මහතා නො සිතිය යුතුය. මා කළ යුතුව ඇත්තේ, පහත සඳහන් ප්‍රශ්න වලට පිළිතුරු දෙන ලෙස කියා ස්ත්‍රුවේ මහතාට අභියෝග කිරීම පමණකි — එවැනි ආභියෝගයක් ඔහු කිසි කලෙකත් පිළි නො ගන්නා බව මට සහතිකය. ''බේබෙල් ගේ හා කෞට්ස්කි ගේ විප්ලවවාදය'' අවස්ථාවාදයකැයි මා කීවේ කවදා ද? කොහි දී ද? බේබෙල්ගේ හා කෞට්ස්කි ගේ ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට හරියටම සම්පාත නොවන, එහි මොන යම් හෝ විශේෂ උපනතියක් නිර්මාණය කළ බවට අයිතිවාසිකම් කීවේ කවදාද? කොහිදීද? බරපතලකම අතින්, බ්‍රෙස්ලෝහි[38] ගොවිජන ප්‍රශ්නය සම්බන්ධයෙන් බේබෙල් හා කෞට්ස්කි අතර ඇති වූ වෙනස්කම් වලට යම්තමින් හෝ සමාන වන තරම් වෙනස් කම්, එක් පැත්තකින්



කිරීමට ස්ත්‍රුවේ මහතා සමත් නොවනු ඇත. නව ඉස්ක්‍රා කණ්ඩායමේ යළි පණ ගැන්වෙන ''ආර්ථිකවාදයට'' සහ ''සමාජවාදී-විප්ලවවාදීන්'' දක්වන ප්‍රතිපත්ති විරහිත භාවයට විරුද්ධව කරන සටනේ දී, මීට වඩා හොඳ සගයෙකු මට අපේක්ෂා කළ නො හැකි ය. සමාජවාදී-විප්ලවවාදීන්ගේ කෙටුම්පත් වැඩ පිළිවෙළෙන් මාක්ස්වාදයට ඉදිරිපත් කර ඇති ''සංශෝධන'' කොතරම් අන්ත ප්‍රතිගාමී ඒවාද යනු, ස්ත්‍රුවේ මහතා සහ ''අස්වබඕෂ්ජේනිය'', ව්‍යවහාරයෙන් ඔප්පු කර තිබෙන ආකාරය, වෙනත් අවස්ථාවක පෙන්නුම් කරන්නෙමු. ස්ත්‍රුවේ මහතා නව ඉස්ක්‍රා උපනතිය ප්‍රතිපත්තියක් වශයෙන් අනුමත කළ සෑම අවස්ථාවකම, ඔහු මට කර ඇති අවංක හා හිතවත් සේවය ගැන අපි දැනටමත් යළි යළිත් කියා ඇත්තෙමු*. අපි දැන් තවත් වරක් ඒ ගැන කථා කරන්නෙමු.

මාත්, අනිත් පැත්තෙන්, බේබෙල් හා කෞට්ස්කිත් අතර ඇති වූයේ කවදා ද? කොහි දී ද? මෙම ප්‍රශ්නවලට පිළිතුරු දීමට උත්සාහ ගන්නා ලෙස ස්ත්‍රුවේ මහතාට කියන්නෙමු.

අපි අපගේ පාඨකයන්ට මෙසේ කියමු: තම රටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඉතාමත් අසාධාරණ යයි කියන අතර අසල් වැසි රටක ඔවුන් ගේ සහෝදරයන් ''හොඳ හාදයන්'' වන බව සහතික කිරීමේ උපක්‍රමය ලිබරල් ධනපතියන් විසින් හැම තැනෙකදී ම හා හැම විටම අනුගමනය කරනු ලබන්නකි. ප්‍රංශ සමාජවාදී ''හොඳ හාදයන්,'' බේබෙල්ලාට හා කෞට්ස්කිලාට ආදර්ශ වශයෙන් ජර්මන් ධනපතියන් විසින් වාර සිය ගණනක්ම හුවා දක්වන ලදී. ප්‍රංශ ධනපති පංතිය, මෑතදී, ප්‍රංශ සමාජවාදීන්ට ආදර්ශයක් වශයෙන් බේබෙල් ''හොඳ හාදයා'' පෙන්නුම් කළේය. ස්ත්‍රුවේ මහත්මයා, මෙය පරණ විජ්ජාවකි! ඔය ඇම ගිලින්නේ ළදරුවන් හා මෝඩයන් පමණක් බව ඔබට පෙනෙනු ඇති. වැඩ පිළිවෙළ හා උපක්‍රම පිළිබඳ සියළුම ප්‍රධාන ප්‍රශ්න සම්බන්ධයෙන්, ජාත්‍යන්තර විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සම්පූර්ණ ඒකමතිකත්වය විවාද රහිත සත්‍යයකි.

* ''නො කළ යුත්තේ කුමක් ද?'' (''ඉස්ක්‍රා'' අංක 52 යන ලිපිය අවස්ථාවාදීන් හට සහන සැලසීම වෙත යොමු වූ ''වැදගත් නැඹුරුවක්'' ලෙස ''අස්වබඕෂ්ජේනිය'' විසින් ඉතාමත් සෝෂාකාරී ලෙස ප්‍රශංසාවට ලක් කරන ලද බව පාඨකයාට මතක් කරන්නෙමු. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර භේදය ගැන වාර්තාවක් මගින්, නව ඉස්ක්‍රා අදහස් තුළ ගැබ්ව ඇති ප්‍රතිපත්ති ''අස්වබඕෂ්ජේනිය'' විසින් විශේෂයෙන් අගය කරන ලදී. ''අපේ දේශපාලන කර්තව්‍යයන්'' යනුවෙන් ට්‍රොට්ස්කි ලියූ පොත් පිංච ගැන විවේචනයක් පළ කළ ''අස්වබඕෂ්ජේනිය'', මෙම කතුවරයාගේ අදහස් සහ වරක් ''රබෝචිය දියල''[39] ලේඛකයන් වූ ක්‍රිචෙව්ස්කි, මර්තිනව් හා අකීමව් විසින් ලියන හා කියන ලද දේ අතර සමානතාවය ගැන සටහන් කළේය. (''වපිරියොද්'' පත්‍රයේ පළවූ ''කාරුණික ලිබරල්වාදියෙක්'' යන ලිපිය බලන්න). ආඥාදායකත්ව

ස්ත්‍රැවේ මහතාගේ ලිපියෙහි සිත් ගන්නා ප්‍රකාශ ගණනාවක් අඩංගු ය. ඒවා ගැන අපට මෙහි සඳහන් කළ හැක්කේ යම්තමිනි. ''පංති අරගලය මත නොව, පංති සහයෝගතාවය මත විශ්වාසය තබා රුසියානු ප්‍රජාතන්ත්‍රවාදය නිර්මාණය කිරීමට'' ඔහු බලාපොරොත්තු වෙයි. එවිට, ''සමාජමය වශයෙන් වරප්‍රසාද ලත් බුද්ධිමතුන්'' (උසස් සමාජයේ සැබෑ... ගැත්තෙකු ලෙස ස්ත්‍රැවේ මහතා නමස්කාර කරන, ''වියත් වංශවතුන්'' වැනි කොටසකි), ''ඔවුන් ගේ සමාජ තත්වයේ බර'' (ඔවුන් ගේ සල්ලි මළුවල බර) මෙම ''පංතිමය නොවන'' පක්ෂයට ගෙන එනු ඇත. ''ධනපති පංතිය බියට පත්ව නිර්ධන පංතියත්, විමුක්තියේ සත් ව්‍යාපාරයත්, පාවා දී ඇතැයි යන, පට්ටා ගැසුනු උන්නතිකාමී මතයේ'' නිෂ්ඵලභාවය ගැන තරුණයන්ට වටහා දීමේ කැමැත්ත ස්ත්‍රැවේ මහතා පළ කරයි. (මේ අදහස ගැන අපි මුළු හදින් සතුටු වෙමු. මෙම ''පට්ටා ගැසුනු'' මාක්ස්වාදී මතයට විරුද්ධව ස්ත්‍රැවේ මහතා කරන යුද්ධයකට වඩා හොඳින්, එහි නිවැරදි භාවය සනාථ කිරීමට උපකාර වන වෙනත් දෙයක් නොමැත. අනේ, ස්ත්‍රැවේ මහතාණනි,ඔබේ මේ අනගි සැලැස්ම කල් නො දමන්න!)

කාල ගුණයේ අල්පතම වෙනස සම්බන්ධයෙන් පවා ප්‍රතිචාර දක්වන රුසියානු ධනපති පංතියේ මෙම දේශපාලන සංවේදිතාවක් ඇති නියෝජිතයා, දැන් සටන් කරන්නේ කුමණ ව්‍යවහාරික සටන් පාඨවලට විරුද්ධව ද යන්න සටහන් කර ගැනීම, අපගේ මාතෘකාව සම්බන්ධයෙන් ඉතා වැදගත් වන්නේ ය. පළමුවෙන් ම ඔහු සමූහාණ්ඩුවාදය පිළිබඳ සටන් පාඨයට විරුද්ධව සටන් කරයි. මෙම සටන් පාඨය ''පොදු ජනතාවන්ට නො තේරෙන හා අන්‍යතර බව'' ස්ත්‍රැවේ මහතා බලවත් ලෙස අවබෝධ කර ගෙන සිටියි (ධනපති පංතියට වැටහෙන නමුත් වාසිදායක නොවන යන්න එකතු කිරීමට ඔහුට අමතක වී තිබේ!).අපගේ අධ්‍යයන කව සහ පොදු ජන රැස්වීම්වලට එන කම්කරුවන් ගෙන් ස්ත්‍රැවේ මහතාට ලැබෙන්නේ කුමණ පිළිතුරක් දැයි බැලීමට අපි කැමැත්තෙමු. නැතහොත්, සමහර විට, කම්කරුවන් ජනතාව නොවන්නේද? එසේනම්, ගොවිජනතාව ගැන කියන්නේ කුමක් ද? එහෙත්, සමහරවිට, ස්ත්‍රැවේ මහතා ''බොළඳ සමූහාණ්ඩුවාදය'' යනුවෙන් හඳුන්වන (''සාර් පන්නා දැමීම'') දෙයට ඔවුන් වහල් වී සිටිනවා විය හැක. එසේ වුවත්, බොළඳ සමූහාණ්ඩුවාදය වෙනුවට ප්‍රබුද්ධ සමූහාණ්ඩුවාදය නොව, ප්‍රබුද්ධ රාජාණ්ඩුවාදය ආදේශ කෙරෙනු ඇතැයි, ලිබරල් ධනපතියෝ විශ්වාස කරති! Ça dépend, ස්ත්‍රැවේ මහතාණනි, එය රඳා පවතිනු ඇත්තේ අදාල කරුණු මතය. වතුකාර දේපල හිමියන්ගේ අවාසියට හේතුවන පරිදි, ගොවිජනතාවගේ තත්වය මූලික වශයෙන් වැඩි දියුණු කිරීමට විරුද්ධ නොවී සිටීමට, සාර්වාදයට හා ධනපති පංතියට නො හැකි අතර, මේ හා සම්බන්ධයෙන්, ගොවි ජනතාවට ආධාර නොකර සිටීමට, කම්කරු පංතියට නො හැකිය.

---

දෙකක් පිළිබඳ, මර්තිනව් ගේ පොත් පිංච ගැන ''අස්වබෂ්ජේනිය'' සතුට පළ කළා ය. (''වපිරියොද්'' අංක 9 හි වාර්තාව බලන්න). අවසාන වශයෙන්, ''පළමුව මායිම් රේඛා ඇඳ පසුව සමගි වන්න'' යන පැරණි ඉස්ක්‍රාවේ පැරණි සටන් පාඨය ගැන ස්තරොවේර් ප්‍රමාද වී කළ පැමිණිලි ගැන ''අස්වබෂ්ජේනිය'' විශේෂ කරුණාවක් දැක්වීය.

දෙවැනිව, ''සිවිල් යුද්ධයේදී පහර දෙන්නා නිතරම වරද කරු'' වන බව ස්ත්‍රැවේ මහතා සහතික කරයි. මෙම අදහස ඉහත සඳහන් කරන ලද නව ඉස්ක්‍රා උපනති වලට සමීප වන්නකි. සිවිල් යුද්ධයේදී පහර දීම නිතරම වාසිදායක යයි අපි නො කියන්නෙමු.නැත.සමහර විට තාවකාලිකව ආරක්ෂාව සඳහා සටන් කිරීමේ උපක්‍රම අනිවාර්ය විය හැකි ය. නමුත්, ස්ත්‍රැවේ මහතා ඉදිරිපත්, කළ වැනි ප්‍රස්තුතයක් 1905 රුසියාවට ගැලපීම නියත වශයෙන්ම ''පට්ටා ගැසුනු උන්නතිකාමී මතයෙන්'' (''ධනපති පංතිය බියට පත්ව විමුක්තියේ සත්ව්‍යාපාරය පාවා දෙති'') ටිකක් පෙන්වීමකි. දැන් ඒකාධිපත්‍යයට පහර දීමට ප්‍රතික්ෂේප කරන කවුරුන් හෝ වේවා, එවැනි පහරදීමක් සඳහා කටයුතු සූදනම් නො කරන අය කවුරුන් හෝ වේවා, එසේ කිරීමට පක්ෂවාදී නොවන අය කවුරුන් හෝ වේවා, හේ තමා විප්ලවවාදියෙකැයි යනුවෙන් හඳුන්වාගැනීමට අයිතියක් නොමැත්තෙකි.

ස්ත්‍රැවේ මහතා ''රහස්‍යභාවය'' හා ''කෝලාහල කිරීම'' පිළිබඳ සටන් පාඨ වලට (කෝලාහලයත්, ''සුළු ප්‍රමාණ නැගී සිටීමත්'' නිසා) විරුද්ධ වෙයි. ස්ත්‍රැවේ මහතා මේ දෙකම පිළිකුල් කරයි. එහෙත් ඔහු එසේ කරන්නේ ''ජනතාවට ළඟාවීමේ'' ස්ථාවරය අනුවය. නිදසුනක් වශයෙන්, සත්රුවේ මහතා ගේ ස්ථාවරය අනුව අන්ත විප්ලවවාදියෙකු වන අයෙකුගේ කෘතියක් වන ''කළ යුත්තේ කුමක්ද''* යන පොතෙහි ''කෝලාහල'' කිරීම අනුදක්නා එකම ඡේදයක්වත් පෙන්විය හැකි දැයි ස්ත්‍රැවේ මහතාගෙන් ප්‍රශ්න කරන්නෙමු. රහස්‍යභාවය සම්බන්ධයෙන් ස්ත්‍රැවේ මහතා හා අප අතර ඇත්තෙන් ම ලොකු වෙනසක් තිබේද? රුසියාවට නීතිවිරෝධී ලෙස රහසින් ගෙන එනු ලබන හා, එක්කෝ ''අස්වබෂ්ජේනිය'' සංගමයේ නැතහොත් රු. ස. ප්‍ර. ක. ප. ''රහස්'' කණ්ඩායම්වල ප්‍රයෝජනය සඳහා වූ නීති විරෝධි ප්‍රවෘත්ති පත්‍ර වල අප දෙදෙනාම වැඩ කරනවා නොවේ ද? අපගේ කම්කරුවන්ගේ මහා සභා රැස්වීම් පවත්වනු ලබන්නේ රහසේ ය. අපි එම පව කරන්නෙමු. නමුත්

---

* පළමුවැනි වෙළුම සිංහල මුද්‍රණය බලන්න

''අස්වබඡ්ජේනිය'' සංගමය පවත්වන රැස්වීම් ගැන කියන්නේ කුමක් ද? පුරසාරම් දොඩමින්, පිළිකුල් සහගත රහස්‍යභාවයේ පිළිකුල් සහගත පාක්ෂිකයන් වෙත, අවඥ සහගත ලෙස බැලීමට ඔබට ඉඩක් තිබේද ස්ත්‍රැවේ මහතාණනි?

කම්කරුවන්ට ආයුධ සැපයීමේ දී දැඩි රහස්‍ය භාවය ඇත්තෙන් ම අවශ්‍ය ය. මෙම කරුණ ගැන ස්ත්‍රැවේ මහතා වඩාත් විවෘත ලෙස කථා කරයි. මෙය අසන්න ''කැරළි ගසමින් නැගී සිටීම, නැතහොත්, පාරිභාෂික අර්ථයෙන් කියතොත්, විප්ලවයක් හා සම්බන්ධයෙන් වූ කල*, පොදු ආයුධ සන්නද්ධ නැගී සිටීමක් සඳහා අවශ්‍ය සමාජමානසිකත්ව තත්වයන් නිර්මාණය කළ හැක්කේ, ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළකට පක්ෂව කරන පොදුජන ප්‍රචාරයෙන් පමණකි. ඒ අනුව, කැරළි ගසමින් කෙරෙන නැගී සිටීමක් මගින් වර්තමාන විමුක්ති අරගලය උච්ඡස්ථානයට පත්වීම නොවැලැක්විය හැකිය යන දෘෂ්ටි කෝණයෙන් වූවද — මා එය පිළිගන්නේ නැත — පොදු ජනතාවට ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ පිළිබඳ අදහස් කාවැද්දීම ඉතාමත් මූලික හා ඉතාමත් අවශ්‍ය කර්තව්‍යයකි''.

ස්ත්‍රැවේ මහතා උත්සාහ කරන්නේ ප්‍රශ්නය මග හැරීමට ය. විප්ලවයේ ජයග්‍රහණය සඳහා කැරළි ගැසීම් සහිත නැගී සිටීමක අවශ්‍යතාවය ගැන කථා කරනු වෙනුවට, එය වැලැක්විය නො හැකි බව ඔහු කියයි. සූදනම් නො කළ, සාංසිද්ධික හා අතරින් පතර ඇති වන කැරළි ගැසීම් සහිත නැගී සිටීමක්, දැනටමත් ආරම්භ වී ඇත. මෙය ජනතාවගේ අංග සම්පූර්ණ හා ඒකස්ථ නැගී සිටීමක් ලෙසට සංවර්ධනය වනු ඇතැයි යන්න, කිසිවෙකුට සහතික කර කිව නො හැක. එය එසේ වන්නේ ද යන්න රඳා පවතින්නේ, විප්ලවවාදී බලවේගයන් ගේ තත්වය ද (එය සම්පූර්ණයෙන් මැන ගත හැක්කේ අරගලය කෙරෙන විටය), ආණ්ඩුවේ සහ ධනපති පංතියේ හැසිරීම ද, නියත වශයෙන් තක්සේරු කළ නොහැකි වෙනත් කරුණු ගණනාවක් ද, මත ය. ස්ත්‍රැවේ මහතා මෙම කරුණ සරල කර දක්වීමට කැමති පරිදි, කිසියම් සිදුවීමක පරම ඒකාන්තභාවයේ අර්ථයෙන්, මෙහි නොවැලැක්විය හැකි කම ගැන කථා කිරීම අර්ථ විරහිත ය.ඔබ විප්ලවයේ කොටස් කරුවෙක් වන්නේ නම්,ඔබ කථා කළ යුත්තේ, විප්ලවයේ ජයග්‍රහණය සඳහා කැරළි ගසමින් නැගී සිටීම අවශ්‍ය ද, එය බලවත් ලෙස ප්‍රකාශයට පත් කිරීම, දිරි ගැන්වීම හා ඒ සඳහා අප්‍රමාද ව

---

* ලෙනින් ගේ අත් පිටපතෙහි මෙහිදී, මෙම කොටස ලියා කපා හැර තිබේ: ''නව ඉස්ක්‍රාවෙන් රචනා සොරකම පටන් ගනී''. — සංස්කාරක



හා ශක්තිමත් ලෙස කටයුතු සූදනම් කිරීම, අවශ්‍ය ද යන්න ගැන යි. මෙම වෙනස තේරුම් ගැනීමට බැරි කමක් ස්ත්‍රැවේ මහතාට නැත. නිදසුනක් වශයෙන්, වර්තමාන විප්ලවයේදී සර්වජන ඡන්ද බලය දිනා ගැනීම නො වැලැක්විය හැකිදැයි අසමින් එම ප්‍රශ්න අපැහැදිලි කිරීමට ඔහු යොමු නො වෙයි. සර්වජන ඡන්ද බලය අවශ්‍යය යන්න, ප්‍රජාතන්ත්‍රවාදියෙක් අවිවාදයෙන් පිළිගන්නා නමුත්, දේශපාලන කටයුතුවල යෙදී සිටින අය ඒ ගැන විවාද කරති, එය සුළු කොට සලකති. කැරළි ගසමින් නැගී සිටීමක අවශ්‍යතාවය පිළිබඳ ප්‍රශ්නය මග හැරීමෙන්, ස්ත්‍රැවේ මහතා ලිබරල් ධනපති දේශපාලන ස්ථාවරයේ ඉතාමත් අභ්‍යන්තර සාරාර්ථය හෙළිදරව් කරන්නේ ය. ප්‍රථමයෙන් ම, ඒකාධිපත්‍යය පොඩි පට්ටම් කර දමනවා වෙනුවට, එය සමග එකඟත්වයක් ඇති කර ගැනීමට ධනපති පංතිය කැමති වෙති. දෙවැනිව, සෑම අවස්ථාවලදීම ඔවුහු සන්නද්ධ අරගලය කම්කරුවන් පිට පටවති. ස්ත්‍රැවේ මහතා ප්‍රශ්නය මග හැර කථා කිරීමේ නියම අර්ථය එය යි. කැරළි ගසමින් නැගී සිටීමක අවශ්‍යතාවය පිළිබඳ ප්‍රශ්නයෙන් බැහැර යමින් ඔහු එහි ''සමාජ-මානසිකත්ව තත්වයන්'' හා ප්‍රාථමික ''ප්‍රචාරය'' හා සම්බන්ධ ප්‍රශ්න වෙත නැඹුරු වන්නේ එහෙයිනි. ආණ්ඩුවේ සන්නද්ධ හමුද පලවා හැරීමට අවශ්‍යව තිබුණු අවස්ථාවක ව්‍යාපාරය සන්නද්ධ අරගලයක් ''අවශ්‍ය වන තත්වයට පැමිණ'' තිබුණු අවස්ථාවක, (සූදනම් වීමේ කාලය තුළ සිය ගුණයෙන් අවශ්‍ය වන) හුදු වාචක පෙළඹවීම්, අනුද්යෝගී වූ, ධනපති අක්‍රියාකාරිත්වය සහ බියගුළු භාවය බවට පත් වූ අවස්ථාවක, යෝජනා, ප්‍රකාශන හා තීරණ සකස් කිරීමෙහි උත්සුක ව, ''පොදු ජන ප්‍රචාරයෙහි'' යෙදෙමින් හා ''සමාජ-මානසිකත්ව තත්වයන්'' සූදනම් කරමින් සිටි 1848 ෆ්‍රැන්ක්පර්ට් පාර්ලිමේන්තුවේ ධනපති පුරාජේරු කාරයන් මෙන් ම, කැරළි ගසමින් නැගී සිටීම පිළිබඳ ප්‍රශ්නය මග හරින ස්ත්‍රැවේ මහතා, වදන් මාලා පිටු පස සැඟවෙයි. බොහෝ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නො සලකා හරින්නේ කුමක් දැයි යන්න ස්ත්‍රැවේ මහතා මැනවින් හෙළිදරව් කරයි. එම කරුණ නම් සාමාන්‍ය සහ සැමද දක්නට ලැබෙන ඉතිහාසයේ සූදනම් කිරීමේ කාලවලට වඩා, විප්ලවීය කාල පරිච්ඡේදයක් වෙනස් වන බවය. එම කාලයේ දී පොදු ජනතාව ගේ චිත්ත ස්වභාවය, කැළඹිල්ල හා අවබෝධයන් ක්‍රියාවෙන් ප්‍රකාශිත වන සහ විය යුතු බව ය.

වචන යනු ක්‍රියා ද වන බව දැකීමට කෙළෙසුනු විප්ලවවාදය අසමත් වෙයි. ඉතිහාසයට, පොදු වශයෙන් හෝ විවෘත පොදුජන සටන් සිදු නොවන ඉතිහාස කාල පරිච්ඡේදවලට, ගලපන ලද කල, මෙම ප්‍රස්තුතය විවාදයෙන් තොරව පිළිගත යුතු බව පෙනේ. කිසිම වර්ගයක කුමන්ත්‍රණකාරී කැරළි වලින්, එවැනි ක්‍රියාකාරිත්වයක අඩුව පිරවීමට

හෝ, එවැනි ක්‍රියාකාරිත්වයක් කෘත්‍රිම ලෙස උද්ගත කිරීමට හෝ, පුළුවන් කමක් නොමැත. විප්ලවීය කාල පරිච්ඡේදයක් උදා වී තිබෙන කල, පැරණි උඩු ව්‍යුහය ඉහළ සිට පහළට දෙදරා ගොස් ඇති විට, තමන්ගේ ම නව උඩු ව්‍යුහයක් නිර්මාණය කරමින් සිටින පංති වල හා පොදු ජනතාව ගේ විවෘත දේශපාලන සටන යථාර්ථයක් බවට පත්ව තිබෙන විට, යමෙක් ''සටනට'' කෙළින්ම මාරුවීමේ අවශ්‍යතාවය පිළිබඳ ඍජු සටන් පාඨය ඉදිරිපත් නොකර, පැරණි විධියෙන්ම වචනවලට පමණක් සීමා වී සිටීමත්, ''මානසිකත්ව තත්වයන්'' හා ''ප්‍රචාරය'' අවශ්‍ය යයි පොදු වශයෙන් කියමින්, සටන මඟ හැරීමට උත්සාහ කිරීමත්, උදාසීනත්වය, මළානික භාවය, අති පණ්ඩිත කම හෝ, එසේ නැතහොත් විප්ලවය පාවා දීම හා එයට ද්‍රෝහී වීම බව වටහා ගැනීමට, වල්ගාවාදී විප්ලවවාදීහු අසමත් වෙති. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රැන්ක්පර්ට් පූරාජේරු කාරයන්, එවැනි ම ද්‍රෝහී කමක්, නැතහොත් එවැනි ම පණ්ඩිතමානී මුග්ධ කමක් පිළිබඳ අමතක නොවන ඓතිහාසික ආදර්ශයකි.

රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසය තුළ වූ කෙළෙසුනු විප්ලවවාදයත්, විප්ලවවාදීන් ගේ වල්ගාවාදයත් අතර මෙම වෙනස පැහැදිලි කර ගැනීමට ඔබ කැමති ද? අපි ඔබට එවැනි පැහැදිලි කිරීමක් ඉදිරිපත් කරන්නෙමු. ඉතාමත් මෑත කාලයක් වන, නමුත්, දැනටමත් අපට පැරණි ඉතිහාසය සේ පෙනෙන 1901 හා 1902 අවුරුදු සිතට නගා ගන්න. පෙළපාලි පටන් ගෙන තිබුණි. ''ප්‍රහාරක උපක්‍රම'' (''රබෝචිය දියල'') ගැන කෙළෙසුනු මාක්ස්වාදයේ අදෝනාවක් නංවා තිබුණි. එසේම, ප්‍රවෘත්ති පත්‍රයක් මාර්ගයෙන් (නදෙෂ්දින්) දේශ-ව්‍යාප්ත පරිමාණයෙන් උද්ඝෝෂණයක් කරගෙන යාමේ අදහසෙහි ''සාහිත්‍යික පූච්චානම'' හා හාන්සි පුටු ස්වභාවය වෙත පහර එල්ල කරමින් (මගේ මතකය නිවැරදි නම් ජර්මනියෙන් නිකුත් කළ) ''ලේ පිපාසිත පත්‍රිකා'' නිකුත් වෙමින් තිබුණි.[40] ඊට ප්‍රතිකූල වශයෙන්, ''ආර්ථික අරගලය හොඳම දේශපාලන උද්ඝෝෂණ මාධ්‍යය වන්නේ ය'' යන උගැන්වීම තුළින් එම වකවානුවේ විප්ලවවාදීන්ගේ වල්ගාවාදය ප්‍රකාශයට පත්විය. ඒ අතර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් හැසිරුණේ කෙසේ ද? ඔවුහු උපනතී දෙකටම පහර දුන්හ. විවෘත පොදුජන සටන හෙට දිනට නියමිත කරුණක් බව හැම දෙනාටම පැහැදිලිව තිබිය යුතු වූ හෙයින්, ඔවුහු ප්‍රහාරය පිළිබඳ ගිණි කෙළි සෝෂා හෙළා දුටහ. වල්ගාවාදය විවෘත ලෙස හෙළා දුටු ඔවුහු, පොදුජන කැරළි සහිත නැගී සිටීමක් සඳහා සටන් පාඨය පවා නිකුත් කළහ. ඔවුන් එම සටන් පාඨය නිකුත් කළේ එක එල්ලේම කරන ආයාචනයක අර්ථයෙන් නොව (ඒ කාලයේ අප කළ ප්‍රකාශයන්හි ''කෝලාහල'' කිරීම සඳහා වූ ආයාචනයක් සොයා ගැනීමට ස්ත්‍රුවේ මහතාට නොහැකි වනු ඇත)



බැස ගත යුතු අවශ්‍ය නිගමනයක අර්ථයෙනි; විමති වූ හා තන්හාධික ධනපති පංතියේ නියෝජිතයන් ''කණගාටුවෙන් හා අනුචිතභාවයෙන්'' දේශනා කරන, ඒ ''සමාජ-මානසිකත්ව තත්වයන්'' ම සූදනම් කිරීමේ අදහසින් (මෙතෙක් පමා වී දැන් ස්ත්‍රුවේ මහතාට කල්පනා වී තිබෙන — අපේ වැදගත් ස්ත්‍රුවේ මහතා කවදත් සිටින්නේ කාලයට වඩා අවුරුදු ගණනක් පස්සෙනි) ''ප්‍රචාරය'' කිරීමේ අර්ථයෙනි. ඒකාලයේදී, පැවති වාස්තවික තත්වය විසින් ප්‍රචාරය සහ උද්ඝෝෂණය නැතහොත්, උද්ඝෝෂණය සහ ප්‍රචාරය සැබැවින් ම පෙරමුණට ගෙනෙන ලදී. ඒ කාලයේදී කැරළි ගසමින් නැගී සිටීමක් සඳහා කරන වැඩ කටයුතු වල උරගලක් වශයෙන් සමස්ත රුසියා දේශපාලන ප්‍රවෘත්ති පත්‍රයක් පළ කරීම යෝජනා කළ හැකි විය. සතිපතා එවැනි පත්‍රයක් පළ කිරීම පරමාදර්ශයක් සේ පෙනිණ. (ඒ අනුව ''කළ යුත්තේ කුමක් ද? ''යන කෘතියෙන් එය යෝජනා කරන ලදී). එම වකවානුවේ දී විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එකම නිවැරදි සටන් පාඨ වූයේ, එක එල්ලේම සන්නද්ධ සටනෙහි යෙදීම නොව පොදු ජන උද්ඝෝෂණය සඳහා පෙළඹවීම් කරන සටන් පාඨ ය; ගිණි කෙළි නොව, සමාජ-මානසිකත්ව තත්වයන් සූදනම් කිරීම සඳහා පෙළඹවීම් කරන සටන් පාඨ ය. මේ කාලය වන විට මෙම සටන් පාඨ පසු කර සිදුවීම් ඉදිරියට ගොස් ඇත. ව්‍යාපාරය ඒවා අභිබවා ගොස් ඇත. එම සටන් පාඨ අස්වබෂ්ජේනිය වංචා සහ නව ඉස්ක්‍රා වල්ගාවාදය වසා තැබීමට පමණක් සුදුසු වන කඩමාළු බවට පත්ව තිබේ!

නැතහොත්, ඇතැම් විට මට වැරදීමක් සිදු වීද? සමහර විට තවමත් විප්ලවය ආරම්භ වී නැතුවා වත් ද? පංතීන්ගේ විවෘත දේශපාලන සටන් සඳහා සුදුසු කාලය තවමත් එළඹ නැතිව ද? සමහර විට තවමත් සිවිල් යුද්ධය ආරම්භ වී නැති අතර, විවේචනයේ ආයුධ වල අනිවාර්ය අනුප්‍රාප්තිකයා, උරුමක්කාරයා, භාරකාරයා සහ එය උච්ඡ අවස්ථාවට නංවන්නා වන, ආයුධ මගින් කෙරෙන විවේචනය තවමත් අවශ්‍ය වී නො මැති ද?

ඔබේ පොත් කාමරයෙන් පිටව වටපිට බලන්න. වීදියට ගොස් එහි දී ඔබේ පිළිතුරු සොයන්න. සාමකාමී නිරායුධ පුරවැසියන් සෑම තන්හි ම බුරුතු පිටින් වෙඩි තබා දැමීමෙන් ආණ්ඩුව ම සිවිල් යුද්ධය ආරම්භ කර නැද්ද? ආයුධ සන්නද්ධ කළු සියය පිරිස්, ඒකාධිපත්‍යයේ ''තර්කය'' ලෙසට ඉදිරියට පැමිණ නැද්ද? පුරවැසි හමුදාවක් අවශ්‍ය බව ධනපති පංතිය — ධනපති පංතිය පවා පිළිගෙන නැද්ද? ''විප්ලවවාදී සටනේ විවෘත ස්වභාවය'' (අද අපේ හැටි එසේය) දැන් ''පොදු ජනතාවන් කෙරෙහි අධ්‍යාපනික බලපෑම් කිරීමේ ඉතාමත් වැදගත් කොන්දේසියක් වී තිබේ'' යයි ස්ත්‍රුවේ මහතාම, ආදර්ශමත් තරමට මධ්‍යස්ථ හා සුළු දේ ගැන

පවා බැරෑරුම් ලෙස සිතන, ස්ත්‍රුවේ මහතාම, කියනවා නොවේ ද (ඔහු එය කියන්නේ ප්‍රශ්නය මග හැරීමට වීම බේදයකි) ?

කැරළි ගසමින් නැගී සිටීමක් පිළිබඳ ප්‍රශ්නය, දැන් විප්ලව කරුවන් විසින් ඉදිරිපත් කරනු ලැබිය යුත්තේ කෙසේද යන්න දැකීමට ඇස් ඇති අයට, ඒ ගැන සැකයක් තිබිය නො හැක. පොදු ජනතාවට බල පෑමේ හැකියාව ඇති නිදහස් ප්‍රවෘත්ති පත්‍රවල මෙම ප්‍රශ්නය ඉදිරිපත් කර තිබෙන තුන් ආකාරයක් ගැන පිරික්සා බලමු.

ඉදිරිපත් කිරීමේ ප්‍රථම ආකෘතිය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාව.* පොදු ප්‍රජා-තන්ත්‍රවාදී විප්ලවවාදී ව්‍යාපාරය විසින් දැනටමත්, කැරළි ගසා නැගී සිටීමක අවශ්‍යතාවය උද්‍ර කර තිබේ. කැරළි ගසමින් නැගී සිටීමක් සඳහා නිර්ධන පංතිය සංවිධානය කිරීම, පක්ෂයේ වැදගත්, ප්‍රධාන හා අනිවාර්ය කර්තව්‍යයක් ලෙසට දවසේ වැඩ සටහනට ඇතුලත් කර තිබේ. නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කිරීමත්, කැරළි ගසා නැගී සිටීමට සෘජු නායකත්වය දීමට හැකි වීමත් පිණිස ඉතාමත් ශක්තිමත් පියවර ගන්නා ලෙස එයින් උපදෙස් දී තිබේ.

ඉදිරිපත් කිරීමේ දෙවැනි ආකෘතිය. ''රුසියානු ව්‍යවස්ථානුකූලවාදීන් ගේ නායකයා'' (යුරෝපීය ධනපති පංතියේ ''ප්‍රැන්ක්පර්ට් පත්‍රය''[41] වැනි මහත් බලපෑමක් ඇති පත්‍රයක්, ස්ත්‍රුවේ මහතා හැඳින්වූයේ එසේය), නොහොත්, රුසියානු ධනපති පංතියේ නායකයා ගේ ප්‍රතිපත්ති ප්‍රකාශයක් සමග ''අස්වබෂ්ජේනිය'' පත්‍රයේ ලිපියකි. කැරළි ගසා නැගී සිටීමක් නොවැලැක්විය හැකිය යන අදහස ඔහු නො පිළිගනී. රහස්‍ය ක්‍රියාකාරිත්වය සහ කෝලාහල කිරීම අසාධාරණ විප්ලවවාදයේ විශේෂ විධි වෙති. සමූහාණ්ඩුවාදය යනු සිහිසන් නැති කරන ක්‍රමය ය. කැරළි ගසා නැගී සිටීමක් යනු ශිල්පීය ස්වභාවයේ ප්‍රශ්නයක් වන අතර, ''මූලික සහ ඉතාමත් අවශ්‍ය කර්තව්‍යය'' වන්නේ පොදුජන ප්‍රචාරය කරගෙන යාම සහ සමාජ-මානසිකත්ව තත්වයන් සූදනම් කිරීමය.

ඉදිරිපත්කිරීමේ තුන්වැනි ආකෘතිය: නව ඉස්ක්‍රා සාකච්ඡා සභාවේ යෝජනාව. අපගේ කර්තව්‍යය වන්නේ කැරළි ගසමින් නැගී සිටීමක් සූදනම් කිරීම ය. සැලසුම් කළ පරිදි කැරළි ගසා නැගී සිටීමක්, කිසිසේත් විය නො හැක්කකි. කැරළි ගසමින් නැගී සිටීමකට වාසිදායක තත්වයන් නිර්මාණය වන්නේ, ආණ්ඩුව අවුල් කිරීමෙන් අපගේ උද්ඝෝෂණයෙන් හා අපගේ සංවිධාන කටයුතු වලිනි. ''ශිල්පීය ස්වරූපයේ සටන් සූදනම්, එක්තරා ප්‍රමාණයකට බරපතල ලෙස අර්ථාන්විත විය හැක්කේ'' එවිට පමණකි.

එපමණ ද? ඔව්, එපමණ ය. කැරළි ගසමින් නැගී සිටීම අවශ්‍යවී තිබේ ද යන්න නිර්ධන පංතියේ නව ඉස්ක්‍රා නායකයෝ තවමත් නො දනිති. වහාම අරගලයෙහි යෙදීම සඳහා නිර්ධන පංතිය සංවිධානය කිරීමේ

* මුළු යෝජනාව මෙසේය:

''1. නිර්ධන පංතිය දරන තත්වය අනුව, එය ඉදිරියෙන්ම සිටින හා සසංගත ලෙස විප්ලවවාදී වන එකම පංතිය වීම නිසා, රුසියාවේ පොදු ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවවාදී ව්‍යාපාරයේ නායක කාර්ය කොටස එයට පැවරී ඇති හෙයින් ද,

2. වර්තමාන කාලයේ දී මෙම ව්‍යාපාරය විසින් ආයුධ සන්නද්ධ නැගී සිටීමක අවශ්‍යතාවය උද්‍ර කර ඇති හෙයින්ද,

3. මෙම නැගී සිටීමේදී, අනිවාරණීය වශයෙන්ම නිර්ධන පංතිය ඊට ඉතාමත් උද්යෝගිමත් ලෙස සහභාගි වන, හා එම සහභාගිවීම තුළින් රුසියාවේ විප්ලවයේ ඉරණම විසඳෙනු ඇති, හෙයින් ද,

4. නිර්ධන පංතියට මෙම විප්ලවයේ නායක කාර්ය කොටස ඉටු කළ හැකි වන්නේ, එහි අරගලය දෘෂ්ටිමය හා ප්‍රායෝගික යන දෙ ආකාරයෙන්ම මෙහෙයවන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය යටතේ ඒකීය සහ ස්වාධීන දේශපාලන බලවේගයක් වශයෙන් එය එක්සක් වී සිටියහොත් පමණක් වන හෙයින් ද,

5. සමාජවාදය සඳහා, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී රුසියාවේ දේපල හිමි පංතියට විරුද්ධව කරන අරගලයට ඉතාමත් වාසිදායක තත්වයන් ඇති වීම සහතික වන්නේ මෙම කාර්ය කොටස ඉටු කිරීමෙන් වන හෙයින් ද,

ආයුධ සන්නද්ධ නැගී සිටීමක් මගින්, ඒකාධිපත්‍යයට විරුද්ධව කෙළින්ම අරගල කරනු පිණිස නිර්ධන පංතිය සංවිධානය කිරීමේ කර්තව්‍යය, වර්තමාන විප්ලවකාරී අවස්ථාවෙහි පක්ෂයේ ප්‍රධාන හා ඉතාමත් හදිසි කර්තව්‍යයන් ගෙන් එකක් බව රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය අදහස් කරයි.

ඒ අනුව,

(අ) සෑම ප්‍රචාරක හා උද්ඝෝෂණ මාර්ගයකින්ම, ඉදිරියේ එන සන්නද්ධ නැගී සිටීමේ දේශපාලන වැදගත්කම පමණක් නොව, එහි ප්‍රායෝගික සංවිධාන අංශයත් නිර්ධන පංතියට පැහැදිලි කර දෙන මෙන්ද,

(ආ) නැගී සිටීම ආරම්භයේ හා එය පවතින විට ඉතාමත් වැදගත් විය හැකි, පොදු ජන දේශපාලන වැඩ වර්ජන වලින් ඉටුවන කාර්ය කොටස එම ප්‍රචාරක හා උද්ඝෝෂණ කටයුතු වලදී පැහැදිලි කර දෙන මෙන් ද,

(ඇ) නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කිරීමත්, එසේම, සන්නද්ධ නැගීසිටීමේ හා එයට සෘජු නායකත්වයක් දීමේත් සැලැස්මක් සකස් කරන මෙන් හා ඒ සඳහා අවශ්‍ය ලෙස හා අවශ්‍ය විට පක්ෂ කාරක වරුන් ගේ විශේෂ කණ්ඩායම් පිහිටුවන මෙන්ද,

සම්මේලනය සියළුම පක්ෂ සංවිධානවලට උපදෙස්දෙයි''. (1907 මුද්‍රණයට කර්තෘගේ සටහන. — සංස්කාරක)

කර්තව්‍යය හදිසි කර්තව්‍යයක්ද යන්න, ඔවුනට තවමත් පැහැදිලි නැත. ඉතාමත් ශක්තිමත් පියවරයන් ගන්නා ලෙස උනන්දු කිරීමේ අවශ්‍යතාවයක් නැත. මෙම පියවරයන් ''එක්තරා ප්‍රමාණයකට බරපතල ලෙස'' අර්ථාන්විත ''විය හැක්කේ'' කුමණ තත්වයන් යටතේ ද යන්න සාමාන්‍යයෙන් දළ වශයෙන් විස්තර කිරීම (1902 දී නොව 1905 දී) ඊට වඩා බොහෝ වැදගත්ය.

නව ඉස්ක්‍රා සහෝදරවරුනි, මර්තිනව්වාදයට නැඹුරු වීමෙන් ඔබ පැමිණ ඇත්තේ කොතැනට ද යන්න ඔබට දැන් පෙනේ ද? ඔබගේ දේශපාලන දර්ශනය අස්වබෂ්ජේනිය දර්ශනයේ ම අළුත් සංස්කරණයක් බව ඔප්පු වී ඇතැයි යනුත්, (ඔබගේ කැමැත්තට පටහැනිව, ඔබ නොදැනම) ඔබ රාජාණ්ඩුවාදී ධනපති පංතිය පසුපස ඇදී යන බවත් ඔබට වැටහෙන්නේද? යල් පැන ගිය සත්‍ය පුන පුනා කියමින්, ඔබ බොරු තර්ක නිපුණ වීමෙහි යෙදී සිටියදී, පියෝතර් ස්ත්‍රූවේ ගේ අමතක නොවන ලිපියේ, අමතක නොවන වචන වලින් සඳහන්, ''විප්ලවවාදී සටනේ විවෘත කටයුතු පොදු ජනතාවන් කෙරෙහි අධ්‍යාපනික බලපෑම් කිරීමේ ඉතාමත් වැදගත් කොන්දේසියක් වී තිබේ'' යන කරුණ ඔබට අමතක වී තිබෙන බව පැහැදිලි නොවේ ද?

## 9. විප්ලවය සමයේදී අන්ත විරුද්ධ පාර්ශ්වයේ පක්ෂයක් යනුවෙන් අදහස් වන්නේ කුමක්ද?

තාවකාලික ආණ්ඩුව පිළිබඳ යෝජනාව වෙත ආපසු යමු. නව ඉස්ක්‍රාවාදී උපක්‍රම විප්ලවය ඉදිරියට තල්ලු නො කරන බව අපි පෙන්වා දී ඇත්තෙමු. ඔවුන්ගේ යෝජනාව මගින්, එසේ කිරීමේ ඉඩ කඩ සහතික කිරීමට ඔවුන් කැමති වන නමුත්, ඔවුන් ගේ උපක්‍රම වලින් කරන්නේ එය ආපස්සට ඇදීම ය. චපල ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේ දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අත් බඳින්නේත්, එය ධනපති ප්‍රජාතන්ත්‍රයේ දිය වී යාමෙන් ආරක්ෂා නො කරන්නේත්, නියත වශයෙන් ම මෙම උපක්‍රමය ම වග, අපි පෙන්වා දී ඇත්තෙමු. මෙම යෝජනාවේ සාවද්‍ය තර්ක මූලයෙන් ස්වාභාවික වශයෙන් බැස ගත හැකි නිගමනය මෙසේය: ''එනිසා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තාවකාලික ආණ්ඩුවේ බලය අල්ලා ගැනීමේ හෝ එයට හවුල් වීමේ හෝ අරමුණ ඇති කර නො ගෙන අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය වශයෙන් පැවතිය යුතුය''. මෙම නිගමනයේ ප්‍රථම කොටස ගැන සලකා බලන්න. අරමුණු ගැන ප්‍රකාශයක් එහි අඩංගුය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කටයුතුවල අරමුණ, සාර්වාදය පරදවා



විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණය බව නව ඉස්ක්‍රාවාදී හු ප්‍රකාශ කරති ද? ඔවුහු එසේ ප්‍රකාශ කරති. තීරණාත්මක ජයග්‍රහණයකට අදල කොන්දේසි නිවැරදි ලෙස සකස් කර ගැනීමට අසමත්ව, ඔවුහු ''අස්වබෂ්ජේනිය'' ප්‍රකාශය පිට වැටෙති; එහෙත් ඔවුහු මෙම අරමුණ ද නියම කර ගනිති. තව දුරටත්, කැරළි ගසමින් නැගී සිටීම හා සමග, තාවකාලික ආණ්ඩුවක් සම්බන්ධ කිරීමට ඔවුහු යොමු වෙත් ද? එසේය. ''ජයග්‍රාහී පොදු ජන කැරළි සහිත නැගී සිටීමෙන්'' තාවකාලික ආණ්ඩුවක් ''උද්ගත වනු ඇතැ''යි එක එල්ලේම ප්‍රකාශ කිරීමෙන් ඔවුහු එසේ කරති. අවසාන වශයෙන් කැරළි සහිත නැගී සිටීම මෙහෙයවීමේ අරමුණ ඔවුන් තමන් වෙනුවෙන් නියම කරගන්නේ ද? එසේ ය. ඔවුහු එසේ කරති. ස්ත්‍රූවේ මහතා මෙන්, ඔවුහුද, කැරළි ගසමින් නැගී සිටීමක් හදිසි අවශ්‍යතාවයක් වී තිබෙන බව පිළිගැනීම මග හරිති. නමුත් ඒ අතරම ඔවුන් ස්ත්‍රූවේ මහතාට වෙනස්ව යමින් ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, එය (කැරළිගසමින් නැගී සිටීම) තම බල පෑමට හා නායකත්වයට යටත් කිරීමටත්, එය කම්කරු පංතියේ යහපත පිණිස උපයෝගි කරගැනීමටත් උත්සාහ කරන බව කියති.

මෙය කොතරම් අගේට ගැලපෙන්නේ ද? නිර්ධන පංතික සහ නිර්ධන පංතික නොවන යන දෙකොටසෙහි ම පොදු ජනතාවන්ගේ කැරළි සහිත නැගී සිටීම, අපගේ බලපෑමට හා අපගේ නායකත්වයට යටත් කිරීමේ සහ, එය අපගේ යහපත පිණිස උපයෝගි කර ගැනීමේ අරමුණ, අප සඳහා නියම කරගෙන ඇත්තෙමු. එනිසා, කැරළි ගසා නැගී සිටීමේ දී නිර්ධන පංතිය සහ විප්ලවවාදී ධනපති පංතිය හා සුළුධනපති පංතිය (''නිර්ධන පංතික නොවන කණ්ඩායම්'') යන දෙ ආකාරයේම කොටස් වලට නායකත්වය දීමේ, එනම්, නැගී සිටීමේ නායකත්වය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සහ විප්ලවවාදී ධනපති පංතිය අතර ''බෙදගැනීමේ'' අරමුණ අපි නියම කරගෙන ඇත්තෙමු. කැරළි ගසමින් නැගී සිටීම ජයග්‍රහණයට පත් කිරීමේ අරමුණ නියම කරගත්තෙමු. එම ජයග්‍රහණය (''ජයග්‍රාහී පොදු ජන ජයග්‍රහණයකින් උද්ගත වන'') තාවකාලික ආණ්ඩුවක් ස්ථාපිත කිරීමට මාර්ගය හෙළි කරනු ඇත. එනිසා... එනිසා, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවේ බලය අල්වා ගැනීමේ හෝ එයට හවුල් වීමේ අරමුණ අපි නියම කර නොගත යුත්තෙමු!

අප මිතුරෝ ඔවුන්ගේ තර්ක එකට එක ගැලපීමට නො හැකිව සිටිති. කැරළි ගසමින් නැගී සිටීමක් පිළිබඳ ප්‍රශ්නය මග හරින ස්ත්‍රූවේ මහතා ගේ ස්ථාවරයත්, එය හදිසි කර්තව්‍යයක් වශයෙන් භාර ගෙන ඉටු කරන ලෙස මෙහෙයවන විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ස්ථාවරයත් අතර ඔවුහු වැනෙමින් සිටිති. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සෑම ආකා-

රයකින් ම සහභාගි වීම, ප්‍රතිපත්තියක් වශයෙන්, නිර්ධන පංතියට ද්‍රෝහී වීමක් සේ සලකා හෙළා දකින අරාජිකවාදයත්, කැරළි ගසමින් නැගී සිටීම තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ බල පෑම ඇතොත්, එසේ සහභාගිවීම අපේක්ෂා කරන* මාක්ස්වාදයත් අතර ඔවුහු වැනෙති. ඔවුන් හට කිසිම ස්වාධීන ස්ථාවරයක් නොමැත. සාර්වාදය සමග එකඟත්වයකට පැමිණීමට අපේක්ෂා කරන,එනිසා,කැරළි ගසමින් නැගී සිටීම හා සම්බන්ධ ප්‍රශ්නයේ දී මගහැරීමට හා කූට ප්‍රයෝගයෙහි යෙදීමට පෙළඹෙන ස්ත්‍රුවේ මහතාගේ ස්ථාවරය හෝ, ''ඉහළින්'' කරන සියළු කටයුතු සහ සෑම ආකාරයකින්ම ධනපති විප්ලවයට සහභාගි වීම හෙළා දකින ආරජිකවාදීන්ගේ ස්ථාවරය හෝ,ඔවුන් පිළිගන්නේ නැත. නව ඉස්ක්‍රා කණ්ඩායම,සාර්වාදය සමග ඇති කර ගන්නා එකඟත්වයත්, එය පරදවා ලබන ජයග්‍රහණයත්, යන දෙක එකට පටලවා ගන්නේ ය. ධනපති විප්ලවයකට සහභාගි වීමට ඔවුහු අපේක්ෂා කරති. ඔවුන් මර්තීනව්ගේ ''ආඥදයකත්ව දෙකක්'' ඉක්මවා තරමක් දුර ගොස් ඇත.''ජනතාවගේ කැරළි සහිත නැගී සිටීමකට නායකත්වය දීමට පවා ඔවුහු කැමැත්ත දෙති. එහෙත්, ඔවුන් එසේ කරන්නේ ජයග්‍රහණ අත්පත් කර ගත් වහාම (සමහර විට ජයග්‍රහණය ආසන්නව තිබිය දී) එම නායකත්වය අත් හරිනු සඳහා ය. ඒ, ජයග්‍රහණයේ ඵල ප්‍රයෝජන තමන්ම නොගෙන, මෙම ඵල ප්‍රයෝජන සියල්ලම, සම්පූර්ණයෙන්ම, ධනපති පංතියට හිමි කර දෙනු සඳහා ය. ''කැරළි ගසමින් නැගී සිටීම කම්කරු පංතියේ යහපත පිණිස උපයෝගි කර ගැනීම...'' යනුවෙන්, ඔවුන් හඳුන්වා ඇත්තේ මෙය යි.

මෙම අවුල් ජාලය ගැන තවත් කීම අවශ්‍ය නැත. ''අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය වශයෙන් පැවතීම''යන්නෙන්, මෙම අවුල් ජාලය ආරම්භ වූයේ කෙසේ ද යන්න පරීක්ෂා කර බැලීම, වඩාත් ප්‍රයෝජනවත් වනු ඇත.

මෙය ජාත්‍යන්තර විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සුපුරුදු ප්‍රස්තුතයන්ගෙන් එකකි. එය සම්පූර්ණයෙන් ම නිවැරදි ප්‍රස්තුතයකි. පාර්ලිමේන්තු ඇති රටවල සංශෝධනවාදයට සහ අවස්ථාවාදයට විරුද්ධ සියළු දෙනාටම, එය සාමාන්‍ය කියමනක් වී ඇත. ''පාර්ලිමේන්තු මධ්‍යස්ථවාදයට'' ත් මිලරන්වාදයට, බර්න්ෂ්ටයින්වාදයට[42] හා ඉතාලි වර්ගයේ තුරාටි ප්‍රති සංස්කරණවාදයටත්, පහර දෙන සාධාරණ හා අවශ්‍ය පිළිවදන ලෙසට එය පොදුවේ පිළිගැනුණු තත්වයක් තිබුණි. අපේ හොඳ නව ඉස්ක්‍රාවාදීහු, මෙම මාහැඟි ප්‍රස්තුතය කට පාඩම් කරගෙන උත්සුක්ත

* ''ප්‍රොලිතාරි,'' අංක 3, ''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ගැන'', දෙවැනි ලිපිය.



ලෙස... ඉතා අනුචිත ආකාරයෙන් ව්‍යවහාරයට නගති. පාර්ලිමේන්තු නොමැති තත්වයන් උදෙසා ලියන යෝජනාවලට, පාර්ලිමේන්තු අරගල පිළිබඳ ප්‍රවර්ගයන් ඇතුලත් කරනු ලැබේ. ''විරුද්ධ පාර්ශ්වය'' යන සංකල්පය, කැරළි ගසමින් නැගී සිටීමක් ගැන කිසිවෙක් බරපතල ලෙස කථා නොකරන දේශපාලන තත්වයක් පිළිබිඹු කරන්නකි, එවැනි තත්වයක් හඟවන්නකි. කැරළි ගසමින් නැගී සිටීම ආරම්භ වී ඇති කල විප්ලවයේ ආධාරකරුවන් සියළු දෙනාම එහි නායකත්වය ගැන සිතන හා කථා කරන තත්වයක් පවතින කල, ඊට අදලව ඉහතකී සංකල්පය අර්ථ විරහිත ලෙස යොදනු ලැබේ. කැරළි ගසමින් නැගී සිටීම ජයග්‍රහණයට පත්වුවහොත්, ඉහළින් සිට කට යුතු කිරීමේ අවශ්‍යතාවය විප්ලවය විසින් අප හමුවේ මතු කර ඇති අවස්ථාවකම, නියත වශයෙන්ම, පැරණි විධි ක්‍රම ''රැක ගැනීමේ'' කැමැත්ත, ''පහළින්'' පමණක් කටයුතු කිරීමේ කැමැත්ත, ගැන වගාඩම්බර සහිත හා ආන්දෝලනකාරී ඝෝෂාවක් කරනු ලැබේ.

නැත. අපේ නව ඉස්ක්‍රා කණ්ඩායම ඇත්තෙන්ම අවාසනාවන්ත ය. ඔවුන් නිවැරදි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රස්තුතයන් සකස් කරගත් විට පවා, එය නිවැරදි ලෙස ව්‍යවහාරයට නගන්නේ කෙසේද යන්න දන්නේ නැත. විප්ලවය ආරම්භ වී තිබෙන විට, විප්ලවයක්, සිවිල් යුද්ධයක්, නැතහොත්, කැරළි ගසමින් තැනින් තැන නැගී සිටීම්, ඇති වන විට, ඒ වන විටත් පාර්ලිමේන්තුවක් නොමැති නම්, පාර්ලිමේන්තු අරගලය පිළිබඳ කොන්දේසි සහ සංකල්ප, පරිවර්තනයකට භාජනය වී, ඒවායේ විරුද්ධාර්ථයට පත්වන බව වටහා ගැනීමට, ඔවුන්ට නොහැකි වී ඇත. විමර්ශනයට භාජනව ඇති තත්වයන් යටතේ, සංශෝධන ඉදිරිපත් කෙරෙන්නේ වීදි පෙළපාලි මගින් බවත්, අඩු තැන් පිරවීම් කෙරෙන්නේ සන්නද්ධ පුරවැසියන්ගේ ප්‍රහාරාත්මක සටන් මගින් බවත්, ආණ්ඩුවට විරුද්ධත්වය දැක්වීම කෙරෙන්නේ බලහත්කාරයෙන් ආණ්ඩුව පෙරළා දැමීමෙන් බවත්, ඔවුනට අවබෝධ වී නැත.

අපේ ජන කාව්‍යයෙහි සඳහන් සුප්‍රකට වීරයා ස්ථානෝචිත නොවන හොඳ උපදෙස් යළි යළිත් ප්‍රතිරාවය කළ මෙන්, අපගේ මර්තීනව් අනුගාමිකයෝ ද, නියම සටන් ඇවිළී ඇතැයි ඔවුන්ම කියන කාලයක සාමකාමී පාර්ලිමේන්තුවාදයේ පාඩම් නැවතත් කියති. ''විප්ලවයේ තීරණාත්මක ජයග්‍රහණයක්'' හා ''පොදු ජන කැරළි සහිත නැගී සිටීමක්'' ගැන සඳහන් කරමින් ආරම්භ කරන යෝජනාවකින්, ''අන්ත විරුද්ධපාර්ශ්වය'' ගැන සටන් පාඨය, වගාඩම්බර ලීලාවෙන් ඉදිරිපත් කිරීමට වඩා තවත් විහිළුවක් නැත! කැරළි ගසා නැගී සිටීමේ කාලයක, ''අන්ත විරුද්ධපාර්ශවය'' වීම යන්නෙන් අදහස් කෙරෙන්නේ කුමක්දැයි වටහා ගැනීමට

උත්සාහ ගන්න, මහත්වරුනි. ආණ්ඩුව ගැන හෙළිදරව් කිරීමක් හෝ එය බලයෙන් පහ කර දැමීමක් එයින් අදහස් වේද? ආණ්ඩුවට විරුද්ධව ඡන්දය දීම හෝ විවෘත සටන් මගින් එහි යුද්ධ සේනා පරාජය කිරීම එයින් අදහස් වේ ද? ආණ්ඩුවේ භාණ්ඩාගාරයේ අඩු පාඩු පිරවීමට මුදල් දීමට ප්‍රතික්ෂේප කිරීමක් හෝ, එසේ නැතහොත්, නැගී සිටීමේ අවශ්‍යතා පිණිස, කම්කරුවන් හා ගොවීන් ආයුධ සන්නද්ධ කිරීමට හා ආණ්ඩු ක්‍රම සම්පාදක සභාවක් රැස්කිරීමට, භාණ්ඩාගාරය අත්පත් කර ගැනීමක් එයින් අදහස් වේද? ''අන්ත විරුද්ධ පාර්ශ්වය'' යන වචන වලින් ප්‍රකාශ-වන්නේ ප්‍රතිෂේධාත්මක ක්‍රියාවන්, එනම් හෙළිදරව් කිරීම, විරුද්ධව ඡන්දය දීම හා ප්‍රතික්ෂේප කිරීම, බව ඔබට අවබෝධ වීමට පටන් ගෙන නො-මැති ද, මහත්වරුනි? එය එසේ වන්නේ මන්ද? එසේ වන්නේ මෙම වචන පාර්ලිමේන්තු අරගලයට පමණක් අදාළ වීම නිසයි. ඊටත් වඩා, ''තීරණාත්මක ජයග්‍රහණය'' කිසිවෙකු විසින් අරගලයේ හදිසි අරමුණ කොට නොගනු ලබන කාලයකට එම වචන අදල වීම ය. දේශපාලන වශයෙන් පීඩිත ජනතාව ජයග්‍රහණය පතා මාරාන්තික අරගලයක් කරමින් පෙරමුණ මුළුල්ලේම පැතිරී යන අධිෂ්ඨාන සහගත ප්‍රහාරයක් ආරම්භ කළ මොහොතේ පටන්, මේ සම්බන්ධ තත්වයන් සම්පූර්ණයෙන්ම වෙනස් වන බව, ඔබට අවබෝධ වීමට පටන් ගෙන නැද්ද?

කම්කරුවෝ අපෙන් මෙසේ අසති. කැරළි ගසමින් නැගී සිටීමේ හදිසි කටයුත්ත ශක්තිමත් ලෙස ආරම්භ කළ යුතු ද? මූලාරම්භක අවස්-ථාවේ පවතින නැගී සිටීම ජයග්‍රහණයට පත් කිරීම සඳහා කළ යුත්තේ කුමක් ද? ජයග්‍රහණයෙන් ගතයුතු ප්‍රයෝජන මොනවාද? එවිට ක්‍රියාත්මක කළ හැකි හා කළ යුතු වැඩ පිළිවෙළ කුමක් ද? මාක්ස්වාදය වඩාත් අරුත් සරු කරන නව ඉස්ක්‍රාවාදීහු මෙසේ පිළිතුරු දෙති: අපි අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය වශයෙන් පැවතිය යුතුය... මෙම වීරයන් පිංගුත්තරවාදයේ අතිදක්ෂයන් වශයෙන් අප කළ හැදින්වීම නිවැරදි බව නොපෙනේ ද?

## 10. ''විප්ලවවාදී කොමියුන'' සහ නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී අඥාදයකත්වය

නව ඉස්ක්‍රා කියමන් මගින් එම පත්‍රය පිළිගෙන තිබුණු අරාජිකවාදී ස්ථාවරය (''ඉහළින් හා පහළින්'' නොව ''පහළ සිට'' පමණක් කටයුතු



කිරීම) නව ඉස්ක්‍රා කණ්ඩායමේ සාකච්ඡා සභාව විසින් නොරක ගන්නා ලදී. කැරළි ගසමින් නැගී සිටීමක් ඇතිවීමේ ඉඩ කඩ තිබෙන බව පිළි-ගන්නා අතරම, ජයග්‍රහණය ලැබීමේ සහ තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව-කට සහභාගී වීමේ ඉඩ කඩ තිබෙන බව නො පිළිගැනීමේ අමනෝඥ බව, ඉතාමත් පැහැදිලිව පෙනිනා. එනිසා, එම ප්‍රශ්නය පිළිබඳ මර්තීනව්ගේ හා මාර්තව්ගේ විසඳුමට යම් යම් වෙනස් කිරීම් හා සීමා කිරීම්, යෝජනාවෙහි ඇතුලත් කරන ලදී. යෝජනාවේ පහත සඳහන් කොටසෙහි ඇතුලත් මෙම වෙනස්කම් සලකා බලමු:

''කැරළි ගසමින් නැගී සිටීම පැතිරවීමට හා ආණ්ඩුව කඩා කප්පල් කිරීමට, ආධාර කිරීමේ එකම පරමාර්ථයෙන්, අර්ධ වශයෙන් හා ආනු-ෂංගික ලෙසින්, එක් හෝ තවත් නගරයක, නැතහොත්, එක් හෝ තවත් දිස්ත්‍රික්කයක බලය අල්වා ගැනීමේ හා විප්ලවවාදී කොමියුන පිහිටුවීමේ යථායෝග්‍යතාවය මෙම'' (''අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය වශයෙන් පැවතීම'') ''උපක්‍රමයෙන් කිසි ලෙසකින් හෝ බැහැර නො-කෙරේ.''

එය එසේ නම්, ප්‍රතිපත්තියක් වශයෙන් පහළ සිට පමණක් නොව, ඉහළ සිට වැඩ කිරීම ද පිළිගන්නා බව ඉන් අදහස් වන්නේය. එයින් අදහස් වන්නේ ''ඉස්ක්‍රා'' (අංක 93)හි පළවූ, මාර්තව් ගේ සුප්‍රසිද්ධ පාද-තීරු පාඨයෙන් ඉදිරිපත් කරන ලද ප්‍රස්තුතය ඉවත ලන ලද බව හා ''වපිරියොද්'' උපක්‍රමය, එනම් ''පහළ සිට'' පමණක් නොව ''ඉහළ සිට'' ද කටයුතු කිරීම නිවැරදි යයි පිළිගත් බව ය.

එපමණක් නොව, බලය අල්වා ගැනීම (අර්ධ, ආනුෂංගික, යනාදී වශයෙන් වුවද) සඳහා සහභාගී විය යුත්තේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පමණක් නොවන බව හා නිර්ධන පංතිය පමණක් නොවන බව පැහැදිලි ය. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ගැන උනන්දුවක් දක්වන්නේ සහ එයට ක්‍රියාශීලී ලෙස සහභාගී වන්නේ නිර්ධන පංතිය පමණක් නොවේය යන කරුණ අනුව, එම නිගමනයට බැසගත යුතු වේ. එසේ වන්නේ, විමර්ශනයට භාජනය කෙරෙන යෝජනාවේ ආරම්භයෙහි සඳහන් කරන ලෙසට, කැරළි ගසමින් නැගී සිටීම, ''පොදු ජන'' ස්වභාවයක් දරන, (නැගී සිටීම පිළිබඳ සම්මේලන යෝජනාවෙහි සඳහන් වචන වලින් කියතොත්) ''නිර්ධන පංති නොවන කණ්ඩායම්'' ද, එනම් ධනපති පංතියද, සහභාගී වන එකක් වීම හේතුකොට ගෙන ය. ඒ අනුව බලන කල, සුළු ධනපති පංතිය සමග එක්ව සමාජවාදීන් කිසියම් හෝ ලෙසකින් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගී වීම, කම්කරු පංතිය පාවාදීමකැයි යන ප්‍රතිපත්තිය සාකච්ඡා සභාව විසින් ඉවත ලන ලදී. ''වපිරියොද්'' ප්‍රයත්නය

වූයේ ද එම කටයුත්ත ඉටු කර ගැනීම ය. ''පාවාදීම'' සංයුක්ත වන ක්‍රියාව අර්ධ, ආනුෂංගික, ප්‍රාදේශීය ආදී වූ ස්වභාවයක එකක් වීම නිසා, එය පාවාදීමක් නොවන්නේ නැත. එ බැවින්, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සම්බන්ධ වීම කෙළෙසුනු ජොරේස්වාදය[43] වන්නේ ය යන අදහස සාකච්ඡා සභාව විසින් ඉවත ලන ලදී. ''වපිරියොද්'' ප්‍රයත්නය වූයේ ද එය ඉටු කර ගැනීම ය. ආණ්ඩුවක බලය නගර ගණනාවකට නොවිහිදී, එක නගරයක පමණක් පැතිර තිබීම, නැතහොත් දිස්ත්‍රික්ක කීපයකට නොවිහිදී එක දිස්ත්‍රික්කයක පමණක් පැතිර තිබීම නිසා හෝ, එය දරන නමෙහි විශේෂත්වය නිසා හෝ, එය ආණ්ඩුවක් නොවන්නේ නැත. මෙම කරුණු අනුව බලන කල, නව ඉස්ක්‍රාව මෙම ප්‍රශ්නයට දීමට උත්සාහ කළ න්‍යායක ස්වරූපය සාකච්ඡා සභාව විසින් ප්‍රතික්ෂේප කරන ලදී.

දැන් ප්‍රතිපත්තියක් වශයෙන් පිළිගෙන තිබෙන, විප්ලවවාදී ආණ්ඩු පිහිටුවීම හා ඒවාට සහභාගි වීම සම්බන්ධයෙන් සම්මේලනය පනවා තිබෙන සීමාවන් තර්කානුකූලද යනු බලමු. ''ආනුෂංගික සහ තාවකාලික'' යන දෙක අතර වෙනස ගැන අපි නො දනිමු. මෙයින් මුල් වචනය ''අළුත්'' හා පිටින් ගත් එකක් වන අතර, එය පැහැදිලි චින්තනයක් නොමැතිකම වසං කරන කඩතුරාවක් පමණක් යයි අපි සැක කරමු. එය වඩාත් භාර දූර සේ පෙනෙතත්, ඇත්ත වශයෙන් ම එය වඩාත් නොපැහැදිලි හා අවුල් සහිත වේ. නගරයක හෝ දිස්ත්‍රික්කයක ''බලය'' අර්ධ වශයෙන් ''අල්වා ගැනීමේ'' ''යථායෝග්‍යතාවය'' සහ සම්පූර්ණ රාජ්‍යයක තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීම අතර ඇති වෙනස කුමක් ද? 'නගර'' යන්නට, ජනවාරි 9 දින සිදුවීම් ඇති වූ සාන්ත පීටර්ස්බර්ග් වැනි 'නගර ඇතුලත් නොවේ ද? දිස්ත්‍රික්ක යන්නට, බොහෝ රාජ්‍යයන්ට වඩා විශාල කොකේසියාව වැනි දිස්ත්‍රික්ක ඇතුලත් නො වේ ද? දිස්ත්‍රික්කයක තබා, එක තනි නගරයක පවා ''බලය අල්ලාගත්'' වහාම, සිර ගෙවල්, පොලීසිය, භාණ්ඩාගාරය, ආදිය සම්බන්ධයෙන් කළ යුත්තේ කුමක් ද යන (වරක් නව ''ඉස්ක්‍රා'' වට හිසරදයක් වූ) ප්‍රශ්න වලට මුහුණ දීමට අපට සිදු නොවන්නේ ද? අපට ප්‍රමාණවත් තරම් බලවේග නොමැති නම්, කැරළි ගසා නැගී සිටීම සම්පූර්ණ සාර්ථකත්වයට පත් නොවී නම්, නැතහොත්, ජයග්‍රහණය තීරණාත්මක නොවේ නම්, තනි ප්‍රදේශවල, තනි නගරවල වැනි කලාප වල තාවකාලික විප්ලවවාදී ආණ්ඩු පිහිටුවීමට ඉඩ තිබෙන බව ඇත්තෙන්ම ප්‍රතික්ෂේප කරන කිසිවෙක් නැත. නමුත් මහත් වරුනි, ඒ සියල්ලම සාකච්ඡාවට භාජනය වූ ප්‍රශ්නයට සම්බන්ධ වන්නේ කෙසේ ද? යෝජනාවේ ආරම්භයෙහි ''විප්ලවයේ තීරණාත්මක ජයග්‍රහණයක්'' ගැන, ''ජයග්‍රාහී පොදු ජන කැරළි සහිත නැගී සිටීමක්'' ගැන ඔබට කියනවා නොවේ ද? සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ආරාජිකවාදීන්ගේ මෙහෙය භාර ගත්තේ කවද පටන් ද? නිර්ධන පංතියේ අවධානය හා අරමුණු කැබලි කරමින්, පොදු ඒකීය, ඒකස්ථ හා සම්පූර්ණ වෙනුවට ''අර්ධ'' අරමුණු වෙත එහි අවධානය යොමු කිරීමට පටන් ගත්තේ කවද පටන් ද? නගරයක ''බලය අල්ලා ගැනීම'' ගැන ඔබගේ සහයෝගය දෙන අතර, ඔබට ''කැරළි ගසමින් නැගී සිටීම'' ව්‍යාප්ත කිරීම ගැන කථා කරන්නෙහිය. ඒ වෙනත් නගරයකට යයි සිතීමට අපට පුළුවන්ද? සියළුම නගරවලට යයි ප්‍රාර්ථනා කිරීමට තරම් අපට එඩිතර විය හැකි ද? මහත්වරුනි, ඔබේ තර්කමූලයන් මෙන් ම, ඔබ ගේ නිගමන ද අමනෝඥ සහ අපිළිවෙළය; ප්‍රතිවිරෝධී සහ අවුල් සහගත ය. රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව සම්බන්ධ පොදු ප්‍රශ්නයට අංග සම්පූර්ණ හා පැහැදිලි පිළිතුරක් දුන්නේ ය. මෙම පිළිතුර සෑම වර්ගයකම ප්‍රාදේශීය තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවලට ද අදල වන්නේ ය. එසේ වී නමුත් ප්‍රශ්නයේ එක් කොටසක් කෘත්‍රිම ලෙස හා හිතුමතයට වෙන් කර ගන්නා සාකච්ඡා සභාවේ පිළිතුර සමස්තයක් වශයෙන් ප්‍රශ්නය (එය ද අසාර්ථක ලෙස) මග හරින අතර අවුලක් ඇති කරයි.

''විප්ලවවාදී කොමියුන'' යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද? මෙම සංකල්පය ''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක්'' යන්නට වෙනස් ද? එසේ නම් ඒ කුමණ කරුණු අනුව ද? සාකච්ඡා සභාවේ මහත්වරුම මේ ගැන නොදනිති. විප්ලවවාදී චින්තනය පටලවා ගැනීම නිසා, බොහෝ විට සිදුවන ලෙසටම, ඔවුන් විප්ලවවාදී වදන් හරඹයට යොමු වී ඇත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ නියෝජිතයන් විසින් සම්මත කරන ලද යෝජනාවක, ''විප්ලවවාදී කොමියුන'' යන වචන ඇතුලත් කිරීම, ඇත්ත වශයෙන්ම විප්ලවවාදී වදන් හරඹයක් මිස අන් කිසිවක් නොවන්නේ ය. අනාගත කර්තව්‍යයන් වසං කිරීමට, දිරාගිය අතීතයෙන් යම් යම් ''මනස්කාන්ත'' වචන යොදු ගනිමින් කරන එවැනි වදන් හරඹ, මාක්ස් විසින් නිතර හෙළා දකින ලදී. ඉතිහාසයේ දී ස්වකීය කාර්ය කොටස දැනටමත් ඉටු කර තිබෙන වචන වල ''මනස්කාන්ත'' භාවය එවැනි අවස්ථාවලදී කොහෙත් ම වැඩකට නැති හා හානිදයක සරුවපිත්තල ඔපයක් හා ළමා දෙඩවිල්ලක් බවට පත් වේ. අප තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් අපේක්ෂා කරන්නේ මන්ද යනුත්, අප ආණ්ඩුව කෙරෙහි තීරණාත්මක බලපෑමක් ක්‍රියාත්මක කරන්නේ නම්, දැනට ආරම්භ වී තිබෙන පොදු ජන නැගී සිටීමේ ජයග්‍රහණයෙන් පසු දිනෙහිම අප ඇති කරන්නේ ඒ කාන්ත වශයෙන්ම කුමණ වෙනස් කම් ද යනුත්, භභවන පැහැදිලි හා නිරවුල් අදහසක්, කම්කරුවන්ට හා මුළු ජනතාවටම ලබා දීම අපි කළ යුත්තෙමු. දේශපාලන නායකයන් හමුවේ තිබෙන ප්‍රශ්න මේවා ය.

මෙම ප්‍රශ්නවලට ඉතාමත් පැහැදිලි ලෙස පිළිතුරු සැපයූ රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය මෙම වෙනස්කම් අන්තර්ගත සම්පූර්ණ වැඩ පිළිවෙළක් සකස් කළේය. ඒ අප පක්ෂයේ අවම වැඩ පිළිවෙළයි. කෙසේ හෝ වේවා, ''කොමියුනය'' යන වචනයෙන් කිසිම පිළිතුරක් ලැබෙන්නේ නැත. එයින් සිදු වන්නේ රැව් දෙන වදනක ඇත ඇසෙන දෝංකාරයෙන් හෝ පුහු අලංකාරයෙන් ජනතාව ගේ සිත් අවුල් කිරීම පමණකි. නිදසුනක් වශයෙන්, අප 1871 පැරිස් කොමියුනය ගැන මතකය අගය කරන තරමට, එහි වැරදි හා එයට බලපෑ විශේෂ තත්වයන් විශ්ලේෂණය නොකොට, ඒ ගැන ආවාට ගියාට සඳහන් කිරීමට ඉඩ දිය නො හැකිය. එසේ කිරීම, කොමියුනයේ සෑම ක්‍රියාවක් ම (1874 දී, ස්වකීය ''ප්‍රකාශනයෙන්'') ශීර්ෂ ප්‍රණාමයෙන් පිළිගත් බ්ලාන්කි වරුන්ගේ විකාර ආදර්ශය අනුකරණය කිරීමක් වනු ඇත[44]. ඒ සම්බන්ධයෙන් එංගල්ස් බ්ලාන්කිවාදීන් සරදමට ලක් කළේය. මෙම ''විප්ලවවාදී කොමියුනය'' ගැන, එනම්, යෝජනාවෙහි සඳහන් කොමියුනය ගැන, අසන කම්කරුවෙකුට, සාකච්ඡා සභා කාරයෙක් දෙන පිළිතුර කුමක් ද? ඔහුට ඒ ගැන කිව හැකි වන්නේ, එය ඉතිහාසයේ ප්‍රසිද්ධ කිසියම් කම්කරු ආණ්ඩුවක නම බවත්, එය, ඒ අවස්ථාවේදී, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ සහ සමාජවාදී විප්ලවයේ මූලිකාංගයන් අතර වෙනස වටහා ගැනීමට නො හැකිව සිටි හා වටහා නොගත් ආණ්ඩුවක් බවත්, එය සමූහාණ්ඩුවක් සඳහා සටන් කිරීමේ කර්තව්‍යයන් සමාජවාදය සඳහා සටන් කිරීමේ කර්තව්‍යයන් සමග එකට පටලවා ගත් ආණ්ඩුවක් බවත්, වර්සෙල්ස් නගරයට විරුද්ධව ශක්තිමත් යුද්ධමය ප්‍රහාරයක් දීමට එයට නොහැකි වූ බවත්, එය ප්‍රංශ බැංකුව අත්පත් කර නොගැනීමේ වරද කළ බවත්, ආදී වශයෙන් පමණකි. කොටින් කියතොත්, ඔබ ඔබේ පිළිතුරෙහි පැරිස් කොමියුනය ගැන සඳහන් කළත්, වෙනත් කොමියුනයක් ගැන සඳහන් කළත්, ඔබේ පිළිතුර වනු ඇත්තේ මෙයයි: එය ආණ්ඩුවක් වූ අතර, අපේ ආණ්ඩුව එසේ නොවිය යුතුය. ඇත්තෙන්ම කදිම පිළිතුරකි. යෝජනාවක් මගින් පක්ෂයේ ප්‍රායෝගික වැඩ පිළිවෙළ ගැන කිසිවක් නො කියා, අනුචිත ලෙස ඉතිහාසයෙන් පාඩම් දීමට පටන් ගන්නා කල, එයින් විප්ලවවාදියෙකුගේ පණ්ඩිතමානී සදුපදේශකත්වය හා බෙලහීනත්වය ඔප්පු නොවන්නේ ද? මෙයින් හෙළිදරව් වන්නේ අප වෙත අසාර්ථක ලෙස දමා ගසන ලද ඒ වරදම නොවේද? ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සමාජවාදී විප්ලවය සමග එකට පටලවා ගැනීම නොවේ ද? ඒ දෙක අතර වෙනස වටහා ගැනීමට ''කොමියුන'' එකකටවත් නො හැකි විය.

කැරළි ගසමින් නැගී සිටීම ව්‍යාප්ත කිරීම සහ ආණ්ඩුව කඩා කප්පල් කිරීම තාවකාලික ආණ්ඩුවේ (එය ඉතාමත් අනුචිත ලෙස ''කොමියුනය''



යනුවෙන් හඳුන්වා ඇත) ''එකම'' පරමාර්ථය ලෙසට ඉදිරිපත් කර ඇත. ''එකම'' යන වචනය පදගත අර්ථයෙන් ගත් කල, එයින් අදහස් වන්නේ, වෙනත් සියළුම අරමුණු බැහැර කෙරෙන බව ය. එසේ වෙනත් අරමුණු බැහැර කිරීම, අදූර දර්ශී භාවයත්, සිතා බැලීම නොකරන බවත්, පෙන්වන තවත් නිදර්ශනයකි. එක නගරයක වුවද, ''විප්ලවවාදී කොමියුනයකට'', එනම්, විප්ලවවාදී ආණ්ඩුවකට, රාජ්‍යයේ සියළුම කටයුතු (තාවකාලිකව, ''අර්ධ වශයෙන්, ආනුෂංගික වශයෙන්'' වුවද) පාලනය කිරීමට සිදු වන අතර, අයෙක් තමන් ගේ හිස තම අත්තටු අස්සේ සඟවාගෙන, මෙය දැකීමට ප්‍රතික්ෂේප කිරීම අන්ත මෝඩකමකි. පැය අටේ වැඩ දිනය නීතිගත කිරීම ද, පැක්ටරිවල කම්කරු පරීක්ෂාව ස්ථාපිත කිරීම ද, නිදහස් සර්වජන අධ්‍යාපනය ක්‍රියාත්මක කිරීම ද, විනිශ්චයකාර වරුන් තෝරාපත් කිරීම ද, ගොවිජන කාරක සභා පිහිටුවීම ද, යනාදිය කිරීමට, මෙම ආණ්ඩුවට සිදු වේ. කොටින් කියතොත්, ප්‍රතිසංස්කරණ ගණනාවක් කිරීමට එයට සිදු වනු ඇත. මෙම ප්‍රතිසංස්කරණයන් ''කැරළි ගසමින් නැගී සිටීම ව්‍යාප්ත කිරීම'' යනුවෙන් හැඳින්වීම වූකලී, යමක් ඉතාමත් පැහැදිලි ලෙස කිව යුතුව තිබිය දී උවමනාවෙන්ම අවුල් වැඩි කිරීම සහ වචන සමග සෙල්ලම් කිරීමක් ද වන්නේ ය.

---

අපගේ පක්ෂය තුළ යළි පණ ගන්වා තිබෙන මූලික ආර්ථිකවාදී උපනති විවේචනය කිරීමට අදාළ වන අළුත් කරුණු ඉදිරිපත් කිරීමක් නව ''ඉස්ක්‍රා'' සාකච්ඡා සම්මේලන යෝජනාවේ අවසාන කොටසෙන් සිදු නොවේ. නමුත්, ඉහත කියන ලද දේ වෙනත් කෝණයකින් පැහැදිලි කිරීම එයින් ඉටු වේ.

එම අවසාන කොටස මෙසේය:

''බලය අල්වා ගැනීම සහ හැකි තරම් කල් එය රඳවා ගැනීම සඳහා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ස්වකීය ක්‍රියාරම්භකත්වයෙන් ම ප්‍රයත්න දැරිය යුත්තේ, එක් තත්වයක් යටතේ පමණකි. එසේ කළ යුත්තේ, සමාජවාදය සාර්ථක කර ගැනීමට අවශ්‍ය තත්වයන් කිසියම් (?) මට්ටමකට මුහුකුරා ගොස් තිබෙන, බටහිර යුරෝපයේ දියුණු රටවලට විප්ලවය පැතිරී යතහොත් පමණකි. එම තත්වය ඇති වුවහොත්, රුසියානු විප්ලවයේ සීමිත ඓතිහාසික පරිමාණය සැලකිය යුතු තරමින් පුළුල් කිරීමට හැකි වීමෙන්, සමාජවාදී ප්‍රතිසංස්කරණ කිරීමේ මාර්ගයට පිවිසීමේ හැකියාව මතු වනු ඇත.

විප්ලව කාලය මුළුල්ලේම,විප්ලවය අතර තුරදී, එකින් එකට අනුප්‍රාප්තික වශයෙන් ඇතිවිය හැකි සියළුම ආණ්ඩු විශයෙහි, අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වය වීමේ ස්වකීය ස්ථාවරය රැක ගැනීමේ අපේක්ෂාව මත, තම උපක්‍රම පදනම් කර ගෙන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය එහි උපක්‍රම

සකස් කරගත් විට, ආණ්ඩු බලය තම අතට පතිත වුවහොත් (??) එයින් ප්‍රයෝජන ගැනීම සඳහා ඉතාමත් හොඳින් සූදානම් වීමට එයට හැකි වෙයි.''

මෙහි මූලික අදහස, ''එපිරියොද්'' විසින් නැවත නැවතත් ඉදිරිපත් කර ඇති අදහසම ය. එයින් කියා ඇත්තේ, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයකදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සම්පූර්ණයෙන් ජයග්‍රහණය ලැබීම, එනම්, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයක් ඇතිවීම නිසා අපට යුරෝපය උද්යෝගයෙන් ප්‍රබෝධමත් කර ගත හැකි වන හෙයින්, අප එම ජයග්‍රහණය ගැන (මර්තිනව් මෙන්) බිය නොවිය යුතු බවත්, යුරෝපයේ සමාජවාදී නිර්ධන පංතිය ධනපති වියගස ඉවත දැමීමෙන් පසුව, අපට, අපගේ සමාජවාදී විප්ලවය සාර්ථක කිරීමට, උදව් කරනු ඇති බවත් ය. නමුත්, නව ''ඉස්ක්‍රාව'' මෙම අදහස ඉදිරිපත් කර තිබෙන ආකාරය නිසා, එය අදහසට හානි සිදුවන සැටි බලන්න. අපි විස්තර කරුණු ගැන කිසිවක් නො කියමු: බලය අල්ලා ගැනීම හානිදයක උපක්‍රමයකැයි අදහස් කරන, පංති විඥනය ඇති පක්ෂයක් අතට බලය ''පතිත'' විය හැකිය යන විකාර උපකල්පනය ගැන ද, යුරෝපය තුළ සමාජවාදය සඳහා තත්වයන් කිසියම් මට්ටමකට නොව, පොදු වශයෙන් මෝරා තිබෙන බව ගැන ද, අපගේ පක්ෂ වැඩ පිළිවෙළ සමාජවාදී ප්‍රතිසංස්කරණ නො හඳුනන, සමාජවාදී විප්ලවය පමණක් හඳුනන එකක් වීම ගැන ද, විස්තර නො කරමු. ''එපිරියොද්'' අදහස සහ යෝජනාවෙහි ඉදිරිපත් කර තිබෙන ප්‍රධාන සහ මූලික වෙනස ගෙන බලමු. ''එපිරියොද්'' රුසියාවේ විප්ලවවාදී නිර්ධන පංතිය හමුවේ ක්‍රියාත්මක කර්තව්‍යයක් තැබුවේය: ප්‍රජාතන්ත්‍රවාදය සඳහා සටන ජයග්‍රහණය කිරීම සහ යුරෝපයට විප්ලවය ගෙන ඒම සඳහා මෙම ජයග්‍රහණය උපයෝගි කර ගැනීම,එම කර්තව්‍යය ය.අපගේ ''තීරණාත්මක ජයග්‍රහණයත්'' (නව ඉස්ක්‍රා අර්ථයෙන් නොවේ), යුරෝපයේ විප්ලවයත්, අතර සම්බන්ධය වටහා ගැනීමට යෝජනාව අසමත් වෙයි. එය නිර්ධන පංතියේ කර්තව්‍යයන් ගැන හා පසු කී විප්ලවයේ ජයග්‍රහණය පිළිබඳ බලාපොරොත්තු ගැන කථා නොකර, ඉඩ කඩ ගැන පොදු වශයෙන් කථා කරයි: ''විප්ලවය පැතිරී යතහොත්''... සමාජ සංවර්ධනයේ නියමිත අවධියක දී ඉටු කර ගත හැක්කේ කුමක්ද යනුත්, සමාජවාදය සඳහා ප්‍රජාතන්ත්‍රවාදී පූර්වාවශ්‍යතාවයක් වශයෙන් ප්‍රථමයෙන් ඉටු කළ යුත්තේ කුමක් ද යනුත්, සිත්හි දරා ගනිමින්, නිර්ධන පංතියේ යහපත සඳහා ''ආණ්ඩු බලය'' ''උපයෝගි කරගත'' හැක්කේ හා යුත්තේ කෙසේද යන්න, ''එපිරියොද්'' එක එල්ලේම සහ නිශ්චිත වශයෙන් පෙන්නුම් කළේය. එය රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාවට ඇතුලත් කරන ලදී. මෙහි දී ද, සාකච්ඡා සභා යෝජනාව, බොහෝ පසු බා සිටිමින්, ''ප්‍රයෝජන ගැනීම සඳහා සූදානම් වීමට එයට හැකි වෙයි'' කියතත්, එය හැකි වන්නේ කෙසේ ද යනුත්, එය සූදානම් වන්නේ කෙසේ ද යනුත්, ප්‍රයෝජන ගන්නේ කුමක් සඳහා ද යනුත් නො කියයි. නව ඉස්ක්‍රාවාදීන්ට පක්ෂයේ ඇති නායක තත්වයෙන් ''ප්‍රයෝජන ගැනීම සඳහා සූදානම් වීමට'' ඔවුනට ''හැකි'' වන බවට අපට සැකයක් නැත. එහෙත්, කාරණය නම්, එම ප්‍රයෝජන ගැනීම පිළිබඳව ඔවුන් මෙතෙක් ලබා ඇති අත් දැකීම් සහ ඔවුන්ගේ සූදානම් වීම අනුව බලන කල, සිදු විය හැකි දෙය යථාර්ථයක් බවට පත් වීමේ බලාපොරොත්තුවක් එයින් ඇති නොවන බවය...

''බලය රඳවා ගැනීමේ ඉඩකඩ'' නියම වශයෙන්ම තිබෙන්නේ කුමක් තුළ ද යන්න, එනම්, ඒ නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වය තුළ බවත්, ප්‍රති විප්ලවයේ සියළුම බලවේගයන් ගේ ශක්තිය පරාජය කළ හැකි එම දෙකොටසෙහි ඒකාබද්ධ පොදුජන ශක්තිය තුළ බවත්, ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ සඳහා ඔවුන් ගේ උවමනාවන් අනිවාර්යය වශයෙන් සංගමන වීම තුළ බවත්, ''එපිරියොද්'' ඉතාමත් නිශ්චිත ලෙස පෙන්වා දුන්නේය. මෙහිදී ද සාකච්ඡා සභාවේ යෝජනාව නිශ්චිත කිසිවක් නොකියයි. එය හුදෙක් ම ප්‍රශ්නය මග හරී. ඇත්ත වශයෙන් ම, රුසියාව තුළ බලය රඳවා ගැනීම නිගමනය වනු ඇත්තේ, රුසියාවේම සමාජ බලවේගයන්ගේ සංයුතිය හා දැන් අප රටේ සිදුවෙමින් පවතින ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ තත්වයන් අනුව ය. යුරෝපයේ නිර්ධන පංතියේ ජයග්‍රහණයක් විසින් (යුරෝපයට විප්ලවය ගෙන ඒමට හා නිර්ධන පංතියේ ජයග්‍රහණයට තව යා යුතු දුර බොහෝ ය) රුසියානු ධනපති පංතියේ මාරාන්තික ප්‍රතිවිප්ලවවාදී අරගලයක් උද්ගත කෙරෙනු ඇත. එහෙත්, නව ඉස්ක්‍රාවාදීන් ගේ යෝජනාවෙහි ප්‍රතිවිප්ලවවාදී බලය ගැන වචනයක් වත් කියා නැත. රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලන යෝජනාවේ එහි වැදගත්කම ගැන තක්සේරු කර තිබිණි. සමූහාණ්ඩුවක් සඳහා අප කරන සටනේ දී, අපට ගොවිජනතාව හා එමෙන් ම නිර්ධන පංතිය කෙරෙහි විශ්වාස තැබිය නො හැකි නම්, ''බලය රඳවා ගැනීම'' පිළිබඳ කිසිම විශ්වාසයක් තැබීමට අපට නුපුළුවන් වනු ඇත. නමුත්, එය බලාපොරොත්තු විරහිත නොවේ න ම්, ''සාර්වාදය පරදවා විප්ලවය ලබන තීරණාත්මක ජයග්‍රහණය'' නිසා එබඳු ඉඩ ප්‍රස්ථාවක් විවෘත වන්නේ නම්, එවිට අපි එය පෙන්වාදිය යුත්තෙමු; එය යථාර්ථයක් බවට පරිවර්තනය කිරීම සඳහා උද්යෝගිමත් ලෙස හඬ නැගිය යුත්තෙමු; එමෙන්ම, විප්ලවය යුරෝපයට ගෙන ඒමේ අවිනිශ්චිත අපේක්ෂාව සඳහා පමණක් නොව, එය එහි ගෙනයාමේ

පරමාර්ථයෙන් ද ප්‍රායෝගික සටන් පාඨ නිකුත් කළ යුත්තෙමු. ''රුසියානු විප්ලවයේ සීමිත ඓතිහාසික පරිමාණය'' ගැන වල්ගාවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කරන සඳහන ප්‍රයෝජනවත් වන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ අරමුණු සහ නිර්ධන පංතිය එහි දී ඉටු කරන කාර්ය කොටස ගැන ඔවුන්ට ඇති දැනුමේ අඩු පාඩු වසා ගැනීමට පමණකි!

ආඥාදායකත්වයක් සඳහා ''ඒකීය අභිමතයක්'' තිබීම අවශ්‍ය වන (''ඉස්ක්‍රා'', අංක 95) බව සහ නිර්ධන පංතියේ සහ සුළු ධනපති පංතියේ එකම අභිමතයක් තිබිය නොහැකි බව ''නිර්ධන පංතියේ සහ ගොවි ජනතාව ගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක්'' සඳහා වූ සටන් පාඨයට විරුද්ධව මතු කරන විරෝධතාවයන් ගෙන් එකකි. මෙම විරෝධතාවය දුර්වල එකකි. මන්දයත්, එය ''ඒකීය අභිමතය'' යන පාඨයේ වියුක්ත හා ''අධ්‍යාත්මික'' අර්ථ නිරූපනයක් මත පදනම් කර ඇති හෙයිනි. එක් කරුණක් සම්බන්ධයෙන් අභිමතය තිබෙන අතර, වෙනත් කරුණක් සම්බන්ධයෙන් එය නො තිබෙන්නට පිළිවන. සමාජවාදය ගැන ප්‍රශ්නවල දී සහ සමාජවාදය සඳහා අරගලයේ දී සමගිය නො මැති නිසා, ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ප්‍රශ්නවලදී සහ සමූහාණ්ඩුවක් සඳහා අරගලයේ දී ඒකීය අභිමතයක් ඇති වීමට ඉඩ නැතැයි කිව නො හැකි ය. මෙය අමතක කිරීම, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය හා සමාජවාදී විප්ලවය අතර තර්කානුකූල හා ඓතිහාසික වෙනස අමතක කිරීමක් වනු ඇත. එය අමතක කිරීම, මුළු ජනතාවගේ ම විප්ලවයක් වන ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ එම ස්වභාවය අමතක කිරීමක් වනු ඇත. එය ''මුළු ජනතාවගේ ම'' නම්, එයින් අදහස් වන්නේ, මෙම විප්ලවය මුළු ජනතාවගේම අවශ්‍යතාවයන්ට සහ අපේක්ෂාවන්ට ගැලපෙන තාක් දුරට නියත වශයෙන් ම ඒකීය අභිමතය පවතින බවය. ප්‍රජාතන්ත්‍රවාදයේ සීමාවෙන් ඔබ්බට, නිර්ධන පංතියට හා ගොවිජන ධනපති පංතියට ඒකීය අභිමතයක් ඇති වීමේ ප්‍රශ්නයක් තිබිය නොහැකිය. ඔවුන් අතර පංති අරගලය ඇති වීම වැලැක්විය නො හැක. නමුත් මෙය සමාජවාදය සඳහා කරන ඉතා අංග සම්පූර්ණ සහ පුළුල් ලෙස පැතිරී ගිය ජනතාවගේ අරගලයක් වන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක දී පමණකි. ලෝකයේ අන් සියළු දේටම මෙන්ම, නිර්ධන පංතියේ හා ගොවිජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයට ද, අතීතයක් හා අනාගතයක් තිබේ. එහි අතීතය නම්, ඒකාධිපත්‍යය, ප්‍රවේණිදාස ක්‍රමය, රාජාණ්ඩුව සහ වරප්‍රසාදය ය. මෙම අතීතයට විරුද්ධව කරන අරගලයේ දී, ප්‍රතිවිප්ලවයට විරුද්ධව කරන අරගලයේ දී; උවමනාවන්ගේ එක්සත්භාවයක් තිබෙන නිසා, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ''ඒකීය අභිමතයක්'' ඇති විය හැකිය.

එහි අනාගතය නම්, පෞද්ගලික දේපලට විරුද්ධව අරගලය යි,



සේවයාට විරුද්ධව වේතන-කම්කරුවා කරන අරගලය යි, සමාජවාදය සඳහා අරගලය යි. මෙහි දී අභිමතයේ ඒකීයත්වයක් ඇති විය නො හැකිය.* මෙහිදී අප ඉදිරියේ තිබෙන මාවත, ඒකාධිපත්‍යයේ සිට සමූහාණ්ඩුවක් වෙත යන එකක් නොව, සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක සිට සමාජවාදයට යන මාවත ය.

නමුත්, නියම ඓතිහාසික තත්වයන් යටතේ අතීතයේ මූලිකාංගයන් අනාගතයේ මූලිකාංගයන් සමග එකට වෙළෙන්නේය. මාර්ග දෙක මුණ ගැසෙන්නේ ය. වේතන-ශ්‍රමය ද පුද්ගලික දේපලට විරුද්ධ එය කරන අරගලය ද, ඒකාධිපත්‍යය යටතේ ද පවතින්නේ ය. ප්‍රවේණිදාස ක්‍රමය යටතේ පවා එය පැන නගී.නමුත් මේ නිසා,සංවර්ධනයේ ප්‍රධාන අවධි අතර වෙනස තාර්කික හා ඓතිහාසික වශයෙන් පැහැදිලි කර ගැනීමේ දී අපට එයින් කිසිම බාධාවක් සිදු නො වේ. අපි හැම දෙනම ධනපති විප්ලවය හා සමාජවාදී විප්ලවය එකිනෙකට ප්‍රතිවිරුද්ධ සේ දක්වමු. ඒ දෙක අතර වෙනස නියත ලෙස හඳුනා ගැනීමේ පරම අවශ්‍යතාවය ගැන අපි දැඩි ලෙස කියන්නෙමු. කෙසේ හෝ වේවා, ඓතිහාසික සංවර්ධනයේ දී, විප්ලව දෙකෙහි තනි හා විශේෂ මූලිකාංගයන් එකට වෙළෙන තත්වයක් ඇති වන බව ප්‍රතික්ෂේප කළ හැකි ද? යුරෝපයේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව කාලය තුළ, එහි සමාජවාදී ව්‍යාපාර ගණනාවක් හා සමාජවාදය ස්ථාපිත කිරීමේ ප්‍රයත්නයන්ද, දක්නා ලද්දේ නොවේ ද? එමෙන්ම, ප්‍රජාතන්ත්‍රවාදයේ ක්ෂේත්‍රයෙහි ඉටු නොකර ඉතිරිව තිබෙන විශාල කාර්ය කොටසක් යුරෝපයේ අනාගත සමාජවාදී විප්ලවවලට සම්පූර්ණ කිරීමට සිදු වෙනවා නොවේ ද?

ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී සහ සමූහාණ්ඩුවාදී ධනපති පංතියට සහ සුළු ධනපති පංතියට වුවද විරුද්ධව, සමාජවාදය සඳහා අරගලයක් කිරීමට නිර්ධන පංතියට අනිවාරණීය ලෙසම සිදුවන බව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් මොහොතකට හෝ අමතක නො කළ යුතුය. මේ ගැන සැකයක් නැත. වෙනම පවතින, ස්වාධීන සහ ඒකාන්ත වශයෙන් ම පංතිමය වූ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පක්ෂයක් තිබීම පරම අවශ්‍යතාවයක් වන්නේ එහෙයිනි.ධනපති පංතිය සමග ''ඒකාබද්ධ ප්‍රහාරයක් දීම'' පිළිබඳ අපගේ උපක්‍රමය තාවකාලික ස්වභාවයක් ගන්නේත්,''හතුරෙකු කෙරෙහි මෙන්, අපගේ මිතුරා කෙරෙහි ද'' දැඩි සුපරීක්ෂා කාරිත්වයක් දැක්වීම ආදිය

* ධනපති ක්‍රමයේ සංවර්ධනය, නිදහසේ තත්වයන් යටතේ වඩාත් පුළුල් හා වේගවත් වීමෙන්, අභිමතයේ ඒකීයත්වය අනිවාරණීය ලෙස හා අප්‍රමාදව කෙළවර වනු ඇත; ප්‍රතිවිප්ලවය හා ප්‍රතිගාමීත්වය ඉක්මණින් මර්දනය කළ තරමට එය වඩාත් අප්‍රමාද ලෙස සිදු වනු ඇත.

අපගේ යුතුකම වන්නේත්, එහෙයිනි. මේ සියල්ලද සැකයකට ඉඩ නො තබයි. එසේ වුවද, සංක්‍රමනීය හා තාවකාලික වූ නමුදු, වර්තමාන කාලයට පරම අවශ්‍යතාවයක් වන්නා වූ කර්තව්‍යයන් අමතක කිරීමට, නොසලකා හැරීමට හා අතපසු කිරීමට, අප මේ අනුව නිගමනය කරතොත්, එය අමන කමක් හා ප්‍රතිගාමීත්වයට වැටීමක් වේ. ඒකාධිපත්‍යයට විරුද්ධව සටන් කිරීම, සමාජවාදීන්ට තාවකාලික සහ සංක්‍රමනීය කර්තව්‍යයකි. නමුත් කුමණ ආකාරයෙන් හෝ මෙම කර්තව්‍ය නොසලකා හැරීම හෝ අත පසු කිරීම, සමාජවාදයට ද්‍රෝහී වීමක හා ප්‍රතිගාමීත්වයට සේවය කිරීමක තත්වයට පත් වීමකි. නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වය හුදෙක් සමාජවාදීන්ගේ සංක්‍රමනීය හා තාවකාලික කර්තව්‍යයක් වන බව විවාද රහිතය. නමුත් ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක කාලයේ දී, මෙම අරමුණ නොසලකා හැරීම අන්ත ප්‍රතිගාමීත්වයට වැටීමක් වන්නේය.

මූර්ත දේශපාලන අරමුණු මූර්ත තත්වයන්ට ගලපා ඉදිරිපත් කළ යුතු වේ. සියල්ල සාපේක්ෂය. සියල්ල ගලා යන්නේය. එසේ ම සියල්ල වෙනස් වන්නේ ය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, සමූහාණ්ඩුවක් සඳහා ඉල්ලීම එහි වැඩ පිළිවෙළට ඇතුළත් නො කරයි. ජර්මනියේ පවතින තත්වය කෙබඳුද යත්, එහි (ජර්මනිය සම්බන්ධයෙන් ද, සමූහාණ්ඩුවක සහ සමූහාණ්ඩුවක් සඳහා අරගල කිරීමේ වැදගත් කම අඩු කොට සැලකීමට විරුද්ධව, එංගල්ස්, 1891 කෙටුම්පත් එර්පුර්ට් වැඩ පිළිවෙළ ගැන ඔහු පළ කළ අදහස් මගින් අනතුරු හැඟෙව්වේය![45]) මෙම ප්‍රශ්නය, සමාජවාදය පිළිබඳ ප්‍රශ්නයෙන් ව්‍යවහාරික ලෙස වෙන් නො කළ හැකිය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සම්බන්ධයෙන් වූ කල, සමූහාණ්ඩුවක් සඳහා ඉල්ලීම එහි වැඩ පිළිවෙළෙන් හා එහි උද්ඝෝෂණයෙන් ඉවත් කිරීමේ ප්‍රශ්නය කිසිකලෙකත් ඉදිරිපත් වූයේ නැත.එයට හේතුව, අප රටේ සමූහාණ්ඩුව පිළිබඳ ප්‍රශ්නය හා සමාජවාදය පිළිබඳ ප්‍රශ්නය අතර, නැති කළ නොහැකි සම්බන්ධයක් ගැන කථා කිරීමට ඉඩක් නො තිබීම ය. 1898 ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, සමූහාණ්ඩුව ගැන ප්‍රශ්නය කෙරෙහි විශේෂ අවධාරණයක් යොමු නො කිරීම ඉතාමත් ස්වාභාවිකය. මෙය පුදුමයකට හෝ හෙළා දැකීමට හෝ කාරණයක් නොවේ. නමුත් 1848 දී සමූහාණ්ඩුවක ප්‍රශ්නය පසු බිමට තල්ලු කළ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් වී නම්, හේ විප්ලවයට අන්ත ද්‍රෝහියෙකු වන්නේ ය. අමූර්ත සත්‍යය කියා දෙයක් නැත. සත්‍යය නිතරම මූර්තය.

රුසියානු ඒකාධිපත්‍යයට විරුද්ධ අරගලය අවසන් වන හා ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ අවධිය ගෙවී ගිය කාලයක් එනු ඇත. නිර්ධන පංතියේ හා ගොවිජනතාවගේ ''අභිමතයෙහි ඒකීයත්වය'' ගැන, ප්‍රජාතන්ත්‍රවාදී





ආඥාදයකත්වය ආදිය ගැන කථා කිරීම පවා, එවිට විකාරයක් වනු ඇත. එම අවධිය එළඹුණු කල, අපි එක එල්ලේම නිර්ධන පංතියේ සමාජවාදී ආඥාදයකත්වය පිළිබඳ ප්‍රශ්නය ගැන සලකා බලමින් ඒ ගැන වඩාත් සවිස්තර ලෙස කථා කරන්නෙමු. නමුත්, සාර්වාදය පරදවා ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ජයග්‍රහණය කරනු දැකීම සඳහා, ඉතාමත් බලවත් ලෙස ප්‍රයත්න නො දරා සිටීමේ හැකියාවක්, දියුණු පංතියේ පක්ෂයට නොමැත. එසේම තීරණාත්මක ජයග්‍රහණයක් යනු, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයක්ම මිස, අන් කිසිවක් නොවේ.

සටහන[46]

1) ''ඉස්ක්‍රා'' සහ ''එපිරියොද්'' අතර විවාදයේදී, මුලින් කී පත්‍රය ඉදිරිපත් කළ කරුණු අතර, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සමාජවාදී විප්ලවය සමග පටලවා ගැනීමේ අන්තරාය හඟවමින්, එංගල්ස් ඉතාලි ප්‍රතිසංස්කරණවාදීන් ගේ (අනාගත) නායක තුරාටි වෙත යැවූ ලිපිය ගැන සඳහනක් ද විය. ඉතාලියේ ඇති වීමට යන විප්ලවය, සමාජවාදී විප්ලවයක් නොව සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් වනු ඇතැයි 1894 ඉතාලියේ පැවති දේශපාලන තත්වය ගැන සඳහන් කරමින් එංගල්ස් ලියුවේය. ''එපිරියොද්'' එංගල්ස් නියම කළ ප්‍රතිපත්තියෙන් බැහැර ගියේ යයි ''ඉස්ක්‍රා'' දෝෂාරෝපනය කළේය. මෙම දෝෂාරෝපණය අසාධාරණ එකක් විය. එසේ කියන්නේ, දහනවවැනි ශත වර්ෂයේ විප්ලවවල ප්‍රධාන බලවේග තුන අතර වෙනස ගැන වූ මාක්ස් ගේ න්‍යායය නිවැරදි බව ''එපිරියොද්'' (අංක 14) සම්පූර්ණයෙන්ම පිළිගෙන තිබෙන හෙයිනි. මෙම න්‍යායය අනුව, පැරණි පාලන ක්‍රමයට විරුද්ධව, ඒකාධිපත්‍යයට, වැඩවසම් ක්‍රමයට හා ප්‍රවේණි හිමි ක්‍රමයට විරුද්ධ ස්ථාවරයක් ගන්නේ පහත සඳහන් බලවේග තුන ය. 1) ලිබරල් ලොකු ධනපති පංතිය, 2) උන්නතිකාමී සුළු ධනපති පංතිය, 3) නිර්ධන පංතිය. පළමු වැන්න ව්‍යවස්ථානුකූල රාජාණ්ඩුවකට වඩා වැඩි කිසිවක් සඳහා සටන් නො කරන්නේය. දෙවැන්න සටන් කරන්නේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් සඳහා ය. තුන්වැන්න සමාජවාදී විප්ලවයක් සඳහා සටන් කරයි. පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් සඳහා සුළු ධනපති පංතිය කරන අරගලය, සමාජවාදී විප්ලවයක් සඳහා නිර්ධන පංතිය කරන අරගලය සමගපටලවා ගැනීමෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා දේශපාලන බංකොලොත් භාවයට පත්වීමේ තර්ජනය මතුවේ. මාක්ස් මේ සම්බන්ධයෙන් කළ අනතුරු

හැඟවීම ඉතාමත් සාධාරණ ය. එසේවූවත්, ''විප්ලවවාදී කොමියුන'' පිළිබඳ සටන් පාඨය සාවද්‍ය වන්නේ ද, මෙම කරුණ නිසාමය. එයට හේතුව, ඉතිහාසයේ සඳහන් කොමියුන කළ ඒකාන්ත වරද, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයත්, සමාජවාදී විප්ලයත්, එකට පටලවා ගැනීම වීම ය. අනිත් අතට, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී ඒකාධිපතිත්වයක් සඳහා වූ අපගේ සටන් පාඨය, මෙම වරද සිදු වීම වලක්වා අපට ආරක්ෂාව සලසයි. හුදු ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක සීමාවන්ට උඩින් එක එල්ලේ ම පැන යාමට නො හැකි විප්ලවයක ධනපති ස්වභාවය පිළිගන්නා අතරම, අප ගේ සටන් පාඨය, මෙම විප්ලවයම ඉදිරියට ගෙන යයි. එසේ එම විප්ලවය විෂයෙහි නිර්ධන පංතියට ඉතාමත් වාසිදායක ස්වරූපයන් ඇති කිරීමට ද එය උත්සාහ දරයි. ඒ අනුව, සමාජවාදය සඳහා නිර්ධන පංතිය තව දුරටත් කරගෙන යන සටනේ උපරිම සාර්ථකත්වය උදෙසා, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් ප්‍රයෝජන ගැනීමට එය ප්‍රයත්න දරන්නේය.

## 11. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ සමහර යෝජනා සහ ''සාකච්ඡා සභාවේ'' යෝජනා ලුහුඬින් සංසන්දනය කිරීමක්

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ වර්තමාන විවර්තනීක උපක්‍රමීය ප්‍රශ්නය වී තිබෙන්නේ තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව පිළිබඳ ප්‍රශ්නය යි. සාකච්ඡා සභාවේ අන්‍ය යෝජනා ගැන එසේම විස්තර සහිතව සාකච්ඡා කිරීමට හැකියාවක් හෝ අවශ්‍යකමක් නැත. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාවල සහ සාකච්ඡා සභාවේ යෝජනාවල අන්තර්ගත උපක්‍රමීය උපනති අතර දක්නා ඉහත විශ්ලේෂණය කරන ලද ප්‍රතිපත්තිමය වෙනස්කම් සනාථ කරන කරුණු කීපයක් ගැන, කෙටියෙන් සඳහන් කිරීමට පමණක් අපි බලාපොරොත්තු වෙමු.

විප්ලවය ආසන්න වන විට ආණ්ඩුව අනුගමනය කරන උපක්‍රම කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය ගෙන බලමු. නැවතත්, මෙම ප්‍රශ්නයට අංග සම්පූර්ණ පිළිතුරක් රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනයේ යෝජනාවෙන් ඔබට ලැබෙනු ඇත. එම විශේෂ අවස්ථාවට අදාල වන අනේකවිධ තත්වයන් හා කර්තව්‍යයන් එම යෝජනාවෙන් සැලකිල්ලට ගෙන තිබේ. ආණ්ඩුවෙන් ප්‍රදනය කෙරෙන සහනයන්ගේ කුහක ස්වභාවය ද, ''පොදුජන නියෝජිතත්වයේ රැවටිලි'' උපයෝගි කර ගැනීම, කම්කරු පංතියේ හදිසි ඉල්ලීම් (ඉන් ප්‍රධාන වන්නේ පැය අටක වැඩ දිනක් සඳහා වූ ඉල්ලීමය) විප්ලවවාදී ලෙස දිනාගැනීම හා අවසාන වශයෙන් කළු සියය පිරිස්වලට ප්‍රතිරෝධනය දැක්වීම ද, ඉන් සැලකිල්ලට ගෙන ඇත.සාකච්ඡා සභා යෝජනාවේ මෙම ප්‍රශ්නය ගැන සලකා බලා ඇත්තේ කඩින් කඩ හා කොටස් කීපයක් අතර විසිර ගිය ආකාරයෙනි. ''ප්‍රතිගාමීත්වයේ දුෂ්ට බලවේගයන්ට ප්‍රතිරෝධනය'' යන්න, අනෙකුත් පක්ෂ කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ යෝජනාවේ පූර්විකාවෙහි පමණක් සඳහන් කර ඇත. නියෝජිත ස්වභාවයේ මණ්ඩලවලට තෝරා පත් කිරීම් ගැන සලකා බලා ඇත්තේ, ධනපති පංතිය සමග ඇති කරගනු ලබන සාර්වාදයේ ''සම්මුති'' වලට බාහිරවය. විප්ලවවාදී මාර්ගයෙන් පැය අටේ වැඩ දිනය දිනාගන්නා ලෙස හඬ නගනු වෙනුවට ''ආර්ථික අරගලය ගැන'' යන මහ ලොකු පෙනුමක් ඇති සිරස්තලයක් සහිත විශේෂ යෝජනාවකින් කර තිබෙන්නේ (''රුසියානු මහජන ජීවිතය තුළ කම්කරු ප්‍රශ්නය දරන කේන්ද්‍රීය ස්ථානය'' සම්බන්ධයෙන් බර වචන සහිත සහ ඉතාමත් අනුවණ වදන් මාලා වලින් අනතුරුව) ''පැය අටේ වැඩ දිනය නියම කරන නීති සම්මත කිරීම'' සඳහා ව්‍යාපාර ගෙනයාම පිළිබඳ පැරණි සටන් පාඨය ප්‍රතිරාවය කිරීම පමණකි. මෙම සටන් පාඨය අඩු පාඩු සහිත බව හා කල් පසු වූ එකක් බව ඔප්පු කිරීමට, කරුණු ඉදිරිපත් කිරීම අනවශ්‍ය වන තරමට, ඒ බව පැහැදිලි වී තිබේ.

විවෘත දේශපාලන කටයුතු ගැන ප්‍රශ්නය ගනිමු. අපගේ කටයුතු විෂයෙහි ළඟදී ඇති වන්නට යන මූලික වෙනස් කම් ගැන තුන්වැනි සම්මේලනය විසින් සලකා බලන ලදී. රහස්‍ය කටයුතු සහ නීති විරෝධී සංවිධානය දියුණු කිරීම කිසි සේත් අත් නො හළ යුතුය. එය අත් හැරීම පොලිසියේ උවමනාව ඉටු කිරීමක් හා ආණ්ඩුවට ඉතාමත් විශාල වාසියක්ද වනු ඇත. නමුත් ඒ අතර ම විවෘත කටයුතු ගැනත් අපි සලකා බැලිය යුත්තෙමු. එවැනි කටයුතු සඳහා යථායෝග්‍ය ආකෘති හා ඒ අනුව යන, රහස්‍ය භාවයෙන් අඩු, විශේෂ සංවිධාන වහාම සූදානම් කළ යුතුය. නීත්‍යානුකූල සහ අර්ධ නීත්‍යානුකූල සමිති සමාගම් වලින් ප්‍රයෝජන ගත යුතු ය. එසේ කළ යුත්තේ, ඒවා හැකි තරම් දුරට, රුසියාවේ අනාගත විවෘත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කඳවුරු බවට පරිවර්තනය කර ගැනීමේ අදහස ඇතිවය.

මෙහිදී ද, ප්‍රශ්නය කොටස්වලට කඩන සාකච්ඡා සභාව, අනුපූර්ණ සටන් පාඨ කිසිවක් ඉදිරිපත් කිරීමට අසමත් වෙයි. ඇස ගැසෙන දෙයකට ඇත්තේ නීත්‍යානුකූල ලෙසට කටයුතු කරන ප්‍රචාරකයින් ''නිසිතැන් වලට පත් කිරීම'' ගැන වග බලාගන්නා ලෙස සංවිධාන කාරක සභාවට දෙන ලද හාස්‍ය ජනක උපදේශය යි. ඊළඟට ''කම්කරු පංති ව්‍යාපාරයට

ආධාර කිරීම තම අරමුණ කරගන්නා ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවෘත්ති පත්‍ර, තම බලපෑමට යටත් කිරීමට'' ගත්, සම්පූර්ණයෙන් ම විකාරයක් වන තීරණය ඇත. අපගේ නීත්‍යානුකූල ලිබරල් පුවත් පත් සියල්ලෙහිම ප්‍රකාශිත අරමුණ එයයි. ඒ සියල්ලම පාහේ ''අස්වබෂ්ජේනිය'' උපනතිය පිළිගෙන තිබේ. ''අස්වබෂ්ජේනිය'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බලපෑමට යටත් කරන්නේ කෙසේද යන්න පෙන්වා, අපට ආදර්ශයක් දෙමින්, ''ඉස්ක්‍රා'' කර්තෘ මණ්ඩලය ම ඔවුන් ගේ උපදෙස් අනුව කටයුතු කිරීම ආරම්භ නො කරන්නේ මන්ද? පක්ෂයේ කඳවුරු ස්ථාපිත කිරීම සඳහා නිත්‍යානුකූලව පවතින සමිති සමාගම් යොදා ගැනීමේ සටන් පාඨය වෙනුවට, අපට ප්‍රථමයෙන් දෙනු ලබන්නේ ''වෘත්තීය'' සමිති වලට පමණක් අදාල වන, විශේෂ උපදේශයකි (පක්ෂ සාමාජිකයන් ඒවා තුළ ක්‍රියා ශීලී විය යුතුය); දෙවැනිව, ''කම්කරුවන් ගේ විප්ලවවාදී සංවිධාන''=''නිල නොවන ආකාරයෙන් පිහිටුවන ලද සංවිධාන=''විප්ලවවාදී කම්කරු සමාජ''වලට මග පෙන්වන ලෙස උපදෙස් දෙනු ලැබේ. මෙම ''සමාජ'' නිල නොවන ආකාරයෙන් පිහිටුවන ලද සංවිධාන ලෙසට වර්ග කර තිබෙන්නේ මන්ද යනුත්, ඇත්ත වශයෙන්ම මෙම ''සමාජ'' කෙබඳ ද යනුත්, කිසි කෙනෙක් දන්නේ නැත. උත්තරීතර පක්ෂ මණ්ඩලයක නිශ්චිත හා පැහැදිලි උපදෙස් වෙනුවට, අපට මෙහි දක්නට ඇත්තේ, පිළිවෙළක් නැතිව සටහන් කළ, යම් යම් සංකල්පනා සහ උගත් මිනිසුන් සකස් කළ යම් යම් දළ කෙටුම්පත් ය. පක්ෂයේ සියළුම කටයුතු වලදී, එය සම්පූර්ණයෙන්ම අළුත් පදනමකට පරිවර්තනය වීමට ආරම්භ වීම ගැන සම්පූර්ණ පින්තූරයක් ඉදිරිපත් කර නැත.

පක්ෂ සම්මේලනය සහ සාකච්ඡා සභාව ''ගොවිජන ප්‍රශ්නය'' ඉදිරිපත් කළේ සම්පූර්ණයෙන් ම එකිනෙකට වෙනස් ආකාරයෙනි. සම්මේලනය, ''ගොවිජන ව්‍යාපාරය කෙරෙහි දක්වන ආකල්පය'' ගැන යෝජනාවක් සකස් කළේය. සාකච්ඡා සභාව ''ගොවිජනයා අතර වැඩ කිරීම'' ගැන යෝජනාවක් සකස් කළේය. ඉන් එකකින්, සාර්වාදයට විරුද්ධව කරන අරගලයේ පොදු ජාතික අවශ්‍යතාවයන් අනුව, මුළු මහත් විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය මෙහෙයවීමේ කර්තව්‍යයට ප්‍රමුඛත්වය දී තිබේ. අනිකෙන්, එම ප්‍රශ්නය, සමාජයේ එක් කොටසක් අතර හුදු ''වැඩ කිරීම'' දක්වා සරල කර තිබේ. සියළුම ප්‍රජාතන්ත්‍රවාදී වෙනස්කම් ක්‍රියාත්මක කිරීම පිණිස, වහාම විප්ලවවාදී ගොවි කාරක සභා සංවිධානය කරන ලෙස හඬ නැගීමෙන්, අපගේ උද්ඝෝෂණයට අදාළ වන ප්‍රධාන ප්‍රායෝගික සටන් පාඨයක්, එකකින් ඉදිරිපත් කොට ඇත. අනිකෙන් කියන්නේ ''කාරක සභා සංවිධානය කිරීම සඳහා ඉල්ලීමක්'' ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට ඉදිරිපත් කරන බව ය. මෙම ආණ්ඩු



ක්‍රම සම්පාදක මණ්ඩලය එන තෙක් අප ප්‍රමාදවිය යුත්තේ මන්ද? එය ඇත්ත වශයෙන් ම ආණ්ඩු ක්‍රම සම්පාදනය කරන මණ්ඩලයක් වනු ඇති ද? ප්‍රාථමික වශයෙන් හා එක් වරම විප්ලවවාදී ගොවි කාරක සභා පිහිටුවීම නො කළ හොත් එය ස්ථායී තත්වයක් දරනු ඇද්ද? සාකච්ඡා සභාවට මේ ප්‍රශ්න සියල්ලම අතපසු වී ඇත. එහි තීරණ සියල්ලෙන්ම පිළිබිඹු වන්නේ අප මෙතෙක් සෝදිසි කළ පොදු අදහස නොව, ධනපති විප්ලවයේ දී, මුළු ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයම මෙහෙයවීමේ හා ස්වාධීන ලෙස ව්‍යාපාරය ගෙන යාමේ අරමුණ අනුගමනය නො කොට, අප අපගේ විශේෂ කටයුතු පමණක් කළ යුතුය යන අදහස ය. ලිබරල්වාදීන්ට දේශපාලන අරගලය භාර වන අතර, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට ආර්ථික අරගලය භාරය, යන වැරදි අදහසට නිරතුරුවම වැටුනු ''ආර්ථිකවාදීන්'' මෙන්ම, නව ඉස්ක්‍රා ආධාර කරුවන් ඔවුන්ගේ තර්ක සියල්ලෙන්ම නිරතුරුවම ඇද වැටෙන්නේ, අප නිහතමානී ලෙස මුල්ලක වාඩි වී ධනපති විප්ලවයේ මාර්ගයෙන් ඉවත් ව සිටිය යුතු අතර, විප්ලවය ඉටු කිරීමට ධනපති පංතිය ක්‍රියාශීලී ලෙස කටයුතු කරනු ඇතැයි, යන අදහසට ය.



අවසාන වශයෙන්, අන්‍ය පක්ෂ කෙරෙහි දක්වන ආකල්පය ගැන වූ යෝජනාව ද සටහන් කරගත යුතු වේ. ධනපති ව්‍යාපාරයේ සීමා සහිත භාවය දැක්විය හැකි අවස්ථා සියල්ලම, සම්මේලනයක් සම්මේලනයක් පාසා, එකින් එක විස්තර කිරීමේ සහ නරක ධනපති පංතිය හා හොඳ ධනපති පංතිය අතර වෙන් කිරීමේ රේඛාවක් ඇඳීමේ අදහස පිළි නොගත් රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනයේ යෝජනාව, එම ව්‍යාපාරයේ සෑම සීමිත භාවයක්ම හා නො සෑහුම් කමක්ම හෙළිදරව් කිරීම ගැන කථා කරයි. ස්තරොවේර් කළ වරද යළිත් කරන සාකච්ඡා සභාව, ඒ වෙන් කිරීමේ රේඛාව සොයා ගිය අතර, සුප්‍රසිද්ධ ''ලිට්මස් කඩදසි'' න්‍යායය ඉදිරියට ගෙන ආවේය. ස්තරොවේර් ඉතාමත් හොඳ අදහසක් ඇතිව, එනම්, ධනපති පංතියට හැකි තරම් තද කොන්දේසි ඉදිරිපත් කිරීමේ අදහස ඇතිව, පටන් ගත්තේය. නමුත් ඔහුට අමතකවූ එක් දෙයක් විය. අනුමැතිය, එකඟතාවයන්, ආදියෙන් සලකනු ලැබීමට සුදුසු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්, ඊට නුසුදුසු අයගෙන් කල් තබා වෙන් කිරීමට දරන ඕනෑම ප්‍රයත්නයක්, සිදුවීම් විසින් අප්‍රමාදව අවලංගු කරනු ලබන ''සූත්‍රයක'' ට මඟ පෙන්වන බව හා එයින් නිර්ධන පංතික පංති විඥනය අවුල් වන බවත් ඔහුට අමතක විය. අරගලයේ දී ඇතිවන නියම සමගියේ සිට, ප්‍රකාශන, පොරොන්දු හා සටන් පාඨ වෙතට අවධාරණය මාරු කරනු ලැබේ. ''සර්වජන හා සමාන ඡන්ද බලය, සෘජු තෝරා පත් කිරීම් හා රහස් ඡන්දය'',එවැනි උන්නතිකාමී සටන් පාඨයක් වන බව ස්තරොවේර් අදහස් කළේය. අවුරුදු දෙකක්වත් ගතවීමට පෙර ''ලිට්මස් කඩදසි'' වල

7—705

නිෂ්ඵලත්වය ඔප්පුවිය. ඒ අතර, සර්වජන ඡන්ද බලය සඳහා සටන් පාඨය "අස්වබෂ්ජේනිය" කණ්ඩායම විසින් අත් කරගන්නා ලදී. එමගින් ඔවුහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ආසන්න නො වූවා පමණක් නොව, ඊට ප්‍රතිකූල වශයෙන්, එම සටන් පාඨයේම මාර්ගයෙන් කම්කරුවන් නොමග යවා, ඔවුන් සමාජවාදයෙන් වෙනතකට යොමු කිරීමට ද උත්සාහ කළහ.

දැන් නව ඉස්ක්‍රාවාදීහු "ඊටත් වඩා දැඩි" "කොන්දේසි" ඉදිරිපත් කරති. "ජනතාව ගේ ස්වයං සන්නද්ධ වීමට ක්‍රියාත්මක ලෙස සහභාගි වීම" දක්වා වූ සහ එයද ඇතුළුව, සංවිධානවූ නිර්ධන පංතිය කරන සියළු අධිෂ්ඨාන සහගත ක්‍රියාවකටම, ශක්තිමත් ලෙස සහ උභතෝකෝටික නොවන (!?) ආධාර "දෙන සේ ඔවුහු සාර්වාදයේ සතුරන්ගෙන් "බලකර ඉල්ලති". රේඛාව තවත් බොහෝ දුරට ඇද තිබේ. එසේ වුවත්, මෙම රේඛාව නැවත වරක් දැනටමත් යල් පැන ගොසිනි. එහි නිෂ්ඵලත්වය ක්ෂණිකව හෙළිදරව් වේ. නිදසුනක් ලෙසට, සමූහාණ්ඩුවක් සඳහා සටන් පාඨයක් නොමැත්තේ මන්ද? "සමාජ වංශ හා රාජාණ්ඩු ක්‍රමයේ අඩිතාලම් වලට විරුද්ධව, ලිහිලක් නො දී කරන විප්ලවවාදී යුද්ධයේ" යහපත පිණිස, සමූහාණ්ඩුවක් සඳහා අරගල කරන ලෙසට "ඉල්ලීම" හැර, වෙනත් ඔබ කැමති ඕනෑම දෙයක් ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් ඉල්ලීමට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් යොමු වන්නේ කෙසේ ද?

මෙය හුදෙක් වැරදි පෙන්වීමක් නොවන බවත්, නව ඉස්ක්‍රාවාදීන් ගේ වරද දේශපාලන වශයෙන් ඉතාමත් වැදගත් බවත්, රුසියානු විමුක්ති සංගමයෙන් ඔප්පු වේ ("ප්‍රොලිතාරි" අංක 4 බලන්න)*. මෙම "සාර්-වාදයේ සතුරන්" නව ඉස්ක්‍රා ආධාර කරුවන්ගේ "අවශ්‍ය කරුණු" සියල්ලටම සම්පූර්ණයෙන් ගැලපේ. ඒ එසේ වුවද, මෙම "රුසියානු විමුක්ති සංගමයේ" වැඩ පිළිවෙළ (නැතහොත් වැඩ පිළිවෙළක් නොමැති කම) තුළ අස්වබෂ්ජේනිය ජීවගුණය රජ කරන බවත්, අස්වබෂ්ජේනිය කණ්ඩායමට පහසුවෙන්ම එය ඇදගෙන ගිය හැකි බවත්, අපි පෙන්වා දී ඇත්තෙමු. කෙසේ හෝ වේවා, සාකච්ඡා සභාවේ යෝජනාවේ අවසාන කොටසෙහි මෙසේ ප්‍රකාශ කර ඇත: "ලිබරල් සහ ප්‍රජාතන්ත්‍රවාදී ධජ පෙන්වන නමුත්, නිර්ධන පංතියේ විප්ලවවාදී අරගලයට සැබෑ ලෙසින් ආධාර දීම ප්‍රතික්ෂේප කරන, ඒ දේශපාලන පක්ෂ සියල්ලම ජනතාවගේ කුහක මිතුරන් සේ සලකා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ඒවාට තවදුරටත් විරුද්ධ වනු ඇත. රුසියානු විමුක්ති සංගමය, මෙම සහයෝගය දීමට ප්‍රතික්ෂේප නො කරනවා පමණක් නොව, එය ඉතාමත් උනන්දුවෙන් පිළිගැන්වීම ද කරයි. මෙම සංගමයේ නායකයන් අස්වබෂ්ජේනියවාදීන් වුවත්, ඔවුන් "ජනතාවගේ කුහක මිතුරන්" නොවන බවට එය සහතිකයක් වේ ද?

මෙය සැලකිල්ලට ගන්න. කල් තබා "කොන්දේසි" නිර්මාණය කිරීමෙන් හා බලවත් බෙලහීනත්වය නිසා, සිනහ උපදවනසුලු "ඉල්ලීම්" ඉදිරිපත් කිරීමෙන්, නව ඉස්ක්‍රා වාදීහු අප්‍රමාදවම තමන් විකාර තත්ව-යකට පත්වූහ. ජීවමාන යථාර්ථයන් අගය කිරීමක යෙදීමට සිදු වූ වහාම ඔවුන් ගේ කොන්දේසි සහ ඉල්ලීම්, සෑහෙන්නේ නැති බව ඔප්පු වන්නේ ය. සූත්‍ර පසු පස්සේ ඔවුන්ගේ එළවා යෑම නිෂ්ඵල ය. එසේ වන්නේ, ධනපති ප්‍රජාතන්වාදීන් පෙන්නුම් කරන කුහකත්වය, චපල කම හා පටු කල්පනා මතුවන අවස්ථා සියල්ලම හසු කර ගත හැකි සූත්‍රයක් නොමැති හෙයිනි. එය "ලිට්මස් කඩදසි" සූත්‍රයක් පිළිබඳ ප්‍රශ්නයක් වත්, ලියන ලද, නැතහොත් මුද්‍රණය කරන ලද ඉල්ලීම් පිළිබඳ ප්‍රශ්නයක් වත්, එසේත් නැතහොත්, කුහක හා අවංක "ජනතා මිත්‍රයන්" වෙන් කරන රේඛාවක් ඇඳීම පිළිබඳ ප්‍රශ්නයක් වත් නොවේ. එය අරගලයේ දී ඇති කරගන්නා නියම සමගියත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදය ගන්නා සෑම "අවිශ්වාසදුයක" පියවරක්ම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් බුරුලක් නොදී විවේචනය කරනු ලැබීමත්, සම්බන්ධයෙන් වූ ප්‍රශ්නයකි. "ප්‍රජාතන්ත්‍රවාදී වෙනස් කම් සම්බන්ධයෙන් උනන්දුවක් දක්වන සියළුම සමාජ බලවේගයන් සැබ-වින්ම තහවුරු වීම" පිණිස අවශ්‍ය වන්නේ, සාකච්ඡා සභාව එතරම් අනලස්ව හා නිෂ්ඵල ලෙස වෙහෙස වී සකස් කළ "කරුණු" නොව, නියම වශයෙන්ම විප්ලවවාදී වූ සටන් පාඨ ඉදිරිපත් කිරීමේ හැකියාව ය. මේ සඳහා අවශ්‍ය වන්නේ නිර්ධන පංතියේ අරමුණු, රාජාණ්ඩුවාදී ධනපති පංතියේ මට්ටමට පහත හෙළන සටන් පාඨ නොව, විප්ලවවාදී සමූහා-ණ්ඩුවාදී ධනපතියන් නිර්ධන පංතියේ මට්ටමට ඔසවන සටන් පාඨයන් ය. මේ සඳහා අවශ්‍ය වන්නේ කැරළි ගසමින් කෙරෙන නැගී සිටීමට ශක්තිමත් ලෙස සහභාගි වීම මිස, කැරළි ගසමින් නැගී සිටීමේ හදිසි කර්තව්‍යය විතණ්ඩවාදී ලෙස මග හැරීම නොවේ.

* 1905 ජූනි 4 දින පළ වූ "ප්‍රොලිතාරි" අංක 4 හි "නව විප්ලවවාදී කම්කරු සමිතියක්" යන සිරස්තලය යටතේ වූ ලිපියක් විය. "රුසියානු විමුක්ති සංගමය" යන නමින් පෙනී සිටි සහ කැරළි ගසමින් නැගී සිටීමක ආධාරයෙන් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීමේ අරමුණ භාර ගත්, මෙම සංගමය නිකුත් කළ ආයාචනා වල සන්ධාරය මෙම ලිපියෙහි අඩංගුය. තවද, එවැනි, පක්ෂයෙන් බාහිර සංගම් කෙරෙහි සමාජ-ප්‍රජා-තන්ත්‍රවාදීන් දක්වන ආකල්පයද, එම ලිපියෙන් පැහැදිලි කෙරේ. මෙම සංගමය කොතෙක් දුර පැවතියේද, විප්ලවයේදී එයට අත් වූයේ කුමණ ඉරණමක්ද, යන්න අපි කොහෙත්ම නො දනිමු. (1907 සංස්කරණයට කර්තෘ ගේ සටහන.— සංස්කාරක)



 

## 12. ධනපති පංතිය ආපසු හැරී ගියහොත් ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ බලවේගය හීන වේද?

නව ඉස්ක්‍රාවාදීන් ගේ කොකේසියානු සාකච්ඡා සභාව විසින් අනුමත කරන ලදුව, ''ඉස්ක්‍රා'' වෙහි පළ කර තිබුණු යෝජනාවල පිටපත් අපට ලැබෙන විට මතු සඳහන් වැකි ලියා තිබුණි.අප උත්සාහ කළත්Pour la bonne bouche රසවත් අවසානයක් සඳහා මීට වඩා හොඳ දෙයක් සිතාගැනීමට අපට පුළුවන් කමක් නැත.

''ඉස්ක්‍රා'' පත්‍රයේ කතුවරු ඉතාමත් හේතු යුක්ත ලෙස මෙසේ කියති: ''උපක්‍රම සම්බන්ධයෙන් වූ මූලික ප්‍රශ්නය ගැන,කොකේසියානු සාකච්ඡා සභාවද, සමස්ත රුසියා සාකච්ඡා සභාවට'' (එනම්, නව ඉස්ක්‍රා කණ්ඩායමට) සමාන (සත්‍යයකි!) ''තීරණයකට එළඹියා ය''. ''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් කෙරෙහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය කොකේසියානු සහෝදරවරුන් විසින් විසඳන ලද්දේ, 'විපිරියොද්' කණ්ඩායම සහ එයට සම්බන්ධ වූ ඊනියා සම්මේලනයේ නියෝජිතයන් ඉදිරිපත් කළ අළුත් ක්‍රමයට ඉතාමත් විවෘත ලෙස විරුද්ධත්වය දක්වන අන්දමෙනි.'' ''ධනපති විප්ලවයකදී නිර්ධන පංති පක්ෂය අනුගමනය කළ යුතු උපක්‍රම සාකච්ඡා සභාව විසින් ඉදිරිපත් කර ඇති ආකාරයට සකස් කර තිබීම ඉතාමත් උචිත බව පිළිගත යුතු ය''.

ඇත්ත, ඇත්තමය. නව ඉස්ක්‍රා කණ්ඩායමේ මූලික වරද මීට වඩා ''උචිත'' ලෙසට ගෙන හැර දක්වීමට වෙනත් කිසි කෙනෙකුට බැරිය. අපි මෙම යෙදුම සම්පූර්ණයෙන් උපුටා දක්වන්නෙමු. එසේ කිරීමේදී ප්‍රථමයෙන්, වරහන් තුළ, මල් පොකුරුද, ඊළඟට අවසානයේ ඵලය ද, සඳහන් කරන්නෙමු.

නව ඉස්ක්‍රා ආධාර කරුවන් ගේ කොකේසියානු සාකච්ඡා සභාව තාවකාලික ආණ්ඩුවක් ගැන අනුමත කළ යෝජනාව මෙසේ ය:

''නිර්ධන පංතියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විඥනය වඩාත් ගැඹුරු කරනු'' (සත්තකින්ම! මර්තිනව් ශෛලියෙන් යන්න ඔවුනට එකතු කරන්නට තිබිණ) ''සඳහාත්'' (විඥනය වඩාත් ගැඹුරු කිරීම සඳහා මිස සමූහාණ්ඩුවක් දිනා ගැනීම සඳහා නොවේ ද? විප්ලවය ගැන මොන තරම් ''ගැඹුරු'' සංකල්පයක් ද!), ''වැඩී එන ධනපති රාජ්‍ය ක්‍රමය විවේචනය කිරීම පිණිස පක්ෂයට සම්පූර්ණ නිදහස ලබා ගනු සඳහාත්"(සමූහාණ්ඩුවක් ලබා ගැනීම අපට අයත් කාර්යයක් නොවේ! අපේ කාර්යය වන්නේ විවේචනය කිරීමේ නිදහස ලබා ගැනීම පමණකි. ආරාජික වාදී අදහස් වලින් අරාජිකවාදී භාෂාව පැන නගී: ''ධනපති-රාජ්‍ය'' ක්‍රමය!) ''විප්ලවීය තත්වයෙන් ප්‍රයෝජන ගැනීම අප සතු කටයුත්ත සේ අප සළකන හෙයින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීමට හා එබඳු ආණ්ඩුවකට හවුල් වීමට තමන් විරුද්ධ බව පළ කරන සාකච්ඡා සභාව'' (ස්පාඤ්ඤ විප්ලවයට දස මසකට පෙර බකුනින්වාදීන්[47]සම්මත කළ හා එංගල්ස් විසින් සඳහන් කරන ලද යෝජනාව මතක් කරන්න: ''ප්‍රොලිතාරි'' අංක 3[48]) ''රාජ්‍ය ක්‍රමය තුළ හැකි පමණින් (?!)ප්‍රජාතන්ත්‍රකරණයක් ඇති කර ගනු වස් තාවකාලික ධනපති ආණ්ඩුවට පිටතින් සිට බල පෑම් ඇති කිරීම'' (ඉහළින් සිට නොව පහළින්) ''ඉතාමත් යථායෝග්‍ය ක්‍රියාමාර්ගය බව කල්පනා කරයි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් තාවකාලික ආණ්ඩුවක් පිහිටුවනු ලැබීම හෝ එවැනි ආණ්ඩුවකට ඔවුන් ඇතුළු වීම හෝ, එක් අතකින් මහජනයා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි කලකිරී එය අතහැර දැමීමට තුඩු දෙන බව සාකච්ඡා සභාව කල්පනා කරයි. මන්ද යත්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බලය අල්වා ගත හැකි වුව ද, සමාජවාදය ස්ථාපිත කිරීම ඇතුළුව, කම්කරු පංතියේ හදිසි අවශ්‍යතාවයන්'' (සමූහාණ්ඩුවක් හදිසි අවශ්‍යතාවයක් නොවේ! ධනපති විප්ලවවලට සහභාගි වීම ප්‍රතික්ෂේප කරන කලෙක මෙන් කථා කරන කර්තෘහු, ඔවුන් ගේ නො දැනුවත් කම නිසා තමන් කථාකරන්නේ ආරාජිකවාදී භාෂාව බව නොදනිති!) ''සපුරාලීමට ඔවුන් අසමත් වන බැවිනි. අනිත් අතට, එසේ ඔවුන් ආණ්ඩුවක් පිහිටුවීම හෝ ආණ්ඩුවකට ඇතුළු වීම හෝ සිදුවුවහොත් ධනපති පංතිය විප්ලවයෙන් ආපසු හැරී යාමෙන් එහි බලවේගය හීන වීමට ද ඉඩ තිබේ.''

ප්‍රශ්නයේ ප්‍රධාන තැන එය යි. අරාජිකවාදී අදහස් නග්න අවස්ථාවාදය සමග එකට වෙළී ඇත්තේ (බටහිර යුරෝපීය බර්න්ෂ්ටයින්වාදීන් අතරද නිතරම සිදුවන පරිදි) එතැන ය. ටිකක් සිතන්න: මේ මිනිස්සු තාවකාලික ආණ්ඩුවකට හවුල් නොවන්නේ, ධනපති පංතිය විප්ලවයෙන් ආපසු හැරී යාමෙන්, විප්ලවයේ බලවේගය හීන වන හෙයිනි! සමස්ත නව ඉස්ක්‍රා දර්ශනයම, එහි පිරිසිදු හා සසංගත ආකාරයෙන් මෙහි අන්තර්ගතව ඇති බව අපට පෙනේ: විප්ලවය ධනපති විප්ලවයක් හෙයින් අපි ධනපති පිංගුත්තරවාදයට හිස නමා එයට ඉඩදී අයින් විය යුත්තෙමු. අපේ හවුල් වීම නිසා, ධනපති පංතිය ආපසු හැරී යනු ඇතැයි යන හැඟීම සළකා, අපි මඳ වශයෙන් හෝ, මොහොතකට හෝ ඒ අනුව කටයුතු කරන්නෙමු නම්, එයින් අප කරන්නේ, නිකම්ම, විප්ලවයේ නායකත්වය සම්පූර්ණයෙන් ම ධනපති පංති වලට භාර දීම ය. එයින් අප කරන්නේ (''විවේචනය කිරීමේ නිදහස'' සම්පූර්ණයෙන්ම තබා ගනිමින්!!) නිර්ධන පංතිය සම්පූර්ණයෙන් ම ධනපති පංතියේ භාරකාරත්වය යටතේ තැබීමය; ධනපති පංතිය ආපසු හැරී නොයන සේ, නිර්ධන පංතිය මධ්‍යස්ථ හා යටහත් පහත් වන ලෙස, එයට බල කිරීම ය. ධනපති පංතිය ආපසු හැරී

යාමට නො සලස්වනු පිණිස, කිසි දිනෙකත් ''ආර්ථිකවාදීන්'' හා ඔවුන්ගේ අනුගාමිකයින් විසින් අවබෝධ කර ගනු නොලැබූ නිර්ධන පංතියේ පරම අවශ්‍යතාවයන්, එනම්, එහි දේශපාලන අවශ්‍යතාවයන් අපි හීන කරමු. නිර්ධන පංතියට උවමනා පමණට, ප්‍රජාතන්ත්‍රවාදය දිනාගැනීම සඳහා විප්ලවවාදී ලෙස අරගල කිරීමේ වේදිකාවේ සිට, අපි සම්පූර්ණයෙන්ම, ධනපති පංතිය සමග කේවෙල් කිරීමේ, අපගේ ප්‍රතිපත්ති මිළ කොට දී, විප්ලවය පාවා දී, ධනපති පංතියේ ස්වේච්ඡා කැමැත්ත (''එය ආපසු නො යනු වස්'') දිනා ගැනීමේ වේදිකාවට මාරු වෙමු.

විප්ලවය පාවා දීමේ සහ නිර්ධන පංතිය ධනපති පංති වලට සම්බන්ධ වූ අසරණ උපාංගයක් බවට පත් කිරීමේ උපක්‍රමය කෙටි පේළි දෙකකින් ප්‍රකාශ කිරීමට කොකේසියානු නව ඉස්ක්‍රාවාදී හු සමත් වූහ. නව ඉස්ක්‍රා උපනතියේ වැරදි අනුව අප නිගමනය කළ දෙය දැන් පැහැදිලි සහ නිශ්චිත ප්‍රතිපත්තියක තත්වයට, එනම්, රාජාණ්ඩුවාදී ධනපති පංතිය පසු පසු ඇදී යාමේ තත්වයට දියුණු කර තිබෙන බව අපට පෙනේ. සමූහාණ්ඩුවක් ස්ථාපිත කිරීම ධනපති පංතිය ආපසු හැරී යාමට (දැනටමත් කරන ලෙසට — ස්ත්‍රුවේ මහතා මීට නිදර්ශනයකි) හේතුවන නිසා, සමූහාණ්ඩුවක් සඳහා කරන සටන හංගවේවා. නිර්ධන පංතිය ඉදිරිපත් කරන සෑම ශක්තිමත් හා සසංගත ඉල්ලීමක්ම, නිතරම හා ලෝකයේ සෑම තැනකම ධනපතියා ආපසු හැරීයාමට හේතු වන නිසා, වැඩ කරන ජනයිනි, තොපගේ ගුල් වලට වැදී සැඟවෙව්. පිටත සිට පමණක් ක්‍රියා කරව්. විප්ලවයේ යහපත පිණිස, ''ධනපති-රාජ්‍ය'' ක්‍රමයේ උපකරණ හා ආයුධ පාවිච්චි කිරීමට සිහිනෙනුදු නො සිතව්. තොපට විවේචනය කිරීමේ නිදහස පමණක් ඉතිරි කර ගනිව්.

''ධනපති විප්ලවය'' යන යෙදුම ගැන වූ ඔවුන්ගේ සංකල්පයම කෙරෙහි ඇති මූලික වරද මෙහි දී මතු වී පෙනේ. මෙම යෙදුම පිළිබඳ වූ මර්තීනව් නැතහොත් නව ඉස්ක්‍රා ''සංකල්පය'', නිර්ධන පංතියේ ව්‍යාපාරය කෙළින්ම ධනපති පංතියට පාවා දීමට මග හෙළිකරන්නේ ය.

පැරණි ''ආර්ථිකවාදය'' අමතක වූ හා අධ්‍යයනය නොකරන හෝ සිහිපත් නොකරන අයට, ආර්ථිකවාදයේ වර්තමාන පුනර්ජනනය ගැන වටහා ගැනීම දුෂ්කර විය හැක. බර්න්ෂ්ටයින් වාදී Credo[49] ප්‍රකාශනය සිහියට නගන්න. ''තනිකරම නිර්ධන පංතික'' වූ අදහස් වලින්, එහි කතු වරු පහත සඳහන් නිගමනයට බැස ගත්හ: සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අප වෙහෙස විය යුත්තේ, ආර්ථිකය ගැනය, කම්කරු පංතියේ නියම ව්‍යාපාරය ගැනය, සියළුම දේශපාලන රැවටිලි විවේචනය කිරීමේ නිදහස ගැනය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ ඇත්ත වශයෙන්ම වඩාත් අරුත් සරු කිරීම ගැනය. දේශපාලනය ලිබරල් වාදීන්ගේ කටයුත්තකි. ''විප්ලවවාදයට'' වැටෙනු නොදී දෙවියෝ අප බේරා ගනිත්වා! එය නිසා ධනපති පංතිය ආපසු හැරී යාමට ඉඩ තිබේ. මුළු Credo ලියවිල්ලම නැතහොත් ''රබෝචය මිස්ල්''[50] අංක 9 (1899 සැප්තැම්බර්) විශේෂ අතිරේකය කියවන අයට, මෙම මුළු තර්කණ මාර්ගයම තෝරා බේරා ගත හැකි ය.

අද ද, අප හමුවේ ඇත්තේ එය මය. වෙනසකට ඇත්තේ එහි පරිමාණය විශාල කර ''ශ්‍රේෂ්ඨ'' රුසියානු විප්ලවය මුළුමනින්ම අගය කිරීමක් සඳහා එය යොදා ගෙන තිබීමය. නමුත්, සාධර්මික පිංගුත්තර වාදයේ න්‍යායාචාරීන් විසින් එය කල් තබාම පිරිහෙළා, විකාරයක් බවට පත් කර තිබීම වෛදයකි! සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි විවේචනය කිරීමේ නිදහස ගැන, පංති විඥනය ගැඹුරු කිරීම ගැන, පිටත සිට ක්‍රියාකාරී වීම ගැන සැළකිලි මත් විය යුත්තෙමු. ඔවුන්ට, එනම්, ධනපති පංතිවලට, ක්‍රියා කිරීමේ නිදහස, විප්ලවීය (ලිබරල් යනුවෙන් කියවන්න) නායකත්වය දීම සඳහා අවහිර නොමැති ක්ෂේත්‍රයක් හා ඉහළ සිට ''ප්‍රතිසංස්කරණ'' ක්‍රියාත්මක කිරීමට නිදහස ද තිබිය යුතුය.

මාක්ස්වාදය පිරිහෙළන මොවුන්, විවේචනයේ ආයුධය වෙනුවට, ආයුධවලින් කරන විවේචනය ආදේශ කිරීමේ අවශ්‍යතාවය ගැන මාක්ස් කී දේ සම්බන්ධව, කිසි කලෙකත් සිතා බලා නැත[51]. මාක්ස් ගේ නම බොරුවට ඇදගනිමින්, ඔවුන් ඇත්ත වශයෙන් කරන්නේ, ඒකාධිපතිවාදය නිදහස් ලෙස විවේචනය කළ හා ප්‍රජාතන්ත්‍රවාදී විඥනය දියුණු කළ, එහෙත්, විප්ලව කාලයක් යනු ක්‍රියා කිරීමේ කාලයක් බවත්, ඉහළින් හා පහළින් යන දෙ පැත්තෙන් ම ක්‍රියා කිරීමේ කාලයක් බවත්, වටහා ගැනීමට අසමත් වූ, ෆ්‍රැන්ක්පර්ට් ධනපති පුහු ඝෝෂකයන් ගේ ජීවගුණය ආවේශ කර ගනිමින් උපක්‍රම පිළිබඳ යෝජනා ලිවීම ය. මාක්ස්වාදය විතණ්ඩවාදය බවට හරවන ඔවුහු, ඉතාමත් දියුණු ඉතාමත් අධිෂ්ඨාන සහගත සහ ශක්තිමත් ලෙස විප්ලවවාදී වන පංතියේ දෘෂ්ටිය, එහි ඉතාමත්, නොදියුණු ස්ථරයේද, දුෂ්කර විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් ගෙන් පසු බසින හා එම කර්තව්‍යයන් ස්ත්‍රුවේලාගේ භාරයට පවරන අයගේ ද, දෘෂ්ටියක් බවට පත් කරති.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විප්ලවවාදී ආණ්ඩුවකට ඇතුළු වීම නිසා ධනපති පංති විප්ලවයෙන් ආපසු හැරී යත් නම්, ඔවුන් එමගින් විප්ලවයේ ''බලවේගය හීන කරනු'' ඇත.

එයට කන්දෙන්න, රුසියානු කම්කරුවනි: විප්ලවය ක්‍රියාත්මක කෙරෙන්නේ, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බිය නොවන හා සාර්වාදය පරදවා ජයග්‍රහණය ලැබීමේ උවමනාවක් නො දක්වන, එහෙත් එය සමග එකඟත්වයකට පැමිණීමට අපේක්ෂා කරන ස්ත්‍රුවේලා විසින් නම්, එහි බලවේගය වඩාත් දැවැන්ත වනු ඇත. ඉහත විස්තර කෙරෙන පරිදි, ඇති විය

හැකි තත්වයන් දෙකෙන් එකක් වන, රාජාණ්ඩුවාදී ධනපති පංතිය ෂිපොව් වර්ගයේ ''ව්‍යවස්ථාවක්'' හා සම්බන්ධයෙන් ඒකාධිපත්‍යය සමග එකඟත්වයක් ඇති කර ගත හොත්, විප්ලවයේ බලවේගය වඩාත් දුවැන්ත වනු ඇත!

මූළු පක්ෂයටම මග පෙන්වීම සඳහා ඉදිරිපත් කෙරෙන යෝජනාවල එබඳු නින්ද සහගත දේ ලියන, නැතහොත්, එවැනි ''උචිත'' යෝජනා අනුමත කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, මාක්ස්වාදයෙන් ජීවමාන ගුණය පලවා හැරිය විතණ්ඩවාදයෙන් කොතරම් අන්ධ වී සිටිත් ද යත්, ඔවුන් ගේ ලක්ෂණ වචන සියල්ලම මෙම යෝජනාවලින් හිස් වදන්මාලා වලට හැරෙන බව ඔවුහු නො දකිති. ''ඉස්ක්‍රා'' පත්‍රයෙහි පළ වන ඔවුන් ගේ ඕනෑම ලිපියක් ගෙන බලන්න.නැතහොත් කීර්තිමත් මර්තීනව් ලියූ අපකීර්තිමත් පොත හෝ ගෙන බලන්න — කැරළි සහිත පොදුජන නැගී සිටීමක් ගැන, විප්ලවය, එහි පරිපූර්ණත්වය දක්වා ගෙන යාම ගැන, චපල ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී සාමාන්‍ය ජනතාව කෙරෙහි විශ්වාසය තැබීමට ප්‍රයත්න දැරීම ගැන, ඔබට එයින් කියවනු හැකි වේ. නමුත්, ධනපති පංතියේ ඉවත් වීම නිසා ''විප්ලවයේ බලවේගය හීන වේ'' යන අදහස ඔබ විසින් පිළිගනු හෝ අනුමත කරනු හෝ ලැබූ වහාම, මෙම අනර්ඝ දේ සියල්ලම තුච්ඡ වදන් මාලා බවට පත් වේ.මහත්වරුනි, අනුගමනය කළ හැකි විකල්පයන් මෙසේය: එක්කෝ, චපල, ආත්මාර්ථකාමී සහ බියගුළු ධනපති පංතිය ගැන නොතකා, අපි ජනතාව සමග එක්ව විප්ලවය ක්‍රියාත්මක කර, සාර්වාදය පරදවා, සම්පූර්ණ ජයග්‍රහණය අත්පත් කර ගැනීමට උත්සාහ කළ යුත්තෙමු, නැතහොත්, මෙම ''නොතකා'' යන්න නොපිළිගෙන අපි ධනපති පංතිය විප්ලවයෙන් ''ආපසු හැරී'' යතැයි බිය වන්නෙමු. මෙයින් දෙවැනි විකල්පයෙන් කෙරෙන්නේ ධනපති පංතියට, එනම්, චපල, ආත්මාර්ථකාමී හා බියගුළු ධනපති පංතියට, නිර්ධන පංතිය හා ජනතාව පාවා දීම ය.

මා කී දේ වැරදි ලෙස අර්ථ නිරූපනය කිරීමට නො සිතන්න. ඔබ උවමනාවෙන්ම ද්‍රෝහී වී යයි කියා ඔබට චෝදනා කෙරෙතියි කියා කෑමොර නො දෙන්න. ඔබ නිතරම නොදැනුවත්ම මඩ වගුර දෙසට බඩ ගාමින් සිටියෙහි ය. පැරණි ආර්ථිකවාදීන් ''වඩා ගැඹුරු'' මාක්ස්වාදයේ පල්ලම් තලාව දිගේ පහළට නොවැලැක්විය හැකි සේ හා වෙනස් කළ නොහැකි සේ, නොදැනුවත්වම ඇදී ගොස්, අවසානයේ විප්ලවවිරෝධී, ආත්මයකින් තොර හා අප්‍රාණික බුද්ධමය ප්‍රතිෂ්ඨාවකට පත්වන තෙක්ම ගිය මෙන්ම, නොදැනුවත්වම, ඔබද අවසානයේ මඩ වගුර තුළට ම බඩ ගා ඇත.

මහත්වරුනි, ''විප්ලවයේ බලවේගය'' නිර්ණය කරන නියම සමාජ



බලවේගයන් මොනවාදැයි ඔබ කිසි කලෙකත් කල්පනා කර තිබේ ද? වර්තමාන අවස්ථාවේ අපට ඉතාමත් වාසිදායක ලෙස වර්ධනය වී තිබෙන විදේශ දේශපාලන බලවේග, ජාත්‍යන්තර සම්බන්ධතාවයන් ගැන මෙහි දී සැලකිල්ලට නො ගන්නෙමු. අප සලකා බලන්නේ රුසියාවේ අභ්‍යන්තර බලවේගයන් පිළිබඳ ප්‍රශ්නය වන හෙයින්, විදේශ බලවේග මෙම සාකච්ඡාවෙන් අත් හැරීම සාධාරණය. මෙම අභ්‍යන්තර සමාජ බලවේග පිරික්සා බලන්න. ඒකාධිපත්‍යය, අධිරාජයා ගේ රාජ සභාව, පොලිසිය, නිලධාරි පෙලැන්තිය, යුද්ධ හමුදව හා අතලොස්සක් දෙනා වන රදළයින්, විප්ලවයට විරුද්ධව පෙළ ගැසී සිටිති. ජනතාවගේ කෝපය වැඩි වුන තරමට, යුද්ධ හමුද ගැන තැබිය හැකි විශ්වාසයද අඩු වෙයි: නිලධාරි පෙලැන්තියේ සෙලවීමද වැඩිවෙයි. එපමණක් නොව, සමස්තයක් වශයෙන් ගත් කල ධනපති පංතිය ද දැන් විප්ලවයට පක්ෂ වෙමින්, විමුක්තිය ගැන උත්සුක්ත ලෙස කථා පැවැත්වීමත්, වඩ වඩාත් නිරන්තරව ජනතාවගේ නාමයෙන් හා විප්ලවයේ නාමයෙන් පවා දේශනා පැවැත්වීමත්, කරනු ලැබේ.* නමුත්, විප්ලවයට ආධාර කිරීමේ දී, ධනපති පංතිය චපල, ආත්මාර්ථකාමී හා බියගුළු ස්වභාවයක් දක්වන බව, න්‍යාය අනුවත්, දිනපතා හා පැයක් පැයක් පාසා අපගේ ලිබරල්වාදීන් හා සියම්ස්ත්ව ජනයා නිරීක්ෂණය කිරීමෙනුත්, මාකස්වාදීන් වන අපි සියළු දෙනාම දනිමු. ධනපති පංතියේ පටු, ආත්මාර්ථකාමී උවමනාවන් ඉටුවූ වහාම, එය සසංගත ප්‍රජාතන්ත්‍රවාදයෙන් ''ආපසු හැරී'' යන්නට පටන්ගත් (දැනටමත් එය ආපසු හැරී යමින් සිටී!) වහාම, එය සමූහයක් වශයෙන්, ප්‍රති විප්ලවය දෙසටත්, ඒකාධිපත්‍යය දෙසටත්, විප්ලවයට විරුද්ධවත්, ජනතාවට විරුද්ධවත්, අනිවාරණීය වශයෙන් ම හැරෙනු ඇත. එහි දී ''ජනතාව'', එනම්, නිර්ධන පංතිය හා ගොවි ජනතාව ඉතිරි වේ. අවසානය දක්වා ගමනේ යනු ඇතැයි අපේක්ෂා කළ හැක්කේ නිර්ධන පංතිය පමණකි — ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය පසුකර, එය තවත් බොහෝ දුර යන හෙයිනි. නිර්ධන පංතිය සමූහාණ්ඩුවක් සඳහා පෙරමුණ ගෙන සටන් කරන්නේත්, ධනපති පංතිය ආපසු හැරී යාමට ඉඩ තිබෙන බව සැලකිල්ලට ගන්නැයි කියමින් දෙන මෝඩ උපදෙස් පිළිකුල් කොට ඉවත ලන්නේත්, එනිසාය. අර්ධ නිර්ධනයින් මෙන්ම සුළු ධනපති පංතික කොටස් ද,විශාල සංඛ්‍යාවක් ගොවි ජනතාවට අයත් ය. මේ නිසා, එයද, අස්ථායී වන්නේ ය. ඒ අනුව තනිකරම පංති පක්ෂයක් තුළ ඒකරාශී වීමට නිර්ධන පංතියට සිදු වේ. එසේ වුවද, ගොවි ජනතාවගේ අස්ථායී ස්වභාවය

* ස්ත්‍රුවේ මහතා විසින් ජොරේස් වෙත යවන ලද හා මෑතදී ජොරෙස් විසින් "L'Humanité"[52] හිද, ස්ත්‍රුවේ මහතා විසින් ''අස්වබෝෂ්ජේනිය'' අංක 72 හිද පළ කරන ලද විවෘත ලිපිය මේ සම්බන්ධයෙන් වැදගති.

ධනපති පංතියේ චපල ස්වභාවයට වඩා මූලික වශයෙන් වෙනස් වේ. පෞද්ගලික දේපල හිමිකම් ක්‍රමයේ ප්‍රධාන ආකෘති අතුරෙන් එකක් වන, වතුකාර දේපල රාජසන්තක කිරීම ගැන තරම් පෞද්ගලික දේපල හිමිකම් ක්‍රමය සම්පූර්ණ වශයෙන්ම ආරක්ෂා කර ගැනීම සම්බන්ධයෙන්, ගොවි-ජනතාව දැනට උනන්දුවක් නො දක්වීම එයට හේතුවය. එනිසා, සමා-ජවාදී වන්නේ හෝ සුළු ධනපති ස්වභාවය අත් හරින්නේ හෝ නොමැ-තිවම, ඉතසිතින්ම හා සහමුලින්ම ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පක්ෂපාත වීමේ හැකියාව ගොවිජනතාවට ඇත. ගොවි ජනතාව අනිවාරණීය වශ-යෙන්ම එම තත්වයට එනු ඇත්තේ, එයට දැනුම ගෙන දෙන විප්ලවීය සිදුවීම් වල ගමන් මාර්ගය, ධනපති පංතියේ ද්‍රෝහී කම නිසා සහ නිර්ධන පංතියේ පරාජය නිසා අකාලයේ කෙළවර නොවුන හොත් පමණකි. ගොවිජන ප්‍රතිසංස්කරණ ක්ෂේත්‍රයෙහි ගොවිජනයාට අවශ්‍ය සියළු දේම, එනම්, (''සමාජවාදී-විප්ලවවාදීන්'' සිතන ලෙසට, ධනපති ක්‍රමය අහෝසි කිරීම සඳහා නොව) අර්ධ ප්‍රවේණිදාස ක්‍රමයේ මඩ වගුරෙන්, පීඩනයේ හා දාස භාවයේ අන්ධකාරයෙන් ගොඩ ඒම පිණිසද, වෙළඳ භාණ්ඩ නිෂ්පාදන ක්‍රමය යටතේ කළ හැකිතාක් දුරට ඔවුන් ගේ ජීවන තත්වයන් වැඩි දියුණු කර ගනු පිණිසද, ගොවි ජනතාව අපේක්ෂා කරන, සිහින මවන හා ඔවුනට ඇත්ත වශයෙන්ම අවශ්‍ය වන සියළු දේම ලබා ගත හැක්කේ, සම්පූර්ණ ජයග්‍රහණයට පත් වන විප්ලවයෙන් වන හෙයින්, එම ජනතාව, ඉහත සඳහන් කොන්දේසියට යටත්ව, අනිවාරණීය වශ-යෙන්ම,විප්ලවයේ සහ සමූහාණ්ඩුවේ බල පවුරක් බවට පත් වන්නේ ය.

තවද, ගොවි ජනතාව විප්ලවයට පක්ෂ පාත වන්නේ, මූලික ගොවි-ජන ප්‍රතිසංස්කරණ ඇති කිරීමේ බලාපොරොත්තුව නිසා ම පමණක් නොවේ. එහි යාමාන්‍ය සහ ස්ථාවර අවශ්‍යතාවයන් නිසා ද එම ජනතාව විප්ලවයට බැඳී සිටී. ගොවිජනතාවගේ අවශ්‍යතාවයන් නිවැරදි ලෙස ප්‍රකාශ කිරීමට හා පොදු ජනකායක්, නැතහොත්, බහුතරය වශයෙන්, එහි ප්‍රබලත්වය සහතික කිරීමට සමත් වන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමයක් වන හෙයින්, නිර්ධන පංතිය සමග සටන් කිරීමේ දී වුව, ගොවිජනතාවට ප්‍රජාතන්ත්‍රවාදය අවශ්‍ය වන්නේ ය. ගොවි ජනතාව දැනුම ලබන තරමට (පාසල් මිණුම් දණ්ඩ අනුව දැනුම මැනීමට පුරුදුව සිටින බොහෝ දෙන නොසිතන තරම් වේගයකින්, ගොවි ජනතාව ජපානය සමග යුද්ධයෙන් පසුව දැනුම ලබමින් සිටිති), එය වඩාත් සසංගත ලෙස සහ අධිෂ්-ඨාන සහගතව, පරිපූර්ණ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයකට පක්ෂව සිටිනු ඇත. එයට හේතුව, ධනපති පංතිය මෙන් නොව, එයට ජනතා ආධිපත්‍යයට බිය වීමට කිසිම කරුණක් නොතිබීමයි. ඊට ප්‍රතිකූලව එයට එම ආධි-පත්‍යයෙන් වාසි ලැබීමට පුළුවන. ධනපති ව්‍යාපාර වස්තු වෙළෙන්දන්ගේ



(ඉහළ මණ්ඩලයක් ආදිය ද සහිත) විඥත රාජාණ්ඩුවෙන් ගොවි ජනතාවට ඉටු වන අර්ථය, අද එය ඉවසා දරා ගන්නා අයිතිවාසිකම් නොමැති කම හා එම පීඩනයම සහ එම නූගත් කම ම වන නිසාද, වෙනසකට ඇත්තේ ඒවා යුරෝපීය ව්‍යවස්ථානුකූල වාදයෙන් මඳක් ඔප දමා තිබීම පමණක් වන නිසා ද, එම ජනතාව නිවට රාජාණ්ඩුව ඉවත ලීමට පටන්ගත් වහාම, එහි පරමාදර්ශය වනු ඇත්තේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවකි.

ධනපති පංතිය, පංතියක් වශයෙන්, ස්වභාවයෙන්ම හා අනිවාරණීය වශයෙන් ම ලිබරල්-රාජාණ්ඩුවාදී පක්ෂයේ බලපෑම යටතට පත්වීමේ ප්‍රවණතාවයක් දක්වන්නේත්, ඒ අතර, ගොවි ජනතාව සමූහයක් වශයෙන් විප්ලවවාදී සමූහාණ්ඩු පක්ෂයේ නායකත්වය යටතට පත් වීමේ ප්‍රවණ-තාවයක් දක්වන්නේත්, මේ නිසා ය. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය එහි උච්ඡ අවස්ථාව දක්වා ගෙන යාමට ධනපති පංතිය අසමත් වන්නෙත්, ගො-විජනතාවට එසේ කළ හැකි වන්නේත්, එසේ කිරීමට එයට ආධාරදීම සඳහා අප සියළු ප්‍රයත්නයක් ම දැරිය යුතු වන්නේත්, මේ නිසාය.

මෙය නොකීවත් කවුරුත් දන්නා බවත්, ඒ සියල්ලම අ යන්න ආ යන්න මෙන් බවත්, සියළුම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් මෙය ඉතා හොඳින් දන්නා බවත්, කියමින් මට විරුද්ධත්වයක් දැක්වීමට ඉඩ තිබේ. නැත. පවතින තත්වය එය නොවේ. ධනපති පංතිය විප්ලවයෙන් ඉවත් වී යාම නිසා, විප්ලවයේ ''බලවේගය හීන වීම'' ගැන කථා කළ හැකි අයට, එය වැටහෙන්නේ නැත. එවැනි අය අපගේ ගොවිජන වැඩ පිළිවෙළෙහි වචන කටපාඩම් කරගෙන පුනරුච්ඡාරනය කරන නමුත්, ඒවායේ අර්ථය ඔවුනට නොතේරේ. නො එසේ නම්, සමස්ත මාක්ස්වාදී අවබෝධ-යෙන්මත්, අපගේ වැඩ පිළිවෙළෙනුත්, නිගමනය වන නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය ගැන, ඔවුන් බිය නොවනු ඇත. නො එසේ නම්, ධනපති පංතිය යාමට සුදනම් දුරට පමණක්, ඔවුන් විප්ලවයේ බලවේගය සීමා නො කරනු ඇත. එවැනි අය, ඔවුන් සම්මත කරන, ඒකාන්ත වශයෙන් මාක්ස්වාදයට විරුද්ධ හා විප්ලවවා-දයට විරුද්ධ යෝජනාවලින්, ඔවුන් ගේ වියුක්ත මාක්ස්වාදී විප්ලවවාදී වදන් මාලා අවලංගු කරති.

ජයග්‍රාහී විප්ලවයක දී ගොවිජනතාව ඉටු කරන කාර්ය කොටස ඇත්ත වශයෙන්ම වටහා ගෙන සිටින අය, ධනපති පංතිය විප්ලවයෙන් ආපසු හැරී යාම නිසා විප්ලවයේ බලවේගය හීන වන්නේ යයි කීමට සිහිනෙනුදු නො සිතනු ඇත. එසේ කියන්නේ, ඇත්ත වශයෙන් ම, රුසියානු විප්ලවය එහි නියම බලවේගයෙන් යුතුව පෙනී සිටීමට පටන් ගන්නේත්, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය යුගයේදී එයට හැකි පුළුල්තම විප්ලවවාදී බලවේගය ආරූඪ කර ගන්නේත්, එයින් ධනපති පංතිය ආපසු

හැරී ගිය විට හා නිර්ධන පංතිය සමග එක පෙළට සිටිමින් ගොවිජනතාව ක්‍රියාශීලී විප්ලවවාදීන් ලෙස සටන් වදින විට පමණක් වන හෙයිනි. අපගේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය අවසානය දක්වා ගෙන යනු ලැබීම සඳහා, එය විශ්වාසය තැබිය යුත්තේ ධනපති පංතියේ අනිවාරණීය චපලත්වය අකර්මණ්‍ය කිරීමෙහි (එනම්, ''ඉස්ක්‍රා''වේ කොකේසියානු පක්ෂවාදීන් ඔවුන්ගේ කල්පනාව මඳ කම නිසා බිය ගන්නා කරුණ වන, ''එම පංතිය විප්ලවයෙන් ආපසු හැරී යාමට'' සැලැස්වීමෙහි) සමත් බලවේගයන් කෙරෙහි ය.

ඒකාධිපත්‍යයේ! ප්‍රතිරෝධය බලයෙන් මර්දනය කර, ධනපති පංතියේ අස්ථායීතාවය අකර්මණ්‍ය කරනු පිණිස ගොවිජනතා සමූහයා සන්ධානයෙන් එකතු කරගනිමින්, නිර්ධන පංතිය ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය අවසානය දක්වා ගෙන යා යුතුය. ධනපති පංතියේ ප්‍රතිරෝධය බලයෙන් මර්දනය කර, ගොවි ජනතාවගේ සහ සුළු ධනපති පංතියේ අස්ථායීතාවය අකර්මණ්‍ය කරනු සඳහා, ජනගහනයේ අර්ධ නිර්ධන පංති ජන සමූහයා සන්ධානයෙන් එකතු කර ගනිමින්, නිර්ධන පංතිය සමාජවාදී විප්ලවය සාර්ථක කළ යුතුය. විප්ලවයේ බලවේගය ගැන නව ඉස්ක්‍රා කණ්ඩායමේ තර්ක හා යෝජනා සියල්ලෙන්ම ඔවුන් එතරම් පටු ආකාරයෙන් ඉදිරිපත් කරන, නිර්ධන පංතියේ කාර්ය භාරයන් එබඳුය.

එහෙත් එක කරුණක් අමතක නො කළ යුතුය. එය විප්ලවයේ ''බලවේගය'' ගැන කරන සාකච්ඡාවලදී බොහෝ විට අමතක කරනු ලබන කරුණකි. එය මෙම ගැටළුවෙන් මතුවන දුෂ්කර තාවයන් පිළිබඳ ප්‍රශ්නයක් නොව, එයට විසඳීමක් සෙවීමට හා ලබා ගැනීමට අප කටයුතු කරන මාර්ගය පිළිබඳ ප්‍රශ්නයකි. එය විප්ලවයේ බලවේගය දැවැන්ත හා අනභිබවනීය තත්වයට ගෙන ඒම පහසුද නැතහොත් දුෂ්කරද යන්න පිළිබඳ ප්‍රශ්නයක් නොව, එම බලවේගය වඩාත් බලවත් කිරීමට කටයුතු කරන ආකාරය පිළිබඳ ප්‍රශ්නයකි. අපගේ අදහස් වෙනස් වන්නේ, අපගේ කටයුතුවල මූලික ස්වභාවයත්, ඒවා යොමු කළයුතු දිශාවත් සම්බන්ධයෙනි. අප මෙය අවධාරණය කිරීමට හේතුව මෙයයි එකිනෙකට වෙනස් ප්‍රශ්න දෙකක්, එනම්, ගත යුතු දිශාව, නැතහොත්, එකිනෙකට වෙනස් මාර්ග දෙකකින් එකක් තෝරා ගැනීම සම්බන්ධ ප්‍රශ්නය ද, අපගේ අරමුණ ඉටුකර ගැනීමේ පහසුව, නැතහොත්, නියමිත මාර්ගයක් ඔස්සේ එය සාර්ථක කර ගැනීමට ඇති ආසන්නතාවය සම්බන්ධ ප්‍රශ්නයද, නිතරම එකට පටලවා ගන්නේ, නො සැලකිලිමත්, නැතහොත්, ප්‍රතිපත්ති විරහිත පුද්ගලයන් පමණක් වීමයි.

මෙම අවසානයට සඳහන් ප්‍රශ්නය ගැන ඉහත කරුණු කිසිත් විමසා නැත. එසේ කර නැත්තේ, ඒ ගැන පක්ෂය තුළ කිසිම අසමඨයක් හෝ



මත භේදයක් ඇති වී නොමැති හෙයිනි. නමුත් එම ප්‍රශ්නය ඉතාමත් වැදගත් ය. එය සියළුම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ ඉතාමත් බරපතල අවධානයට ලක් විය යුතුය. කම්කරු පංතියේ පමණක් නොව, ගොවි-ජනතාව ගේ ද, පොදු ජනතා කොටස් ව්‍යාපාරයට ඇද ගැනීමේ දී මුහුණ-පාන්නට වන දුෂ්කරතාවයන් අමතක කිරීම, සමාව දිය නො හැකි සර්ව-ශුභවාදයක් වන්නේ ය. මෙම දුෂ්කරතාවයන් නිසා, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය පරිපූර්ණත්වය දක්වා ගෙන යාමට දරන ලද ප්‍රයත්නයන් විනාශ වූ වාර ගණන, එකකට වැඩි ය. ජනතාවට විරුද්ධ රාජාණ්ඩුවාදී ආරක්ෂාව ස්වරූපයෙන් ''මහත් වාසි ලබා ගැනීමෙන්'' ද, ඒ අතරම, ලිබරල් වාදයේ නැතහොත්, ''අස්වබෂ්ජේනිය'' උපනතියේ ''කන්‍යා භාවය'' රැක ගනිමින්ද එයින් වැඩිම ජයග්‍රහණ සලසාගත්තේ චපල, ආත්මාර්ථකාමී ධනපති පංතිය ය. එසේ වුවද, දුෂ්කරත්වය තිබීමේ අර්ථය වනුයේ කිසි-සේත් කළ නොහැකි බව නොවේ. වැදගත් දෙය නම් තෝරා ගත් මග නිවැරදිය යන විශ්වාසය ඇතිව කටයුතු කිරීම ය. එම විශ්වාසය ඇතොත්, ප්‍රාතිහාර්ය ඉටු කිරීමෙහි සමත් වන පරිදි, විප්ලවවාදී ශක්තිය හා විප්ලව-වාදී උද්යෝගය සිය ගුණයෙන් වැඩි වේ.

තෝරා ගත යුතු මඟ සම්බන්ධයෙන් වූ ප්‍රශ්නය ගැන වර්තමාන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර පවතින භේදය කොතරම් ගැඹුරු ද යන්න, නව ඉස්ක්‍රා ආධාර කරුවන් ගේ කොකේසියානු යෝජනාව සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝ-ජනාව සංසන්දනය කිරීමෙන් එක් වරම පෙනී යේ.සම්මේලන යෝජනාව මෙසේ කියයි: ධනපති පංතිය චපල වන අතර එය නිසැකවම විප්ලවයේ ජයග්‍රහණ අපට අහිමි කිරීමට උත්සාහ ගන්නවා ඇත. එනිසා, සහෝ-දරවරුනි, කම්කරුවනි, සටනට වඩාත් ශක්තිමත් ලෙස සූදනම් වන්න! කම්කරුවන් ආයුධ සන්නද්ධ කරන්න, ගොවි ජනතාව ඔබේ පැත්තට දිනා ගන්න. අරගලයකින් තොරව, අපි අපගේ විප්ලවවාදී ජයග්‍රහණයන් ආත්මාර්ථකාමී ධනපති පංතියට භාර නො දෙන්නෙමු. නව ඉස්ක්‍රා වෙහි කොකේසියානු ආධාරකරුවන් ගේ යෝජනාව මෙසේ කියයි: ධනපති පංතිය චපල වන අතර ඔවුන් විප්ලවයෙන් ආපසු හැරී යාමට ඉඩ තිබේ. එනිසා, සහෝදරවරුනි, කම්කරුවනි, කරුණාකර තාවකාලික ආණ්ඩුවට සම්බන්ධ වීමට නොසිතන්න. මන්ද යත්, ඔබ එම ආණ්ඩුවට සම්බන්ධ වුවහොත්, ධනපති පංතිය නිසැකවම ආපසු හැරී යනු ඇති හෙයිනි. එවිට විප්ලවයේ බලවේගය හීන වනු ඇත!

එක පාර්ශ්වයකින් කියන්නේ මෙයයි: චපල ධනපති පංතියේ ප්‍රතිරෝ-ධය හෝ අකර්මණ්‍යතාවය තිබුණ ද, එය නො තකා, විප්ලවය එහි උච්ඡ අවස්ථාව දක්වා ඉදිරියට ගෙන යන්න.

අනිත් පාර්ශ්වය මෙසේ කියයි: ස්වාධීන ලෙස විප්ලවය පරිපූර්ණත්වය දක්වා ඉදිරියට ගෙන යාමට කල්පනා නො කරන්න. එසේ කළහොත් ධනපති පංතිය විප්ලවයෙන් ආපසු හැරී යනු ඇති නිසා ඔබ එය නො කළ යුතුය.

මේ දෙක එකිනෙකට ප්‍රතිවිරුද්ධ මාර්ග නොවේ ද? එක උපක්‍රම කට්ටලයක් අනික සම්පූර්ණයෙන් බැහැර කරන බවත්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එකම නිවැරදි උපක්‍රම පළමුවැනි ඒවා බවත්, දෙවැනි ඒවා අස්වබඡ්ජේනිය උපක්‍රම බවත්, පැහැදිලි නොවේද?

## 13. අවසානය.
## අපූ ජයගැනීමට තරම් එඩිතරුද?

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පවතින තත්වයන් ගැන මතුපිට් දැනුමක් පමණක් ඇති, ''ආර්ථිකවාදය'' කාලයේ පටන් පැවති අපගේ පක්ෂ අභ්‍යන්තර අරගලයේ මුළු ඉතිහාසය ගැන දැනුමකින් තොරව, හුදු ප්‍රේක්ෂක විලාසයෙන් විනිශ්චයට එළඹෙන්නෝ, සෑම සමාජ-ප්‍රජාතන්තන්ත්‍රවාදී ව්‍යාපාරයකම ස්වාභාවික, අනිවාරණීය හා කොහෙත්ම සැසඳිය නො හැකි උපනති දෙකක් ඇතැයි යන සරල තර්කය ඉදිරිපත් කරමින්, උපක්‍රම පිළිබඳව දැන්, විශේෂයෙන්ම, තුන්වැනි සම්මේලනයෙන් පසුව මතුවී තිබෙන, අසමථයන් බොහෝ විට බැහැර කරති. එක පාර්ශ්වයක් සාමාන්‍ය, වර්තන සහ එදිනෙද වැඩ ද, ප්‍රචාරය සහ උද්ඝෝෂණය සංවර්ධනය කිරීම ද, බලවේගයන් සූදනම් කිරීම, ව්‍යාපාරය ගැඹුරු කිරීම ආදිය ද, ගැන විශේෂයෙන් අවධාරණය කරන බවත්, ඒ අතර, අනිත් පාර්ශ්වය, ව්‍යාපාරයේ සටන්කාමී, පොදු දේශපාලන, විප්ලවවාදී කර්තව්‍යයන් ගැන අවධාරණය කරමින්, කැරළි ගසමින් නැගී සිටීමේ අවශ්‍යතාවය පෙන්වා දෙන බව හා විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයක් සහ තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිළිබඳ සටන් පාඨ ඉදිරිපත් කරන බවත්, ඔවුහු කියති. එක පැත්තක් හෝ අතිශයෝක්තියෙහි නොයෙදිය යුතු යයිද, දෙපැත්තෙහිම (සාමාන්‍යයෙන් කියතොත් ලෝකයේ සෑම තැනෙකම) සීමාන්තයන් නරක යයිද ආදිය ඔවුහු කියති.

එවැනි තර්කවල නිසැක වශයෙන් ම අන්තර්ගත, ඉතාමත් සාමාන්‍ය බුද්ධිය අනුව කවුරුත් දන්නා, සත්‍ය කරුණු (හා වරහන් තුළ යෙදූ ''දේශපාලනය'') මගින්, බොහෝ විට, පක්ෂයේ හදිසි සහ උග්‍ර අවශ්‍යතාවයන් වටහා ගත නොහැකි කම වසං කෙරේ. රුසියානු සමාජ-ප්‍රජාතන්වාදීන් අතර පවතින වර්තමාන උපක්‍රමීය වෙනස් කම් ගෙන බලන්න. උපක්‍රම සම්බධයෙන් වූ නව ඉස්ක්‍රා තර්ක වල අපට දක්නට ලැබෙන පරිදි, වැඩ කටයුතුවල එදිනෙද හා සිරිත් ප්‍රකාර අංශය ගැන විශේෂ අවධාරණයක් කළ පමණින්ම, එයින්ම අන්තරායක් ඇති වීමට හෝ උපක්‍රමීය සටන් පාඨ ගැන වෙනස් කම් කිසිවක් උද්ගත වීමට හෝ ඉඩක් නැත. නමුත්, මෙම වෙනස් කම ඉතා පැහැදිලි වීම පිණිස, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ යෝජනාව හා සමග, සාකච්ඡා සභා යෝජනාව සංසන්දනය කිරීම ප්‍රමාණවත් වන්නේ ය.

එසේ නම් අවුල කුමක් ද? ප්‍රථමයෙන්ම, ව්‍යාපාරයේ ප්‍රවාහයන් දෙකක් පැවතීම හා සීමාන්තයන් ගේ හානිකර භාවය ගැන වියුක්ත ලෙස කථා කිරීම ප්‍රමාණවත් නොවේ. නිශ්චිත අවස්ථාවක, නිශ්චිත කාලයක ව්‍යාපාරයට වැළඳී ඇති රෝගය කුමක් ද යනුත්, වර්තමාන අවස්ථාවේ දී පක්ෂයට එල්ලවන නියම දේශපාලන අන්තරාය කුමක් ද යනුත්, අයෙක් නියත වශයෙන් දත යුතුය. දෙවැනිව, ඉදිරිපත් කර තිබෙන උපක්‍රමීය සටන් පාඨ වලින්, නැතහොත්, සමහර විට, සමහර සටන් පාඨ ඉදිරිපත් කර නොතිබීමෙන්, ඇත්ත වශයෙන් කුමණ දේශපාලන බලවේගයන්ට වාසි සැලසෙන්නේ ද යනුත්, අයෙක් දත යුතුය. යමෙක් නව ඉස්ක්‍රාවාදීන්හට සවන් දෙන්නේ නම්, ප්‍රචාරය හා උද්ඝෝෂණයත්, ආර්ථික අරගලය හා ධනපති පංතිය විවේචනය කිරීමත්, අත් හැර දැමීමේ අන්තරාය ද, යුද්ධමය සූදනම් වීම, ආයුධ සන්නද්ධ පහර දීම, බලය අල්ලා ගැනීම ආදිය කෙරෙහි පමණට වඩා ආශක්තව සිටීමේ අන්තරායද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට තර්ජනයක් වී ඇතැයි යන නිගමනය වෙත එළඹීමට, ඔහු පෙළඹෙනු ඇත. නමුත්, ඇත්ත වශයෙන්ම පක්ෂයට තර්ජනයක් වී තිබෙන නියම අන්තරාය එල්ල වන්නේ වෙනත් පැත්තකින් ය. ව්‍යාපාරයේ පවතින තත්වය ගැන මඳ වශයෙන් හෝ දන්නා ඕනෑම කෙනෙකුට, පරීක්ෂාකාරී ලෙස සහ කල්පනාකාරී ලෙස එය ගැන සොයා බලන ඕනෑම කෙනෙකුට, නව ඉස්ක්‍රා වාදීන් ඇති කරගෙන තිබෙන බියෙහි විකට පැත්ත නොපෙනී යා නො හැක. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සියළුම වැඩ කටයුතු දැනටමත් නිශ්චිත සහ වෙනස් නොවන හැඩයක් ගෙන තිබේ. අපගේ අවධානය ප්‍රධාන වශයෙන් ප්‍රචාරය සහ උද්ඝෝෂණය ද, හදිසි සහ මහජන රැස්වීම්ද, පත්‍රිකා හා පොත් බෙදහැරීමද, ආර්ථික අරගලයට ආධාරදීම හා එම අරගලයේ සටන් පාඨ ඉදිරියට ගෙන යාමද කෙරෙහි යොමු වීම එයින් සම්පූර්ණයෙන්ම සහතික කෙරේ. අනූ ගණන්වල මැද භාගයේ පටන් මේ දක්වාම බලවත් ලෙස ස්ථාපිත වී තිබෙන මෙම කාර්යයන් සඳහා ස්වකීය මුළු අවධානයෙන්, ශක්තියෙන් හා කාලයෙන් සියයට අනූවක්ම කැප නො කරන, එකම පක්ෂ කාරක සභාවක්වත්, එකම දිස්ත්‍රික් කාරක සභා-

වක්වත් එකම මධ්‍යම නියෝජිත දිස්ත්‍රික් කාරක සභාවක් හෝ එකම පැක්ටරි කණ්ඩායමක් වත්, නොමැත. ඒ බව නො දන්නේ, ව්‍යාපාරය ගැන කිසිවක් නො දන්නා අය පමණකි. නව ඉස්ක්‍රා ව, එහි පිළුණු සත්‍යයන් ගර්වාන්විත ලෙස ඉදිරිපත් කරන විට, ඒවා මතුපිට පෙනුමෙන් අගය කරන්නේ බොළඳ හෝ තොරතුරු හරි හැටි නො දත් හෝ ජනයා පමණකි.

නමුත් සත්‍ය කරුණ මෙය යි. කැරළි ගසමින් නැගී සිටීමේ කර්තව්‍යයන්ට, පොදු දේශපාලන සටන් පාඨවලට හා මුළු පොදු ජන විප්ලවයටම නායකත්වය දීමට, කිසිසේත්ම වැඩි උත්සුක්තභාවයක් නොදක්වන අප, ඊට ප්‍රතිකූල වශයෙන්, මෙම අංශයෙහිදීම දක්වන්නේ ඉතාමත් කැපී පෙනෙන නො දියුණු කමකි. එම නො දියුණු කම, අපගේ විශාලම දුර්වල කම ද, වී තිබේ. එය ව්‍යාපාරයට නියම අන්තරායකි. එය නිසා, ව්‍යාපාරය ක්‍රියාවෙන් විප්ලවවාදී වීමේ තත්වයේ සිට වචනයෙන් විප්ලවවාදී වන තත්වයට පිරිහීමට ඉඩ තිබේ. සමහර තැන්වල එම පිරිහීම දැනටමත් දක්නට ලැබේ. පක්ෂයේ වැඩ කටයුතු කිරීමෙහි යෙදී සිටින සිය ගණන් වන සංවිධාන, කණ්ඩායම් හා කව ඇතත්, නව ඉස්ක්‍රාවාදී බොරු පණ්ඩිතයන් නව සත්‍යයන් සොයාගත් මිනිසුන් ගේ විලාශයෙන් කථා කරමින්, කියන මාදිලියේ දිනපතා වැඩ, ආරම්භයේ පටන්ම නොකළ එකක් හෝ ඒ අතරින් ඔබට සොයා ගත නො හැක. අනිත් අතට, කැරළි ගසමින් නැගී සිටීම සඳහා ඉටු කළ යුතු කර්තව්‍යයන් වටහා ගත්, ඒවා ඉටු කිරීම ආරම්භ කළ, සාර්වාදයට විරුද්ධව මුළුමහත් පොදුජන විප්ලවයටම නායකත්වය දීමේ අවශ්‍යතාවය හා ඒ සඳහා යම් යම් නිශ්චිත සටන් පාඨ ඉදිරිපත් කිරීම අවශ්‍ය වන අතර වෙනත් ඒවායින් එම කටයුත්ත ඉටු නොවන බව වටහා ගත්, කණ්ඩායම් හා කව ගණන ඉතා සුළු ප්‍රතිශතයක් ය යන්න ඔබට පෙනෙනු ඇත.

අපගේ ප්‍රගතිශීලී සහ නියම වශයෙන්ම විප්ලවවාදී කටයුතු ඉටු කිරීමේදී, අපි ඇදහිය නො හැකි තරම් පසු බා සිටිමු. බොහෝ අවස්ථාවලදී, අපට ඒවා ගැන හැඟීමක් පවා නොමැත. මේ හා සම්බන්ධයෙන් අපගේ ඇති නොදියුණු කම නිසා තැනින් තැන විප්ලවවාදී-ධනපති පංතිය ශක්තිමත් වී තිබෙන බව සැලකිල්ලට ගැනීමටද අපට නොහැකි වී ඇත. නමුත්, සිදුවීම්වල ගමන් මාර්ගයට හා කාලයේ අවශ්‍යතාවයන්ට පිටුපා සිටින නව ඉස්ක්‍රා ලේඛකයන් නිතොරවම මෙසේ කියති. ''පැරණි දේ අමතක නො කරන්න! අළුත් දෙයට වශී නොවන්න!'' සාකච්ඡා සභාවේ සියළුම වැදගත් යෝජනා තුළ නොවරදවාම අඩංගුවී තිබෙන හැඟීම මෙය ය. ඒ අතර ම, එසේම නොවරදවාම, සම්මේලනයේ යෝජනාවල මෙසේ කියවේ: පැරණි දේ ස්ථිර කරන අතර (එය පැරණි නිසාම හා විසඳී, සාහිත්‍යයේ යෝජනාවන් හි සහ අත්දැකීම් වල වාර්තාගත වී



ඇති හෙයින් ම, එය නැවත නැවතත් වමාරා කෑමට ප්‍රමාද වන්නේ නැතිව) අපි නව කර්තව්‍යයක් ඉදිරියට ගෙන එන්නෙමු. එයට අවධානය යොමු කරන්නෙමු. නව සටන් පාඨයක් නිකුත් කරනනෙමු. එසේම, එය ක්‍රියාත්මක කිරීම සඳහා වහාම වැඩ අරඹන ලෙස අවංක විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් ඉල්ලන්නෙමු.

සමාජ-ප්‍රජාතන්ත්‍ර උපක්‍රම වල උපනති දෙක සම්බන්ධයෙන් කරුණු යෙදී ඇති හැටි එසේය. විප්ලවීය සමය විසින් නව කර්තව්‍යයන් ඉදිරිපත් කරනු ලැබ තිබේ. ඒවා නොපෙනෙනු ඇත්තේ අන්ධයන්ට පමණකි. මෙම කර්තව්‍යයන් නො පැකිළ පිළිගන්නා සමහර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, ඒවා දවසේ වැඩ සටහනට ඇතුලත් කරන්නේ මෙසේ ප්‍රකාශ කරමිනි: ආයුධ සන්නද්ධව නැගී සිටීම ප්‍රමාද කළ නො හැකිය; ඔබ ඒ සඳහා වහාම හා ශක්තිමත් ලෙස සූදනම් වන්න; එය තීරණාත්මක ජයග්‍රහණය සඳහා අනිවාර්ය අවශ්‍යතාවයක් බව මතක තබා ගන්න; සමූහාණ්ඩුවක් සඳහා, තාවකාලික ආණ්ඩුවක් සඳහා, නිර්ධන පංතියේ හා ගොවිජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක් සඳහා, සටන් පාඨ පෙරට ගෙන එන්න. එසේ වුවත් අනිත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, පස්සට ඇදෙති, කල් බලති, සටන් පාඨ ඉදිරිපත් කරනු වෙනුවට, පෙරවදන් ලියති. අළුත් දෙය දකිනු වෙනුවට, පැරණි දෙය ස්ථිර කරමින්, හතිලමින් හා බොහෝ දීර්ඝ ලෙස එය වමාරා කති; අළුත් දේ මඟ හැරීමට කඩතුරා නිර්මාණය කරති; තීරණාත්මක ජයග්‍රහණය සඳහා ඉටු කළ යුතු කොන්දේසි නිර්ණය කිරීමට හෝ පූර්ණ ජයග්‍රහණය ලැබීම පිණිස ප්‍රයත්න දැරීමට ඉඳුරාම ගැලපෙන ඒ සටන් පාඨ ඉදිරිපත් කිරීමට හෝ නො හැකිව සිටිති.

මෙම වල්ගාවාදයේ දේශපාලන ප්‍රතිඵලය අපට ඇස් පනා පිට පෙනෙන්න තිබේ. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ''බහුතරය'' හා විප්ලවවාදී ධනපති ප්‍රජාතන්ත්‍රය අතර යළි මිත්‍රතාවයක් ඇති වීම පිළිබඳ මිථ්‍යා කථාව, මිථ්‍යා කථාවක් ම වී පවතී. එකම දේශපාලන කරුණකින් වත්, බොල්ෂෙවික් වරුන් ගේ එකම වැදගත් දේශපාලන යෝජනාවකින් වත්, නැතහොත්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ එකම ලියවිල්ලකින් වත් එය සනාථ වී නොමැත. අනිත් අතට, ''අස්වබඡ්ජේනිය'' විසින් නියෝජනය කරනු ලබන අවස්ථාවාදී, රාජාණ්ඩුවාදී ධනපති පංතිය, නව ඉස්ක්‍රා කණ්ඩායම ඉදිරිපත් කරන ''ප්‍රතිපත්තිවල'' උපනතිවලට දීර්ඝ කාලයක් තිස්සේ ආශීර්වාද කරමින් සිටි අතර, දැන් ඔවුන් ගේ වාෂ්ප බලයෙන් ස්වකීය මෝල ක්‍රියා කරවති. ''රහස්‍ය භාවයට'' හා ''කෝලාහල'' වලට විරුද්ධවද, විප්ලවයේ ''ශිල්පමය'' අංශය ගැන අතිශයෝක්තියට විරුද්ධව

ද, කැරළි ගසමින් නැගී සිටීම සඳහා සටන් පාඨය විවෘත ලෙස ප්‍රකාශයට පත් කිරීමට විරුද්ධව ද, සීමාන්තික ඉල්ලීම් වල ''විප්ලවවාදිත්වයට'' විරුද්ධවද, ආදී වශයෙන් නව ඉස්ක්‍රා වාදීන් යෙදූ චිත්තාකර්ෂණීය වචන හා ''අදහස්'' ඇත්ත වශයෙන් උපයෝගි කර ගනිති. කොකේසියාවේ ''මෙන්ෂෙවික්'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සාකච්ඡා සභාවකම යෝජනාවෙන් හා එම යෝජනාවට එකඟත්වය පළ කරමින් නව ''ඉස්ක්‍රා'' සංස්කාරක වරුන් ලියා ඇති දෙයින්, මුළු කාරණය සැකයෙන් තොරවම මෙසේ සම්පිණ්ඩනය කෙරේ: විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුදයකත්වයකට නිර්ධන පංතිය සහභාගි වූ කලෙක, ධනපති පංතිය ආපසු හැරී ගියහොත් කුමක් වේ ද? මෙයින් කාරණය පිඩු කොට දක්වෙන අතර නිර්ධන පංතිය රාජාණ්ඩුවාදී ධනපති පංතියේ උපැඳියක් බවට පත් කිරීමේ කටයුත්ත සම්පූර්ණත්වයට පත්වෙයි. නව ඉස්ක්‍රාවේ වල්ගාවාදයේ දේශපාලන අර්ථය මෙයින් කරුණු සහිතව ඔප්පු වේ. ඒ කිසියම් පුද්ගලයෙකුගේ අනියම් නිරීක්ෂණයක් මගින් නොව, සමස්ත උපනාතියක් විසින් ම විශේෂයෙන් අනුමත කරන ලද යෝජනාවක් මගිනි.

මෙම කරුණු ගැන කල්පනා කරන ඕනෑම කෙනෙකුට, සමාජ-ප්‍රජාතන්ත්‍රයේ පාර්ශව දෙකක් හා උපනති දෙකක් ගැන සුපුරුදු ආකාරයෙන් සඳහන් කිරීමේ සැබෑ අර්ථය වැටහෙනු ඇත. මෙම උපනති ගැන පූර්ණ පරිමාණ අධ්‍යයනයක් කිරීමට නම්, අයෙක් බර්න්ෂ්ටයින්වාදය ගැන සලකා බැලිය යුතුය. නිර්ධන පංතියේ නියම අවශ්‍යතාවයන් සහ එහි බලවේගයන් ගොඩ නැගීමේ කර්තව්‍යය ද, සියළු කාර්යයන්ම ගැඹුරු කිරීමේ හා නව සමාජයේ මූලිකාංගයන් සූදානම් කිරීමේ කර්තව්‍යයද, ප්‍රචාරය කිරීමේ සහ උද්ඝෝෂණය කිරීමේ කර්තව්‍යය ද වැටහෙන්නේ තමන්ට යයි කියමින් බර්න්ෂ්ටයින්වාදීහු හරියටම මේ ආකාරයෙන් ම අපගේ දෙසවන් පුරා ඝෝෂා කළහ. බර්න්ෂ්ටයින් මෙසේ කියයි: පවත්නා දෙය එසේ අවංකව පිළිගන්නා ලෙස අපි ඉල්ලමු; එසේ කිරීමෙන් කිසිම ''අවසාන අරමුණක්'' නොමැති ''ව්‍යාපාරය'' ශුද්ධත්වයට නංවන්නෙමු; ''ධනපති පංතිය ආපසු හැරී යතැ''යි යන බිය පිළිබඳ උපක්‍රම දේශනා කරමින්, ආරක්ෂක උපක්‍රම පමණක් ශුද්ධත්වයට නංවන්නෙමු. ඒ අනුව, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ''ජැකොබින්වාදයට'' විරුද්ධවත්, ''කම්කරුවන් ගේ ක්‍රියාරම්භකත්වය'' වටහා ගැනීමට අසමත් වන ''සාහිත්‍ය කරුවන්ට'' විරුද්ධවත්, යනාදී වශයෙන්, බර්න්ෂ්ටයින්වාදීහු මහා ඝෝෂාවක් කළහ. ඇත්ත වශයෙන්ම දිනෙන් දින කළ යුතු සාමාන්‍ය වැඩ කටයුතු, බලවේගයන් එක් රැස් කිරීම, ආදිය අත් හැරීම ගැන විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිතුවේ වත් නැති බව, සියළු දෙනා ම දනිති. ඔවුන් ඉල්ලන එකම දෙය නම්, අවසාන අරමුණ පැහැදිලි ලෙස වටහා ගත යුතු බවයි; විප්ලවීය කර්තව්‍යයන් පැහැදිලි ලෙස ඉදිරිපත් කළ යුතු බවයි. ඔවුන් අපේක්ෂා කළේ අර්ධ නිර්ධන පංතික හා අර්ධ සුළු ධනපති පංතික ස්ථරයන් නිර්ධන පංතියේ විප්ලවීය මට්ටමට ඔසවා ලීමටය නිර්ධන පංති විප්ලවීය මට්ටම ''ධනපති පංතිය ආපසු හැරී ගියහොත්'' වැනි, අවස්ථාවාදී සිතුවිලි මට්ටමට පහත හෙළීමට නොවේ. සමහර විට මෙම ප්‍රශ්නය, පක්ෂයේ බුද්ධිමත්-අවස්ථාවාදී අංශය සහ නිර්ධන පංති-විප්ලවවාදී අංශය අතර භේදය ගැන කෙරෙන ඉතාමත් විචිත්‍ර ප්‍රකාශනය විය හැකිය: dürfen wir siegen? අප ජය ගැනීමට තරම් එඩිතරද? අපට ජය ගැනීමට ඉඩ දීම සුදුසුද? අප ජය ගැනීම අන්තරා දයක නොවන්නේද? අප දිනිය යුතුද? බැලූ බැල්මට මෙම ප්‍රශ්නය මවිතය දනවයි. නමුත්, එය මතු කරන ලදී. අවස්ථාවාදීන් ජයග්‍රහණයට බිය වූ නිසා, එයින් කරදර ඇති වෙතැයි අනාවැකි පළ කරමින් හා එක එල්ලේ ජයග්‍රහණය අපේක්ෂා කළ සටන් පාඨ අවඥවට ලක් කරමින් ඔවුන් නිර්ධන පංතිය බිය ගන්වා ජයග්‍රහණයෙන් ඈත් කිරීමට කටයුතු කළ නිසා, එය මතු කිරීමට සිදු විය.

අප අතර ද, බුද්ධිමත්-අවස්ථාවාදී සහ නිර්ධන පංති-විප්ලවවාදී උපනති වශයෙන් මූලික බෙදීම පවතින්නේය. එහෙත්, එක වැදගත් වෙනසක් ඇත. අප මුහුණ පා සිටින්නේ සමාජවාදී විප්ලවයක් පිළිබඳ ප්‍රශ්නයට නොව ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් පිළිබඳ ප්‍රශ්නයකටය. බැලූ බැල්මට මවිතය දනවන ලෙස පෙනෙන ''අප ජය ගැනීමට තරම් එඩිතර ද?'' යන ප්‍රශ්නය, අප අතර ද, මතු කර තිබේ. මර්තිනව්, ඔහුගේ ''ආණ්ඩුදයකත්ව දෙකක්''මගින් එය මතු කර තිබේ. කැරළි ගසමින් නැගී සිටීමක් සඳහා අප මනාව සූදානම් වී, එය ඉතාමත් සාර්ථක ලෙස ක්‍රියාත්මක කළහොත්, එය දරුණු අභාග්‍යයක් වන බවට, ඔහු එයින් අනාවැකි පළ කර තිබේ. තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් ගැන ලියැවුනු නව ඉස්ක්‍රා සාහිත්‍ය මුළුල්ලේම මෙම ප්‍රශ්නය මතු කරමින්, මිලෙරාන් ධනපති-අවස්ථාවාදී ආණ්ඩුවකට සහභාගි වීමත්, වාර්ලෙන් සුළු-ධනපති විප්ලවවාදී ආණ්ඩුවකට සහභාගි වීමත්[53], එක සමාන කර දක්වීමට, නිතරම, එක දිගටම, එහෙත් අසාර්ථක, ප්‍රයත්න දරා තිබේ. ''ධනපති පංතිය ආපසු හැරී ගිය හොත්'' යන යෝජනාවෙහි ද, එය අන්තර් ගතය. නිදර්ශනයක් වශයෙන්, කෞට්ස්කි උපහාස රසය විඳීමට උත්සාහ දරමින් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ගැන ඇති අපගේ ආරාවුල, වලසා මරා ගැනීමට පෙර මස් බෙදීමක් වැනියයි කියතත්, එම උපහාසයෙන් ඔප්පුවන්නේ, දක්ෂ හා විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පවා, කට කථා මගින් පමණක් දැනගත් යමක් ගැන කථා කරන විට වරදට වැටීමට ඉඩ තිබෙන බව ය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, එහි වලසා මරා ගැනීමට (සමාජවාදී

විප්ලවයක් සාර්ථක කිරීමට) එතරම් ආසන්න තත්වයකට තවමත් පැමිණ නැත. නමුත්, අපි වලසා මැරීමට තරම් ''එඩිතර'' වෙමුද යන්න ගැන ආරාවුල, ප්‍රතිපත්ති සහ ප්‍රායෝගික දේශපාලනය අතින් බලන විට අතිශයින් වැදගත් ය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ඔවුන් ගේ'' වලසා මැරීමට'' (ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සාර්ථක කිරීමට) ආසන්න තත්වයට තවමත් පැමිණ නැතත්,අපි ඌ මැරීමට තරම් ''එඩිතර'' වමුද යන ප්‍රශ්නය, රුසියාවේ සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මුළු අනාගතයම සඳහා ඉතාමත් වැදගත් ය. අප ජයග්‍රහණය ලැබීමට තරම් ''එඩිතර'' වන බවට අපට ඒකාන්ත විශ්වාසයක් ලැබෙන තෙක්, හමුදුවක් ශක්තිමත් ලෙස හා සාර්ථක ලෙස ගොඩ නැගීම හෝ මෙහෙයවීම කළ නොහැකිය.

අපගේ පැරණි ''ආර්ථිකවාදීන්'' දෙස බලමු. ඔවුන්ගේ ප්‍රතිපාක්ෂිකයන් කුමන්ත්‍රණ කරුවන් හා ජැකොබින් වරුන් බව ද (''රබෝචිය දියල'', විශේෂයෙන්ම අංක 10 හා දෙවැනි සම්මේලනයේදී වැඩ පිළිවෙළ ගැන විවාදයේ දී මර්තිනව් කළ කථාව බලන්න) ,දේශපාලනයට පැනීමෙන් ඔවුන් පොදු ජනතාවගෙන් ඈත් වන බවද, ඔවුන් කම්කරු පංති ව්‍යාපාරයේ මූල ධර්මයන් ගැන අමතක කරන බවද, කම්කරුවන් ගේ ක්‍රියාරම්භකත්වය අමතක කරන බවද, ආදිය කියමින්, ඔවුහු ද ඝෝෂා කළහ. ඇත්ත වශයෙන් ම ''කම්කරුවන්ගේ ක්‍රියාරම්භකත්වයේ'' මෙම ආධාර කරුවන් වූයේ, නිර්ධන පංතියේ කර්තව්‍යය ගැන වූ තමන් ගේ ම පවු සහ අමන සංකල්පය, කම්කරුවන් පිට දැමීමට උත්සාහ කළ, අවස්ථාවාදී-බුද්ධිමතුන් ය. පැරණි ''ඉස්ක්‍රා'' වෙත් කාහටත් පෙනෙන පරිදි, සැබෑව නම්, ආර්ථික වාදයේ ප්‍රතිපාක්ෂිකයන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ කටයුතුවල කිසිම අංශයක් අතපසු නොකළ බවය, පසු බිමට තල්ලු නො කළ බවය, ඔවුන් යම්තමින් හෝ ආර්ථික අරගලය ද අමතක නො කළ බව ය. ඒ අතර ම, වැදගත් හා හදිසි දේශපාලන කර්තව්‍යයන් ඒවායේ පූර්ණ පරිමාණයෙන් ඉදිරිපත් කිරීමට සමත් වූ ඔවුහු, එසේ කිරීමෙන්, කම්කරු පක්ෂය ලිබරල් ධනපති පංතියේ ආර්ථික උපැඳියක් බවට පරිවර්තනය කිරීමට විරුද්ධත්වය දක්වූහ.

දේශපාලනය ආර්ථිකය මත පදනම් වී ඇතැයි යන්න කට පාඩම් කර ගත් ''ආර්ථිකවාදීහු'', එය ''වටහා ගත්තේ'' දේශපාලන අරගලය ආර්ථික අරගලයේ මට්ටමට පහත දැමිය යුතුය යන ආකාරයට ය. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය, එහි ආර්ථික සාරාර්ථයෙන් ධනපති විප්ලවයක් වන බව කට පාඩම් කර ගෙන සිටින නව ඉස්ක්‍රා වාදීන්, එය වටහා ගන්නේ, නිර්ධන පංතියේ අරමුණු ධනපති මධ්‍යස්ථභාවයේ මට්ටම දක්වා පහත දැමිය යුතුයයි ද, ඉන් ඔබ්බට ගිය හොත් ''ධනපති පංතිය ආපසු හැරී යතැයි'' ද, යන අර්ථයෙන් ය. තමන් ගේ වැඩ කටයුතු වඩාත් ගැඹුරු



කිරීමේ මුවාවෙන්, කම්කරුවන් ගේ ක්‍රියාරම්භකත්වය ප්‍රබොධමත් කිරීමේ සහ පිරිසිදු පංති ප්‍රතිපත්තියක් ප්‍රබෝධමත් කිරීමේ සහ පිරිසිදු පංති ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමේ මුවාවෙන්, ''අර්ථිකවාදීන්'' ඇත්ත වශයෙන් ම කළේ කම්කරු පංතිය ලිබරල් ධනපති දේශපාලනඥයන්ට භාරදීමය — එනම්, වාස්තවික වශයෙන් එවැනිම අර්ථයක් ඇති මාවතක් ඔස්සේ පක්ෂය මෙහෙයවීම ය. දේශපාලන අරගලයේ නායකත්වය ගැනීම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට භාර කර්තව්‍යයක් නොවේ යයි ද, එය නිවැරදි ලෙස භාර විය යුත්තේ ලිබරල්වාදීන්ට යයිද, ආර්ථිකවාදීහු සිතූහ. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ක්‍රියා ශීලී ලෙස කරගෙන යාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ කාරියක් නොවේ යයි ද, එය නිවැරදි ලෙස ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතියේ කාරිය වන්නේ යයි ද, නව ඉස්ක්‍රාවාදීහු සිතති. නිර්ධන පංතියේ මෙහෙයවීම හා ප්‍රමුඛත්වය නිසා, විප්ලවයේ බලවේගය හීන වේ යයි කියමින්, ඔවුන් ඉදිරිපත් කරන තර්කයේ අර්ථය එයයි.

කොටින් කියතොත්, නව ඉස්ක්‍රාවාදීහු ''ආර්ථිකවාදයේ'' රූකඩ වෙති. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් ප්‍රභවය ලැබීම නිසා පමණක් නොව, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන් ඉදිරිපත් කරන ආකාරයෙන් ද, ඔවුහු එසේ වෙති. ඔවුහු ද, පක්ෂයේ බුද්ධිමත් අවස්ථාවාදී අංශයක් වෙති. සංවිධාන ක්ෂේත්‍රයේදී බුද්ධිමතුන් ගේ අරාජික පුද්ගලවාදයෙන් ප්‍රථම අඩිය තැබූ ඔවුහු, පක්ෂ සංවිධානයෙන් පක්ෂයේ ප්‍රකාශන කටයුතු වෙන් කිරීම ද, ප්‍රජාතන්ත්‍රවාදී නියෝජනය වෙනුවට බොනපාට්වාදී ක්‍රමයේ ජන මත විමසීමක් වූ, අනියම් හා අවධි හතරකින් යුත් තෝරා පත් කිරීම් ක්‍රමයක් ද, අවසාන වශයෙන් කොටස හා සමස්තය අතර ''එකඟත්වයන්'' පිළිබඳ ප්‍රතිපත්තියද සාකච්ඡා සභාව විසින් සම්මත කරන ලද ''ව්‍යවස්ථා''[54] තුළ ස්ථාපිත කරමින් ''ක්‍රියාදමයක් වන අසංවිධාන කරණයෙන්'' කෙළවර දුටහ. පක්ෂ උපක්‍රමවලදී ඔවුහු එම පල්ලම් තලයෙහිම පහළට ලිස්සා ගියහ. ''උසස්ම වර්ගයේ පෙළපාළිය'' සියම්ස්ත්වවාදීන්ට දේශනා පැවැත්වීම වන්නේ යයි, ඔවුන් ''සියම්ස්ත්ව ව්‍යාපාරයේ සැලැස්මෙන්''[55] ප්‍රකාශ කළ අතර, දේශපාලන දර්ශන පථයෙහි සිටින ක්‍රියාශීලී බලවේග වශයෙන් (ජනවාරි 9 ආසන්නව තිබියදී!) ඔවුනට හඳුනාගත හැකි වූයේ ආණ්ඩුව සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් යන දෙකොටස පමණකි. ජනතාව ආයුධ සන්නද්ධ කරන ලෙස හඬ නගන සෘජු සහ ප්‍රායෝගික සටන් පාඨය වෙනුවට, ස්වයං ආයුධ සන්නද්ධ කරණය සඳහා දැවෙන ආශාව ආදේශ කිරීමෙන්, ඔවුහු ජනතාව ආයුධ සන්නද්ධ කිරීමේ කර්තව්‍යය වඩාත් ගැඹුරු කළහ. කැරළි ගසමින් නැගී සිටීම, තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීම හා විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය සම්බන්ධ කර්තව්‍යයන් ඔවුන්ගේ

නිල යෝජනාවල විකෘත කොට හා කප්පාදු කොට දක්වා ඇත. ''ධනපති පංතිය ආපසු හැරී ගිය හොත්'' — ඔවුන්ගේ යෝජනාවේ මෙම අවසාන නූල් පට නිසා ඔවුන් ගන්නා මාර්ගයෙන් පක්ෂය යොමු වන්නේ කොතැනටද යන්න පැහැදිලි වේ.

රුසියාවේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය, එහි සමාජ හා ආර්ථික සාරාර්ථය අනුව, ධනපති විප්ලවයකි. එසේ වුවද, මෙම නිවැරදි මාක්ස්වාදී ප්‍රස්තුතය ප්‍රතිරාවය කිරීම ම පමණක් ප්‍රමාණවත් නොවේ. එය නිසි ලෙස අවබෝධ කර ගෙන, නිසි ලෙස දේශපාලන සටන් පාඨවලට නැගිය යුතුවේ. අද පවතින එනම්, ධනපති සම්බන්ධ කම් අත්තිවාරම් කොට ගෙන පවතින, සියළුම දේශපාලන නිදහස, ධනපති නිදහස ය. නිදහස සඳහා ඉල්ලීමෙන් ප්‍රධාන වශයෙන් ප්‍රකාශිත වන්නේ ධනපති පංතියේ උවමනාවන් ය. මෙම ඉල්ලීම ඉදිරිපත් කළ ප්‍රථමයන් වූයේ, එහි නියෝජිතයන් ය. එහි ආධාරකරුවන් ලබාගත් නිදහස සැම තන්හිදීම පාවිච්චි කරන ලද්දේ, එය ඉතාමත් සුපරීක්ෂාකාරී ලෙස ධනපති සලාක ලෙසට සරල කර සාමකාමී කාලවල ඉතාමත් සූක්ෂම ලෙසත්, කුණාටු සහිත කාලවල ඉතාමත් ම්ලේච්ඡ ලෙසත්, විප්ලවවාදී නිර්ධන පංතිය මර්දනය කිරීම සමග ඒකාබද්ධ කර ගනිමිනි.

නමුත්, නිදහස සඳහා අරගලය ප්‍රතිෂේධ කළ යුතුය, නැතහොත්, සුළු කොට තැකිය යුතුය යන්න එයින් නිගමනය කළ හැක්කේ කැරළිකාර නරෝද්නික් වරුන්ට, අරාජිකවාදීන්ට හා ආර්ථිකවාදීන්ට පමණකි. මෙම බුද්ධිවාදී-අමන ධර්මයන් නිර්ධන පංතිය පිට පැටවිය හැක්කේ කලකට හා එම පංතියේ කැමැත්තට පටහැනිව පමණකි. නිදහසෙහි ක්ෂණික ප්‍රතිඵලය වන්නේ ධනපති පංතිය ශක්තිමත් වීම හා සංවිධානය වීම නමුත්, අන් කවර කොටසකටත් වඩා, නිර්ධන පංතියට දේශපාලන නිදහස අවශ්‍ය බව, එම පංතිය, සහජාසයෙන් මෙන්, නිතරම අවබෝධ කර ගත්තේය. නිර්ධන පංතිය ගැළවීම සොයා ගැනීමට අපේක්ෂා කරන්නේ පංති අරගලය මග හැරීමෙන් නොවේ, එය සංවර්ධනය කිරීමෙනි; එහි පරිමාණය, විඥනය, සංවිධානය සහ අධිෂ්ඨානය වැඩි කිරීමෙනි. දේශපාලන අරගලයේ කර්තව්‍යයන් සුළු කොට තකන්නා කවරෙකු හෝ වුවත්, හේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා ජනතා නියෝජිතයෙකුගේ තත්වයේ සිට වෘත්තීය සමිති ලේකම් වරයෙකුගේ තත්වයට පරිවර්තනය කරන්නේ ය. ප්‍රජාතන්ත්‍රවාදී ධනපති විප්ලවයේ නිර්ධන පංතික කර්තව්‍යයන් සුළු කොට තකන්නා කවරෙකු වුවද, හේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා ජනතා විප්ලවයේ නායකයෙකුගේ තත්වයේ සිට නිදහස් කම්කරු සමිතියක ලේකම් වරයෙකුගේ තත්වයට පරිවර්තනය කරන්නේ ය.

ඔව්, එය ජනතා විප්ලවය යි. ජනතා යන වචනයේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී වැරදි භාවිතයට විරුද්ධව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සටන් කර ඇත — නිවැරදි ලෙසටම සටන් කරයි. ජනතාව අතර තිබෙන පංති සතුරුතාවයන් වටහා ගැනීමේ නොහැකියාව වසා ගැනීමට, මෙම වචනය යොදා නොගත යුතු යයි, එය බල කරයි. නිර්ධන පංති පක්ෂයේ සම්පූර්ණ පංති ස්වාධීනත්වය තිබිය යුතුයයි එය ඒකාන්ත ලෙසම කියයි. එසේ වුවද, එය ''ජනතාව'' ''පංති'' වලට බෙදා වෙන් කරන්නේ, දියුණු පංතිය තමන්ටම සීමා වී, තනි වී අගුළු ලා ගන්නා පිණිස නොවේ; එය එහිම පටු සීමාවන් තුළ හිරවී, ලෝකයේ ආර්ථික පාලකයන් ආපසු හැරෙනු ඇතැයි යන බිය නිසා, ස්වකීය ක්‍රියාකාරිත්වය දුබල කරනු පිණිස නොවේ. එය එසේ කරන්නේ,අන්තර් පංති තුළ දක්නට ලැබෙන මන්දෝත්සාහය, චපලත්වය සහ දෙගිඩියාව නොමැති දියුණු පංතිය, මුළු ජනතාවගේම යහපත පිණිස, ජනතාවගේ නායකත්වය ගෙන උපරිම ශක්තියෙන් හා ධෛර්යයෙන් යුතුව, සටන් කරනු දැකීම සඳහා ය.

ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ක්‍රියාශීලී දේශපාලන සටන් පාඨ වෙනුවට, විභක්ති සියල්ලම හා ලිංග අනුව වරනැගූ ''පංතිය'' යන වචනයේ හුදු ප්‍රතිරාවය පණ්ඩිතමානී ලෙස ආදේශ කරන, මෙකල නව ඉස්ක්‍රාවාදීන්ට, බොහෝ විට වටහා ගත නොහැකි වන්නේ ද එය යි.

ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ස්වභාවයෙන් ධනපති පංතික ය. පොදුවේ නැවත බෙදීමක් සඳහා හෝ ''ඉඩම් හා නිදහස'' සඳහා වූ සටන් පාඨය, එනම්, පීඩිත හා නූගත්, එහෙත් ආලෝකය සහ සතුට සඳහා හද පත්ලෙන් ප්‍රාර්ථනා කරන ගොවි ජනතාවගේ ඉතාමත් ප්‍රචලිත ඒ සටන් පාඨය, ධනපති පංතික සටන් පාඨයකි. නමුත්, නිර්ධන පංතියේ සහ ගොවි-ජනතාවගේ නියම නිදහසට ළඟා වීම සඳහා,ධනපති නිදහසේ සහ ධනපති ප්‍රගතියේ මාවත හැර, වෙනත් මාවතක් නොමැති හා තිබිය නොහැකි බව, මාක්ස්වාදීන් වශයෙන් අපි දනිමු. සම්පූර්ණ දේශපාලන නිදහසට වඩා, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවකට වඩා, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයට වඩා, සමාජවාදය කිට්ටුවට ගෙන ඒමෙහි සමත් වෙනත් මාර්ගයක් වර්තමානයෙහි නොමැති බවත්, ඇති විය නොහැකි බවත්, අපි අමතක නොකළ යුත්තෙමු. දියුණු හා එකම විප්ලවවාදී පංතියේ නියෝජිතයන් ලෙසට, කොන්දේසි හා සැක කිසිවක් හෝ ආපසු බැලීමක් හෝ නොමැතිව,අපි හැකි තරම් පුළුල් ලෙස,නිර්භීත ලෙස හා උපරිම ක්‍රියාරම්භකත්වය ඇතිව,ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ කර්තව්‍යයන් මුළු ජනතාවම හමුවේ තැබිය යුත්තෙමු. මෙම කර්තව්‍යයන් සුළු කොට තැකීමේ අර්ථය වන්නේ,න්‍යායික මාක්ස්වාදය විකාරයක් බවට පත් කිරීමය; එය අමන ස්වභාවයෙන් විකෘති කිරීමය. ප්‍රායෝගික

දේශපාලනයේදී එහි අර්ථය වන්නේ, සසංගත ලෙස විප්ලවය ක්‍රියාත්මක කිරීමේ කර්තව්‍යය ඉටු නොකර, එයින් ආපසු හැරී යනු ඇති ධනපති පංතිය අතට විප්ලව ව්‍යාපාරය භාර දීමකි. විප්ලවයේ පූර්ණ ජයග්‍රහණය ලැබීමට යන මාවතෙහි දී හමුවන දුෂ්කරතාවයන් අති විශාලය. තමන්ට හැකි සියල්ලම කර තිබියදී, ප්‍රතිගාමීත්වයේ ප්‍රතිරෝධනයත්, ධනපති පංතියේ ද්‍රෝහී කමත්, පොදු ජනතාවගේ අනවබෝධයත් නිසා, නිර්ධන පංති නියෝජිතයන්ගේ ප්‍රයත්නයන් පරාජය වුවහොත්, ඔවුනට දෙස් පැවරීමට කිසිවෙකුට හෝ ඉඩක් නොමැති වනු ඇත. නමුත් ජයග්‍රහණය අත්පත් කර ගැනීමට ඇති බිය නිසා, ''ධනපති පංතිය ආපසු හැරී ගියහොත්'' යන කරුණ අනුව යාම නිසා, එය ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ විප්ලවවාදී ශක්තිය කේඩෑරි කරත හොත් හා විප්ලවවාදී උද්වේගය නිවා දැමුවහොත්, සියළු දෙනාම, අන් කාහටත් වඩා, පංති විඥානය ඇති නිර්ධන පංතිය, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, හෙළා දකිණු ඇත.

විප්ලව යනු ඉතිහාසයේ ඇන්ජින් යන්ත්‍ර වෙතියි මාක්ස් කීවේය.[56] විප්ලව යනු පීඩිත හා සූරා කනු ලබන වුන්ගේ ප්‍රීති උත්සව වෙති. නව සමාජ ක්‍රමයක නිර්මාණකයන් වශයෙන් ක්‍රියාශීලී ලෙස ඉදිරියට ඒමට පොදු ජනතාවන්ට විප්ලව කාලයේ තරම් අවස්ථාව ලැබෙන වෙනත් කාලයක් නොමැත. ක්‍රමික භාවයේ සීමා සහිත අමන මිණුම් දණ්ඩ අනුව බලන කල, එවැනි කාල වලදී, ජනතාව ප්‍රාතිහාර්ය පෑමෙහි සමත් වෙති. නමුත් එවැනි අවස්ථාවක විප්ලවවාදී පක්ෂවල නායකයන්ද, ඔවුන්ගේ අරමුණු වඩාත් පැහැදිලි ලෙස හා නිර්භීත ලෙස ඉදිරිපත් කළ යුතුය. එසේ කිරීමෙන්, ඔවුන්, තමන්ගේ සටන් පාඨ නිතරම ජනතාවගේ විප්ලවීය ක්‍රියාරම්භකත්වයට වඩා ඉදිරියෙන් සිටින ලෙසටද, ඒවා ජනතාවට මග පෙන්වන ප්‍රදීපස්ථම්භ වන බවටද, එයින් අපගේ ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී පරමාදර්ශ, ඒවායේ පූර්ණ පරිමාණයෙන් හා අලංකාරයෙන් ඔවුනට පෙනෙන බවට හා සම්පූර්ණ, පරම හා තීරණාත්මක ජයග්‍රහණයට කිට්ටුම හා ඍජුම මග ඔවුනට පෙන්නුම් කෙරෙන බවටද, වග බලාගත යුතුය. විප්ලවයට හා ඍජු මාර්ගයට ඇති බිය නිසා, සම්මුතියේ වටවංගු සහ වක්‍රාකාර මාර්ග නිර්මාණය කිරීමේ කර්තව්‍යය ''අස්වබෂ්ජේනිය'' ධනපති පංතියේ අවස්ථාවාදීන්ට භාර කරමු. එබඳු මාර්ගයන් ඔස්සේ ඇදී යාමට, අපට බලහත්කාරයෙන්ම සිදු කරනු ලැබේ නම්, සාමාන්‍ය, දිනපතා කටයුතු කිරීමෙන්ද අපගේ යුතුකම් ඉටු කිරීමට අපට හැකි වනු ඇත. නමුත්, මාර්ගය තේරීම නිර්දය අරගලය මගින් සිදු වන්නට ප්‍රථමයෙන් ඉඩ හරිමු. ජනතාවගේ මෙම උත්සව සිරි ගත් ශක්තියත්, ඔවුන්ගේ විප්ලවවාදී උද්වේගයත්, ඍජු සහ තීරණාත්මක මාර්ගය තෝරා ගැනීම පිණිස කරන නිර්දය සහ ආත්ම පරිත්‍යාගී අරගලයක් සඳහා උපයෝගී කර නොගන්නෙමු නම්, අපි විප්ලවයට ද්‍රෝහීන් හා එය පාවා දෙන්නන් වන්නෙමු. ධනපති අවස්ථාවාදීන් බියෙන් ඇලලෙමින්, අනාගත ප්‍රතිගාමීත්වය ගැන කල්පනා කළා වේ. ප්‍රතිගාමීත්වය දරුණු වීමට අදහස් කරන්නේය යන හැඟීමෙන් හෝ,ධනපති පංතිය ආපසු හැරී යාමට අදහස් කිරීම හෝ නිසා, කම්කරුවෝ බිය පත් නොවෙති. කම්කරුවෝ ජාවාරමෙහි යෙදීමට බලාපොරොත්තු නොවෙති. ඔවුහු සුළු සහන නො ඉල්වති. ඔවුන් ප්‍රයත්න දරමින් සිටින්නේ ප්‍රතිගාමී බලවේගයන් නිර්දය ලෙස පොඩි පට්ටම් කර දැමීමට ය, එනම්, නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයක් පිහිටුවීමටය.

ලිබරල් ප්‍රගතිය නැමති උවදුරු නොමැතිව ''යාත්‍රා කිරීමේ'' කාල පරිච්ඡේද වලට වඩා භයානක අන්තරායන්ගේ තර්ජනය, කුණාටු සහිත කාලවලදී, පක්ෂය නැමති නැවට එල්ලවන බව සැබවි. ලිබරල් ප්‍රගතියේ කාලය යනු වේදනා සහගත ස්ථිරතාවයකින් යුතුව, සූරාකන්නන් විසින් කම්කරු පංතියේ ජීවන රිහිරි උරා බීමේ කාලය යි. ''අන්ත විරුද්ධ පාර්ශවයක'' නැතහොත් තනිකරම පාර්ලිමේන්තු අරගලයක කර්තව්‍යයන්ට වඩා විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වයේ කර්තව්‍යයන්, ඉතාමත් දුෂ්කර සහ සංකීර්ණ බව සැබවි. නමුත්, වර්තමාන විප්ලවවාදී අවස්ථාවේදී, උවදුරු රහිතව යාත්‍රා කිරීමට හා ආරක්ෂා සහිත විරුද්ධ පාර්ශවයේ මාර්ගයට, දැන දැනම කැමති විය හැකි අයෙක් වෙතොත්, හේ ටික කලකට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ කටයුතු අත්හළ මනා ය; විප්ලවය අවසාන වන තෙක්, උත්සව කාලය ගත වන තෙක්, උද්යෝග රහිත සැමදා ජීවිතය නැවතත් ආරම්භවී ඔහුගේ පවු සුපුරුදු සම්මතයන්ගෙන් අප්‍රිය ජනක තරම් අමුතු තාලයක් නිකුත් වීමේ හෝ එය දියුණු පංතියේ කර්තව්‍යයන්ගේ එතරම් කැත විකෘතියක් වීමේ හෝ තත්වය පහව යන තෙක්, ප්‍රමාද වී සිටිය මනාය.

සම්පූර්ණ නිදහස සඳහා, සසංගත ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් සඳහා, සමූහාණ්ඩුවක් සඳහා, මුළු ජනතාවගේම, විශේෂයෙන්ම ගොවි ජනතාවගේ නායකත්වය ගන්න! සමාජවාදය සඳහා සියළු වැඩ කරන්නන්ගේ හා සූරා කනු ලබන්නන්ගේ නායකත්වය ගන්න! විප්ලවවාදී නිර්ධන පංතියේ ව්‍යවහාරික ප්‍රතිපත්තිය විය යුත්තේ එයයි. විප්ලවය කාලයේදී කම්කරුවන්ගේ පක්ෂයේ සෑම උපක්‍රමීය ප්‍රශ්නයක්ම හා සෑම ප්‍රායෝගික පියවරක්ම, විනිවිද යන හා නිර්ණය කරන, පංති සටන් පාඨය විය යුත්තේ එය යි.

## පසුවදන

### යළිත් වරක් අස්වබෂ්ජේනිය උපනතිය
### යළිත් වරක් නව ඉස්ක්‍රා උපනතිය

අපගේ පොත් පිංචෙහි 8 වැනි පරිච්ඡේදයෙන් විමසිල්ලට ලක් කර තිබෙන ප්‍රශ්න යසම්බන්ධයෙන් අතිරේක කරුණු සම්භාරයක්, ''අස්වබෂ්ජේනිය'' අංක 71—72 සහ ''ඉස්ක්‍රා'' අංක 102—103 කලාප වලින් සැපයේ. මෙම සාරවත් කරුණු සියල්ලෙන්ම ප්‍රයෝජන ගැනීම මෙහි දී කළ නොහැකි හෙයින් අපි ඉතාමත් වැදගත් කරුණු වලට පමණක් මෙය සීමා කරන්නෙමු: ප්‍රථමයෙන්, ''අස්වබෂ්ජේනිය'' ප්‍රශංසාවට ලක් කරන, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඇති ''යථාර්ථවාදයේ'' ස්වභාවය හා එම සඟරාව එයට ප්‍රශංසා කිරීමට හේතුවද, දෙවැනිව විප්ලවය හා ආඥාදයකත්වය පිළිබඳ සංකල්පයන් අතර සම්බන්ධය ද, විමසමු.

### I. ධනපති-ලිබරල් යථාර්ථවාදීහු කුමක් නිසා සමාජ ''ප්‍රජාතන්ත්‍රවාදී යථාර්ථවාදීන්''හට ප්‍රශංසා කරත්ද?

ලිබරල් ධනපති පංතියේ නියෝජිතයන් විසින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගැන දරනු ලබන අදහසක් ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ භේදය'' සහ ''සාමාන්‍ය බුද්ධියේ විජයග්‍රහණය'' (''අස්වබෂ්ජේනිය'', අංක 72) යන ලිපි දෙකෙන් පළ වේ. මෙම අදහස පංති විඥානය ඇති නිර්ධන පංතිකයින්හට බෙහෙවින් අගනේ ය. සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් ම, මෙම ලිපි සම්පූර්ණයෙන් ම කියවා, ඒවායේ සෑම වාක්‍යයක්



ම ගැන කල්පනා කර බැලිය යුතු බව, බලවත් ලෙස නිර්දේශ කරමු.* අපි, ප්‍රථමයෙන් ම, මෙම ලිපි දෙකෙහි ඇති ඉතාමත් වැදගත් ප්‍රස්තුතයන් උපුටා දක්වමු:

''අස්වබෂ්ජේනිය'' මෙසේ ලියයි: ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, කණ්ඩායම් දෙකක් වන සේ භේද කළ වෙනස් කම් වල සැබෑ දේශපාලන අර්ථය වටහා ගැනීම, පිටස්තර නිරීක්ෂකයෙකුට තරමක් අපහසු ය. ව්‍යාපාරයේ යහපත පිණිස යම් යම් බේරුම් කර ගැනීම් වලට එකඟ වන ''අල්පතරය'' ට වඩා වෙනස් වන ''බහුතරය'' වඩාත් උන්නතිකාමී සහ ස්ථිර ගති ඇති කණ්ඩායම ලෙසට විස්තර කිරීම, සම්පූර්ණයෙන්ම නිවැරදි නොවේ. කෙසේ නමුත් එයින් අංග සම්පූර්ණ ස්වභාව නිරූපනයක් සැපයෙන්නේ නැත. ඒ කුමක් වුවත්, ''අල්පතර'' කණ්ඩායම, ලෙනින් කණ්ඩායමටත් වඩා උත්සුක්ත ලෙස මාක්ස්වාදී සාධර්මිකවාදයේ සම්ප්‍රදයික මතවාද පිළිපදියි. පහත දක්වෙන ස්වභාව නිරූපනය වඩාත් නිවැරදි යයි අපට පෙනේ: ''බහුතරයේ'' දේශපාලන ඉරියව්ව නම් වියුක්ත විප්ලවකාමය, කැරළිකාර ස්වභාවය සහ ඕනෑම සහ සෑම මාර්ගයකින්ම, පොදු ජනතා කොටස් අතර කැරළි සහිත නැගී සිටීම් ඇති කිරීමට හා ඔවුන් වෙනුවෙන් වහාම බලය අල්වා ගැනීමට බලවත් උනන්දුවක් දක්වීම වේ. මේ නිසා ලෙනින්වාදීන් එක්තරා දුරකට සමාජවාදී-විප්ලවවාදීන්ට සමීප වන අතර, පංති අරගලය පිළිබඳව ඔවුන්ගේ සිත් තුළ තිබෙන අදහස, මුළු ජනතාවගේම රුසියානු විප්ලවයක් පිළිබඳ අදහසෙන් වැසී යන්නේ ය. ''ලෙනින්වාදීහු'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ධර්මයේ පටු ස්වභාවයන් ව්‍යවහාරික වශයෙන් අත්හරින අතරම, විප්ලවකාමයේ පටු ස්වභාවයෙන් සම්පූර්ණයෙන්ම වෙළී සිටිති. වහාම කැරළි ගසා නැගී සිටීමක් සඳහා කටයුතු සූදනම් කිරීම හැර, සියළුම ප්‍රායෝගික වැඩ අත් හරින ඔවුහු, ප්‍රතිපත්තියක් වශයෙන්, සියළු ආකාරයේම නීත්‍යානුකූල හා අර්ධ-නීත්‍යානුකූල උද්ඝෝෂණ ක්‍රමද, අනිකුත් විරුද්ධ පාර්ශවීය උපනති සමග ප්‍රායෝගික වශයෙන් ප්‍රයෝජනවත් වන කිසිම වර්ගයක හෝ සම්මුති ඇති කරගැනීමද, නොතකා හරිති. ඊට ප්‍රතිකූල වශයෙන්, ''අල්පතරය'', මාක්ස්වාදී ධර්මය තරයේ පිළිපදින අතරම, මාක්ස්වාදී ලෝකාවබෝධයේ යථාර්ථවාදී මූලිකාංගයන් ආරක්ෂා කර ගනියි. මෙම කණ්ඩායමේ මූලික අදහස වන්නේ ''නිර්ධන පංතියේ'' උවමනාවන් ධනපත් පංතියේ උවමනාවන්ට ප්‍රතිවිරුද්ධ තත්වයෙහි ලා දක්වීම ය. එසේ වුවද, අනිත් අතට, නිර්ධන පංතියේ අරගලය ගැන යථාර්ථවාදී සහ සන්සුන් ආකාරයෙන්ද, මෙම අරගලයේ සියළුම නියත කොන්දේසි හා අරමුණු ගැන වැටහීමකින් යුතුවද — නමුත්, සමාජ-

*මෙහිදී අත්පිටපතෙහි මෙම කොටස ලියා කපා හැර තිබේ: ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ (සමකාලීන සතුරන් අතුරෙන්) ඉතාමත් අන්ත, (වර්තමාන සමාජයේ) ඉතාමත් ශක්තිමත් හා ඉතාමත් දක්ෂ සතුරන්ගේ නිගමනයන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ම දේශපලන අධ්‍යාපනය සඳහා ඒකාන්ත වශයෙන්ම ඉතාමත් වටිනා කරුණු වන්නේ ය. — සංස්කාරක

ප්‍රජාතන්ත්‍රවාදයේ වෙනස් කළ නොහැකි මතවාද වලින් නියම කෙරෙන යම් යම් සීමාවන්ට ගරු කරමින් — අවබෝධ කරගනු ලැබේ. මෙම කණ්ඩායම් දෙකෙන් එකක්වත්, එහි මූලික දෘෂ්ටි කෝණය අනුගමනය නොකරයි. මක් නිසාද යත්, ඔවුන්ගේ දෘෂ්ටිමය හා දේශපාලන කටයුතුවලදී, ඔවුන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බණ පොතේ දක්වෙන දැඩි සූත්‍ර වලින් බැඳී සිටින හෙයින්, ''ලෙනින්වාදීන්ට'' යටත් පිරිසෙයින් සමහර සමාජවාදී-විප්ලවවාදීන් තරමට හෝ ස්ථිර ගති ඇති කැරළි කරුවන් වීමටවත්, ''ඉස්ක්‍රා කණ්ඩායමට'' කම්කරු පංතියේ නියම දේශපාලන ව්‍යාපාරයේ ප්‍රායෝගික නායකයන් වීමට වත්, ඉඩක් නොලැබෙන හෙයිනි.''

ඉතාමත් වැදගත් යෝජනාවල සඳහන් කරුණු මෙසේ උපුටා දැක්වීමෙන් පසුව, ''අස්වබෝෂ්ජේනිය'' ලේඛකයා ඔහුගේ සාමාන්‍ය ''අදහස්'' පැහැදිලි කරමින් ඒවා හා සම්බන්ධයෙන් නිශ්චිත කරුණු කීපයක් දක්වයි. තුන්වැනි සම්මේලනය හා සමග සසඳන කල, ''අඩු පිරිසේ සාකච්ඡා සභාව, කැරළි ගසා නැගී සිටීම කෙරෙහි සම්පූර්ණයෙන්ම වෙනස් ආකල්පයක් දක්වන්නේය'' යි ඔහු කියයි. තාවකාලික ආණ්ඩුවක් සම්බන්ධයෙන් වූ අදාළ යෝජනාවල ''කැරළි ගසා නැගී සිටීම කෙරෙහි දක්වන ආකල්පයේ'' වෙනසක් ඇත. ''කම්කරු වෘත්තීය සමිති සම්බන්ධයෙන්ද එවැනිම වෙනසක් පෙනේ. කම්කරු පංතියේ දේශපාලන අධ්‍යාපනයේ සහ සංවිධානයේ ඉතාමත් වැදගත් ආරම්භක ස්ථානය වන මෙය ගැන ''ලෙනින්වාදීන්'', ඔවුන්ගේ යෝජනාවෙන් වචනයක් වත් කියා නැත. ''ඊට ප්‍රතිකූල වශයෙන් අල්පතරය හරබර යෝජනාවක් සකස් කළේය''. කණ්ඩායම් දෙකම ලිබරල්වාදීන් සම්බන්ධයෙන් එක සමාන අදහස් දරන නමුත්, තුන්වැනි සම්මේලනය ''ලිබරල්වාදීන් කෙරෙහි දක්වන ආකල්පය සම්බන්ධයෙන් දෙවැනි සම්මේලනය අනුමත කළ ප්ලෙහානව් යෝජනාව වචනයක් වචනයක් පාසාම පාහේ පුනරුච්චාරණය කරන අතර, එම සම්මේලනයම අනුමත කළ, ලිබරල්වාදීන් කෙරෙහි වඩාත් අනුග්‍රාහක ඉරියව්වක් දැක්වූ ස්තරොවේර් යෝජනාව ප්‍රතික්ෂේප කරන්නේය'' යි ඔහු කියයි. ගොවි ජන ව්‍යාපාරය සම්බන්ධයෙන් සම්මේලන සහ සාකච්ඡා සභා යෝජනා සමස්තයක් වශයෙන් සම්පාත වන නමුත්, '' ''බහුතරයේ'' යෝජනාව ඉඩම් හිමියන්ගේ ඉඩම් සහ වෙනත් ඉඩම් විප්ලවකාරී ලෙස රාජසන්තක කිරීම කෙරෙහි වැඩි අවධාරණයක් යොමු කරන අතර, ''අල්පතරය'' අපේක්ෂා කරන්නේ, එහි උද්ඝෝෂණය පදනම් කරගෙන, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍ය සහ පරිපාලන ප්‍රතිසංස්කරණ ඇති කරන ලෙස ඉල්ලීමටය''.

අවසානයේදී ''අස්වබෝෂ්ජේනිය'',''ඉස්ක්‍රා'' අංක 100 හි පළ වූ යෝජනාවක් ගැන සඳහන් කරයි. එම යෝජනාවේ ප්‍රධාන කොටස මෙසේය: ''නීති විරෝධී කටයුතු තුළින් පමණක් වර්තමානයේදී පක්ෂ ජීවිතයට සෑහෙන තරම් පොදු ජන සහභාගිත්වයක් ලබාගත නොහැකි හෙයින්ද, නීති විරෝධී සංවිධානයක් ලෙසට පක්ෂය, ජනතාවට ප්‍රතිවිරුද්ධ තත්වයෙහි ලා දැක්වීමට තුඩු දෙන හෙයින්ද, පක්ෂය නීත්‍යානුකූල පදනමක් මත කම්කරුවන්ගේ වෘත්තීය සමිති අරගලයේ නායකත්වය කෙළින්ම භාර ගනිමින්, මෙම අරගලය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් සමග තරයේ ඒකාබද්ධ කළ යුතුය''. මෙම යෝජනාව ගැන කරුණු දක්වමින්,



''අස්වබෝෂ්ජේනිය'' මචිතවත් ලෙස මෙසේ ප්‍රකාශ කරයි: ''සාමාන්‍ය බුද්ධියේ විජයග්‍රහණයක් ලෙසට, උපක්‍රම හා සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කොටසක් ආලෝකය දක්නා බව කියන සාක්ෂියක් ලෙසට, අපි මෙම යෝජනාව ඉතස්තින් පිළිගන්නෙමු.''

සටහන් කර ගත යුතු ''අස්වබෝෂ්ජේනිය'' අදහස් සියල්ලම දැන් පාඨකයා හමුවේ ඇත. මෙම අදහස් වාස්තවික සත්‍යයට අනුකූල වීමේ අර්ථයෙන් ඒවා නිවැරදි යයි සිතීම බරපතල වරදක් වනු ඇත. සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකුටම, පියවරක් පියවරක් පාසා, ඒවායේ වැරදි පහසුවෙන් සොයා ගත හැකි වනු ඇත. මෙම අදහස් අත්‍යන්තයෙන්ම ලිබරල් ධනපති උවමනාවන්ගෙන් හා මතවලින් ගහණව ඇති බව හා ඒ අර්ථයෙන් ඒවා එක පැත්තම බරව සහ අගති සහගතව ඉදිරිපත් කර තිබෙන බවත්, අමතක කිරීම බොළඳ කමකි. එයින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අදහස් පිළිබිඹු වන්නේ අවතල හෝ උත්තල කණ්ණාඩියකින් වස්තු පිළිබිඹු කෙරෙන ආකාරයෙන් ම ය. අවසාන විග්‍රහයේදී මෙම ධනපති විකෘතිය සහිත අදහස්වලින් පිළිබිඹු කෙරෙන්නේ ධනපති පංතියේ නියම අවශ්‍යතාවයන් බවත්, පංතියක් වශයෙන් එයට වාසිදායක, සමීප, සමාන හා සුදුසු වන්නේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කිනම් උපනතිද, හානිදායක, දුරස්තර, අන්‍යතර හා අප්‍රසන්න වන්නේ එහි කිනම් උපනතිද යනු එය නිසැකවම නිවැරදි ලෙස අවබෝධ කර ගෙන සිටින බවත්, අමතක කිරීම වඩාත් බරපතල වරදක් වන්නේ ය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය මෙන්ෂෙවික් හෝ වේවා, බොල්ෂෙවික් හෝ වේවා, ධනපති දර්ශනිකයෙකුට හෝ ධනපති ප්‍රකාශකයෙකුට කිසි කලෙකත් එය නිසිලෙස වටහා ගත නොහැකි ය. එහෙත්, ඔහු යම්තමින් හෝ නුවරුැති ප්‍රචාරකයෙක් නම්, ඔහුගේ පංති හැඟීම ඔහු ස්වකීය පංති සහජාසයෙන් නොරැවටේනම් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ එක් හෝ තවත් උපනතියක් ධනපති පංතියට බලපාන්නේ කෙසේ ද යන්න හරය වශයෙන් ඔහු නිතරම අවබෝධ කර ගනු ඇත. ඔහු එය විකෘති ආකාරයෙන් ඉදිරිපත් කළත්, එය අවබෝධ කරගන්නේය. අප සතුරාගේ පංති සහජාසය, ඔහුගේ පංති අදහස, පංති විඥානය ඇති සෑම නිර්ධන පංතිකයෙකුගේ ම ඉතාමත් සමීප අවධානයට නිතරම ලක් වීමට තරම් සුදුසු වන්නේ එහෙයිනි.

එසේ නම්, ''අස්වබෝෂ්ජේනිය'' අනුගාමිකයන් විසින් ප්‍රකාශිත රුසියානු ධනපති පංතියේ පංති සහජාසය අපට කියන්නේ කුමක්ද?

නව ඉස්ක්‍රා විසින් නියෝජනය කරනු ලබන උපනතිය ගැන නිශ්චිත වශයෙන් ම සතුට ප්‍රකාශ කරන එය, එහි යථාර්ථවාදය, සන්සුන් කම, සාමාන්‍ය බුද්ධියේ විජයග්‍රහණය,යෝජනාවල බුද්ධිමත් භාවය,උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය ගැන එළිය දැකීමට පටන් ගෙන තිබීම, ප්‍රායෝගික භාවය යනා-

දිය ගැන ප්‍රශංසා කරන්නෝ ය. ඒ අතර තුන්වැනි සම්මේලනයේ නැඹුරුව ගැන නොසතුට පළ කරන එය, එහි පටු කල්පනා, විප්ලවකාමය, කැරළිකාර ස්වභාවය, ප්‍රායෝගික වශයෙන් ප්‍රයෝජනවත් බේරුම් කර ගැනීම් අත් හැර දැමීම, ආදිය ගැන එම සම්මේලනයට දෙස් පවරයි. ඉතාමත් නිශ්චිත කරුණු ආධාරක කොට ගනිමින් අපගේ සාහිත්‍ය මගින් නැවත නැවතත් ඔප්පු කර තිබෙන දෙය, ධනපතීන්ගේ පංති සහජාසය විසින් ද, ප්‍රකාශිත වන්නේ ය. එය නම්, නව ඉස්ක්‍රා ආධාර කරුවන් මේ කාලයේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී අංශයත්, ඔවුන්ගේ ප්‍රතිපාක්ෂිකයන් එහි විප්ලවවාදී අංශයත්, වන බව ය. මුලින් කී අංශයේ උපනතිවලට සහයෝගය දැක්වීමත් පසුකී අංශයේ උපනති දෝෂ දර්ශනයට ලක් කිරීමත්, ලිබරල්වාදීන්ට නොකර බැරි දෙයකි. ධනපති පංතියේ දෘෂ්ටිවාදීන් වශයෙන්, ලිබරල්වාදීහු මනාව වටහා ගත් දෙයකි, කම්කරු පංතියේ ''ප්‍රායෝගික භාවය, සන්සුන් කම හා බුද්ධිමත් භාවය'' නිසා ද, එහි ක්‍රියාකාරීත්ව ක්ෂේත්‍රය ධනපති ක්‍රමයේ රාමු කට්ටුව තුළට, ප්‍රතිසංස්කරණ, වෘත්තීය සමිති අරගලය, යනාදියට, ඇත්ත වශයෙන් සීමා කිරීම ධනපති පංතියේ වාසියට හේතුවන බව. නිර්ධන පංතියේ ''විප්ලවවාදී පටු කල්පනාකාරීත්වය'', ස්වකීය පංති අරමුණු සාර්ථක කරගැනීම සඳහා රුසියානු පොදු ජන විප්ලවයේ නායකත්වය දිනා ගැනීමට එය දරන උත්සාහය යන මේවා භයානකය — ධනපති පංතියට බිය ජනක ය.

''යථාර්ථවාදය'' යන වචනය''අස්වබෂ්ජේනිය''අර්ථයෙන් ගත් කල, එහි නියම තේරුම මෙය බව, වෙනත් කරුණු වලින් මෙන්ම, ''අස්වබෂ්ජේනිය'' සහ ස්ත්‍රූවේ මහතා එය කලින් යොදු ගත් ආකාරයෙන් පෙනේ. අස්වබෂ්ජේනිය ''යථාර්ථවාදයේ'' එවැනි තේරුමක් ''ඉස්ක්‍රාවට'' ම වුවද පිළිනොගෙන බැරි විය. නිදසුනක් වශයෙන් ''ඉස්ක්‍රා'' අංක 73—74 අතිරේකයෙහි පළ වූ ''කාලය හරි'' යන ලිපිය ගනිමු. ''සම්මේලනයේදී අකීමව් අවස්ථාවාදයේ නියම නියෝජිතයාගේ කාර්ය කොටසට වඩා, එහි අවතාරයේ කාර්ය කොටස ඉටු කළේ'' යයි මෙම ලිපියේ කතෘවරයා (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ දෙවැනි සම්මේලනයේ දී ''මඩ වගුරට'' පක්ෂපාත අදහස් දිගටම ඉදිරිපත් කළ අයෙකි) අවංකව ප්‍රකාශ කළේය. එවිට ''කාලය හරි'' යන ලිපියේ කතුවරයාගේ අදහස නිවැරදි කිරීමට, සටහනක් මගින් මෙසේ කීමට ''ඉස්ක්‍රා'' කතුවරුන්ට සිදු විය:

''මෙම අදහසට එකඟ විය නොහැකිය. වැඩ පිළිවෙළ ගැන අකීමව් සහෝදරයා ඉදිරිපත් කළ අදහස්වල අවස්ථාවාදයේ පැහැදිලි සටහන දක්නට තිබේ. අකීමව් සහෝදරයා ''යථාර්ථවාදී'' — සංශෝධනවාදී, යනුවෙන් කියවන්න — ප්‍රවණතාවයේ අනුගාමිකයෙකැයි කී ''අස්වබෂ්ජේනිය'' විවේචකයා **විසින්** ම, මෙම කරුණ පිළිගන්නා ලදී.''*



මේ අනුව බලන කල ''අස්වබෂ්ජේනිය'' ''යථාර්ථවාදය'' හුදෙක් ම අවස්ථාවාදය මිස අන් කිසිවක් නොවන බව ''ඉස්ක්‍රාව'' ම මැනවින් දනී. ''ඉස්ක්‍රා'' ව දැන් ''ලිබරල් යථාර්ථවාදයට'' පහර දීමේදී (ඉස්ක්‍රා අංක 102) තමන්ගේ යථාර්ථවාදය සම්බන්ධයෙන් තමන් ලිබරල්වාදීන්ගේ ප්‍රශංසාවට ලක් වූ බව ගැන කිසිවක් නොකියන්නේ නම්, එම නිහැඬියාවට හේතුව, එවැනි ප්‍රශංසාවන් ඕනෑම දෝෂාරෝපනයකට වඩා තිත්ත වීම ය. ලිබරල් යථාර්ථවාදයත්, නව ඉස්ක්‍රාවාදීන්ගේ මූළු උපක්‍රමීය ප්‍රතිෂ්ඨාවෙහිම සාවද්‍ය භාවයේ ප්‍රතිඵලයක් වශයෙන්, ඔවුන්ගේ යෝජනා සෑම එකකින්ම කැපී පෙනෙන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ''යථාර්ථයේ'' (අවස්ථාවාදයේ, යනුවෙන් කියවන්න) ඒ ප්‍රවණතාවයනුත්, අතර ඇති සමීපතාවය, එවැනි ප්‍රශංසාවලින් (''අස්වබෂ්ජේනිය'' එම ප්‍රශංසාව කළේ අහම්බෙන් හෝ ප්‍රථම වතාවට හෝ නොවේ) ඇත්ත වශයෙන්ම ඔප්පු වන්නේ ය.

''පොදු ජන'' විප්ලවයේදී රුසියානු ධනපති පංතිය දක්වන චපල භාවය හා කැදර කම ඇත්ත වශයෙන් ම දැනටමත් සම්පූර්ණයෙන්ම හෙළිදරව් වී තිබේ. ස්ත්‍රූවේ මහතාගේ තර්කවලින්ද, ලිබරල් පුවත්පත් සමූහයේ මූළු මහත් ස්වරයෙන් හා සන්ධාරයෙන්ද, සියම්ස්ත්ව සාමාජිකයන් බහුතරයත්, බුද්ධිමතුන් සමූහයාත්, එමෙන්ම, පොදු වශයෙන්, ත්‍රුබෙත්ස්කොයි, පෙත්‍රුන්කෙවිච්, රෝදිචෙව් සහ සමාගමේ අනුගාමිකයන් සියළු දෙනාත්, කරන දේශපාලන ප්‍රකාශවල ස්වභාවයෙන් ද, එය හෙළිදරව් වී තිබේ. ධනපති පංතිය නිතරම පැහැදිලි අවබෝධයක් නොදක්වන බව සැබෑ ය. නමුත්, එක් අතකින්, ඒකාධිපත්‍යයට විරුද්ධව තුවක්කු ඉදිරියට යැවීම සඳහා, එයට පහරදීමට මුගුරක් මෙන්, නිර්ධන පංතිය සහ ''ජනතාව'' තම විප්ලවයට ප්‍රයෝජනවත් වන බවද, අනිත් අතින්, නිර්ධන පංතිය සහ විප්ලවවාදී ගොවි ජනතාව ''සාර්වාදය පරදවා තීරණාත්මක ජයග්‍රහණයක්'' අත් කර ගතහොත් සහ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය එහි පරිපූර්ණත්වය දක්වා ගෙන ගියහොත්, එය තමන්ට ඉතා භයානක වන බව ද, වටහා ගැනීමට එහි පංති සහජාසය එයට බොහෝ දුරට උපකාරී වෙයි. විප්ලවයේ ''අප්‍රධාන'' කාර්ය කොටසක් ඉටු කිරීමෙන් සෑනසෙන ලෙසත්, වඩාත් සන්සුන්, ප්‍රායෝගික හා යථාර්ථවාදී වන

---

*මෙහි දී අත් පිටපතෙහි මෙසේ සඳහන්ය: ''(එපිරියොද් පළ කළ ''කරුණාවන්ත ලිබරල්වාදියෙක්'' යන පත්‍රිකාව බලන්න).''

ලෙසත්, ''ධනපති පංතිය ආපසු හැරී ගියහොත්'' යන ප්‍රතිපත්තිය අනුව කටයුතු මෙහෙයවීමට ඉඩ තබන ලෙසටත්, නිර්ධන පංතිය පොළඹවා ගැනීමට ධනපති පංතිය සෑම මහන්සියක් ම දරන්නේ එහෙයිනි.

තමන්ට කම්කරු පංති ව්‍යාපාරයෙන් නිදහස් වීමට නොහැකි බව ධනපති බුද්ධිමත්තු හොඳින් දනිති. ව්‍යාපාරයක් වශයෙන්, කම්කරු පංති ව්‍යාපාරයටද, අරගලයක් වශයෙන් නිර්ධන පංති අරගලයට ද විරුද්ධව ඔවුහු කිසිසේත් ඉදිරිපත් නොවන්නේ එහෙයිනි. එපමණක් නොව, බ්‍රෙන්තානෝ හා හිර්ෂ්-දූන්කෙර් අර්ථයෙන්[57] කම්කරු පංති ව්‍යාපාරය හා පංති අරගලය ගැන වටහා ගෙන සිටින ඔවුහු, වැඩ වර්ජනය කිරීමේ අයිතිය සහ ආචාරශීලී පංති අරගලයකට ද, කථාවෙන් පක්ෂ වෙති. වෙනත් වචනවලින් කියතොත්, කම්කරුවන්, ඔවුන්ගේ ''කැරළි කාර ස්වභාවය'' ද, ඔවුන්ගේ පටු කල්පනාකාර විප්ලවකාමය ද, ''ප්‍රායෝගික වටිනාකමකින් යුත් බේරුම් කර ගැනීම්වලට'' ඔවුන්ගේ ඇති විරුද්ධත්වයද, ''සමස්ත රුසියානු ජනතාවගේ ම විප්ලවය'' මත ඔවුන්ගේ පංති අරගලයේ සටහන, එනම් නිර්ධන පංති සසංගතභාවයේත්, නිර්ධන පංති අධිෂ්ඨානයේත්, ''සාමාන්‍ය ජන ජැකොබින්වාදයේ'' ත් සටහන තැබීමට අයිතිය හා අභිලාෂයන් ප්‍රකාශ කිරීමද, අත් හරින්නේ නම්, වැඩ වර්ජනය කිරීමේ නිදහස හා සංගම් පැවැත්වීමේ නිදහස කම්කරුවන්ට ''දීමට'' ධනපති බුද්ධිමතුන් සූදනම් ය. (ඇත්ත වශයෙන් මේවා කම්කරුවන් විසින්ම දිනා ගත් වැනි තත්වයක් දැනටමත් පවතී). රුසියාව මුළුල්ලේම ධනපති බුද්ධිමතුන්, මාර්ග හා මාධ්‍ය දහස් ගණනක් මගින්, පොත්*, දේශන, කථා, සාකච්ඡා ආදිය මගින්, කම්කරුවන් තුළට (ධනපති) සන්සුන්කම, (ලිබරල්) ප්‍රායෝගික ස්වභාවය, (අවස්ථාවාදී) යථාර්ථවාදය, (බ්‍රෙන්තානෝ) පංති අරගලය, (හිර්ෂ්-දූන්කෙර්) වෘත්තීය සමිති ආදිය පිළිබඳ අදහස් කාවැද්දීමට, සෑම ප්‍රයත්නයක් ම දරන්නේ එනිසා ය. අන්තිමට සඳහන් කළ සටන් පාඨ දෙක, ''ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී'' පක්ෂයට, ''අස්වබෂ්ජේනිය'' පක්ෂයට විශේෂයෙන්ම හිත කර ය. ඊට හේතුව ඒවා පෙනුමෙන් මාක්ස්වාදී සටන් පාඨවලට එක සමාන වීම ද, යම් යම්, සුළු ලොප් කිරීම් හා සුළු විකෘති කිරීම් මගින් පහසුවෙන්ම මාක්ස්වාදී සටන්පාඨ සමග පැටලවීමටත්, සමහර විට මාක්ස්වාදී සටන්පාඨ ලෙසට පවා පිළිගැන්වීමටත් ඉඩ කඩ තිබීමද වේ. නිදසුනක් වශයෙන්, ''රස්වියෙත්''[58] නැමති නීත්‍යානුකූල ලිබරල් ප්‍රවෘත්ති පත්‍රය (එය ගැන තරමක් විස්තර සහිතව ''ප්‍රොලිතාරි''

---

* ප්‍රකපොවිච්, ''රුසියාවේ කම්කරු ප්‍රශ්නය'' බලන්න.



පාඨකයන් සමග යම් දිනක සාකච්ඡා කිරීමට බලාපොරොත්තු වෙමු) පංති අරගලය, ධනපති පංතිය විසින් නිර්ධන පංතිය රවටනු ලැබීමට ඉඩ තිබීම, කම්කරු පංති ව්‍යාපාරය, නිර්ධන පංතියේ ක්‍රියාරම්භකත්වය, යනාදිය ගැන නිතර, නිතර, කොතරම් ''ඍජු ලෙස'' කරුණු දක්වන්නේද යත්, අපරීක්ෂාකාරී පාඨකයා හා කරුණු නොදත් කම්කරුවා, එහි ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය'' අවංක එකකැයි සිතන්නට පහසුවෙන්ම පෙළඹෙන්නට ඉඩ තිබේ. එහෙත්, ඇත්ත වශයෙන්ම, එය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ධනපති අනුකරණයකි; පංති අරගලය පිළිබඳ සංකල්පයේ අවස්ථාවාදී විකෘතියක් සහ විපරීතයක් පමණකි.

මෙම දැවැන්ත කපට උපාය (එය පොදු ජනතාව කෙරෙහි පාන බලයෙහි පරිමාණය අනුව දැවැන්තය) පතුළෙහි ඇත්තේ, කම්කරු පංති ව්‍යාපාරය, ප්‍රධාන වශයෙන්ම වෘත්තීය සමිති ව්‍යාපාරයක් බවට පිරිහෙළීමටත්, එය හැකි තරම් දුරට ස්වාධීන ප්‍රතිපත්තියකින් (එනම්, විප්ලවවාදී සහ ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක් වෙතට ඉලක්ක කරන ලද ප්‍රතිපත්තියකින්) ඈත් කර තැබීමටත්, ''කම්කරු සිත් තුළ ඇති වන, සමස්ත ජනතාවගේ ම රුසියානු විප්ලයක් පිළිබඳ අදහස පංති අරගලය පිළිබඳ අදහසෙන් යටපත් කර දැමීමටත්'' ඇති බලවත් අභිලාෂය ය.

''අස්වබෂ්ජේනිය'' සූත්‍රය අප විසින් උඩු යටි හරවන ලද බව පාඨකයාට පෙනෙනු ඇත. මෙය නම්, ප්‍රජාතන්ත්‍ර විප්ලවයකදී නිර්ධන පංතියට පැවරෙන කාර්ය කොටස ගැන, ධනපති පංතික මතය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මතය යන, මත දෙක විශිෂ්ඨ ලෙස ප්‍රකාශ කරන, අනර්ඝ සූත්‍රයකි. ධනපති පංතියට උවමනා කරන්නේ නිර්ධන පංතිය වෘත්තීය සමිති ව්‍යාපාරයට සීමා කර තැබීමට ය — ඒ මාර්ගයෙන් ''නිර්ධන පංතියේ සිත තුළ ඇති වන සමස්ත ජනතාවගේ ම රුසියානු විප්ලවය පිළිබඳ අදහස යටපත් කිරීමට (බ්‍රෙන්තානෝ) පංති අරගලය පිළිබඳ අදහස යෙදීමට ය''. එය, කම්කරුවන්ගේ සිත් තුළ ඇති වන දේශපාලන අරගලය පිළිබඳ අදහස යටපත් කිරීම පිණිස ''පිරිසිදු කම්කරු පංති ව්‍යාපාරයක්'' පිළිබඳ අදහස යෙදීමට උත්සාහ කළ "Credo" ලියවිල්ලේ බර්න්ෂ්ටයින්වාදී කතුවරුන්ගේ ප්‍රයත්නයට සම්පූර්ණයෙන්ම සමාන ය. ඊට ප්‍රතිකූල වශයෙන්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට උවමනා කරන්නේ නිර්ධන පංතියේ පංති අරගලය, සමස්ත ජනතාවගේම රුසියානු විප්ලවයේ නායකත්වයට පත්වන මට්ටමට දියුණු කිරීමට ය, එනම්, එම විප්ලවය, නිර්ධන පංතියේ සහ ගොවිජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය බවට පත් කිරීම ය.

අප රටේ විප්ලවය මුළු ජනතාවගේම විප්ලවයකැයි, ධනපති පංතිය නිර්ධන පංතියට කියයි. එනිසා තනි පංතියක් වශයෙන්, ඔබ ඔබගේ

පංති අරගලයට සීමා විය යුතුය. ''සාමාන්‍ය බුද්ධියේ'' නාමයෙන්, ඔබ, ඔබගේ අවධානය ප්‍රධාන වශයෙන් වෘත්තීය සමිති වලට හා ඒවා නීත්‍යානුකූල කිරීමට යොමු කළ යුතුය. මෙම වෘත්තීය සමිති, ''ඔබගේ දේශපාලන අධ්‍යාපනයේ සහ සංවිධානයේ ඉතාමත් වැදගත් ආරම්භක ස්ථානය'' ලෙස සැලකිය යුතුය. විප්ලවීය තත්වයක් යටතේ ඔබ වැඩියෙන්ම කළ යුත්තේ, නව ඉස්ක්‍රා සංවිධානයේ යෝජනාව මෙන් ''බුද්ධිමත්'' යෝජනා සකස් කිරීමය. ''ලිබරල්වාදීන්ට වඩාත් වාසිදායක නැඹුරුවක් ඇති'' යෝජනා ගැන ඔබ වැඩි සැලකිල්ලක් දක්විය යුතුය. ඔබ, ''කම්කරු පංතියේ නියම දේශපාලන ව්‍යාපාරයේ ප්‍රායෝගික නායකයන්'' වීමේ හුරුවක් පෙන්වන නායකයන් කෙරෙහි වැඩි සැලකිල්ලක් දක්වන අතර, (ඔබ දැනටමත් මෙම ''අවිද්‍යාත්මක'' බණ පොතේ එන ''දැඩි සූත්‍රවල'' බලයට හසුව සිටිනම්) ''මාක්ස්වාදී ලෝකාවබෝධයේ යථාර්ථවාදී මූලිකාංග ආරක්ෂා කර ගත'' යුතුය.

අප රටේ විප්ලවය මුළු ජනතාවගේ ම විප්ලවයකැයි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු නිර්ධන පංතියට කියති. ඔබ ඉතාමත් ප්‍රගතිශීලී සහ සම්පූර්ණයෙන්ම විප්ලවවාදී එකම පංතිය වශයෙන්, එහි ක්‍රියාශීලී කාර්ය කොටසක් පමණක් නොව, එහි නායක කාර්ය කොටසද ඉටු කිරීමට ප්‍රයත්න දැරිය යුතු ය. එනිසා ඔබ, පංති අරගලය පිළිබඳ පටු සංකල්පයක් වූ, ප්‍රධාන වශයෙන් වෘත්තීය සමිති ව්‍යාපාරය වශයෙන් වටහාගත් රාමු කට්ටුවක් තුළට සීමා නොවිය යුතුය. ඊට ප්‍රතිකූල වශයෙන් ඔබ කළ යුත්තේ, වර්තමාන මුළු ජනතාවගේම රුසියානු ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ සියළුම අරමුණු පමණක් නොව, අනතුරුව ඇති වන සමාජවාදී විප්ලවයේ අරමුණු ද, ඇතුලත් වන සේ ඔබගේ පංති අරගලයේ රාමු කට්ටුව හා සන්ධාරය පුළුල් කිරීමට උත්සාහ දැරීම ය. එනිසා, වෘත්තීය සමිති ව්‍යාපාරය අමතක කිරීම හෝ අල්පතර නීතිමය ඉඩ ප්‍රස්ථාවලින් පවා ප්‍රයෝජන ගැනීමට ප්‍රතික්ෂේප කිරීම හෝ නොකරම, ඔබ විප්ලවීය කාලපරිච්ඡේදයකදී කළ යුත්තේ, සාර්වාදය පරදවා සම්පූර්ණ ජයග්‍රහණය ලැබීමේත්, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් හා නියම දේශපාලන නිදහස ලබා ගැනීමේත්, ඒකායන මාර්ගය ලෙසට, කැරළි ගසමින් නැඟී සිටීමේ සහ විප්ලවීය හමුදවක් හා විප්ලවීය ආණ්ඩුවක් පිහිටුවීමේ කර්තව්‍යයන් ඉදිරියට ගෙන ඒමය.

නව ''ඉස්ක්‍රා'' වාදීන්ගේ වැරදි ''ක්‍රියාමාර්ගය'' නිසා ඔවුන් මෙම ප්‍රශ්නය සම්බන්ධයෙන් ගත්, ස්වාභාවික ලෙසම ධනපති පංතියට ඉතා ප්‍රිය ජනක, මන්දෝත්සාහී සහ චපල ප්‍රතිෂ්ඨාව ගැන කථා කිරීම, අනවශ්‍ය වනු ඇත.



## II. මර්තිනව් සහෝදරයා යළිත් ප්‍රශ්නය ''අරුත් සරු'' කරයි

''ඉස්ක්‍රා'' අංක 102 හා 103 හි පළ වූ මර්තිනව්ගේ ලිපි වෙතට අවධානය යොමු කරමු. මාක්ස්ගෙන් හා එංගල්ස්ගෙන් උපුටාත් කොටස් ගණනාවක් සම්බන්ධයෙන් අපගේ අර්ථ නිරූපනය වැරදි බවත්, තමන්ගේ අර්ථ නිරූපනය නිවැරදි බවත්, ඔප්පු කිරීමට මර්තිනව් විසින් දරන ලද ප්‍රයත්නයන්ට අපි පිළිතුරු නොදෙන්නෙමු. මෙම ප්‍රයත්න කොතරම් නොවැදගත්ද යත්, මර්තිනව්ගේ කපට ප්‍රයෝග කොතරම් පැහැදිලිද යත්, ප්‍රශ්නය කොතරම් නිරවුල්ද යත්, මෙම කරුණ ගැන නැවතත් විස්තර කිරීමේ අවශ්‍යතාවයක් නැත. මුළු පෙරමුණෙන්ම පසු බැසීමෙහි යෙදෙමින්, මර්තිනව් අනුගමනය කරන සරල සටප්‍රයෝග ගැන සෑම බුද්ධිමත් පාඨකයෙකුටම පහසුවෙන් තේරුම් ගත හැකි වනු ඇත. ''ප්‍රොලිතාරි'' සහායකයන් කණ්ඩායමක් විසින් දැනට සූදනම් කර ගෙන යනු ලබන, එංගල්ස්ගේ ''බකුනින්වාදීන් වැඩ කරන හැටි'' යන පොතෙහිත්, මාක්ස් 1850 මාර්තුවේදී කළ ''කොමියුනිස්ට් සංගමයේ මධ්‍යම කාරක සභාවට දේශනය'' යන ලියවිල්ලෙහිත්, පූර්ණ පරිවර්තනයන් පළ කළ විට, විශේෂයෙන්ම එය පහසු වනු ඇත. මර්තිනව් පසු බසින බව පාඨකයාට පැහැදිලි කිරීමට ඔහුගේ ලිපියෙන් එක කොටසක් උපුටා දැක්වීම ප්‍රමාණවත් වේ.

''තාවකාලික ආණ්ඩුවක් පිහිටුවීම, විප්ලවය ඉදිරියට ගෙනයාමට යොදගත හැකි හා යථායෝග්‍ය වන මාර්ගයක් බව ''ඉස්ක්‍රා'' පිළිගන්නා නමුත්, අනාගත සමාජවාදී විප්ලවයක් සඳහා රාජ්‍ය යන්ත්‍රයේ සම්පූර්ණ පාලනය ලබා ගැනීමට හැකි වනු පිණිසම, නියත වශයෙන්ම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ධනපති තාවකාලික ආණ්ඩුවකට සහභාගිවීම යථායෝග්‍ය නොවන බව කියන්නේය'' යි මර්තිනව් එහි අංක 103 හි ප්‍රකාශ කර ඇත. වෙනත් වචන වලින් කියතොත්, භාණ්ඩාගාරය, හිර ගෙවල්, ආදිය, සම්බන්ධයෙන් තාවකාලික ආණ්ඩුවක වග කීම ගැන ''ඉස්ක්‍රාව'' ඇති කරගෙන තිබූ බිය සම්පූර්ණයෙන්ම අහේතුක බව, එය දැන් පිළි ගනියි. නමුත් ප්‍රජාතන්ත්‍රවාදී ආඥදායකත්වය හා සමග සමාජවාදී ආඥදායකත්වය එකට පටලවා ගැනීමෙන් ''ඉස්ක්‍රාව'' කරන්නේ කරුණු අවුල් කර ගැනීම පමණකි. මෙම අවුල වැලැක්විය නොහැකිය. එය පසු බැසීම සඳහා ආවරණය සැලසීමේ මාර්ගයකි.

නමුත්, නව ''ඉස්ක්‍රාවේ'' ඔළුව අවුල් කරගත් අය අතුරෙන්, අවුල් ඔළුව අංක 1 වන්නේ මර්තිනව් ය. ඔහු ඔළුව අවුල් කරගත් දක්ෂයෙකැයි කිව හැකිය. ප්‍රශ්නය ''අරුත් සරු කිරීමට'' ගන්නා වෙහෙසකාරී

ප්‍රයත්නයන් මගින් එය අවුල් කරන ඔහු, නොවැළැක්විය හැකි ලෙසට ම නව යෙදුම් වෙත එළඹෙයි. ඔහු ගත් ප්‍රතිෂ්ඨාවෙහි සම්පූර්ණ සාවද්‍යභාවයම එම යෙදුම්වලින් අනාවරණය වෙයි. ''ආර්ථිකවාදයේ'' කාලයේදී, ප්ලෙඛානව් ''අරුත් සරු'' කළ මෙම යෙදුම නිර්මාණය කළ හැටි ඔබට මතක ඇති: ''ස්වාමිවරුන්ට හා ආණ්ඩුවට විරුද්ධව ආර්ථික අරගලය.'' මෙම උපනතියෙහි සාවද්‍යාභාවය පෙන්වීමට මීට වඩා උචිත පාඨයක් මුළු ආර්ථිකවාදී සාහිත්‍යයෙන්ම සොයාගැනීම දුෂ්කර වනු ඇත. අද තත්වයත් එයම ය. මර්තිනව් උත්සුක්ත ලෙස නව ''ඉස්ක්‍රාවට'' සේවය කරන අතර, ඔහු කට අරින සෑම අවස්ථාවකම පාහේ, නව ''ඉස්ක්‍රාවෙහි'' සාවද්‍ය ප්‍රතිෂ්ඨාව අගය කිරීමට ප්‍රයෝජනවත් වන අළුත් හා අනර්ඝ කරුණු අප වෙත සපයයි. ''විප්ලවය පිළිබඳ සංකල්පය වෙනුවට, ආඥාදායකත්වය පිළිබඳ සංකල්පය'' ලෙනින් විසින් ''සූක්ෂම ලෙස ආදේශ කරන ලද''යි ඔහු අංක 102 කලාපයෙහි කියා ඇත (පි. 3, කො. 2).

සාරාර්ථ වශයෙන් ගත් කල, නව ඉස්ක්‍රාවාදීන් අප වෙත එල්ල කර තිබෙන චෝදනා සියල්ලම මෙය දක්වා සරල කොට ගත හැකිය. ඇත්ත වශයෙන්ම මෙම චෝදනාව නැගීම සම්බන්ධයෙන් අපි මර්තිනව්ට කෘතඥ වෙමු! මෙම චෝදනාව, මෙම ආකාරයෙන් ඉදිරිපත් කිරීමෙන්, නව ''ඉස්ක්‍රා'' අදහස්වලට විරුද්ධව අප කරන අරගලයේදී, ඔහු අපට කර ඇත්තේ මාහැඟි සේවයකි! ''ප්‍රොලිතාරි'' විරෝධී ප්‍රහාරයන් ''වඩාත් අරුත් සරු'' කිරීමට හා මෙම ප්‍රහාරයන් ''නියම ප්‍රතිපත්තිමය'' යෙදුම් ගත කිරීමට, වඩාත් නිරන්තර ලෙස මර්තිනව් අපට විරුද්ධව ලිහා හරින ලෙස, නව ''ඉස්ක්‍රා'' කතුවරුන්ගෙන් ඒකාන්ත වශයෙන්ම ඉල්ලිය යුත්තෙමු. මක් නිසාදයත්, ප්‍රතිපත්තිමය තලයෙහි සිට තර්ක කිරීමට මර්තිනව් වැඩි වැඩියෙන් ව්‍යාවෘත වුනු තරමට, ඔහුගේ තර්ක වඩ වඩාත් දුර්වල සේ පෙනෙන හෙයිනි; එවිට ඔහු නව''ඉස්ක්‍රා''උපනතියෙහි අඩු පාඩු කම් වඩ වඩාත් පැහැදිලි ලෙස අනාවරණය කරන හෙයිනි; එවිට ඔහු හා ඔහුගේ මිතුරන් විෂයෙහි ප්‍රයෝජනවත් අධ්‍යාපන විද්‍යා කාර්යය reductio ad absurdum (නව ''ඉස්ක්‍රා'' ප්‍රතිපත්ති විකාරයක් බවට පත් කිරීම) ඉටු කෙරෙන හෙයිනි.

ආඥාදායකත්වය සහ විප්ලවය යන සංකල්පයන් ''හුවමාරු කළ හැකි'' ලෙසට ''වපිරියොද්'' සහ ''ප්‍රොලිතාරි'' විසින් යොදනු ලැබේ. එවැනි ''හුවමාරු කළ හැකි'' වීමක් ''ඉස්ක්‍රා'' අපේක්ෂා නොකරයි. ඒක හරි, ගරු කටයුතු මර්තිනව් සහෝදරය! ඔබ නොදැනුවත්වම මහා සත්‍යයක් ප්‍රකාශ කර ඇත. ''ඉස්ක්‍රා'' විප්ලවයට පිටු පසින් ඇදී යමින් හා මාර්ගයෙන් බැහැරව, තම කර්තව්‍යයන් ''අස්වබෂ්ජේනිය'' ආකාරයෙන් සකස් කර ගැනීමෙහි යෙදී සිටින බවත්, ඒ අතර ''වපිරියොද්''



හා ''ප්‍රොලිතාරි'' ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ඉදිරියට ගෙනයන සටන් පාඨ නිකුත් කරන බවත්, කියමින් අප ඉදිරිපත් කළ විතර්කය, ඔබ මෙම නව යෙදුමෙන් තහවුරු කර ඇත.

මර්තිනව් සහෝදරය, මෙය ඔබට නො වැටහෙන දෙයක්ද? ප්‍රශ්නයේ ඇති වැදගත් කම සලකා ඔබට සවිස්තර ලෙස කරුණු පැහැදිලි කිරීමට උත්සාහ කරන්නෙමු.

පෞද්ගලික දේපල සහ වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය පිළිගැනීමට සම්පූර්ණයෙන්ම පක්ෂ වන හා මෙම සීමාවන් ඉක්මවා යාමෙහි අසමත් සමාජයේ පංති, කණ්ඩායම් හා කොටස් ගණනාවක් ම, පවත්නා වාතාවරණයේ බලපෑම විසින් ඒකාධිපත්‍යයේ හා පොදු වශයෙන් සමස්ත වැඩ වසම් ක්‍රමයේම නිෂ්ඵලභාවය පිළිගන්නා තැනට යොමු කරනු ලබන අතර, නිදහස ඉල්ලීමට පක්ෂ කොටස්වලට එකතුවීමෙන් හා වෙනත් කරුණු වලින්, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ධනපති ස්වරූපය ප්‍රකට වන්නේ ය. ''සමාජය'' විසින් බල කර ඉල්ලනු ලබන සහ ඉඩම් හිමියන් හා ධනපතියන් ගංවතුරක් මෙන් වගුරුවන වචනවලින් (වචනවලින් පමණක්) පක්ෂවාදීත්වය දක්වනු ලබන, මෙම නිදහසෙහි ධනපති ස්වභාවය වඩ වඩාත් පැහැදිලිව විද්‍යාමාන වන්නේය. ඒ අතරම නිදහස සඳහා කරනු ලබන කම්කරුවන්ගේ අරගලයේ සහ ධනපති පංතියේ අරගලයේත්, නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ සහ ලිබරල් ප්‍රජාතන්ත්‍රවාදයේත් මූලික වෙනස ද වඩ වඩාත් ප්‍රත්‍යක්ෂ වේ. කම්කරු පංතිය හා එහි පංති විඥානය ඇති නියෝජිතයන් ඉදිරියට යමින් මෙම අරගලය ඉදිරියට ගෙන යන්නේ, එය සම්පූර්ණ කිරීමට බියක් නොමැතිව පමණක් නොව, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දුරස්තරම සීමාවන් ඉක්මවා බොහෝ දුර යාමට ප්‍රයත්න ද දරමිනි. චපල හා ආත්මාර්ථකාමී ධනපති පංතිය නිදහස සඳහා සටන් පාඨ පිළිගන්නේ කුහක හා අර්ධ වශයෙන් පමණකි. නිදහසේ ධනපති මිතුරන්ගේ මෙම කුහකත්වය, නැතහොත්, මෙම ධනපති මිතුරන් විසින් නිදහස පාවාදීම ආරම්භ වන සීමාව, කිසියම් විශේෂ රේඛාවක් මගින් හෝ විශේෂ ''කාරණා'' මාලාවක් (ස්තරොවේර්ගේ යෝජනාවේ හෝ සාකච්ඡා සභා කාරයින්ගේ යෝජනාවේ හෝ සඳහන් වැනි) සකස් කිරීමෙන් හෝ සලකුණු කිරීමට දරන සියළුම ප්‍රයත්නයන් අසාර්ථකවත්වීමේ ඉරණමට ලක්ව ඇත. එසේ වන්නේ, ගිනි දෙකකට (ඒකාධිපත්‍යයට හා නිර්ධන පංතියට) මැදි වූ ධනපති පංතිය, අහලක් වමට හෝ අහලක් දකුණට වෙමින්, හැම විටම විවාද කරමින් හා කේවෙල් කරමින්, දහසක් මාර්ග හා මාධ්‍ය උපයෝගි කර ගනිමින්, එහි ස්ථාවරය හා සටන් පාඨ මාරු කිරීමෙහි සමත් වන හෙයිනි. නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ කර්තව්‍යය, එවැනි අජීවී ''කාරණා'' මැවීම නොව, සංවර්ධනය වන දේශපාලන

තත්වය නොකඩවාම විවේචනය කිරීම සහ ධනපති පංතියේ අළුත් වපලකම් හා පාවාදීම් හෙළිදරව් කිරීම ය.

නීති විරෝධී පුවත්පත් මගින් ස්ත්‍රෑවේ මහතා කළ දේශපාලන ප්‍රකාශනවල ඉතිහාසය, නැතහොත්, සමාජ-ප්‍රජාතන්ත්‍රය ඔහු සමග කළ සටනේ ඉතිහාසය, සිහියට නගන්න. නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයේ සටන් කරුවා වන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය මෙම කර්තව්‍යයන් ඉටු කළේ කෙසේ ද යන්න එවිට පැහැදිලිව පෙනෙනු ඇත. ස්ත්‍රෑවේ මහතා පටන් ගත්තේ, පිරිසිදුම ෂිපොව් සටන් පාඨයකිනි — ‘‘අයිතිවාසිකම් සහ ආඥාත්මක සියම්ස්ත්ව සභාව’’ (‘‘සියම්ස්ත්ව සභා පෙළන අය හා ලිබරල්වාදයේ හැනිබාල්වරු’’ යනුවෙන් ‘‘සර්යා’’[59] හි පළවුනු මගේ ලිපිය බලන්න). ඔහුගේ වැරදි හෙළිදරව් කළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ඔහු නිශ්චිත වශයෙන් ම ව්‍යවස්ථානුකූල වූ වැඩ පිළිවෙළක් දෙසට පළවා හැරියහ. මෙම ‘‘තල්ලු කිරීම්’’ ක්‍රියාත්මක වූ කල, විප්ලවවාදී සිදුවීම් ඉතා වේගයෙන් ඉදිරියට යාම හේතු කොට ගෙන, අරගලය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඊළඟ ප්‍රශ්නයට මාරු විය. එම ප්‍රශ්නය නම්, හුදෙක් සාමාන්‍ය ව්‍යවස්ථාවක් පමණක් නොව, සර්ව ජන හා සමාන ඡන්ද බලය, සෘජු තෝරා පත් කිරීම් හා රහස් ඡන්දය සඳහා ප්‍රතිපාදන ඇතුලත් ව්‍යවස්ථාවක්, යන්න ය. අප සතුරාගෙන් මෙම කඳවුර (‘‘අස්වබෂ්ජේනිය’’ සංගමය විසින් සර්වජන ඡන්දය පිළිගනු ලැබීම) ‘‘අල්ලාගත්’’ පසු, අපි තවදුරටත් ඉදිරියට යාමට පටන් ගනිමු. මණ්ඩල දෙකකින් යුත් ක්‍රමයේ කුහකත්වය හා ව්‍යාජත්වයත්, ‘‘අස්වබෂ්ජේනිය’’ සංගමය සර්වජන ඡන්ද බලය පිළිගෙන නැති බවත්, අපි හෙළිදරව් කෙළෙමු. ඔවුන්ගේ රාජාණ්ඩුවාදය පෙන්නුම් කළ අපි, ඔවුන්ගේ ජාවාරම්කාර ස්වභාවය, නැතහොත්, වෙනත් වචනවලින් කියතොත්, මෙම සල්ලි මළු කාර වීරයන් ශ්‍රෙෂ්ඨ රුසියානු විප්ලවයේ අවශ්‍යතාවයන් පාවා දෙන සැටිත් හෙළිදරව් කෙළෙමු.

අන්තිමේදී, ඒකාධිපත්‍යයේ දර දඬු භාවයත්, සිවිල් යුද්ධයේ යෝධ ප්‍රගතියත්, රාජාණ්ඩුවාදීන් විසින් රුසියාව හෙළනු ලැබ ඇති අසරණ තත්වයත්, ගැන අවබෝධය, තද ම ඔළු කටු තුළට පවා ඇතුල් වීමට පටන් ගෙන ඇත. විප්ලවය ප්‍රත්‍යක්ෂ කරුණක් බවට පත් විය. විප්ලවයක් සිදුවන බව පිළිගැනීමට, දැන් විප්ලවවාදියෙක් වීම අවශ්‍ය නොවේ. ඒකාධිපත්‍යයේ ආණ්ඩුව අප ඇස් හමුවේ ම ඇත්ත වශයෙන් ගරා වැටෙන්නට පටන් ගෙන ඇත. එක් ලිබරල්වාදියෙක් (ග්‍රෙදෙස්කුල් මහතා) නීත්‍යානුකූල පත්‍රවල සඳහන් කර ඇති ලෙසට, මෙම ආණ්ඩුවට අකීකරුකම් පෑම සැබැවින්ම පටන් ගෙන ඇත. ඒකාධිපත්‍යයේ මහා බලයක් පෙනෙන්නට ඇතත්, එය බෙලහීන බව ඔප්පු වී තිබේ. පණ පිටින් කුණුවෙමින් පවතින පරපෝෂිතවාදී දේහය, වර්ධනය වන විප්ලවය ආශ්‍රිත සිදුවීම් විසින් ඒකාන්ත ලෙස පසෙකට තල්ලුකර දමනු ලැබීම ආරම්භ වී තිබේ. ඇත්ත වශයෙන්ම සම්බන්ධකම් හැඩ ගැසෙමින් පවතින ආකාරයෙන් ගෙන, ඒවා මත තමන්ගේ කටයුතු (නැතහොත්, වඩාත් නිවැරදි ලෙස කියතොත්, දේශපාලන යටිකූට්ටු වැඩ) පදනම් කර ගත යුතු තත්වයට පත්ව සිටින ලිබරල් ධනපති පංතිය, විප්ලවය සිදුවන බව පිළිගැනීමේ අවශ්‍යතාවය දකින්නට පටන් ගෙන තිබේ. ඔවුන් එසේ කරන්නේ, ඔවුන් විප්ලවවාදීන් වන නිසා නොව, ඔවුන් විප්ලවවාදීන් නොවීම නොතකාය. ඔවුන් එසේ කරන්නේ, එය නොකර බැරි නිසාය; කැමැත්තකින් නොවේ; විප්ලවයේ ජයග්‍රහණය දෙස කෝපයෙන් රවා බලමිනි; සම්මුතියකට එළඹීමකට නොමැතිව, ජීවිතයත් මරණයත් අතර අරගලයක් කිරීමට අපේක්ෂා කරන ඒකාධිපත්‍යයට විරුද්ධව විප්ලවකාමයේ චෝදනාව එල්ල කරමිනි. උපන් ජාවාරම් කාරයන් වන ඔවුහු, අරගලය හා විප්ලවය අප්‍රිය කරති. එහෙත්, ඔවුනට පය ගසා ගත හැකි වෙනත් භූමියක් නොමැති නිසා, විප්ලව භූමියේ සිටින ලෙසට වාතාවරණය ඔවුනට බල කරයි.

අප ඉදිරියේ පෙනෙන්නට ඇත්තේ ඉතාමත් උපදේශාත්මක සහ ඉතාමත් හාස්‍ය ජනක දර්ශනයකි. ධනපති ලිබරල් ගණිකාවෝ විප්ලවයේ අලංකාර සළුවෙන් සැරසෙන්නට උත්සාහ ගනිති. ‘‘අස්වබෂ්ජේනිය’’ ජනයා — risum teneatis, amici!* ‘‘අස්වබෂ්ජේනිය’’ ජනයා විප්ලවයේ නාමයෙන් කථා කිරීමට පටන් ගනිති! තමන් ‘‘විප්ලවයට බිය නොවන’’ බව දිව්රා කීමට (‘‘අස්වබෂ්ජේනිය’’ අංක 72 හි, ස්ත්‍රෑවේ මහතා) ඔවුන් පටන් ගෙන තිබේ!!! ‘‘විප්ලවයේ මුලින් සිටීමට’’ ඔවුන්ට ඇති අයිතිය ප්‍රකාශ කිරීමට ඔවුන් පටන් ගෙන තිබේ!!!

ඉතාමත් වැදගත් ප්‍රපංචය මෙයයි. එයින් ධනපති ලිබරල්වාදයේ දියුණුව පමණක් නොව, ඊටත් වඩා, බලෙන්ම පිළිගැන්ම දිනාගත්, විප්ලවවාදී ව්‍යාපාරයේ සැබෑ සාර්ථකත්වයේ දියුණුව ද නිරූපනය වේ. ඒකාධිපත්‍යය සෙලවෙන තත්වයට පත්ව ඇති නිසා, විප්ලවයේ පැත්ත ගැනීම තමන්ට වඩාත් වාසිදායක බව, ධනපති පංතියට පවා දැනෙන්නට පටන් ගෙන තිබේ. නමුත්, මුළු මහත් ව්‍යාපාරයම විසින් අත් කර ගන්නා ලද නව උසස් මට්ටම සනාථ කරන මෙම ප්‍රපංචය, අනිත් අතට, අපට අළුත් හා වඩාත් උසස් කර්තව්‍යයන්ද නියම කරයි. එක් හෝ වෙනත් ධනපති දෘෂ්ටිවාදියෙකුගේ පෞද්ගලික අවංක භාවය කෙසේ වුවත් ධනපති පංතිය විසින් විප්ලවය පිළිගැනීම, අවංකව කරන්නක් විය නොහැකිය.

* ඔබේ සිනහව මැඩගන්න, මිත්‍රවරුනි!

ආත්මාර්ථකාමය හා චපල භාවයත්, කේවෙල් කිරීමේ හා පහත් ප්‍රතිගාමී කපටි කම් කිරීමේ ගතියත්, ව්‍යාපාරයේ මෙම ඉහළ මට්ටමට පවා ගෙන ඒම, ධනපති පංතියට නොකර බැරි දෙයකි. අපගේ වැඩ පිළිවෙළෙහි නාමයෙන් සහ අපේ වැඩ පිළිවෙළෙහි විස්තර දක්වීමක් වශයෙන්, අපි දැන් විප්ලවයේ හදිසි නියත කර්තව්‍යයන් වෙනත් ආකාරයකින් ඉදිරිපත් කළ යුත්තෙමු. ඊයේ ප්‍රමාණවත්ව පැවති දෙය අදට නොසෑහෙන්නේය. ඊයේ සමහරවිට, දියුණු ප්‍රජාතන්ත්‍රවාදී සටන් පාඨයක් ලෙසට විප්ලවය පිළිගන්නා ලෙස ඉල්ලීම ප්‍රමාණවත් විය. අදට එය ප්‍රමාණවත් නොවේ. විප්ලවය පිළිගන්නා ලෙසට, එය ස්ත්‍රෑවේ මහතාට පවා බල කර තිබේ. මෙම විප්ලවයේ හදිසි සහ අවශ්‍යතම කාර්යයන්ගේ ඒකාන්ත සන්ධාරය හරියටම විස්තර කිරීම, දියුණු පංතිය විසින් දැන් කළ යුතුව තිබේ. විප්ලවය පිළිගන්නා අතරම, ස්ත්‍රෑවේ මහත්වරු, නැවත නැවතත් ඔවුන්ගේ බූරු කන් පෙන්වමින්, සාමකාමී විසඳීමක් ඇති වීමේ ඉඩ කඩද, බලය භාර ගන්නා ලෙස නිකොලායි විසින් ''අස්වබෂ්ජේනිය'' කණ්ඩායමට ආරාධනා කරනු ලැබීමද, යනාදිය ගැන පැරණි තාල වාදනය කරති. ''අස්වබෂ්ජේනිය'' ජනයා විප්ලවය පිළිගන්නේ තමන්ට වඩාත් ආරක්ෂා සහිත වන ආකාරයට එය කප්පාදු කිරීමට හා එය පාවාදීමට ය. ''විප්ලවය'' පිළිබඳ සටන් පාඨය දැන් ප්‍රමාණවත් නොවන බව නිර්ධන පංතියට හා මුළු ජනතාවටම පෙන්වා දීම අපේ යුතුකම වී තිබේ. විප්ලවයේ ඒකාන්ත සන්ධාරය ගැන පැහැදිලි හා නිශ්චිත, සසංගත හා නිර්ණය කරන ලද විස්තරයක් තිබීමේ අවශ්‍යතාවය, අප පෙන්වා දිය යුතුය. මෙම විස්තරය සැපයෙන්නේ, නිර්ධන පංතියේ තීරණාත්මක ජයග්‍රහණය නිවැරදි ලෙස ප්‍රකාශ කිරීමෙහි සමත් එකම සටන් පාඨයකින් පමණකි. එය නම්, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය පිළිබඳ සටන් පාඨයයි.

වැරදි පද වහර දේශපාලනයේ සුලබ පුරුද්දකි. නිදසුනක් වශයෙන් ඉංග්‍රීසි ලිබරල්වාදයේ ආධාරකරුවන් ද, "We all are socialists now" — (''දැන් අපි සියළු දෙනාම සමාජවාදීන් වෙමු'' යි හාර්කොට් කීවේය) බිස්මාර්ක්ගේ ආධාර කරුවන්ද, ලියෝ XIII පාප්ගේ මිත්‍රයන්ද, සමාජවාදය යන නම බොහෝ විට භාවිතා කරති. ''විප්ලවය'' යන පදය ද සම්පූර්ණයෙන්ම වැරදි ලෙසට යෙදීමට ඉඩ තිබෙන අතර, ව්‍යාපාරයේ සංවර්ධනයේ සමහර අවස්ථාවල එම වැරදි ව්‍යවහාරය වැළැක්වීමට ද නුපුළුවන. ස්ත්‍රෑවේ මහතා විප්ලවයේ නාමයෙන් කථා කරන්නට පටන් ගත් කළ අපට තියෙර් මතක් වීම නොවැළැක්විය හැකි විය. පෙබරවාරි විප්ලවයට දින කීපයකට පෙර, ජනතාව අතර කුණාටුවක් හැමීමට අර අඳින බව දැනගත් මෙම මහා කපටියා, ධනපති පංතියේ දේශපාලන



දූෂණයේ පරිපූර්ණ සංකේතය වන මොහු, තමා විප්ලවයේ පක්ෂයෙහි වන බව පාර්ලිමේන්තු වේදිකාවෙන් ප්‍රකාශ කළේ ය! (මාක්ස් ලියූ ''ප්‍රංශ සිවිල් යුද්ධය'' බලන්න). ''අස්වබෂ්ජේනිය''පිරිස විප්ලවයේ පක්ෂයට එකතු වීමේ අර්ථය ද, තියෙර් එසේ ''මාරුවීමේ'' අර්ථයට හරියටම සමානය. රුසියානු තියෙර්ලා තමන් විප්ලවයේ පක්ෂයට අයත් යයි කියන විට එයින් අදහස් වන්නේ, විප්ලවය යන සටන් පාඨය ප්‍රමාණවත් නොවන බවත්, එය අර්ථ විරහිත තත්වයට පත්ව ඇති බවත්, විප්ලවය යථාර්ථයක් වී, ඉතාමත් විවිධාකාර කොටස් එය පැත්තට රොක් වන නිසා එයින්, කර්තව්‍යයන් කිසිවක් නිර්ණය නොවන බවත් ය.

මාක්ස්වාදී දෘෂ්ටි කෝණය අනුව විප්ලවය යනුවෙන් ඇත්ත වශයෙන් ම අදහස් කරන්නේ කුමක්ද? එයින් අදහස් කරන්නේ, අළුත් නිෂ්පාදන සම්බන්ධකම් සමග ප්‍රතිවිරෝධී වීමේ ප්‍රතිඵලයක් වශයෙන්, කිසියම් අවස්ථාවක බිඳවැටීමට සිදුව තිබෙන යල් පැන ගිය දේශපාලන උඩු ව්‍යුහය බලහත්කාරයෙන් බිඳ දැමීම ය. ඒකාධිපත්‍යය සහ ධනපති රුසියාවේ මුළු මහත් ව්‍යුහය හා එහි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සංවර්ධනයේ සියළුම අවශ්‍යතාවයන්ද, අතර ප්‍රතිවිරෝධය, දීර්ඝ කාලයක් තිස්සේ කෘත්‍රිම වශයෙන් පවත්වා ගෙන යන ලද නිසා, මෙම බිඳ වැටීම වඩාත් බරපතල ලෙස සිදුවනු ඇත. මෙම උඩු ව්‍යුහය සෑම සන්ධියකින් ම දෙදරමින්, බලපෑමට යටත් වෙමින් හා දුර්වල කම වර්ධනය වෙමින් පවතී. ඉතාමත් විවිධාකාර පංති හා කණ්ඩායම්වල නියෝජිතයන් මගින්, ජනතාව දැන් තමන්ගේම ධෛර්යයෙන් තමන්ට අළුත් උඩු ව්‍යුහයක් ගොඩනගා ගත යුතු ය. සංවර්ධනයේ එක්තරා අවස්ථාවකදී, පැරණි උඩු ව්‍යුහය නිෂ්ප්‍රයෝජන බව කාටත් පැහැදිලි වන්නේ ය. එවිට හැම දෙනා ම විප්ලවය පිළිගනිති. වර්තමාන කර්තව්‍යය වී තිබෙන්නේ, කුමණ පංති නව උඩු ව්‍යුහය ගොඩනැගිය යුතුද? ඔවුන් එය කළ යුත්තේ කෙසේද? යන්න පැහැදිලි කිරීම ය. මෙය පැහැදිලි නොකළහොත්, වර්තමාන අවස්ථාවේදී විප්ලවය යන සටන් පාඨය තේරුමක් නැති හිස් එකක් වනු ඇත. එසේ වන්නේ, ඒකාධිපත්‍යයේ දුර්වල කම නිසා, මහා ආදිපාදයන් හා ''මස්කෝව්ස්කිය වියදමස්ති''[60] පවා, ''විප්ලවවාදීන්'' වන බැවිනි! මෙය පැහැදිලි නොකළහොත්, දියුණු පංතියේ දියුණු ප්‍රජාතන්ත්‍රවාදී කර්තව්‍යයන් ගැන කථා කිරීමට පුළුවන් කමක් නැත. නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය යන සටන් පාඨයෙන් එම පැහැදිලි කිරීම සැපයේ. නව උඩු ව්‍යුහය ඉදි කරන නව ''ගොඩනැගිලි කරුවන්'' විශ්වාසය තැබිය යුත්තේ කුමණ පංති කෙරෙහි ද යනුත්, නව උඩු ව්‍යුහයේ ස්වභාවය (සමාජවාදී ආඥාදායකත්වයට වෙනස් වන ''ප්‍රජාතන්ත්‍රවාදී'') කුමක් ද යනුත්, එය ගොඩනැගිය යුත්තේ කෙසේ ද

(ආඥාදායකත්වය, එනම්, බලහත්කාරය මගින් දක්වන ප්‍රතිරෝධය, බලහත්කාරයෙන් මර්දනය කිරීම සහ ජනතාවගේ විප්ලවීය පංති ආයුධ සන්නද්ධ කිරීම) යනුත්, මෙම සටන් පාඨයෙන් නිර්ණය වේ. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයේ මෙම සටන් පාඨය, විප්ලවවාදී හමුදාව, විප්ලවවාදී ආණ්ඩුවක් හා විප්ලවවාදී ගොවි කාරක සභා පිළිබඳ සටන් පාඨය පිළිගැනීම දැන් ප්‍රතික්ෂේප කරන යමෙක් වෙතොත්, ඔහු, එක්කෝ විප්ලවයේ කර්තව්‍යයන් නිර්ණය කිරීමෙහි සම්පූර්ණයෙන්ම අසමත්ව, වර්තමාන තත්වය විසින් උද්ගත කරනු ලබන නව සහ වඩාත් උසස් කර්තව්‍යයන් නිර්ණය කරගත නොහැකිව සිටින අයෙකි; එසේ නැතහොත්, ඔහු ජනතාව රවටන, විප්ලවය පාවා දෙන හා ''විප්ලවය'' පිළිබඳ සටන් පාඨය වැරදි භාවිතයෙහි යොදාගන්නා අයෙකි.

මර්ටිනව් සහෝදරයා හා ඔහුගේ මිතුරන් මින් ප්‍රථම ගණයටද, ස්ත්‍රූවේ මහතා හා මුළු ''ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී'' සියම්ස්ත්ව පක්ෂයම, පසු කී ගණයටද වැටෙන කොටස් ය.

මර්ටිනව් සහෝදරයා පෑ තියුණු බව හා කූට බුද්ධිය කෙබඳුද යත්, විප්ලවයේ සංවර්ධනය නිසා එහි කර්තව්‍යයන් ආඥාදායකත්වය යන සටන් පාඨයෙන් විස්තර කිරීම අවශ්‍ය වූ අවස්ථාවේදී ම හරියටම, ආඥාදායකත්වය හා විප්ලවය යන සංකල්ප ''හුවමාරු කළ හැකි'' කිරීම ගැන අපට චෝදනා කළේය. අවසානයට පෙර අවධියෙහිදී මංමුලා වීම නිසා, මර්ටිනව් සහෝදරයා මග හැරී, අස්වබෂ්ජේනිය සිටින මට්ටමෙහි ම නැවතී සිටීමට තරම්, නැවතත් අවාසනාවන්ත වී ඇත. ''විප්ලවය'' (වචනයෙන්) පිළිගනිමින්, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය (ක්‍රියාවෙන් විප්ලවය) පිළිගැනීම ප්‍රතික්ෂේප කිරීම, අද අස්වබෂ්ජේනිය දේශපාලන ස්ථාවරය පිළිගැනීමට,එනම්,ලිබරල් රාජාණ්ඩුවාදී ධනපති පංතියේ අවශ්‍යතාවයන් පිළිගැනීමට, සමාන වේ. ලිබරල් ධනපති පංතිය දැන් ස්ත්‍රූවේ මහතා මගින් විප්ලවයට පක්ෂව අදහස් ප්‍රකාශ කරයි. පංති විඥානය ඇති නිර්ධන පංතිය විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ මාර්ගයෙන් නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ආඥාදායකත්වයක් ඉල්ලයි. මෙම අවධියේදී, මෙයට මැදිහත්වන නව ''ඉස්ක්‍රා'' අති පණ්ඩිතයෝ මෙසේ බෙරිහන් දෙති: ආඥාදායකත්වය සහ විප්ලවය යන අදහස් ''හුවමාරු කළ හැකි'' කළහොත් බලාගෙනයි! ඉතින්, නව ඉස්ක්‍රාවාදීන් ගෙන ඇති වැරදි ස්ථාවරය නිසා, ඔවුන් ''අස්වබෂ්ජේනිය'' උපනතියේ වල්ගා කොන පසු පස්සේ නිතරම ඇදී යාමට ඉරණම්ව සිටින බව ඇත්ත නොවේද?

ප්‍රජාතන්ත්‍රවාදය පිළිගැනීමේ කටයුත්තෙහිදී ''අස්වබෂ්ජේනිය'' ජනයා, පියවරෙන් පියවර (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ කෙවිටි කිරීමෙන් තොරව නොවන මුත්) ඉහළට නගින බව, අපි පෙන්වා දී ඇත්තෙමු. ප්‍රථමයෙන් අප අතර ආරවුලට තුඩු දුන් ප්‍රශ්නය වූයේ, ෂිපොව්වාදය ද (අයිතිවාසිකම් හා ආඥාත්මක සියම්ස්ත්ව සභාවක්) නැතහොත්, ව්‍යවස්ථානුකූලවාදය ද? යන්නයි. ඊළඟට එය, සීමිත ඡන්ද බලය ද, නැතහොත්, සර්වජන ඡන්ද බලය ද? යන්න විය. තවත් පසුව, විප්ලවය පිළිගන්නේ ද?, නැතහොත්, ඒකාධිපත්‍යය සමග පොට්ටනිකාර ජාවාරමක් කරගන්නේද? යන්න විය. දැන් අවසානයේදී එම ප්‍රශ්නය, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ආඥාදායකත්වය නොමැතිව විප්ලවය පිළිගන්නේ ද? නැතහොත්, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී මෙම පංතිවල ආඥාදායකත්වයක් සඳහා ඉල්ලීම පිළිගන්නේ ද? යන්න ය. ''අස්වබෂ්ජේනිය'' මහත්වරු (මේ පිරිස වර්තමාන අය වුවත්, නැතහොත්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වාම අංශයෙහි සිටින ඔවුන්ගේ අනුප්‍රාප්තිකයන් වුවත්, වෙනසක් නොවේ) තවත් පියවරක් නැගීමට, නැතහොත් (සමහර විට මර්ටිනව් සහෝදරයා තවත් පියවරක් ඉහළට නැංග කල) ආඥාදායකත්වය පිළිබඳ සටන් පාඨය පිළිගැනීමට ඉඩ ඇත. එය සිදුවිය හැකිය. රුසියානු විප්ලවය දිගටම ඉදිරියට වර්ධනය වුවහොත් හා තීරණාත්මක ජයග්‍රහණයට පත්වුවහොත් අනිවාරණීය වශයෙන්ම එය සිදු වනු ඇත. එවිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ තත්වය කුමක් වනු ඇද්ද? වර්තමාන විප්ලවයේ පූර්ණ ජයග්‍රහණයෙන් ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ නිමාවත්, සමාජවාදී විප්ලවය සඳහා අධිෂ්ඨාන සහගත අරගලයේ ආරම්භයත්, සලකුණු වනු ඇත. ගොවි ජනතාවගේ වර්තමාන ඉල්ලීම් ඉටු කිරීමත්, ප්‍රතිගාමීත්වය අන්ත පරාජයට පත් කර ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් දිනා ගැනීමත් විසින්, ධනපති පංතියේ පමණක් නොව සුළු ධනපති පංතියේ පවා විප්ලවකාමයේ අන්ත සීමාවත්, සමාජවාදය සඳහා වූ නිර්ධන පංතියේ නියම අරගලයේ ආරම්භයත්, සලකුණු වනු ඇත. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය වඩාත් අංග සම්පූර්ණ වූ තරමට නව අරගලයේ සංවර්ධනය වඩාත් පැතිරී ගිය, වඩාත් පිරිසිදු හා වඩාත් අධිෂ්ඨාන සහගත ආකාරයෙන් සිදුවනු ඇත. වර්තමාන විප්ලවයේ ඓතිහාසික වශයෙන් සීමිත වූ ස්වභාවයත්, සියළු පීඩනයෙන් සහ සියළු සූරාකෑමෙන් කම්කරු පංතිය සම්පූර්ණයෙන්ම නිදහස් කර ගැනීම සඳහා නව පාලන ක්‍රමය පදනම් කර ගෙන නව අරගලයක් කිරීමේ අවශ්‍යතාවයත්, ''ප්‍රජාතන්ත්‍රවාදී'' ආඥාදායකත්වයක් පිළිබඳ සටන් පාඨයෙන් ප්‍රකාශ වේ. වෙනත් වචනවලින් කියතොත්, ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය හෝ සුළු ධනපති පංතිය තවත් පියවරක් ඉහළට නැංග කල, විප්ලවය පමණක් නොව, විප්ලවයේ පූර්ණ ජයග්‍රහණයද ප්‍රත්‍යක්ෂ ලෙස ඉටු වූ කරුණක් වූ පසු, අපි (සමහර විට නව හා අනාගත මර්ටිනව්ලාගේ, බියපත් කෑගැසීම් මධ්‍යයේ) ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය සඳහා වූ

සටන් පාඨය, සමාජවාදී ආඥාදායකත්වය, එනම්, පූර්ණ සමාජවාදය සඳහා වූ සටන් පාඨයට ''මාරු කරන්නෙමු.''

## III. ආඥාදායකත්වය පිළිබඳ පහත් ධනපති අදහස් සහ මාක්ස්වාදී අදහස්

1848 දී ''නව රයින් පත්‍රයේ'' පළ වූ මාක්ස්ගේ ලිපිවලට සටහන් ලියමින් මේරිංග් කියා ඇති පරිදි, ධනපති ප්‍රකාශන මගින් මෙම පත්‍රයට විරුද්ධව එල්ල කරන ලද එක දෝෂාරෝපනයක් වූයේ, එය, ''ප්‍රජාතන්ත්‍රවාදය දිනා ගැනීමේ එකම මාධ්‍යය වශයෙන් වහාම ආඥාදායකත්වයක් ඇති කරන ලෙස''(Marx' Nachlass, වෙළුම III, පිටු 53)[61] ඉල්ලුවේය යන්න ය. පහත් ධනපති අදහස අනුව ආඥාදායකත්වය සහ ප්‍රජාතන්ත්‍රවාදය යන පාඨයන් අන්‍යෝන්‍ය වශයෙන් ප්‍රතික්ෂේප වේ. පංති අරගල න්‍යාය වටහා ගැනීමට අසමත් සහ දේශපාලන කරළියේ විවිධ ධනපති කව සහ කණ්ඩායම් අතර කෙරෙන නොවැදගත් වාද විවාද දැක පුරුදු, ධනපතියන් ආඥාදායකත්වය යන්නෙන් අදහස් කරන්නේ, සෑම නිදහසක්ම සහ ප්‍රජාතන්ත්‍රවාදී වගකීම් සියල්ලක්ම අවලංගු කිරීමත්, සෑම ආකාරයකම අත්තනෝමතික ක්‍රියාවනුත්, ආඥාදායකයාගේ පෞද්ගලික උවමනාවන් තකා සෑම ආකාරයකින්ම බලය අයුතු ලෙස යෙදීමත්, වන්නේ ය. ''විපිරියොද්'' හා ''ප්‍රොලිතාරි'' ආඥාදායකත්වය සඳහා සටන් පාඨයට පක්ෂපාත වන්නේ ලෙනින් ''ඔහුගේ වාසනාව උරගා බැලීමට දරන බලවත් ආශාව'' (''ඉස්ක්‍රා'' අංක 103, පිටු 3 තීරය 2) නිසා යයි කියමින් නව ''ඉස්ක්‍රා'' වෙහි ස්වකීය ''නව ව්‍යාපාරය'' අවසන් කරන, මර්තිනව්ගේ ලියවිලි සියල්ලෙහිම විද්‍යාමාන වන්නේ ද, මෙම පහත් ධනපති අදහස ම ය. මෙම මනහර පැහැදිලි කිරීම, ''නව රයින් පත්‍රයට'' විරුද්ධව සහ ආඥාදායකත්වය ගැන දේශනා කිරීමට විරුද්ධව, ඉදිරිපත් කරන ලද ධනපති දෝෂාරෝපන සමග, මනා සේ ගැලපෙන්නේ ය. විප්ලවය හා ආඥාදායකත්වය පිළිබඳ සංකල්පයන් ''අමුතු කිරීම'' ගැන මාක්ස්ට ද (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් නොව, ධනපති ලිබරල්වාදීන් විසින්) චෝදනා කරන ලද බව, මේ අනුව පෙනේ. පෞද්ගලික ආඥාදායකත්වයට වෙනස් වන පංති ආඥාදායකත්වය යන පාඨයේ අර්ථයත්, සමාජවාදී ආඥාදායකත්වයේ කර්තව්‍යයන්ට වඩා වෙනස් වන ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ කර්තව්‍යයනුත්, ගැන මර්තිනව්ට පැහැදිලි කර දීම සඳහා, ''නව රයින් පත්‍රයේ'' අදහස් විමර්ශනය කිරීම සුදුසු වනු ඇත.

1848 සැප්තැම්බර් 14 දින''නව රයින් පත්‍රය''මෙසේ ලීවේය. ''විප්ලවයකින් අනතුරුව රජයේ සෑම තාවකාලික ආයතනයකටම ආඥාදායකත්වයක්, එපමණක් නොව ශක්තිමත් ආඥාදායකත්වයක්, අවශ්‍ය වන්නේ ය. ආඥාදායක ස්වරූපයෙන් කටයුතු නොකිරීම ගැන, පැරණි ආයතනවල ඉතිරි කොටස් කඩා බිඳ දමා ඉවත් කර නොදැමීම ගැන, අපි ආරම්භයේ පටන්ම කම්ප්හවුසන්ට (1848 මාර්තු 18 දිනෙන් පසු ප්‍රධාන ඇමති) දෝෂාරෝපනය කෙළෙමු. හර් කම්ප්හවුසන් ව්‍යවස්ථානුකූල මායාවන්ගෙන් නැලවෙමින් සිටි අතර, පරාජය වූ පක්ෂය (ප්‍රතිගාමීත්වයේ පක්ෂය) නිලධාරි පෙළැන්තිය තුළ හා යුද්ධ හමුදාව තුළ, එහි තත්වයන් ශක්තිමත් කර ගෙන, තැනින් තැන විවෘත අරගලයට පවා ඉදිරිපත් විය''.[62]

කම්ප්හවුසන් ආණ්ඩුව ගැන ''නව රයින් පත්‍රයෙහි'' පළ කෙරුණු දීර්ඝ ලිපිවලින් විස්තරාත්මක ලෙස විග්‍රහ කරන ලද කරුණු සියල්ලම, මෙම වචනවලින් ප්‍රස්තුතයන් කීපයක් ලෙසට සම්පිණ්ඩණය කෙරෙන්නේ යයි, මේරිංග් යුක්ති සහගත ලෙස සඳහන් කරයි. මාක්ස්ගේ මෙම වචනවලින් අපට කියන්නේ කුමක් ද? එයින් අපට කියන්නේ, තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක්, ආඥාදායක ස්වරූපයෙන් කටයුතු කළයුතු බව (ඉස්ක්‍රාව ආඥාදායකත්වය පිළිබඳ සටන් පාඨය මඟ හරිමින් සිටි හෙයින් එයට මෙම ප්‍රස්තුතය කිසිසේත් අවබෝධ කර ගත නොහැකි විය) හා එවැනි ආඥාදායකත්වයක කර්තව්‍යය, පැරණි ආයතනවල ඉතිරි කොටස් විනාශ කිරීම (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ ප්‍රතිවිප්ලයට විරුද්ධව අරගලය ගැන වූ යෝජනාවෙහි පැහැදිලිවම කියා ඇති සහ සාකච්ඡා සභාවේ යෝජනාවෙන් අත්හැර ඇති ඒකාන්ත දෙයද එයමය) වන බව ය. විප්ලවය හා විවෘත සිවිල් යුද්ධය පවතින කාලයකදී ''ව්‍යවස්ථානුකූල මායාවන්'' පිළිගැනීම සම්බන්ධයෙන්, මාක්ස් විසින් ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් තදබල විවේචනයට ලක් කරන ලද බව, මෙම වචනවලින් තුන්වැනිව හා අවසාන වශයෙන් අදහස් වේ. 1848 ජූනි 6 දින ''නව රයින් පත්‍රයේ'' ලිපියෙන් මෙම වචනවල අර්ථය විශේෂයෙන් පැහැදිලි වේ. මාක්ස් මෙසේ ලීවේය: ''ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක්, ප්‍රථමයෙන් ම, ක්‍රියාශීලී, එනම්, විප්ලවවාදී ලෙස ක්‍රියාශීලී, මන්ත්‍රණ සභාවක් විය යුතුය. එසේ වුවත්, ෆ්‍රැන්ක්පර්ට් මන්ත්‍රණ සභාව කරන්නේ ආණ්ඩුවට ක්‍රියාත්මක වීමට ඉඩ තබමින්, පාර්ලිමේන්තුවාදය පිළිබඳ පාසල් අභ්‍යාසවල යෙදීමය. මෙම උගත් මන්ත්‍රණ සභාව, පැසුණු කල්පනා මෙහෙයා හැකි ඉතාමත්ම හොඳ න්‍යාය පත්‍රය සකස් කර ගනිතැයි සිතමු. නමුත්, ඒ අතර වාරයේ ජර්මන් ආණ්ඩු න්‍යාය පත්‍රයට බයිනෝත්තු ඇතුලත් කර තිබේ නම්, සකස් කළ හැකි ඉතාමත් හොඳ න්‍යාය පත්‍රයෙන් හෝ ඉතාමත් හොඳ ව්‍යවස්ථාවෙන් හෝ, ඇති ප්‍රයෝජනය කුමක් ද?''

ආඥාදායකත්වය යන සටන් පාඨයේ තේරුම එයයි. "ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් සංවිධානය කිරීමට කරන ලද තීරණයක්" තීරණාත්මක ජයග්‍රහණයකැයි කියන, නැතහොත්, "විප්ලවවාදී අන්ත විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය" වශයෙන් සිටින ලෙස අපට ආරාධනා කරන යෝජනා කෙරෙහි, මාක්ස් දක්වන ආකල්පය විය හැකිව තිබුණේ කුමක් ද යන්න, අපට මෙයින් වටහා ගත හැකි ය!

ජාතියක ජීවිතයේ බරපතල ප්‍රශ්න නිරාකරණය කරනු ලබන්නේ බලය මගින් පමණකි. සාමාන්‍ය වශයෙන් ප්‍රථමයෙන්ම ප්‍රචණ්ඩයට, සිවිල් යුද්ධයට එළඹෙන්නේ ප්‍රතිගාමී පංති ම ය. ජනවාරි මස 9 දින පටන් මේ දක්වාම, සෑම තන්හිදී ම, ක්‍රමානුකූල ලෙස සහ පැකිලීමක් නොමැතිවම,රුසියානු ඒකාධිපත්‍යය විසින් කරන ලද පරිදි,"බයිනෝත්තුව න්‍යාය පත්‍රයට ඇතුලත් කළ" ප්‍රථමයන් වූයේ ඔවුන් ය. එනිසා, එවැනි තත්වයක් උද්ගත වී තිබෙන හෙයින්ද, බයිනෝත්තුව ඇත්ත වශයෙන් ම දේශපාලන න්‍යාය පත්‍රයේ ප්‍රධාන කරුණ වී තිබෙන හෙයින් ද, කැරළි ගසා නැගී සිටීම අත්‍යාවශ්‍ය හා හදිසි කටයුත්තක් බව ඔප්පු වී තිබෙන හෙයින්ද, ව්‍යවස්ථානුකූල මායාවන් හා පාර්ලිමේන්තුවාදය පිළිබඳ පාසල් අභ්‍යාස, හුදෙක් ම ධනපති පංතියට විප්ලවය පාවාදීමට උපකාර වන කඩතුරාවක් සහ ධනපති පංතිය විප්ලවයෙන් "ආපසු හැරී යන" බව වසං කරන ආවරණයක් වේ. එම තත්වය යටතේ නියම විප්ලවීය පංතිය ඉදුරාම ඉදිරිපත් කළ යුත්තේ ආඥාදායකත්වය ගැන සටන් පාඨය ය.

මෙම ආඥාදායකත්වයේ කර්තව්‍යයන් ගැන මාක්ස් "නව රයින් පත්‍රයේ" මෙසේ ලිවේය: "ජාතික මන්ත්‍රණ සභාව, යල් පැනගිය ආණ්ඩුවල ප්‍රතිගාමී ප්‍රයත්නයන්ට විරුද්ධව ආඥාදායක ස්වරූපයෙන් ක්‍රියා කොට, එමගින්, ජන මතයේ බලය තමන් වෙත දිනා ගත යුතුව තිබුණි. ජන මතයට විරුද්ධව එන බයිනෝත්තු හා තුවක්කු මිටි සුනු විසුනු වන්නට තිබුණි... නමුත් මෙම මන්ත්‍රණ සභාව, ජර්මන් ජනතාව තමන් සමග එකතු කර ගැනීම හෝ, එසේ නැතහොත්, එම ජනතාව සමග එක්වී යාම හෝ නොකර, ඒ වෙනුවට, ඔවුන් වෙහෙසට පත් කරයි." මාක්ස්ගේ අදහස අනුව, "ජර්මනියේ ඇත්ත වශයෙන් ම පවතින පාලනයෙහි ඇති, ජනතා ස්වෛරීභාවයට ප්‍රතිවිරෝධී වන සියල්ල ඉවත් කර," ඉන් අනතුරුව, "විප්ලවය විසින් දිනාගන්නා ලද ජනතා ස්වෛරීභාවය සියළු ප්‍රහාරයන්ට විරුද්ධව සුරක්ෂිත කරනු පිණිස, තමන් පිහිටා සිටින විප්ලවීය භූමිය ශක්තිමත් කිරීම"[63] ජාතික මන්ත්‍රණ සභාව විසින් කළ යුතුව තිබුණේය.

මේ අනුව, 1848 දී මාක්ස් විප්ලවීය ආණ්ඩුවක් සඳහා නියම කළ කර්තව්‍යයන්ගේ සන්ධාරය වූයේ, ප්‍රථමයෙන් හා ප්‍රධාන වශයෙන් ප්‍රජා-



තන්ත්‍රවාදී විප්ලවයකි: ප්‍රතිවිප්ලවයට විරුද්ධව ආරක්ෂාව සැලසීම සහ ජනතාවගේ ස්වෛරීභාවයට ප්‍රතිවිරෝධී වූ සියල්ල ඇත්ත වශයෙන් ඉවත් කර දැමීම ය. එය නම් විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය ම මිස, අන් කිසිවක් නොවේ.

තවදුරටත්, මාක්ස් අදහස් කළ ලෙසට මෙම කර්තව්‍යය (ජනතාවගේ ස්වෛරීභාවය පිළිබඳ ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන් ක්‍රියාත්මක කිරීම සහ ප්‍රතිවිප්ලවයේ ප්‍රහාර පලවා හැරීම) ඉටු කළ හැකි හා ඉටු කළ යුතු, පංති වූයේ මොනවා ද? මාක්ස් "ජනතාව" ගැන කථා කරයි. නමුත් "ජනතාවගේ" සමගිය හා ජනතාව තුළ පංති අරගලයක් නොමැති වීම ගැන කියන සුළු ධනපති මායාවන්ට විරුද්ධව ඔහු නිතරම නිර්දය ලෙස සටන් කළ බව අපි දන්නෙමු. "ජනතාව" යන වචනය ව්‍යවහාර කිරීමේදී, එයින් මාක්ස් පංති වෙනස් කම් නොසලකා හැරියේ නැත. ඔහු එයින් කළේ විප්ලවය සම්පූර්ණ කිරීමෙහි සමත් නිශ්චිත කොටස් එකලස් කිරීම ය.

මාර්තු 18 දින බර්ලින් නිර්ධන පංතියේ ජයග්‍රහණයෙන් පසු, විප්ලවයේ ප්‍රතිඵල දෙ ආකාර වූ බව සඳහන් කරමින්, "නව රයින් පත්‍රය" මෙසේ ලිවේය: "එක් අතකින් ජනතාව ආයුධ සන්නද්ධ කිරීම, රැස්වීමේ නිදහස හා ජනතාවගේ ස්වෛරීභාවය සැබවින්ම දිනා ගැනීම සිදු විය. අනිත් අතට, රාජාණ්ඩුව සහ කම්ප්හවුසන්-හාන්සෙමන් ආණ්ඩුව, එනම් ලොකු ධනපති පංතියේ නියෝජිතයන්ගේ ආණ්ඩුව ආරක්ෂා වී තිබේ. ඒ අනුව බලන කල විප්ලවයෙන් ප්‍රතිඵල මාලා දෙකක් ඇති විය. ඒවා අනිවාර්‍යය වශයෙන් අපසාරී ස්වභාවයේ විය. ජනතාව ජයග්‍රහණයක් ලබා ගෙන සිටියහ. ඔවුහු තීරණාත්මක වශයෙන් ම ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවයේ වූ නිදහස් අයිතිවාසිකම් දිනා ගෙන සිටියහ, නමුත්, බලය ඔවුන්ගේ අතට පත් නොවී ය. එය ලොකු ධනපති පංතිය අතට පත්විය. කොටින් කියතොත් විප්ලවය උච්ඡ අවස්ථාවට පත් නොකෙරිනි. ජනතාව ලොකු ධනපති පංතියේ නියෝජිතයින්ට ආණ්ඩුවක් පිහිටුවීමට ඉඩ දුන්හ. එහිදී, ලොකු ධනපති පංතිය පැරණි ප්‍රුසියන් වංශ වතුන් හා නිලධාරි පෙළැන්තිය සමග සන්ධානයක් ඇති කර ගැනීමට ඉදිරිපත් වීමෙන්, තමන් අපේක්ෂා කරන්නේ කුමක් ද යන්න එක්වරම පෙන්විය. අර්නිම්, කනීට්ස් හා ෂ්වේරින් ආණ්ඩුවට එකතු වූහ.

කවදත් විප්ලව විරෝධී වූ ඉහළ ධනපති පංතිය, ජනතාව කෙරෙහි, එනම්, කම්කරුවන් සහ ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය කෙරෙහි බියෙන් ප්‍රතිගාමීන් හා සමග ආරක්ෂක හා ප්‍රහාරක සන්ධානයක් ඇති කරගත්තේය"[64] (අවධාරණය අපගේ ය)

එනිසා, "ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය සංවිධානය කිරීමට තීරණය

කිරීමක්'' තබා, එය ඇත්තෙන් ම රූස් කිරීම වුවද, විප්ලවයේ තීරණාත්මක ජයග්‍රහණයක් සඳහා ප්‍රමාණවත් වන්නේ නැත! ආයුධ සන්නද්ධ අරගලයකින් ලබන අර්ධ ජයග්‍රහණයකින් පසුව පවා (යුද්ධ හමුද පරදවා බර්ලින් කම්කරුවන් 1848 මාර්තු 18 දින ලැබූ ජයග්‍රහණය) එය අසම්පූර්ණ විප්ලවයක් වීමට, ''පරිපූර්ණත්වය දක්වා ගෙන නොයන ලද'' විප්ලවයක් වීමට, ඉඩ තිබේ. එසේ නම් පරිපූර්ණත්වය රඳා පවතින්නේ කුමක් මත ද? එය රඳා පවතින්නේ විප්ලවය සිදුවූ වහාම බලය පත් වන්නේ කා අතටද යන්න මතය — පෙත්‍රන්කේවිච්ලා හා රෝදිචෙව්ලා, එනම්, කම්ප්හවුසන්ලා සහ හන්සෙමන්ලා අතටද, නැතහොත්, ජනතාව, එනම්, කම්කරුවන් හා ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය අතටද, යන්න මතය. මින් ප්‍රථම කොටසට බලය ලැබුණ හොත්, ධනපති පංතිය බලය හිමිකර ගන්නා අතර, නිර්ධන පංතියට ''විවේචනය කිරීමේ නිදහස'', ''අන්ත විප්ලවවාදී විරුද්ධ පාර්ශ්වයේ පක්ෂය වශයෙන් පැවතීමේ'' නිදහස ලැබෙනු ඇත. ජයග්‍රහණය ලැබූ වහාම ධනපති පංතිය ප්‍රතිගාමීන් සමග සන්ධානයක් ඇති කර ගනු ඇත (මෙය අනිවාරණීය ලෙසටම රුසියාවේත් සිදු වනු ඇත. නිදර්ශනයක් වශයෙන් සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන් යුද්ධ හමුද සමග කළ වීදි සටන්වලින් අර්ධ ජයග්‍රහණයක් පමණක් ලබා ගෙන පෙත්‍රන්කේවිච්ලා සහ සමාගමේ මහතුන්ට ආණ්ඩුවක් පිහිටුවීමට ඉඩ දුන්හ). ඉන් දෙවැනි කොටසට බලය ලැබුණ හොත්, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයක් පිහිටුවීමට එනම්, විප්ලවයේ සම්පූර්ණ ජයග්‍රහණය ලැබීමට හැකි වනු ඇත.

දූන් කළ යුතුව තිබෙන්නේ, මාක්ස්, ''ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය'' demokratische Bürgerschaft යනුවෙන් අදහස් කළේ කවුරුන් ද යන්න වඩාත් නිශ්චිත ලෙස පැහැදිලි කිරීම ය. ලොකු ධනපති පංතියට ප්‍රතිවිරුද්ධ ජනතාව ලෙස මාක්ස් විසින් හඳුන්වන ලද්දේ කම්කරුවන් හා එම පංතිය ය.

1848 ජූලි 29 දින ''නව රයින් පත්‍රයේ හි'' පළ වූ ලිපියකින් ගත් පහත සඳහන් කොටසෙන් මෙම ප්‍රශ්නයට පැහැදිලි පිළිතුරක් ලැබෙන්නේය... ''1848 ජර්මන් විප්ලවය 1789 ප්‍රංශ විප්ලවයේ විකට අනුකරණයක් පමණකි.

බැස්ටීලයට පහරදීමෙන් තෙ සතියකට පසු ප්‍රංශ ජනතාව, 1789 අගෝස්තු 4 දින එක දිනකින් සියළු වැඩවසම් බැඳීම් අභිභවා ජයගත්හ.

මාර්තු වීදි හරස් කිරීමෙන් මාස හතරකට පසු 1848 ජූලි 11 දින වැඩවසම් බැමි ජර්මන් ජනතාව අභිභවා ජයගත්තේ ය. Teste Gierke cum Hansemanno*

* ''සාක්ෂිකරුවෝ: හන්සෙමන් මහතා සමග හිර්කෙ මහතා''. හන්සෙමන් ලොකු ධනපති පංතිය නියෝජනය කළ ඇමති වරයෙක් විය (රුසියානු ප්‍රතිරූපකයෝ: තෘබෙත්ස්කොයි හෝ රෝදිචෙව් හා එවැනි අය). හිර්කෙ හන්සෙමන් ඇමති මණ්ඩලයේ කෘෂිකර්ම ඇමති විය. ඔහු, ''වැඩවසම් බැඳීම් අහෝසි කිරීම සඳහා'' සැලැස්මක්, ''නිර්භීත'' සැලැස්මක් සකස් කළේය. එය ''වන්දි රහිත'' සැලැස්මක් යයි කියන ලද නමුත් ඇත්ත වශයෙන් ම සුළු හා නොවැදගත් බැඳීම් අහෝසි කරන අතර වඩාත් බරපතල බැඳීම් ආරක්ෂා කරන නැතහොත් ඒ සඳහා වන්දි අනුමත කරන එකක් විය. හිර්කෙ මහතා ද, ''ගොවිජන ඉඩම් අයිතිය පුළුල් කිරීමට කැමති'' එහෙත් ඉඩම් හිමියන් අමනාප කිරීමට අකැමති, රුසියානු කබ්ලුකොව්ලා මනුයිලව්ලා,ගෙර්ට්සෙන්ෂ්ටෙයින්ලා හා වෙනත්, අය වැනි ගොවියාගේ ලිබරල් ධනපති මිත්‍රයන් බඳු අයෙක් විය.



''1879 ප්‍රංශ ධනපති පංතිය, ස්වකීය මිතුරන් වූ ගොවි ජනතාව, මොහොතකට හෝ අතර මං කර නොදැම්මේය. තමන්ගේ පැවැත්ම පිහිටා තිබෙන්නේ ගම්බද පෙදෙස්වල වැඩවසම් ක්‍රමය විනාශ කිරීම මත, එනම්, නිදහස් ඉඩම් හිමි (grundbesitzenden) ගොවිජන පංතියක් ඇති කිරීම මත බව එය දැන සිටියේ ය.

''1848 ධනපති පංතිය, කිසිද පැකිලීමක් නොමැතිව, තමන්ගේ ස්වාභාවික මිත්‍රයන් වූ, තමන්ගේ මසට මස් වූ, එමෙන්ම වංශවතුන් හමුවේ තමන් අසරණ නොවීම සඳහා නැතිවම බැරි, ගොවි ජනයා පාවා දුන්නේ ය.

''1848 ජර්මන් විප්ලවයේ ප්‍රතිඵලය වූයේ, වැඩවසම් හිමිකම් දිගටම පවත්වා ගැනීම සහ (මිරිඟුවක් වැනි) ''නිදහස් කර ගැනීමේ'' මුවාවෙන් එය අනුමත කිරීම ය. කන්දෙන් බිහි වූයේ මීයෙකි.''[65]

මෙය ඉතාමත් උපදේශාත්මක කොටසකි. එයින් අපට වැදගත් ප්‍රස්තුතයන් හතරක් සැපයෙන්නේය. 1) සම්පූර්ණ නොකළ ජර්මන් විප්ලවය සම්පූර්ණ කළ ප්‍රංශ විප්ලවයෙන් වෙනස් වන්නේ ය. ජර්මන් ධනපති පංතිය විසින් පොදුවේ ප්‍රජාතන්ත්‍රවාදය පමණක් නොව, විශේෂයෙන්ම ගොවි ජනතාවද පවාදීමෙන් එම වෙනස පෙනේ. 2) ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය උච්ඡාවස්ථාවට පත් කිරීම සඳහා පදනම වන්නේ නිදහස් ගොවිජන පංතියක් ඇති කිරීම ය. 3) එවැනි පංතියක් ඇති කිරීමෙන් වැඩවසම් සේවාවන් අහෝසි කිරීම සහ වැඩවසම් ක්‍රමය විනාශ කිරීම අදහස් කෙරෙන නමුත්, එයින් සමාජවාදය ඇති වූ බව අදහස් නොකෙරේ. 4) ගොවි ජනතාව ධනපති පංතියේ ඉතාමත් ස්වාභාවික මිතුරෝ වෙති. එයින් අදහස් කෙරෙන්නේ ඔවුන් නොමැතිව, ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය ප්‍රතිගාමීත්වය හමුවේ ''අසරණ'' වන බවයි.

නියත ජාතික විශේෂතාවයන් ගැන සැලකිල්ලට ගනිමින්, වැඩවසම් ක්‍රමය වෙනුවට ප්‍රවේණිදාස ක්‍රමය ආදේශ කළ කල්හි මෙම ප්‍රස්තුතයන් සියල්ලම 1905 රුසියාවට සම්පූර්ණයෙන් ම අදළ වන්නේ ය.

මාක්ස් විසින් පැහැදිලි කරන ලද පරිද්දෙන් ජර්මනියේ අත්දැකීම්වලින් පාඩම් උගෙන ගත් කල, විප්ලවයේ තීරණාත්මක ජයග්‍රහණය සඳහා, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදයකත්වය සඳහා වූ සටන් පාඨය හැර, වෙනත් කිසිම සටන් පාඨයක් වෙත එළඹෙනු නොහැකි බව නිසැක ය. 1848 දී ප්‍රතිරෝධය දක්වන ප්‍රතිගාමීන්ට හා ද්‍රෝහී ධනපති පංතියට, මාක්ස් විසින් විසංසන්දනය කරනු ලැබූ ''ජනතාව,'' ප්‍රධාන වශයෙන් සමන්විත වන්නේ, නිර්ධන පංතියෙන් සහ ගොවි ජනතාවගෙන් වන බවට සැකයක් නැත. රුසියාවේද, ලිබරල් ධනපති පංතිය සහ ''අස්වබෂ්ජේනිය'' සංගමය ගොවි ජනතාව පාවා දෙන හා පාවා දෙනු ඇති බව, එනම්, ඔවුන් බොරු ප්‍රතිසංස්කරණවලට සීමා වී සිටිමින්, ඉඩම් හිමියන් හා ගොවි ජනතාව අතර තීරණාත්මක සංග්‍රාමයේදී ඉඩම් හිමියන්ගේ පැත්ත ගනු ඇති බව, නිසැක ය. මෙම අරගලයේදී අන්තිම දක්වා ගොවි ජනතාවට සහයෝගය දක්වීමෙහි සමත් වන්නේ නිර්ධන පංතිය පමණකි. රුසියාවේ ද, ගොවි ජනතාවගේ අරගලයේ අවසාන ජයග්‍රහණය මගින්, එනම්, ඉඩම් සියල්ලම ගොවි ජනතාවට හිමි වීම මගින්, සම්පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් සලකුණු වන හා පරිපූර්ණත්වය දක්වා ගෙන යන ලද විප්ලවයේ සමාජ පදනම සකස් වනු නිසැක නමුත්, මෙය, කිසි කලෙකත් සමාජවාදී විප්ලවය හෝ සුළු ධනපති පංතියේ දෘෂ්ටිවාදීන් වන සමාජවාදී-විප්ලවවාදීන් කියන ''සමාජ සන්තක කිරීම'' හෝ නොවේ. ගොවි ජනයා කැරළි ගසා නැගී සිටීම සාර්ථක වීමෙන් හා ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් සිදුවන්නේ, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව පදනම් කරගෙන සමාජවාදය සඳහා ගෙන යන සැබෑ සහ තීරණාත්මක අරගලයට මහ විවෘත වීම පමණකි. ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන අරගලයේ දී දූන් ධනපති පංතිය ඉටු කරන ද්‍රෝහී කාර්ය කොටසට ම සමාන ද්‍රෝහී කාර්ය කොටසක් එවකට ඉඩම් හිමි පංතිය වන ගොවි ජනයා විසින් ඉටු කෙරෙනු ඇත. මෙය අමතක කිරීම සමාජවාදය අමතක කිරීමකි; එය නිර්ධන පංතියේ සැබෑ අවශ්‍යතාවයන් හා කර්තව්‍යයන් සම්බන්ධයෙන් තමන් ම රවටා ගෙන, අනුන් ද රැවටීමකි.

1848 දී මාක්ස් දූරු අදහස් ඉදිරිපත් කිරීමේදී අඩුපාඩුවක් නොතැබීම පිණිස, එකල ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයත් (නැතහොත් එසමයේ භාෂාව අනුව කියතොත්, නිර්ධන පංතියේ කොමියුනිස්ට් පක්ෂයත්) වර්තමාන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයත්, අතර ඇති එක් ප්‍රධාන වෙනසක් සටහන් කර ගැනීම අවශ්‍ය ය. ඒ ගැන මේරිංග් මෙසේ කියයි:

'''නව රයින් පත්‍රය'' දේශපාලන පොර පිටියෙහි පෙනී සිටියේ



''ප්‍රජාතන්ත්‍රවාදයේ පත්‍රය'' ලෙසට ය. එහි ලිපි මුළුල්ලේම දිවෙන උපනතිය ගැන වැරදි වැටහීමක් ඇති විය නොහැකිය. නමුත් ඍජු අර්ථයෙන් ගතහොත්, ධනපති පංති උවමනාවන්ට විරුද්ධව නිර්ධන පංතියේ උවමනාවන් සඳහා සටන් කරනුවට වඩා, එය ඒකාධිපතිවාදයට හා වැඩ වසම් ක්‍රමයට විරුද්ධව, ධනපති විප්ලවයේ අවශ්‍යතාවයන් සඳහා, සටන් කළේය. විප්ලවයේ අවුරුදුවලදී ස්වාධීන කම්කරු ව්‍යාපාරයක් ගැන එහි පිටුවල සඳහන්ව තිබුණේ ඉතා අල්ප වශයෙනි. එහෙත්, එය සමගම, මොල්ගේ හා ෂපර්ගේ සංස්කාරකත්වය යටතේ කොලෝන් කම්කරු සංගමයේ විශේෂ පත්‍රයක්[66] සතියකට දෙ වරක් බැගින් නිකුත් වූ බව මෙහි දී අයෙක් අමතක නොකළ යුතුය. කෙසේ වුවද, ''නව රයින් පත්‍රයේ'' ඉතාමත් දක්ෂ අයෙක් වූ ස්තෙfපන් බෝර්න් පැරිසියේදී හා බ්‍රසල්හිදී මාක්ස්ගේ හා එංගල්ස්ගේ ගෝලයෙක් හා 1848 දී ඔවුන්ගේ බර්ලින් පත්‍රයේ වාර්තාකරු ද වූ නමුත්, මෙම කාලයේ එම පත්‍රය ජර්මන් කම්කරු පංති ව්‍යාපාරයට දක්වූ අල්ප අවධානය වර්තමාන පාඨකයාගේ පුදුමයට හේතු වනු ඇත. තමන් කම්කරුවන් අතර උද්ඝෝෂණය කිරීම ගැන අසතුට පළ කර මාක්ස් හා එංගල්ස් කිසි කලෙකත් එකද වචනයක්වත් ප්‍රකාශ නොකළ බව බෝර්න් ඔහුගේ මතක සටහන්වල සඳහන් කර තිබේ. නමුත් ඒ දෙදෙනා ඔහුගේ මෙම උද්ඝෝෂණ විධි ගැන යටත් පිරිසෙයින් අපැහැදී හෝ සිටි බව එංගල්ස් විසින් පසුව කරන ලද ප්‍රකාශයන්ගෙන් පෙනේ. ජර්මනියේ වැඩි පෙදෙසක ඒ වන විට පැවති කිසිසේත් නොදියුණු පංති විඥානයට අනුග්‍රහ රැසක් දක්වීමට, ''කොමියුනිස්ට් ප්‍රකාශනයේ'' දෘෂ්ටි කෝණයෙන් කරන විවේචනයට ඔරොත්තු නොදෙන අනුග්‍රහ දක්වීමට, බෝර්න්ට සිදුවූ හෙයින් ඒතාක් දුරට මාක්ස්ගේ හා එංගල්ස්ගේ අපැහැදීම සාධාරණ විය. නමුත් තමන්ගේ උද්ඝෝෂණය සාපේක්ෂ වශයෙන් ඉහළ මට්ටමක පවත්වා ගැනීමට බෝර්න්ට හැකි වූ නිසා, එම අපැහැදීම ඒතාක් දුරට සාධාරණ නොවීය... ධනපති විප්ලවය හැකිතාක් දුරට ඉදිරියට දක්කා ගෙන යාම කම්කරු පංතියේ මූලික අවශ්‍යතාවය වන්නේය යනුවෙන් මාක්ස් හා එංගල්ස් දූරු අදහස ඓතිහාසික හා දේශපාලන වශයෙන් නිවැරදි වූ බවට සැකයක් නැත... එසේ වුවද, 1849 අප්‍රියෙල් මාසයේදී කම්කරුවන් විශේෂ කම්කරු සංවිධානයකට පක්ෂ වීමෙන් හා විශේෂයෙන්ම නැගෙනහිර එල්බ් (නැගෙනහිර ප්‍රුසියාවේ) නිර්ධන පංතිය විසින් සූදනම් කරනු ලබමින් තිබුණු කම්කරු සම්මේලනයට සහභාගි වීමට තීරණය කිරීමෙන්ද, ඉතාමත් දීප්තිමත් චින්තකයන්ගේ සංකල්පයන් පවා නිවැරදි කිරීමට කම්කරු පංති ව්‍යාපාරයේ ප්‍රාථමික සහජාසය සමත් වන ආකාරය පෙන්වන බලවත් සාධකයක් සැපයේ.''

මාක්ස් හා එංගල්ස් විශේෂ කම්කරු සංවිධානයක් ඇති කිරීමට පක්ෂව අදහස් ප්‍රකාශ කළේ විප්ලවවාදී ප්‍රවෘත්ති පත්‍රයක් අවුරුද්දක් පමණ කාලයක් පළ වීමෙන් පසුව (''නව රයින් පත්‍රය'' පළ කිරීම ආරම්භ කරන ලද්දේ 1848 ජූනි 1 ය) 1849 අප්‍රියෙල් මාසය වූ තැන බව මෙයින් පෙනේ! ඒ දක්වා ඔවුහු ස්වාධීන කම්කරු පක්ෂයක් සමග සංවිධාන සම්බන්ධකම් කිසිවක් නොමැතිව ''ප්‍රජාතන්ත්‍රවාදයේ පත්‍රය'' පවත්වා ගෙන යමින් සිටියහ. අපගේ වර්තමාන දෘෂ්ටි කෝණයෙන් බලන කල මෙම අද්භූත හා විය නොහැකි දෙයක් සේ පෙනෙන කරුණ විසින්, එකල ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයත්, අද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයත් අතර ඇති දැවැන්ත වෙනස අපට පෙන්නුම් කෙරේ. ජර්මන් ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය තුළ, ව්‍යාපාරයේ නිර්ධන පංතික අංග ලක්ෂණත්, එය තුළ නිර්ධන පංතික ධාරාවත් දක්නට ලැබුණේ (1848 දී ආර්ථික හා දේශපාලන යන දෙ ආකාරයෙන් ම ජර්මනියේ නොදියුණු කම — රාජ්‍යයක් ලෙසට එහි අසමගිය නිසා) කොතරම් සුළු වශයෙන් ද යනු මෙම කරුණෙන් පෙන්නුම් කෙරේ. ස්වාධීන නිර්ධන පංති පක්ෂයක් සංවිධානය කිරීමේ අවශ්‍යතාවය ගැන මෙම වකවානුවේ හා ඉන් මඳ කලකට පසුව මාක්ස් නිතර නිතර කළ ප්‍රකාශයන් ඇගැයීමේ දී (නිදසුනක් වශයෙන් ප්ලෙහානව් අමතක කරන මෙන්*), මෙම කරුණ අමතක නොකළ යුතුය. මාක්ස් මෙම ප්‍රායෝගික නිගමනයට එළඹියේ, ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ අත්දැකීම්වල ප්‍රතිඵලයක් වශයෙන්, අවුරුද්දකට පමණ පසුව ය. එවකට ජර්මනියේ මුළු වාතාවරණය ම එතරම් අමන හා එතරම් සුළු ධනපති ස්වභාවයේ එකක් විය. අපට, මෙම නිගමනය, ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අර්ධ ශත වර්ෂයක අත් දැකීම්වල සුප්‍රසිද්ධ හා වැදගත් ජයග්‍රහණයකි. අපි එම ජයග්‍රහණය පදනම් කරගෙන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය සංවිධානය කිරීමට පටන් ගත්තෙමු. අප හා සම්බන්ධයෙන් වූ කල, නිදර්ශනයක් වශයෙන්, විප්ලවවාදී නිර්ධන පංති ප්‍රවෘත්ති පත්‍ර, නිර්ධන පංතියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයෙන් බාහිරව පැවතීමේ හෝ ඒවා මොහොතකට වුව හුදෙක්ම ''ප්‍රජාතන්ත්‍රවාදයේ පත්‍ර''ලෙසට පළ වීමේ හෝ ප්‍රශ්නයක් තිබිය නොහැකිය.

එහෙත් මාක්ස් හා ස්තෙෆන් බෝර්න් අතර තිබුණු හෙළිදරව් නොවූ විසංසන්දනය, අප හා සම්බන්ධයෙන් වඩාත් වර්ධනය වූ ආකාරයකින් පවතී. ඊට හේතුව, අපගේ විප්ලවයේ ප්‍රජාතන්ත්‍රවාදී ඕසයේ නිර්ධන

* වරහන් කළ කොටස මුද්‍රණ ප්‍රකාශනවලින් ඉවත් කර තිබිණ— සංස්කාරක



පංති ධාරාව වඩාත් බලවත් ලෙස ප්‍රකට වීම ය. ස්තෙෆන් බෝර්න් ගෙන ගිය උද්ඝෝෂණය හා සම්බන්ධයෙන් මාක්ස් හා එංගල්ස් තුළ තිබෙන්නට ඇති අපැහැදීම ගැන කියන මෙරිංග් තම අදහස දක්වන්නේ ඉතා මෘදු හා කරුණ මග හරින ආකාරයට ය. එංගල්ස් 1885 දී (1885, සූරිච්හි පළ කළ "Enthüllungen über den Kommunistenprozeß zu Köln"* යන්නට ඔහු ලියූ පෙරවදනෙහි) බෝර්න් ගැන ලියුවේ මෙසේ ය:

කොමියුනිස්ට් සංගමයේ[67] සාමාජිකයෝ සැම තන්හිම සීමාන්තික ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ මුලින් ම සිටියහ. එසේ කිරීමෙන් සංගමය විප්ලවවාදී කටයුතු සඳහා විශිෂ්ඨ පාසලක් බව ඔවුහු ඔප්පු කළහ. සංගමයේ ක්‍රියාශීලී සාමාජිකයෙකු ලෙසින් බ්‍රසල්ස්හි හා පැරිස්හි වැඩ කර සිටි වර්ණයෝජක ස්තෙෆන් බෝර්න්, බර්ලිනයේ කම්කරු සහෝදරත්ව සංවිධානයක් "Arbeiterverbrüderung" පිහිටෙව්වේය. එය තරමක් දුරට පැතිරී ගිය අතර 1850 දක්වා පැවැත්තේ ය. බොහෝ කුශලතා පූර්ණ තරුණයෙක් වුවත්, ලොකු දේශපාලනඥයෙක් වීමට පමණට වඩා ඉක්මන් වූ බෝර්න්, පිරිසක් එකතු කර ගැනීම පිණිස වෛවාරණ්ණ කොටස් (Kreti und Plethi) සමග ''සහෝදරත්වයක්'' ඇති කරගත්තේ ය. එහෙත්, ඔහු සට්ටනය වන උපනති අතර සමගියක් ඇති කිරීමට, නැතහොත්, අවුල් නිරවුල් කිරීමට, කිසිද සමත්කමක් ඇති අයෙක් නොවීය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ''කොමියුනිස්ට් ප්‍රකාශනයෙන්'' නියෝජනය වන අදහස් සංගමයේ නිල ප්‍රකාශනවල පළ කෙරුණේ, ශ්‍රෙණි මතක සටහන් හා ශ්‍රෙණි බලාපොරොත්තු ද, ලුවී බ්ලාන්ගෙන් හා ප්‍රෑදෙන්ගෙන් ගත් ස්වල්පයක් බැගින් ද, ආරක්ෂාවාදයද, ඈතුලත් වූ මැල්ලුමක් ලෙසට ය. කොටින් කියතොත් සියළු දෙනාම (Allen alles sein) සතුටු කිරීමට ඔවුනට උවමනා විය. විශේෂයෙන් ම, වැඩ වර්ජන, වෘත්තීය සමිති හා නිෂ්පාදන සමුපකාර සමිති ඇති කරන ලද නමුදු, ඒ අන් සියල්ලටත් වඩා, එවැනි කටයුතු කල් පවත්නා පදනමක් මත සාර්ථක කර ගත හැකි ක්ෂේත්‍රය වන දේශපාලන ජයග්‍රහණයන් මගින් ප්‍රථමයෙන් අත් පත් කර ගැනීම පිළිබඳ ප්‍රශ්නයක් වන බව අමතක කරන ලදී. (අවධාරණය මගේ ය). පසුව ප්‍රතිගාමීත්වයේ ජයග්‍රහණ නිසා විප්ලවීය අරගලයට සහභාගි වීමේ අවශ්‍යතාවය සහෝදරත්වයේ නායකයන්ට අවබෝධ වන විට, ඔවුන් තමන් වටා රැස් කර ගෙන සිටි ව්‍යාකූල ජන කොටස්, ස්වාභාවික වශයෙන්ම, ඔවුන් අතර මහ දමා යන්නට ගියහ. 1849 ඩ්රෙ-

* ''කොලෝන් කොමියුනිස්ට් නඩුව ගැන අනාවරණය වන කරුණු'', සූරිච් 1885 — සංස්කාරක.

ස්ඩන් නැගී සිටීමට සහභාගී වූ බෝර්න් ගැලවී ගත්තේ යම්තමිනි. නිර්ධන පංතියේ ශ්‍රෙෂ්ඨ දේශපාලන ව්‍යාපාරයට විසංසන්දනය වූ කම්කරු සහෝදරත්වය, හුදෙක්ම පිරිසිදු වෙනස් සංගමයක් මෙන් පැවතියේය. එය බොහෝ දුරට කඩදසියට සීමාවී, ඉතාමත් ද්විතීය කාර්ය කොටසක් ඉටු කරමින් සිටිහෙයින්, ප්‍රතිගාමීත්වයට 1850 තෙක් ම එය මර්දනය කිරීම හා ඊට පසු අවුරුදු ගණනාවක් යන තෙක් එහි ඉතිරි ශාඛා මර්දනය කිරීම අවශ්‍ය නොවීය. ලොකු දේශපාලනඥයෙක් බවට පත් නොවූ නමුත් අවිශේෂ ස්විට්සර්ලන්ත මහාචාර්යවරයෙක් බවට පත් වූ, Buttermilch* යන සැබෑ නම ඇති බෝර්න්, දැන් තවදුරටත් මාක්ස් අදහස් ශ්‍රෙණි භාෂාවට නොනංවන නමුත්, යටහත් පහත් රෙනන් අදහස් තමන්ගේ ම කොරසැඩි ජර්මන් බසට නංවයි.''[69]

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රජාතාන්ත්‍රික විප්ලවයේදී අනුගමනය කරන උපක්‍රම දෙක එංගල්ස් විසින් නිශ්චය කරන ලද්දේ එසේ ය.

අපේ නව ඉස්ක්‍රාවාදීහුද ''ආර්ථිකවාදය'' දෙසට නැඹුරු වෙති. ඔවුන් එසේ කරන්නේ ''ආලෝකය දැකීම'' ගැන රාජාණ්ඩුවාදී ධනපති පංතියේ වර්ණනාවට පාත්‍ර වන තරම් වුවමනා උත්සුක්ත භාවයකිනි. ''ආර්ථිකවාදීන්ට'' බොරු වර්ණනා කරමින්, ''ක්‍රියාරම්භකත්වය'', ''ප්‍රජාතන්ත්‍රවාදය'', ''ස්වාධිපත්‍යය'' යනාදී වූ සටන් පාඨ මගින් නොදියුණු පොදු ජනයා තමන් වෙත රැවටිලිකාර ලෙස ආකර්ෂණය කරමින්, ඔවුහුද, තමන් වටා විවිධාකාර පිරිසක් එකතු කර ගනිති. ඔවුන්ගේ කම්කරු සංගම්ද පවතින්නේ හ්ලෙස්තකොව් වර්ගයේ[70] නව ''ඉස්ක්‍රා'' පිටුවල පමණකි. ''නිර්ධන පංතියේ ශ්‍රෙෂ්ඨ දේශපාලන ව්‍යාපාරයේ'' කර්තව්‍යයන් වටහා ගැනීමෙහි ඔවුන් එසේම අසමර්ථ වන බව ඔවුන්ගේ සටන් පාඨවලින් හා යෝජනාවලින් පෙනේ.

1905 ජූලි මස ලියන ලදී

ප්‍රථමයෙන් පළ කරන ලද්දේ රු. ස. ප්‍ර. ක. ප., ම. කා. ස. විසින් 1905 දී ජිනීවාහිදී කුඩා පොතක් වශයෙනි

වී අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 11, පිටු 1–131

---

* එංගල්ස් ලියූ දෙය පරිවර්තනය කිරීමේදී, Butermilch (ඇඹුල් කිරි) යන්න සංඥානාමයක් ලෙසට නොගෙන එය පොදු නාමයක් ලෙසට ගැනීමේ වරද ප්‍රථම සංස්කරණයේ දී මා අතින් සිදු විය. මෙම වැරදීම ස්වාභාවික වශයෙන් ම මෙන්ෂෙවික්වරුන්ගේ අමන්දනන්දයට හේතු විය. මා ''එංගල්ස් අරුත් සරු කර ඇතැ'' යි කල්ත්සොව් ලීවේය (''අවුරුදු දෙකක්'' යන ලිපි එකතුවෙහි එය නැවත මුද්‍රණය කර ඇත). මෙම වරද ගැන දැන් පවා ප්ලෙහානව්''තවාරිෂ්'' පත්‍රයෙන්[68] මතක් කරයි. කොටින් කියතොත් ජර්මනියේ කම්කරු පංති ව්‍යාපාරයේ පැවති ප්‍රවණතා දෙක පිළිබඳ ප්‍රශ්නයෙන් ලිස්සා යාමට මෙය අගනා හේතුවක් කර ගන්නා ලදී. එම ප්‍රවණතා දෙක වූයේ බෝර්න් ප්‍රවණතාවය (අපේ ''ආර්ථිකවාදීන්ට'' සමානය) හා මාක්ස්වාදී ප්‍රවණතාවය ය. වරද සිදුවූයේ බෝර්න්ගේ නම ගැන වුවත්, ප්‍රතිවාදියාගේ වරදෙන් ප්‍රයෝජන ගැනීම ඉතාමත් ස්වාභාවික ය. නමුත් පරිවර්තනයක සිදුවූ වරදක් නිදෙස් කිරීම, උපක්‍රම දෙක පිළිබඳ ප්‍රශ්නයෙන් ලිස්සා යාමට උපයෝගී කර ගැනීම සැබෑ ප්‍රශ්නයෙන් මග හැරීමකි. (1907 සංස්කරණයට කර්තෘගේ සටහන — සංස්කාරක)

# මොස්කව් නැගී සිටීමෙන් උගත යුතු පාඩම්

''1905 දෙසැම්බරයේ මොස්කව් නගරය'' (මොස්කව් 1906) යන පොත පළ කිරීමට මීට වඩා උචිත අවස්ථාවක් නොවීය. දෙසැම්බර් නැගී සිටීමේ පාඩම් සාක්ෂාත් කර ගැනීම, කම්කරුවන්ගේ පක්ෂයේ හදිසි කර්තව්‍යයකි. අවාසනාවකට මෙන් මෙම පොත තාර හැන්දක් දැමූ පැණි පිප්පයක් බඳු ය. එය අසම්පූර්ණ වුවත්, එහි නිගමන අප්‍රිය ජනක හා නීරස වුවත්, එහි ඉතා වැදගත් කරුණු ඇතුලත්ය. මෙම නිගමන ගැන වෙනත් අවස්ථාවක විමසීමට බලාපොරොත්තු වෙමු. දැනට, අද පවත්නා ඉතාමත් හදිසි ප්‍රශ්නය වන, මොස්කව් නැගී සිටීමෙන් උගත යුතු පාඩම් කෙරෙහි අපේ අවධානය යොමු කරමු.

දෙසැම්බර් ව්‍යාපාරයේ ප්‍රධාන ආකෘති වූයේ සාමකාමී වැඩ වර්ජන සහ පෙළපාලි ය. කම්කරුවන්ගෙන් අති බහුතරය ක්‍රියාශීලී ලෙස සහභාගි වූයේ මෙම ආකාර අරගලවලට පමණකි. එසේ වුවද, ස්වාධීන සහ ප්‍රධාන අරගල ක්‍රමයක් වශයෙන්, සමන්ත මහා වැඩ වර්ජනය කල් ඉක්මවා ඇති බවත්, භෞතිකමය වැනි හා නොවැළැක්විය හැකි බලවේගයෙන් යුතුව, ව්‍යාපාරය මෙම පටු සීමාවන් බිඳගෙන යමින්, උසස්තම අරගල ක්‍රමය, එනම්, නැගී සිටීමක් උද්ගත කරන බවත්, මොස්කව්හි ඇති වූ දෙසැම්බර් සටනින් මනා සේ පැහැදිලි විය.

වැඩ වර්ජනය, අනිවාරණීය ලෙසට ම, නැගී සිටීමක් දක්වා වර්ධනය විය යුතු බව, එය කැඳවීමේදී, සියළුම විප්ලවවාදී පක්ෂ හා සියළුම මොස්කව් සංගම් පිළිගත්හ. ඒ බව සහජාසයෙන් මෙන් පවා ඔවුනට දැනින. දෙසැම්බර් 6 දින කම්කරු නියෝජිත සෝවියට් සභාව ''වැඩ වර්ජනය ආයුධ සන්නද්ධ නැගී සිටීමකට පරිවර්තනය කිරීමට උත්සාහ දැරීමට'' තීරණය කළේය. නමුත් ඇත්ත වශයෙන්ම කිසිම සංවිධානයක් මේ සඳහා සූදානමකින් සිටියේ නැත. ස්වේච්ඡා සටන් කණ්ඩායම්වල ඒකාබද්ධ මණ්ඩලය[71] පවා (දෙසැම්බර් 9 දින!) නැගී සිටීමක් ගැන කථා කළේ,



එය ඉතාමත්ම අඩමාන දෙයක් ලෙසටය. ඇති වූ වීදි සටන්වලට එහි සම්බන්ධයක් නොතිබුණු බව හා ඒ පිළිබඳ පාලනයක් එයට නොතිබුණු බව, ඉතාමත් හොඳින් පෙනෙන්නට තිබුණි. ව්‍යාපාරයේ වර්ධනය හා පරිමාණය සමග එක පෙළට සිටින සේ ඉදිරියට යාමට, සංවිධාන අසමත් විය.

මූලික වශයෙන් ම, ඔක්තෝබරයෙන් පසු ඇති වූ වාස්තවික තත්වයන්ගේ[72] බලපෑම නිසා, වැඩ වර්ජනය නැගී සිටීමක් වන සේ වර්ධනය වෙමින් තිබුණි. සමන්ත මහා වැඩ වර්ජනයකින් ආණ්ඩුව බලාපොරොත්තු නොවූ තත්වයකට ඇද හෙළීම දැන් තවදුරටත් කළ නොහැක්කක් විය. එය කල් තබාම ප්‍රතිවිප්ලවයේ බලවේග සූදනම් කර තිබුණේය. ඒවා යුද්ධමය සටනට සූදනම්ව සිටියහ. ඔක්තෝබරයෙන් පසු රුසියානු විප්ලවයේ මුළු ගමන් මාර්ගයත්, දෙසැම්බර් කාලයේදී මොස්කව්හි සිදුවීම්වල අනු පිළිවෙළත්, මාක්ස්ගේ ඉතාමත් ගැඹුරු ප්‍රස්තුතයන්ගෙන් එකක් ස්ථිර කළේ ය. එය මෙසේය: විප්ලවය ඉදිරියට යත්ම, එය ශක්තිමත් හා එක්සත් ප්‍රතිවිප්ලවයක් උද්ගත කරයි, නැතහොත්, එය වඩාත් සීමාන්තික ආරක්ෂක පියවරයන් යොදා ගැනීමට සහ ඒ ආකාරයෙන් වඩ වඩාත් බලවත් ප්‍රහාර මාධ්‍යයන් සකස් කර ගන්නා ලෙස එය සතුරාට බල කරයි.''[73]

දෙසැම්බර් 7 හා 8: සාමකාමී වැඩ වර්ජනයක් හා සාමකාමී පොදු ජන පෙළපාලිත් පැවතිනි. 8 වැනි දින සවස: මත්ස්‍ය තටාක උයන වැටලීම සිදුවිය.[74] 9 වැනි දින උදය කාලයේ ස්ත්‍රාස්ත්නයා චතුරශ්‍රයෙහි සිටි පිරිසට අශ්වාරෝහක භටයන් විසින් පහර දෙන ලදී. සවස, ෆීඩ්ලර් ගොඩනැගිල්ල[75] වට ලන ලදී. කෝපය උග්‍රවෙයි. වීදිවල සිටින අසංවිධාත්මක ජනයා පැකිලෙමින් ප්‍රථම වීදි බාධක ඉදිකරති.

10 වැනි දින, වීදි බාධකවලට හා වීදිවල සිටින පිරිස්වලට විරුද්ධව තුවක්කු ප්‍රහාරය එල්ල විය. වීදි බාධක වඩාත් උවමනාවෙන් යුතුව ඉදි කරනු ලැබේ. දැන් ඒවා ඉදි කරන්නේ අතරින් පතර නොව ඇත්ත වශයෙන්ම විශාල පරිමාණයෙනි. මුළු ජනගහනය ම වීදිවලට බසිති. නගරයේ ප්‍රධාන මධ්‍යස්ථාන සියල්ලම වීදි බාධක ජාලයකින් වැසී ගොසිනි. දින ගණනාවක් තිස්සේ ස්වේච්ඡා සටන් කණ්ඩායම් යුද්ධ සේනාවන්ට විරුද්ධව දැඩි ගරිල්ලා සටනක් කරති. එයින් යුද්ධ සේනා විඩාපත් වීම නිසා, අතිරේක ආධාර එවන ලෙස ආයාචනා කිරීමට දුබාසව්ට සිදු වේ. ආණ්ඩුවේ හමුදවල ආධිපත්‍යය සම්පූර්ණ වූයේ දෙසැම්බර් 15 දින දක්වා කල් ගතවූ පසු පමණකි. අනතුරුව දෙසැම්බර් 17 දින සෙමෙනොව්ස්කි රෙජිමේන්තුව,[76] නැගී සිටීමේ අවසාන බල කඳවුර වූ ප්‍රෙස්න දිස්ත්‍රික්කය මර්දනය කළේය.

වැඩ වර්ජනයකින් හා පෙළපාලිවලින් තැනින් තැන වීදි බාධක ඉදි කිරීම දක්වාද, තැනින් තැන ඉදි කළ වීදි බාධකවල පටන් යුද්ධ හමුදවලට විරුද්ධව වීදි සටන් කිරීම දක්වා ද යන ලදී. සංවිධානවල හිසට උඩින්, පොදු ජන නිර්ධන පංති අරගලය, වැඩ වර්ජනයක සිට නැගී සිටීමක් දක්වා සංවර්ධනය විය. 1905 දෙසැම්බරයේදී රුසියානු විප්ලවය ලබා ගත් ශ්‍රේෂ්ඨතම ඓතිහාසික ජයග්‍රහණය මෙයයි. තවද, ඊට ඉහත ලැබූ ජයග්‍රහණයෙන් මෙන්, මෙයද ලබා ගත්තේ මහත් කැප කිරීම් තුළිනි. ව්‍යාපාරය සමන්ත මහා දේශපාලන වැඩ වර්ජනයෙන් ඉහළට ඔසවන ලදී. ප්‍රතිරෝධනය දක්වීමේ සීමාන්තයට යන ලෙස එය ප්‍රතිගාමීත්වයට බල කළේය. ඒ අනුව ප්‍රහාර දීමේ මාධ්‍යයන් ක්‍රියාත්මක කිරීමේදී විප්ලවයද සීමාන්තයට යන අවස්ථාව බොහෝ සෙයින් ආසන්නයට ගෙන වුත් තිබේ. වීදි බාධක, ගොඩ නැගිලි සහ පිරිස්වලට වෙඩිමුර තැබීමට වඩා ඔබ්බට යාමට ප්‍රතිගාමීත්වයට නුපුළුවන. නමුත්, විප්ලවයට මොස්කව් සටන් කණ්ඩායම්වලට වඩා තවත් බොහෝ දුර යා හැකිය. පෘථුලත්වය හා ගැඹුර අතින් එයට තවත් බොහෝ දුර යා හැකිය. එසේම දෙසැම්බරයෙන් පසුව විප්ලවය තවත් ඉදිරියට ගොස් ඇත. විප්ලවවාදී අර්බුදයේ පදනම අපරිමිත තරම් පුළුල් වී තිබේ.දැන් කළ යුත්තේ තියුණු මුහුණතක් තැබීම සඳහා තලය මුවහත් කිරීම ය.

අරගලයේ වාස්තවික තත්වයන්ගේ වෙනස හා වැඩ වර්ජනයේ පටන් නැගී සිටීමක් දක්වා පරිවර්තනය වීමේ අවශ්‍යතාවය, නිර්ධන පංතියට දැනී ගියේ එහි නායකයන්ට එය දැනෙන්නට පෙර ය. සෑම විටම සිදුවන ලෙසට, න්‍යායට ඉදිරියෙන් ව්‍යවහාරය ගමන් ගත්තේ ය. සාමකාමී වැඩ වර්ජනයකින් හා පෙළපාලියකින් කම්කරුවන් සැනසෙන තත්වය වහාම කෙළවර විය. ඔවුහු මෙසේ ඇසූහ: ඊළඟට කරන්නට තිබෙන්නේ කුමක්ද? එපමණක් නොව, වඩාත් දැඩි සටනක් කරන ලෙසද ඔවුහු ඉල්ලූහ. වීදි බාධක ඉදිකරන ලෙස දිස්ත්‍රික්ක වලට උපදෙස් ලැබුණේ බොහෝ කල් වේලා ගත වූ පසුය. ඒ වන විට නගරය මධ්‍යයේ වීදි බාධක ඉදිකිරීම සිදුවෙමින් පැවතුනි. කම්කරුවෝ විශාල පිරිස් වශයෙන් එකතුවී වැඩට බටහ. නමුත් මෙයින් පවා ඔවුන් සැනසුනේ නැත. ඊළඟට කළ යුත්තේ කුමක්ද යන්න, ඔවුන්ට දැන ගැනීමට උවමනා විය. ක්‍රියාශීලී පියවරයන් ගන්නා ලෙස ඔවුහු ඉල්ලා සිටියහ. දෙසැම්බරයේදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංතියේ නායකයන් වන අප සිටියේ, ස්වකීය හමුදවන්ගෙන් වැඩි කොටසක් ක්‍රියාශීලී ලෙස සංග්‍රාමයට සහභාගි නොවන, අඥන ආකාරයකට, සේනා මෙහෙයවූ, හමුද පති කෙනෙකුගේ තත්වයේ ය. දැඩි සටන් කිරීම සඳහා පොදු කම්කරු ජනතාව උපදෙස් ඉල්ලූ නමුත්, ඔවුනට එම උපදෙස් ලබා ගත නොහැකි විය.



සියළුම අවස්ථාවාදීන් විසින් දැතින් ගනු ලබන, වැඩ වර්ජනය කාලෝචිත නොවීය, එය ආරම්භ නොකළ යුතුව තිබුණේය හා "ඔවුන් ආයුධ නොගත යුතුව තිබුණේය" යනුවෙන් කියන,ප්ලෙහානව්ගේ අදහසට වඩා අදූරදර්ශී වෙනත් යමක් තිබිය නොහැකිය. ඊට ප්‍රතිකූල වශයෙන් වඩාත් දැඩි ලෙස, වඩාත් ශක්තිමත් ලෙස හා ප්‍රහාරක ලෙස අපි ආයුධ ගත යුතු වූයෙමු. කටයුතු සාමකාමී වැඩ වර්ජනයකට සීමා කළ නොහැකි බවත්, අභීත හා බුරුලක් නොදෙන ආයුධ සන්නද්ධ සටනක් අවශ්‍ය බවත් අපි පොදු ජනතාවට පැහැදිලි කර දිය යුතු වූයෙමු. එනිසා, දැන්, අන්තිමේදී, දේශපාලන වැඩ වර්ජන ප්‍රමාණවත් නොවන බව විවෘත ලෙස සහ ප්‍රසිද්ධියේ පිළිගත යුත්තෙමු. අපි ආයුධ සන්නද්ධ නැගී සිටීමකට පක්ෂව පොදු ජනතාව අතර හැකි තරම් පුළුල් ලෙස උද්ඝෝෂණය කළ යුත්තෙමු. "ප්‍රාථමික අවධි" ගැන කථා කිරීමෙන් මෙම ප්‍රශ්නය අපැහැදිලි කිරීමට, නැතහොත්, වෙනත් කිසිම ආකාරයකින් එය වසා දැමීමට, අපි කිසිම ප්‍රයත්නයක් නොදැරිය යුත්තෙමු. ඉදිරියේ එන විප්ලවීය සටනේ හදිසිතම කර්තව්‍ය ලෙසට, සහමුලින් වනසා දැමීමේ, දරුණු හා ලේ වැගිරෙන යුද්ධයක් කිරීමේ අවශ්‍යතාවය, අපි ජනතාවගෙන් සඟවමු නම්, එවිට අපි අපත් ජනතාවත් යන දෙකොටසම රවටන්නෝ වෙමු.

දෙසැම්බර් සිදුවීම් වල ප්‍රථම පාඩම එය යි. තවත් පාඩමක් නැගී සිටීමේ ස්වභාවය හා සම්බන්ධය — එය ඉටු කරන විධි හා යුද්ධ සේනා ජනතාවගේ පැත්තට ඒමට තුඩු දෙන තත්වයන් හා සම්බන්ධ ය. මෙම පසු කී කරුණ සම්බන්ධයෙන්, අතිශයන් ම එක පැත්තකට බරවූ අදහසක් අප පක්ෂයේ දක්ෂිණාංශයෙහි බල පවත්වයි. නවීන යුද්ධ හමුදවලට විරුද්ධව සටන් කිරීමට ඉඩක් නැතැයිද, යුද්ධ හමුද විප්ලවවාදී විය යුතු යයිද කියනු ලැබේ. විප්ලවය පොදු ජන ස්වභාවයක් ගෙන යුද්ධ හමුද කෙරෙහිද බල පෑමක් ඇති කරන්නේ නම් මිස, බරපතල අරගලයක් කිරීමේ ප්‍රශ්නයක් පැන නැගිය නොහැකි බව ඇත්තකි. අප යුද්ධ හමුද අතර වැඩ කළ යුතුය යන්න, නොකියාම වුවද පිළිගත හැකි කරුණකි. නමුත්, කරුණු ඒත්තු ගැන්වීමේ හෝ ඔවුන්ගේ ම අවබෝධයේ ප්‍රතිඵලයක් වශයෙන් හෝ ඔවුන් එක්වරම අපේ පැත්තට එතැයි යන්න, අපි අපේක්ෂා නොකළ යුත්තෙමු. එම අදහස කොතරම් දුරට අනුකරණ හා අජීවී ස්වභාවයක් දරන්නේ ද යන්න, මොස්කව් නැගී සිටීමෙන් පැහැදිලිවම පෙනී ගියේය. ඇත්ත වශයෙන් ම, සෑම නියම පොදු ජන ව්‍යාපාරයකදීම අනිවාරණීය වශයෙන් ම යුද්ධ හමුදවල වැනෙන සුලු ගතිය ඇති වන අතර, විප්ලවීය අරගලය තියුණු වන සෑම විටම, එය යුද්ධ හමුද සඳහා කරන සැබෑ සටනකට මඟ පාදන්නේය. යුද්ධ හමුදවන් දිනා

ගැනීම සඳහා ප්‍රතිගාමීත්වය හා විප්ලවය අතර කෙරෙන දරුණු, වියරුහුණු අරගලය පිළිබඳ නියත නිදර්ශනයකි මොස්කව් නැගී සිටීම. මොස්කව් ආරක්ෂක හමුදාවේ පසළොස් දහසක් භටයින්ගෙන් විශ්වාසය තැබිය හැක්කේ පන්දහසක් කෙරෙහි පමණක් බව දුබාසව් ම ප්‍රකාශ කළේ ය. ආණ්ඩුව විවිධාකාර හා අවදානම් පියවර ගනිමින්, වැනෙනසුලු භටයන් නවත්වා ගත්තේ ය. ඔවුහු ඔවුනට ආයාචනා කළහ; බොරු වර්ණනා කළහ; අල්ලස් දුන්හ; අත් ඔර්ලෝසු, මුදල් ආදිය තෑගි කළහ; ඔවුහු ඔවුනට වොඩ්කා පොවා මත් කළහ; ඔවුනට බොරු කීහ; ඔවුනට තර්ජනය කළහ; ඔවුන් බැරැක්කවල සිර කොට තබා, ඔවුන් නිරායුධ කළහ; එසේම, ඉතාමත් අඩුවෙන් විශ්වාස තැබිය හැකියයි සැක කරන ලද අය ද්‍රෝහී කම හා හිංසනය මගින් ඉවත් කළහ. මෙම කරුණ හා සම්බන්ධයෙන්, අපි ආණ්ඩුවට වඩා පිටු පසින් සිටි බවට අපි විවෘත ලෙස හා සම්පූර්ණයෙන්ම පාපෝච්චාරණය කළ යුත්තෙමු. වැනෙනසුලු යුද්ධ සේනා දිනා ගැනීම සඳහා ආණ්ඩුව කළ හා ජයගත් සටන තරම් කාර්යශීලී, නිර්භීත, උපාය දක්ෂ හා ප්‍රහාරාත්මක සටනක් කිරීමට අප සතුව තිබුණු බලවේගයන් යොදා ගැනීමෙහි අප අසමත් වූයෙමු. අපි යුද්ධ හමුදාව තුළ වැඩ කර ඇත්තෙමු. එමෙන්ම, යුද්ධ හමුද දෘෂ්ටිමය වශයෙන් ''දිනා ගැනීම'' සඳහා අපගේ අනාගත ප්‍රයත්නයන් දෙගුණ කරන්නෙමු. නමුත් නැගී සිටීමක් අවස්ථාවේදී යුද්ධ හමුද සඳහා භෞතික අරගලයක් ද කළ යුතු බව අපි අමතක කරමු නම් අප කාලකණ්ණි බොරු පණ්ඩිතයන් බව එයින් ඔප්පු වේ.

දෙසැම්බර් කාලයේ දී යුද්ධ හමුද දෘෂ්ටිමය වශයෙන් ''දිනා ගැනීම'' සම්බන්ධයෙන් මොස්කව් නිර්ධන පංතියෙන් අපට විශිෂ්ඨ පාඩම් ලැබිණ. නිදසුනක් වශයෙන්, දෙසැම්බර් 8 දින ස්ත්‍රාස්ත්නයා චතුරශ්‍රයෙහි සිටි පිරිසක්, කොසාක්වරු[77] වට කොට ගෙන, ඔවුන් සමග මිතුරුව ඔවුන් ආපසු යාමට පෙළඹවූහ. එසේ ම, දෙසැම්බර් 10 දින, ප්‍රෙස්න දිස්ත්‍රික්කයේ 10,000 ක පිරිසක් සමග ගමන් කරමින් රතු කොඩියක් ඔසවා ගෙන ගිය වැඩ කරන තරුණියන් දෙදෙනෙක්, කොසාක්වරු හමුවට ඉදිරියට දුව ගොස් කෑගසා මෙසේ කීහ: ''අප මරාපල්ලා! පණ තිබෙන තුරු කොඩිය නොදෙන්නෙමු!'' කණස්සළු වූ කොසාක්වරු අසුන් ඉවත පන්නා ගෙන යන විට පිරිස මෙසේ ඝෝෂා කළහ: ''කොසාක්වරුන්ට ජයවේවා!'' ධෛර්යය හා වීරත්වය පිළිබඳ මෙම ආදර්ශයන් නිර්ධන පංතියේ සිත තුළ සදාකාලිකවම සටහන්ව තිබිය යුතු ය.

නමුත් අප දුබාසව්ට වඩා පිටු පසින් සිටි බවට නිදර්ශන මෙන්න. දෙසැම්බර් 9 දින යුද්ධ භටයෝ''මාර්සේල්යෙස්''ගීතය ගායනා කරමින්, කැරළි කරුවන්ට එකතු වීම සඳහා, බල්ෂයා සෙර්පුහොව්ස්කයා වීදිය



දිගේ පහළට එමින් සිටියහ. කම්කරුවෝ ඔවුන් හමුවීමට නියෝජිතයන් පිටත් කර හැරියහ. නමුත් මලාහව් ද බෙල්ල කැඩෙන තරම් වේගයකින් ඔවුන් වෙත අසු පිටින් දිවෙමින් සිටියේ ය. කම්කරුවන් ප්‍රමාද වූ අතර, මලාහව් ප්‍රථමයෙන් ඔවුන් වෙතට ළඟා විය. ඔහු හැඟීම් අවුස්සන කථාවක් කර යුද්ධ භටයන් වැනෙන සුලු තත්වයකට පත් කොට, අශ්වාරෝහක සේනාවෙන් ඔවුන් වටලා, ඔවුන් බැරැක්කවලට දක්කාගෙන ගොස් ඔවුන් එහි තුළ ලා වසා දැමුවේය. දින දෙකක් තුළ, 1,50,000 ක් ජනයා අපේ හඬ නැගීමට කන් දී, නැගී සිටි නමුත්, වීදිවල මුර සංචාරය මොවුන්ට සංවිධානය කළ හැකිව හා ඔවුන් එය කළ යුතුව තිබුණ නමුත්, කල් ඇතිව සොල්දාදුවන් වෙත ළඟා වීමට අපට නොහැකි වූ අතර, මලාහව් කලට වේලාවට ඔවුන් වෙත ළඟා විය. මලාහව් අශ්වාරෝහක සේනාවෙන් සොල්දාදුවන් වැටලූ අතර, බෝම්බ ගසන්නන් යොදා මලාහව්ලා වැටලීම අපට කළ නොහැකි විය. අපට මෙය කළ හැකිව තිබුණි. අප එය කළ යුතුව තිබුණි. නැගී සිටීමේ අවස්ථාවෙහිදී අපේ යුතුකම වන්නේ සිවිල් හා යුද්ධමය නායකයන් නිර්දය ලෙස සමූලඝාතනය කිරීම බව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍ර (පැරණි ''ඉස්ක්‍රා'') බොහෝ ඉහත දී කියා තිබුණි. ප්‍රධාන අංග ලක්ෂණ අතින් සෙර්පුහොව්ස්කයා වීදියේ සිදු වූ දෙයටම සමාන සිදුවීම් නෙස්විස්කියේ බැරැක්ක සහ කෘතිට්ස්කියේ බැරැක්ක ඉදිරිපිට ද, යෙකතරිනොස්ලාව් රෙජිමේන්තුව ''ආපසු කැඳවීමට'' කම්කරුවන් උත්සාහ කළ විටද, ඇලෙක්සැන්ද්‍රොව්හි යුද්ධ භටයන් වෙත නියෝජිතයන් යැවූ අවස්ථාවේද, මොස්කව් බලා ගමන් කරමින් සිටි රස්තොව් තුවක්කු හමුදාව ආපසු හරවා යැවූ කලද, කොලොම්නාහි යුද්ධ භටයන් නිරායුධ කළ පසු ද,යනාදී අවස්ථාවල,නැවතත් සිදුවූ බව පෙනේ. නැගී සිටීම අවස්ථාවේදී, වැනෙන සුලු යුද්ධ හමුද දිනාගැනීමේ කර්තව්‍යය ඉටු කිරීමට තරම් හපන් කමක් අපට තිබුණේ නැත.

අවස්ථාවාදීන් අමතක කර තිබුණු, මාක්ස්ගේ තවත් භාර දූර ප්‍රස්තුතයක් දෙසැම්බර් සිදුවීම්වලින් සනාථ විය. එය මෙසේය: නැගී සිටීම කලාවකි. මෙම කලාවේ ප්‍රධාන නියාමය නම්, භයානක තරම් නිර්භීත සහ වෙනසක් කළ නොහැකි ලෙසට අධිෂ්ඨාන සහගත ලෙස ප්‍රහාරයෙහි යෙදීමය.[78] අපි සෑහෙන තරම් දුරට මෙම සත්‍යය සාක්ෂාත් කර ගෙන නැත්තෙමු. සෑම තත්වයක් ම යටතේ පහර දීමේ මෙම කලාව, මෙම නියාමය, අප සෑහෙන තරම් උගෙන ගෙන හෝ, පොදු ජනතාවට උගන්වා හෝ, නැත්තෙමු. මෙම අතපසු වීම නිවැරදි කිරීමට අපේ මුළු ශක්තිය යොදා කටයුතු කළ යුත්තෙමු. දේශපාලන සටන් පාඨ සම්බන්ධයෙන් පැත්තක් ගැනීම පමණක් ප්‍රමාණවත් නොවේ. ආයුධ සන්නද්ධ නැගී සිටීම පිළිබඳ ප්‍රශ්නයේදී ද පැත්තක් ගත යුතුය. එයට විරුද්ධ අය, එයට

සූදනම් නොවන අය, විප්ලවයේ ආධාරකරු පිරිස් අතරින් නිර්දය ලෙස ඉවත් කර, ඔවුන් එහි සතුරන්ගේ පිරිස් අතරට, ද්‍රෝහීන්ගේ නැතහොත් බියගුල්ලන්ගේ පිරිස් අතරට යැවිය යුතුය. එසේ කියන්නේ, මෙම ප්‍රතිපත්තිය අනුව සතුරන් හා මිතුරන් වෙන් කර තේරුම් ගැනීමට, අපට සිදුවීම්වල වේගය හා අරගලයේ තත්වයන් විසින් බලකෙරෙන කාලය ළඟා වෙමින් පවතින හෙයිනි. අප දේශනා කළ යුත්තේ අක්‍රීයතාවය ගැන නොවේ, යුද්ධ සේනා අප වෙත ''එන තෙක් හුදෙක් බලා සිටීම ගැන නොවේ. ඇත්තෙන් ම නැත. අභීත ප්‍රහාරයක් හා අවිගත් පහර දීමක් අවශ්‍ය බවද, සතුරාගේ මූලිකත්වය ගෙන සිටින පුද්ගලයන් සමූලඝාතනය කිරීමේ අවශ්‍යතාවයද, වැනෙන සුළු යුද්ධ සේනා දිනා ගැනීම සඳහා ඉතාමත් ශක්තිමත් සටනක් කිරීමේ අවශ්‍යතාවයද, ගැන අපි ඉතාමත් විවෘත ලෙස ප්‍රකාශ කළ යුත්තෙමු.

මොස්කව් නගරය උගැන්නූ තුන්වැනි ශ්‍රේෂ්ඨ පාඩම නැගී සිටීමක බලවේගයන්ගේ උපක්‍රම හා සංවිධානය හා සම්බන්ධයෙනි. යුද්ධෝපක්‍රම කෙබඳු ද යනු තීරණය වන්නේ, යුද්ධශිල්පයේ මට්ටම අනුව ය. මෙම සරල සත්‍යය පෙන්නුම් කළ එංගල්ස්, සියළු මාක්ස්වාදීන්ට එය ඒත්තු ගැන්වීය.[79] අද යුද්ධ ශිල්පය දහ නව වැනි ශත වර්ෂයේ මැද භාගයෙහි පැවති යුද්ධ ශිල්පය නොවේ. තුවක්කුවලට විරුද්ධව පිරිස් ඉදිරිපත් කිරීමත්, රිවෝල්වර ගෙන වීදි බාධක ආරක්ෂා කිරීමත් මෝඩ කමක් වනු ඇත. මොස්කව් සිදුවීම්වලින් පසුව, එංගල්ස්ගේ නිගමනයන් සමාලෝචනය කිරීමට කාලය පැමිණ තිබෙන බවත්, මොස්කව් නගරයෙන් ''නව වීදි බාධක උපක්‍රම'' ආරම්භ වූ බවත් ලියමින්, කෞට්ස්කි සඳහන් කළ දෙය සම්පූර්ණයෙන් ම නිවැරදි ය. මෙම උපක්‍රම ගරිල්ලා යුද්ධ උපක්‍රම ය. එවැනි උපක්‍රම සඳහා අවශ්‍ය සංවිධානය වන්නේ දහ දෙනෙක්, තුන් දෙනෙක් නැතහොත් දෙදෙනෙක් පවා වැනි සංඛ්‍යාවලින් යුත් ඉතා කුඩා ජංගමශීලී ඒකක වේ. පස් දෙනෙකුගෙන් හෝ තුන් දෙනෙකුගෙන් යුත් ඒකක ගැන සඳහන් කරන විට සිනහ වන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, දැන් අපට බොහෝ විට හමු වේ. නමුත්, සිනහ වීම,නවීන යුද්ධ ශිල්පයේ තත්වයන් යටතේ වීදි සටන් කිරීම මඟින් මතු කර තිබෙන නව උපක්‍රම හා සංවිධානය පිළිබඳ ප්‍රශ්නය ගැන නොසලකා හැරීමේ නොවටිනා ක්‍රමයක් පමණකි. මහත්වරුනි, මොස්කව් නැගී සිටීම ගැන කථාව සූපරීක්ෂාකාරී ලෙස අධ්‍යයනය කරන්න. ''පස් දෙනාගේ ඒකක'' සහ ''නව වීදි බාධක උපක්‍රම'' අතර ඇත්තේ කුමණ සම්බන්ධයක් ද යන්න, එවිට ඔබට අවබෝධ වනු ඇත.

මොස්කව් මෙම උපක්‍රම ඉදිරිපත් කළ නමුත්, ඒවා සෑහෙන තරම් දුරට සංවර්ධනය කිරීමටත්, ඒවා සැලකිය යුතු තරම් දුරකට,නියම පොදු ජන තත්වයට පත්වන තරම් දුරට, ක්‍රියාත්මක කිරීමටත්, එය සමත් වූයේ නැත. ස්වේච්ඡා සටන් කණ්ඩායම් සිටියේ ඉතා අල්ප ගණනකි. අභීත ප්‍රහාරය සඳහා සටන් පාඨය කම්කරුවන් වෙත නිකුත් නොකරන ලද අතර, ඔවුන් එය ක්‍රියාත්මක කළේ නැත. ගරිල්ලා භට කණ්ඩායම් ස්වරූපයෙන් ඉතාමත් ඒකාකාර විය. ඔවුන්ගේ ආයුධ හා ක්‍රම ප්‍රමාණවත් නොවීය. ජනතාවට නායකත්වය දීමේ ඔවුන්ගේ හැකියා කිසිසේත් සංවර්ධනය නොවූ තරම් මට්ටමක පැවතියේ ය. අපි මේ සියළු අඩු පිරිමසින්නෙමු. මොස්කව් නගරයේ අත්දැකීම්වලින් පාඩම් උගෙන ගැනීමෙන්, එම අත්දැකීම් පොදු ජනතාව තුළ පතුරුවා හැරීමෙන් හා, ඒවා තවදුරටත් සංවර්ධනය කරගැනීමට ඔවුන් දිරිගැන්වීමෙන්, අපි එය කරන්නෙමු. තවද, දෙසැම්බරයේ පටන් මේ දක්වා නොකඩවාම පාහේ රුසියාව මුළුල්ලේ ම පැවති ගරිල්ලා යුද්ධය සහ පොදු ජන ත්‍රස්තය, නැගී සිටීමක නිවැරදි උපක්‍රම උගෙන ගැනීම පිණිස නිසැක ලෙසම පොදු ජනතාවට ආධාරකාරී වනු ඇත. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය මෙම පොදු ජන ත්‍රස්තය පිළිගනිමින් එය ස්වකීය උපක්‍රමවල අන්තර්ගත කළ යුතුය. එහෙත්, එසේ කිරීමේදී එම ත්‍රස්තය කම්කරු පංති ව්‍යාපාරයේ යහපතට හා අවශ්‍යතාවයන්ට යටත් කරමින්, ඒ අතරම මෙම ගරිල්ලා යුද්ධයේ ''දමරික'' විකෘතිය නිර්දය ලෙස, එනම්, මොස්කව් නැගී සිටීමේදී එහි සහෝදරවරු හා සුප්‍රසිද්ධ ලත්වියන් සමූහාණ්ඩු කාලයේදී[80] ලත්වියන්වරු ඉතාමත් විශිෂ්ඨ ලෙස හා නිර්දය ලෙස කළ පරිදි, ඉවත් කර දමමින් හා සිඳ දමමින්, එය සංවිධානය සහ පාලනය කළ යුතුය.

ඉතා මෑත කාලයේදී යුද්ධ ශිල්පයේ නව දියුණුවක් ඇති වී තිබේ. ජපන් යුද්ධයෙන් අත් බෝම්බය උද්ගත විය. කුඩා ආයුධ තනන පැක්ටරි, වෙළඳ පොළට ස්වයංක්‍රීය රයිපල් එවා ඇත. මෙම ආයුධ දෙකම දැනටමත් රුසියානු විප්ලවය සඳහා සාර්ථක ලෙස උපයෝගී කරගනු ලැබේ. නමුත් එම උපයෝගිත්වයේ පරිමාණය කොහෙත්ම ප්‍රමාණවත් නොවේ. ශිල්පයේ වැඩි දියුණු වීම්, අපේ වාසියට යොදා ගත හැකිය, යොදා ගත යුතුය. විශාල ගණනින් බෝම්බ සෑදීමට, අපි කම්කරු කණ්ඩායම්වලට උගැන්විය යුත්තෙමු. ඔවුන්ට හා අපේ සටන් කණ්ඩායම්වලට පුපුරණ ද්‍රව්‍ය, සේවනුල් හා ස්වයංක්‍රීය රයිපල් සපයා ගැනීමට අපි ආධාර කළ යුත්තෙමු. කම්කරු පොදු ජනතාවන් නගරවල නැගී සිටීමට සහභාගි වෙත් නම්, සතුරාට විරුද්ධ පොදු ජන ප්‍රහාරයන් එල්ල කරනු ලැබේ නම්, දූමා සභාවට[81] පසු, ස්වීබෝර්ග් සහ ක්‍රොන්ෂ්තාද්න්[82] සිදුවීම්වලින් පසු, වෙන කවරදාටත් වඩා අස්ථිර තත්වයට පත්ව සිටින, හමුදා දිනා ගැනීමට ධෛර්යමත් හා දක්ෂ ලෙස සටනක් කරනු ලැබේ නම්, එසේම පොදු අරගලයට ගම්බද පෙදෙස්ද සහභාගි වනු දැකීමට අපි කටයුතු කරමු

නම්, මීළඟ රුසියානු ආයුධ සන්නද්ධ නැගී සිටීමේදී අපට ජයග්‍රහණය අත් වනු ඇත.

එසේ නම්, රුසියානු විප්ලවයේ ඒ ශ්‍රේෂ්ඨ සමයේ පාඩම් උගෙන ගන්නා අතරම, අපි අපගේ වැඩ වඩාත් පුළුල් ලෙස දියුණු කරමු; අපේ කර්තව්‍යයන් වඩාත් නිර්භීත ලෙස නියම කරමු. අපේ වැඩ කටයුතුවල පදනම වන්නේ වර්තමාන අවස්ථාවේ පංති උවමනාවන් හා ජාතියේ සංවර්ධනයේ අවශ්‍යතාවයන් ගැන වූ නිවැරදි තක්සේරුවකි. සාර්වාදී පාලනය පෙරළා දැමීමේ හා විප්ලවවාදී ආණ්ඩුවක් මගින් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවීමේ සටන් පාඨය යටතේ, අපි නිර්ධන පංතියෙන් එන්න එන්නම වැඩි වන කොටසක් ඒකරාශී කරමින් සිටින්නෙමු. එම කටයුත්ත දිගටම කරගෙන යන්නෙමු. මේ දක්වා අපේ වැඩ කටයුතුවල පදනම හා ප්‍රධාන සන්ධාරය වූයේ ජනතාවගේ දේශපාලන අවබෝධය දියුණු කිරීම ය. නමුත්, මෙම සාමාන්‍ය, නිරන්තර හා මූලික කර්තව්‍යයට අමතරව, රුසියාවේ වර්තමානය වැනි කාලවල දී, වෙනත් නිශ්චිත හා විශේෂ කර්තව්‍යයන් ද පැවරෙන බව අපි අමතක නොකළ යුත්තෙමු. අපි අති පණ්ඩිතයන් හා අමනයන් නොවිය යුත්තෙමු. සියළු කාලවල දී ම හා සියළු තත්වයන් යටතේ ම නොවෙනස්ව පවතින ස්ථිර කටයුතු ගැන සඳහන් කරමින්, අවස්ථාවේ මෙම විශේෂ කර්තව්‍යයන්, එනම්, නිශ්චිත අරගල ආකාරයන්ට අදළ මෙම විශේෂ කර්තව්‍යයන්, මඟ නොහැරිය යුත්තෙමු.

මහා පොදු ජන අරගලයක් ළඟ එන බව මතක තබා ගනිමු. එය ආයුධ සන්නද්ධ නැගී සිටීමක් වනු ඇත. හැකිතාක් දුරට එය සමගාමී ලෙස සිදු කළ යුතුය. තමන් ආරම්භ කරන්නට යන්නේ, ආයුධ සන්නද්ධ, රුදුරු හා දරුණු අරගලයක් බව, ජනතාව දත යුතු ය. මරු නොතකන ගුණය ඔවුන් අතර පැතිරී යනු ඇති අතර, එයින් ජයග්‍රහණය සහතික කෙරේ. සතුරා වෙත එල්ල කරන දැඩි පහරට උච්ජතම ජවවේගය කැවිය යුතුය. ජනතාවගේ සටන් පාඨය විය යුත්තේ ප්‍රහාරය මිස ආරක්ෂාව නොවේ. සතුරා නිර්දය ලෙස සමූලඝාතනය කිරීම ඔවුන්ගේ කර්තව්‍යය වනු ඇත. අරගල සංවිධානය ජංගමශීලී හා නම්‍යශීලී වනු ඇත. හමුද අතර වැනෙන සුළු කොටස් ක්‍රියාශීලී අරගලයට ඇද ගනු ලැබේ. එසේම මෙම භාරදූර අරගලයේ දී පංති විඥානය ඇති නිර්ධන පංතිය එහි කාර්යය සපුරා ඉටු කළ යුතුය.

''ප්‍රොලිතාරි'' අංක 2,
1906 අගෝස්තු 29

වී. අයි. ලෙනින්. සම්පූර්ණ
කෘති, 5 වැනි මුද්‍රණය,
වෙළුම 13, පිටු 369—377

# ගමන ඇරඹීම

අප පිටු පස ඇත්තේ බිඳී විසිරී යාමේ වර්ෂයක්, දෘෂ්ටිමය-දේශපාලන අසමගියේ වර්ෂයක් හා පක්ෂය පාවෙමින් තිබීමේ වර්ෂයක් ය. පක්ෂ සංවිධාන සියල්ලෙහිම සාමාජික සංඛ්‍යාව පහත වැටී ඇත. ඉන් සමහරක්, ස්වකීය සාමාජිකත්වය ඉතාමත් අඩුවෙන්ම නිර්ධන පංතික වූ සංවිධාන, කැබලි වී ගොස් ඇත. විප්ලවය විසින් නිර්මාණය කරන ලද පක්ෂයේ අර්ධ නීත්‍යානුකූල ආයතන, නැවත නැවතත් බිඳී ගොස් ඇත. පොදු කඩා බිඳ ගෙන යාමෙන් කම්පිත වූ පක්ෂයේ සමහර කොටස්, පැරණි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ආරක්ෂා කර ගැනීම අවශ්‍ය ද යනුත්, එහි වැඩ කටයුතු කරගෙන යාම අවශ්‍යද යනුත්, නැවතත් ''නීති විරෝධී'' ලෙස කටයුතු කිරීම අවශ්‍ය ද හා එය කළයුත්තේ කෙසේ ද යනුත්, ප්‍රශ්න කිරීමට පටන් ගත් තත්වයක් උද විය. එහිදී අන්ත දක්ෂිණාංශය (ඊනියා ලික්විඩේෂනිස්ට්* උපනතිය) මෙම ප්‍රශ්නයට පිළිතුරු දුන්නේ, සෑම කැප කිරීමක්ම වුව කරමින්, පක්ෂ වැඩ පිළිවෙළ, උපක්‍රම හා සංවිධානය අත්හැර දැමීම වුව කරමින්, අප නීත්‍යානුකූල තත්වයට පැමිණීම අවශ්‍ය බව කීමෙනි. මෙය නම් නිසැක වශයෙන් ම දෘෂ්ටිමය-දේශපාලන අර්බුදයක් මෙන්ම, සංවිධානමය අර්බුදයක් ද වන්නේ ය.

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මෑත දී පවත්වන ලද සමස්ත-රුසියා සාකච්ඡා සභාව[83] විසින් පක්ෂය මාර්ගය වෙතට අවතීර්ණ කර තිබේ. ප්‍රතිවිප්ලවයේ ජයග්‍රහණයෙන් පසු කාලයේ රුසියානු කම්කරු පංති ව්‍යාපාරයේ සංවර්ධනයෙහි සන්ධිස්ථානයක් එයින් සලකුණු වන බව පෙනෙන්නට තිබේ. අප පක්ෂයේ මධ්‍යම කාරක සභාව

---

*ලික්විඩේෂනිස්ට්—ඇවර කාර — (පරිවර්තක)
ලික්විඩේටර් — ඇවර කරු — (පරිවර්තක)

නිකුත් කළ විශේෂ වාර්තාවක පළ කරන ලද, එම සාකච්ඡා සහා තීරණ, මධ්‍යම කාරක සභාව විසින් අනුමත කරනු ලැබීය. එනිසා, ඊළඟ සම්මේලනය පැවැත්වෙන තෙක් ඒවා මුළු පක්ෂයේම තීරණ ලෙසට පවතී. අර්බුදයට හේතුව සහ එහි ඇති වැදගත් කමත්, එමෙන්ම එයින් ගොඩ ඒමේ මාර්ගයත්, පිළිබඳ ප්‍රශ්නයට, මෙම තීරණවලින් නිශ්චිත පිළිතුරක් ලැබේ. සාකච්ඡා සහා යෝජනාවල ජීව ගුණය අනුව වැඩ කිරීමෙන්ද, සියළුම පක්ෂ කාරක වරුන්ට, පක්ෂයේ වර්තමාන කර්තව්‍යයන් ගැන පැහැදිලිව හා සම්පූර්ණ වශයෙන් වටහා දීමට ප්‍රයත්න දැරීමෙන්ද, එක්සත් හා ඵලදයක විප්ලවවාදී-සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ කටයුතු සඳහා අපගේ සංවිධානවල බලවේගයන් ශක්තිමත් කිරීමට හා තහවුරු කිරීමට, ඒවාට හැකි වනු ඇත.

පක්ෂ අර්බුදයට ප්‍රධාන හේතුව, සංවිධානය ගැන යෝජනාවට සම්බන්ධ පූර්විකාවෙහි සඳහන් කර ඇත. මෙම ප්‍රධාන හේතුව වන්නේ, චපල බුද්ධිමත් හා සුළු ධනපති කොටස් ය. එම කොටස්වලින් නිදහස් වීමට කම්කරු පංති පක්ෂයට සිදුවිය. එම කොටස්, ප්‍රධාන කොටම ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ඉක්මන් ජයග්‍රහණයක් බලාපොරොත්තුවෙන් කම්කරු පංති ව්‍යාපාරයට බැඳුනු හා ප්‍රතිගාමීත්වය බලවත් වූ කාල සීමාවකට මුහුණ දීමට නුපුළුවන් අය වෙති. ඔවුන්ගේ අස්ථාවර ස්වභාවය න්‍යාය (''විප්ලවවාදී මාක්ස්වාදයෙන් පසුබැසීම'' — වර්තමාන තත්වය ගැන යෝජනාව) සහ උපක්‍රම (''සටන්පාඨ කප්පාදු කිරීම'') යන දෙකෙහිදීම හා එමෙන්ම, පක්ෂ සංවිධානයෙහිදී ද, අනාවරණය විය. මෙම අස්ථාවර ස්වභාවය පලවා හැරිය පංති විඥනය ඇති කම්කරුවෝ, ලික්විඩේටර්වරුන්ට විරුද්ධව දැඩිලෙස සටන් කරමින්, පක්ෂ සංවිධාන කළමණාකරණය හා මෙහෙයවීම තමන් අතට ම ගැනීමට පටන් ගත්හ. ආරම්භයේ දීම, මෙම අසමගියේ සහ අර්බුදයේ මූලිකාංගයන් ජය ගැනීමට පක්ෂයේ සවිය අරටුවට නො හැකි වූයේ නම්, එයට හේතුව, ප්‍රතිවිප්ලවයේ ජයග්‍රහණය මධ්‍යයේ එම කර්තව්‍යය අති විශාල හා දුෂ්කර එකක් වීම පමණක් නොව, විප්ලවීය අදහස් ඇති නමුත්, ප්‍රමාණවත් තරම් සමාජවාදී සිතුවිලි නොදැරූ කම්කරුවන් අතර, පක්ෂය කෙරෙහි එක්තරා නො සැලකිලිමත් භාවයක් විද්‍යාමාන වීම ද වේ. අසමගිය හා චපලත්වය ජය ගැනීමේ මාර්ගය සම්බන්ධයෙන් වූ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ කැටි කොට ගත් අදහස සේ ගත හැකි, සාකච්ඡා සහා තීරණ ප්‍රථමයෙන්ම ආමන්ත්‍රණය කර ඇත්තේ රුසියාවේ පංති විඥනය ඇති එම කම්කරුවන් වෙතට ය.

වර්තමාන දුෂ්කර අවස්ථාවේදී, කම්කරු පංති පක්ෂය නිශ්චිත මාවතක් තෝරා ගැනීම පිළිබඳ ප්‍රශ්නයට සම්පූර්ණ පිළිතුරක් සපයන සාකච්ඡා සහා තීරණවල ප්‍රධාන සන්ධාරය වර්තමාන පංති සම්බන්ධකම් සහ සාර්වාදයේ නව ප්‍රතිපත්තිය ගැන මාක්ස්වාදී විශ්ලේෂණයකින් ද, කලින් මෙන්ම පක්ෂය තවදුරටත් තමන් වෙත පවරා ගන්නා අරගලයේ ක්ෂණික අරමුණු හඳුන්වා දීමකින් ද, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රමවල නිරවද්‍යතාවය මැනීම පිණිස විප්ලවයේ පාඩම් ගැන ඇගයීමකින් ද, පක්ෂයේ අර්බුදයට හේතු වූ කරුණු පැහැදිලි කිරීමකින් ද, එයට විරුද්ධව සටන් කිරීමේදී පක්ෂයේ නිර්ධන පංතික කොටස්වලට පැවරෙන කාර්ය කොටස පෙන්වාදීමකින් ද, නීති විරෝධී හා නීත්‍යානුකූල සංවිධාන අතර සම්බන්ධකම් පිළිබඳ ගැටළුව නිරාකරණය කිරීමකින් ද, දූමා සහා වේදිකාව උපයෝගි කර ගැනීමේ අවශ්‍යතාවය හා එහි වැරදි විවේචනය කිරීමට ගලපාගන්නා ලද හා අපගේ දූමා සහා කණ්ඩායමට මග පෙන්වීම සඳහා, නිශ්චිත උපදෙස් පිළියෙළ කිරීමේ අවශ්‍යතාවය පිළිගැනීමකින් ද සමන්විත ය. මෙම පිළිතුර වඩාත් විස්තර සහිත ලෙස විමසා බලමු.

දේශපාලන වශයෙන් කණ්ඩායම් ගත වූ පංති අතර අන්තර් සම්බන්ධකම් පසු ගිය ඍජු පොදු ජන විප්ලවීය අරගලයේ කාලයේ මෙන්ම නොවෙනස්ව පවතී. ගොවි ජනතා අති බහුතරයට අවශ්‍ය සේ, අර්ධ වැඩවසම් ඉඩම් හිමිකම විනාශ කරන හා සාර්වාදය පෙරළා නොදමා සාර්ථක කර ගත නො හැකි, ගොවිජන විප්ලවයක් සඳහා ප්‍රයත්න නොදරා සිටිය නො හැකිය. ශක්තිමත් සංවිධානයක් පිහිටුවා ගැනීමට නො හැකිව සිටින ගොවි ජනයාගේ ප්‍රජාතන්ත්‍රවාදී කොටස්වලට, ප්‍රතිගාමීත්වයේ ජයග්‍රහණයෙන් වැදුනු පහර ඉතා බලවත් ය. නමුත්, සියළු පීඩනය මධ්‍යයේත්, කළු සියය දූමා සභාව තිබියදීත්, ත්‍රෑදෙවික් වරුන්[84] ගේ අන්ත අස්ථායීතාවය මධ්‍යයේත්, තුන්වැනි දූමා සභාවේ විවාදවලින් පවා ගොවි ජනතාවගේ විප්ලවවාදී ඉරියව්ව මැනවින් පෙනෙන්නට තිබේ. ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ කර්තව්‍යයන් සම්බන්ධයෙන් නිර්ධන පංතිය ගන්නා ස්ථාවරයෙහි වෙනසක් නොවී පවතී. එම ස්ථාවරයේ අරමුණ ප්‍රජාතන්ත්‍රවාදී ගොවි පංතියට මග පෙන්වීම සහ එය ලිබරල් ධනපති කැඩේට් පක්ෂයේ බලී පැමෙන් ඉවතට ගැනීමය. කැඩේට් පක්ෂය සුළු වාද භේද මධ්‍යයේ වුවද, ඔක්තෝබර්වාදීන්ට[85] වඩ වඩාත් සමීප වන අතර, ජාතිකවාදී ලිබරල්වාදය තහවුරු කිරීමටත්, ජාත්‍යෝන්මාදවාදී උද්ඝෝෂණය මගින් සාර්වාදයට හා ප්‍රතිගාමීත්වයට ආධාර කිරීමටත් මෑතදී සිට උත්සාහ දරයි.රාජාණ්ඩුව සම්පූර්ණයෙන්ම අහෝසි කර දැමීම සහ නිර්ධන පංතියට හා විප්ලවවාදී ගොවිජනතාවට දේශපාලන බලය අතපත් කර ගැනීම සඳහා, ඉහතදී මෙන්ම දැනුදු අරගලය සිදුවන්නේ යයි යෝජනාව කියයි.

මේ දක්වාම වූ ලෙසට, ඒකාධිපත්‍යය තවදුරටත් නිර්ධන පංතියේ සහ සියළුම ප්‍රජාතන්ත්‍රවාදී උපනතිවල ප්‍රධාන සතුරා වන්නේ ය. එසේ වුවද, එය නොවෙනස්වම පැවතියේ යයි කල්පනා කිරීම වරදකි. ස්තො-

ලිපින් ''ව්‍යවස්ථාවෙන්'' හා ස්තොලිපින්ගේ ගොවිජන ප්‍රතිපත්තියෙන්[86], පැරණි, අර්ධ පීතෘ මූලික, අර්ධ වැඩ වසම් සාර්වාදය බිඳ වැටීමේ නව අවධියක් සහ එය ධනපති රාජාණ්ඩුවක් බවට පරිවර්තනය වීමේ නව පියවරක් සලකුණු වේ.වර්තමාන තත්වය ගැන එපරිද්දෙන් කරන ස්වභාව නිරූපනය සම්පූර්ණයෙන් ම අත්හැර දැමීමට හෝ, එසේ නැතහොත් ''ධනපති'' යන්න වෙනුවට ''ධනවත්'' යන්න ආදේශ කිරීමට හෝ කැමැත්ත දක්වූ කොකේසියානු නියෝජිතවරු සාවද්‍ය වූහ. ඒකාධිපත්‍යය බොහෝ කලක්ම තිස්සේ ධනවතුන්ගේ පාලනයක් විය. නමුත්, ඒකාධිපත්‍යය, එහි ගොවිජන ප්‍රතිපත්තියත්, ධනපති පංතියේ යම්යම් ස්ථරයන් සමග එක එල්ලේ ජාතික වශයෙන් ඇති කරගත් සංවිධිත සන්ධානයත්, යන දෙකම අනුව, ධනපති වන්නට පටන් ගත්තේ විප්ලවයේ ප්‍රථම අවධියෙන් පසුව සහ එහි පහරවල බල පෑම යටතේ ය. දැන් බොහෝ කලක් තිස්සේ, ඒකාධිපත්‍යය, ධනපති පංතිය ඇති දැඩි කරමින් සිටියේය. ධනපති පංතිය, රූබලයේ මාර්ගයෙන්, බොහෝ කලක සිටම ''මුදුනට'' පාර කපමින්, නීති සම්පාදනයෙහි හා පරිපාලනයෙහි බලය ලබා ගනිමින්, එසේම වංශවත් රදළයන්ට සමීප තැනක් දිනා ගනිමින් සිටියේය. නමුත් වර්තමාන තත්වයේ අමුතු ලක්ෂණයක් ඇත. එය නම්, ධනපති පංතියේ යම් යම් ස්ථරයන් සඳහා නියෝජිත සභාවක් පිහිටුවීමටත්, ඔවුන් හා රදළ ඉඩම් හිමියන් අතර තුලනයක් ඇති කිරීමටත්, දූමා සභාවේ මෙම කොටස් අතර සන්ධානයක් ඇති කිරීමටත්, ඒකාධිපත්‍යයට සිදුවී තිබීම ය; දුප්පත් ගොවියාගේ පීතෘ මූලික ස්වභාවය කෙරෙහිද, ගම්බද පොදු ජනතාවන්ට විරුද්ධව සහාය ලබා ගැනීම සඳහා ග්‍රාමීය කොමියුනය විනාශ කරමින් සිටින පොහොසත් ගොවීන් කෙරෙහි ද, එය තැබූ සියළු බලාපොරොත්තු අත්හැර දැමීමට, එයට සිදුවී තිබීමය.

ඒකාධිපත්‍යය ව්‍යාජ ව්‍යවස්ථානුකූල ආයතන වලින් සැරසෙත්ම, සාර් පුරිෂ්කේවිච්ලා හා ගුච්කොව්ලා සමග පමණක් සන්ධානයක් ඇති කර ගැනීම හා වෙන කිසිම පිරිසක් සමග සන්ධානයක් ඇති නොකර ගැනීම නිසා, පෙර කිසිම කලෙක නො සිදුවූ තරම් හොඳින් එහි පංති හරය හෙළිදරව් වන්නේ ය. වාස්තවික ලෙසට අවශ්‍ය වන ධනපති විප්ලවයේ කර්තව්‍යයන් ඉටු කිරීම, එනම්, ධනපති සමාජයේ කටයුතු ඇත්ත වශයෙන්ම මෙහෙයවීම සඳහා, ජනතාවගේ නියෝජිත සභාවක් පිහිටුවීම සහ ගම්බද පෙදෙස් මධ්‍යකාලීන, අවුල් සහගත සහ යල් පැනගිය ගොවිජන සම්බන්ධකම් වලින් නිදහස් කිරීම තමන් වෙතම පවරා ගැනීමට ඒකාධිපත්‍යය උත්සාහ කරයි. නමුත්, ඒකාධිපත්‍ය විසින් ගන්නා ලද මෙම නව පියවරයන් ගෙන් මේ දක්වා ලැබී ඇති ප්‍රත්‍යක්ෂ ප්‍රතිඵල, නිශ්චිත වශයෙන්ම බිංදුවය. එයින් වෙන කවරදකටත් වඩා පැහැදිලි ලෙස



පෙන්නුම් කරන්නේ,ඓතිහාසික කර්තව්‍යය ඉටු කිරීම සඳහා වෙනත් බලවේගයන් හා වෙනත් මාධ්‍යයන් අවශ්‍ය බව ය. දේශපාලන පළපුරුද්දක් නොමැති දශලක්ෂ ගණන් ජනතාවන්ගේ සිත් තුළ, මේ දක්වා ඒකාධිපත්‍යය විසංසන්දනය කරන ලද්දේ සාමාන්‍ය පොදු ජන නියෝජිතත්වය සමග ය. දැන් අරගලය නිසා එහි අරමුණු පටු වන්නේ ය. එය එහි කර්තව්‍යය රාජ්‍යයේ බලය සඳහා අරගල කිරීම බව වඩාත් නියත වශයෙන් විස්තර කරන්නේ ය. එනිසා ඒ අනුව නියෝජිතත්වයේ ස්වභාවය හා වැදගත්කම ද නිර්ණය වන්නේ ය. තුන්වැනි දූමා සභාව විසින්, පරණ සාර්වාදය බිඳ වැටීමේත්, එහි සාහසික ස්වභාවය උත්සන්න වීමේත්,පැරණි විප්ලවවාදී අරමුණු වඩාත් ගැඹුරු වීමේත්, මේ අරමුණු සඳහා කරන අරගලයේ ක්ෂේත්‍රය (සහ එම අරගලයට සහභාගි වන පිරිස්) විශාල වීමේත්, විශේෂ අවධියක් සලකුණු වන්නේ එහෙයිනි.

අපි මෙම අවධිය ඉක්මවිය යුත්තෙමු. වර්තමාන නව තත්වයන් අනුව නව අරගල ආකෘති අවශ්‍ය වන්නේ ය. දූමා වේදිකාව පරම අවශ්‍යතාවයකි. නිර්ධන පංති පොදු ජනතාවට අධ්‍යාපනය දීමට හා ඔවුන් සංවිධානය කිරීමට දීර්ඝ ලෙස ප්‍රයත්න දැරීම විශේෂයෙන්ම වැදගත්ය. නීති විරෝධී හා නීත්‍යානුකූල කටයුතු අතර සම්බන්ධය නිසා පක්ෂය හමුවේ විශේෂ ගැටළු මතු වෙයි. ලිබරල්වාදීන් හා ලික්විඩේෂනිස්ට් වරුන් විසින් අපකීර්තියට පත් කිරීමට උත්සාහ කරනු ලබන විප්ලවයේ අත් දැකීම් ප්‍රචලිත කිරීම සහ පැහැදිලි කිරීම, න්‍යායික සහ ප්‍රායෝගික යන දෙවර්ගයේම අරමුණු සඳහා අවශ්‍ය වේ. නමුත්, ස්වකීය අරගල විධි හා මාධ්‍යයන්හි දී, නව තත්වයන් සැලකිල්ලට ගැනීමට සමත් විය යුතු පක්ෂයේ උපක්‍රමීය වැඩ පිළිවෙළ, නො වෙනස්ව පවතී. විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රමවල නිරවද්‍යතාවය, 1905—1907 කාලයේ පොදු ජන අරගලයෙන් සනාථ වී ඇතැයි, සාකච්ඡා සභාවේ එක යෝජනාවකින් කියවේ. මෙම ප්‍රථම සටන් ව්‍යාපාරයේ ප්‍රතිඵලය වූ, විප්ලවයේ පරාජයෙන් හෙළිදරව් වූයේ, කර්තව්‍යයන් වැරදි බව නොව, ක්ෂණික අරමුණු ''මනෝරාජිකවාදී'' බව නොව, විධි හා මාධ්‍යයන් වැරදි ලෙස වටහා ගත් බව නොව, බලවේගයන් ප්‍රමාණවත් තරමට සූදනම් කර නොතිබුණු බවය; විප්ලවීය අර්බුදය ප්‍රමාණවත් තරම් පුළුල් හා ගැඹුරු වී නො තිබුණු බවය; එමෙන්ම ස්තොලිපින් සහ සමාගම ඉතාමත් ප්‍රශංසා කටයුතු උත්සුක්ත භාවයකින්, එය පුළුල් කිරීමට හා ගැඹුරු කිරීමට කටයුතු කරන බව ය! ලිබරල්වාදීන් සහ බිරාන්ත වී සිටින බුද්ධිමතුන් නිදහස සඳහා කරන ලද ප්‍රථම නියම පොදුජන අරගලයෙන් පසුව මන්දෝත්සාහී වූනාවේ. බිය ගුල්ලන් මෙන් ඔවුන් මෙසේ පුනරුච්ඡාරණය කළාවේ: කලින් පරාද

වුනු තැනට නොයන්න,එම මරණීය මාර්ගයෙහි නැවත පිය නොනගන්න. පංති විඥනය ඇති නිර්ධන පංතිය ඔවුනට මෙසේ පිළිතුරු දෙනු ඇත: ඉතිහාසයේ මහා යුද්ධත්, විප්ලවවල විශාල ප්‍රශ්නත්, විසඳන ලද්දේ දියුණු පංති නැවත නැවතත් ප්‍රහාරය දීමට ආපසු පැමිණීමෙනි. එමෙන්ම ඔවුහු පරාජයෙන් පාඩම් උගෙන ගැනීමෙන් පසුව ජයග්‍රහණය අත්පත් කර ගත්හ. පරාජයට පත් හමුද හොඳින් උගෙන ගනිති. රුසියාවේ විප්ලව-වාදී පංතිවල ප්‍රථම සටන් ව්‍යාපාරයෙන් ඒවා පරාජයට පත්ව ඇත. නමුත්, විප්ලවීය තත්වය තවමත් පවතී. අළුත් ආකෘති අනුව සහ වෙනත් මාර්ග-වලින්, සමහරවිට අප ප්‍රාර්ථනා කරනවාට වඩා බොහෝ සෙමින්, විප්ලවීය අර්බුදය නැවතත් ළඟා වෙමින්, නැවතත් උග්‍රවෙමින් පවතින්නේ ය. අර්බුදයට මුහුණ දීම සඳහා වඩාත් විශාල පොදු ජන පිරිස් සංවිධානය කිරීමේ මෙම දීර්ඝ කටයුත්ත අපි කරගෙන යන්නෙමු. නියම වී ඇති වඩාත් උසස් හා නිශ්චිත කර්තව්‍යයන් සැලකිල්ලට ගනිමින්, අපගේ මෙම සූදනම්කාරී කටයුතු වඩාත් බරපතල ලෙස කළ යුතු ය. අප මෙම කටයුත්ත වඩාත් සාර්ථක කළ තරමට, නව අරගලයේදී අපගේ ජයග්‍රහණය වඩාත් සහතික වනු ඇත. වහලුන්ගෙන් සමන්විත ජාතියක්, තමන්ගේ නායකත්වය යටතේ සාර්වාදයට පහර දෙන හමුදවක් බවට, විප්ලවයේ හමුදවක් බවට 1905 දී පත්වීම ගැන රුසියානු නිර්ධන පංතියට ආඩම්බර විය හැකිය. එසේම, ඊටත් වඩා දැවැන්ත විප්ලවවාදී බලවේගයක අළුත් කාරකවරුන්ට අධ්‍යාපනය දීමේ සහ ඔවුන් පුහුණු කිරීමේ කටයුත්ත නිරන්-තරව, ධෛර්ය සම්පන්නව සහ ඉවසීමෙන් යුතුව කරන්නේ කෙසේද යන්න, දැන් එම නිර්ධන පංතියම දන්නේ වෙයි.

දූමා වේදිකාව උපයෝගි කර ගැනීම, මෙම අධ්‍යාපනය දීමේ සහ පුහුණු කිරීමේ කටයුත්තෙහි වැදගත් කොටසක් වන බව අපි කියා ඇත්-තෙමු. දූමා සභා කණ්ඩායම ගැන වූ සාකච්ඡා සභාවේ යෝජනාවෙන්, පක්ෂයට පෙන්නුම් කර තිබෙන්නේ, අති විශේෂ නීතිය[87] සමයේ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ලැබූ අත්දැකීම් වලට ඉතාමත් ආසන්න මාර්ගය බව — ඉතිහාසයේ අවස්ථා ගැන බලන්නේ නම් — කිව හැකිය. එය උපයෝගි කරගන්නේ කෙසේද යන්න, නීති විරෝධී පක්ෂය දත යුතුය. නීත්‍යානුකූල දූමා කණ්ඩායම උපයෝගි කර ගන්නේ කෙසේ ද යන්න, එය දත යුතුය. එය, එම කණ්ඩායම, කාර්යයට ඔබින පක්ෂ සංවිධානයක් ලෙසට පුහුණු කර ගත යුතුය. කණ්ඩායම දූමා සභාවෙන් ඉවත් කර ගැනීමේ ප්‍රශ්නය මතු කිරීමෙන් (සාකච්ඡා සභාවේ ''අත්සොවිස්ට් වරු''[88]දෙදෙනෙක් සිටි නමුත් ඔවුහු ප්‍රශ්නය විවෘත ලෙස මතු නො කළහ) හෝ එහි වැරදි එක එල්ලේම සහ විවෘත ලෙස විවේචනය කිරීමෙන් හා යෝජනාවෙහි ඒවා විස්තර කිරීමෙන් හෝ (සාකච්ඡා සභාවේ සමහර



නියෝජිතයන් බල කර කී ලෙසට) වැලකී සිටීම, ඉතාමත් වැරදි උපක්‍ර-මයක් මෙන්ම, වර්තමාන කාලයේ තත්වයන් විසින් නියම කෙරෙන සසංගත පක්ෂ වැඩ කටයුතුවලින්, ඉතාමත් කණගාටු දයක ලෙස පිට පැනීමක්ද වන්නේය. කණ්ඩායම අතින් වැරදි සිදුවී තිබෙන බවත්, ඒ සම්බන්ධයෙන් දෙස් ලැබිය යුත්තේ එය පමණක් නොවන බවත්, එම වැරදි අපගේ පක්ෂ සංවිධාන සියල්ලෙහි ම අනිවාරණීය වැරදිවලට ඉතාමත් සමාන වූ බවත්, යෝජනාව සම්පූර්ණයෙන්ම පිළිගනී, නමුත් වෙනත් වැරදි, එනම් පක්ෂයේ දේශපාලන ප්‍රතිපත්තියෙන් පිටපැනීම් සිදුවී ඇත. මේවා සිදුවී තිබෙන නිසා, එම වැරදි කර තිබෙන්නේ මුළු පක්ෂයේම නාමයෙන් විවෘත ලෙස වැඩ කරන සංවිධානයක් විසින් නිසා, ඒවා පිටි පැනීම් වන බව පැහැදිලි ලෙස හා නිශ්චිත වශයෙන් ප්‍රකාශ කිරීම පක්ෂයේ යුතු කමක් විය. පාර්ලිමේන්තු කණ්ඩායම් හා පක්ෂය අතර අසාමාන්‍ය සම්බන්ධ කම් පැවති අවස්ථා පිළිබඳ නිදර්ශන රැසක්, බටහිර යුරෝපීය සමාජවාදී පක්ෂවල ඉතිහාසයේ ඇත. ප්‍රමාණවත් මට්ටමක පක්ෂ ජීවගු-ණයක් නොපෙන්වන කණ්ඩායම් ඇති, ලතින් රටවල් හා සම්බන්ධ-යෙන් වූ කල, මෙම සම්බන්ධ කම් අද දක්වාම බොහෝවිට ඉතාමත් අසාමාන්‍ය වේ. අපි ආරම්භයේ පටන්ම රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍ර-වාදී පාර්ලිමේන්තුවාදය වෙනත් පදනමක් ඇතිව සංවිධානය කළ යුත්තෙමු. අපි, වහාම, මෙම ක්ෂේත්‍රයේ කණ්ඩායම් ස්වරූපයෙන් වැඩ කිරීම ඇති කළ යුත්තෙමු. පක්ෂය තමන් පිටු පස සිටින බවත්, පක්ෂය ඔහුගේ වැරදි ගැන බොහෝ කණගාටු වන බවත්, එය ඔහුගේ මාවත හෙළි කිරීමට උත්සාහ කරන බවත් සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රී වරයෙකුටම ඇත්ත වශයෙන්ම දැනෙන ලෙසට ද, දූමා සභාවේ පියවරයන් ගැන වූ ප්‍රායෝගික මාක්ස්වාදී විවේචනයන් මගින් උගෙන ගනිමින් හා පක්ෂයේ දූමා සභා කටයුතු වලට ආධාර දීම තම යුතු කම ලෙස හඟිමිනුත්, කණ්ඩා-යමේ විශේෂ වැඩ කටයුතු පක්ෂයේ සමස්ත ප්‍රචාරක හා උද්ඝෝෂණ වැඩ කටයුතු වලට ගැලපීමට ප්‍රයත්න දරමිනුත්, පක්ෂයේ පොදු දූමා සභා කටයුතු වලට සෑම පක්ෂ සාමාජිකයෙකුටම සහභාගි විය හැකි ලෙසට ද අපි එය කළ යුත්තෙමු.

මුළු දූමා සභාවාරය තුළම, දූමා සභාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩා-යමේ වැඩ ගැන සාකච්ඡා කළ, ලොකුම පක්ෂ සංවිධානවල නියෝජි-තයින්ගේ ප්‍රථම බල සහිත රැස්වීම වූයේ සාකච්ඡා සභාව ය. පක්ෂය එහි දූමා සභා කටයුතු හැඩගස්වන්නේ කෙසේ ද යනුත්, මෙම ක්ෂේත්‍ර-යෙහි දී පක්ෂය තමන්ගෙන් සහ කණ්ඩායමෙන් අපේක්ෂා කරන්නේ කොතරම් දැඩි මෙහෙයක් ද යනුත්, නියම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පාර්ලි-මේන්තුවාදය සකස් කර ගැනීම සඳහා, ඉවත හැරීමක් නැතිව හා සසංගත

ලෙස එය කටයුතු කරන ආකාරයත්, සාකච්ඡා සභා තීරණයෙන් ඉතා පැහැදිලි ලෙස පෙනේ.

දූමා සහා කණ්ඩායම කෙරෙහි දක්වන ආකල්පයට උපක්‍රමීය අංශයක් ද, සංවිධාන අංශයක්ද ඇත. ඉන් දෙවැනි අංශය සම්බන්ධයෙන් සලකන කල, දූමා කණ්ඩායම ගැන යෝජනාව යනු අපගේ සංවිධාන ප්‍රතිපත්තියේ පොදු මූලධර්ම, එනම්, සංවිධානය හා සම්බන්ධ ප්‍රශ්නය ගැන උපදෙස් දෙමින් සාකච්ඡා සභාව තීරණය කළ මූලධර්ම,එක් විශේෂ අවස්ථාවකට ගැලපීමක් වේ. මෙම ප්‍රශ්නය ගැන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය තුළ ප්‍රධාන ප්‍රවණතාවයන් දෙකක් පවතින බව, සාකච්ඡා සභාව සටහන් කර ඇත. ඉන් එකක් අවධාරණයේ බර නීති විරෝධී පක්ෂ සංවිධානවලට දමයි; ඉන් අනික, බොහෝදුරට ලික්විඩේෂනිස්ට්වාදයට සමාන වන අතර, අවධාරණයේ බර නීත්‍යානුකූල සහ අර්ධ-නීත්‍යානුකූල සංවිධානවලට දමයි. මෙහි දී සැලකිල්ලට ගත යුතු කාරණය නම්, අප දනටමත් පෙන්වා දී තිබෙන පරිදි පක්ෂ කාරක වරුන් කිසියම් සංඛ්‍යාවක්, විශේෂයෙන්ම බුද්ධිමතුන් හා නිර්ධන පංතික සමහර දෙනෙක් පවා, පක්ෂය අතහැර යාම වර්තමාන තත්වයේ ලක්ෂණයක් වී තිබෙන බව ය. පක්ෂය අතහැර යමින් ස්වකීය ක්‍රියාකාරිත්ව ක්ෂේත්‍රය ලෙසට නීත්‍යානුකූල සංවිධාන තෝරා ගන්නේ, පක්ෂයේ හොඳම, ඉතාමත්ම ක්‍රියාකාරී කොටස්ද, නැතහොත්, පක්ෂය අත්හැර යන්නේ ''වැනෙනසුලු, බුද්ධිවාදී, සුළු ධනපති කොටස්'' ද යන ප්‍රශ්නය ලික්විඩේෂනිස්ට්වාදී උපනතිය නිසා මතු වන්නේ ය. ලික්විඩේෂනිස්ට්-වාදය බලවත් ලෙස ප්‍රතික්ෂේප කිරීමෙන් හා හෙළා දැකීමෙන්, සාකච්ඡා සභාව එම ප්‍රශ්නයට පිළිතුරු දුන්නේ පක්ෂය හැරයන කොටස් ඉහත පසුකී ගණයට අයත් බව කීමෙනැයි යන්න මනාව පැහැදිලි ය. පක්ෂයේ ඉතාමත් නිර්ධන පංතික කොටස් සහ ප්‍රතිපත්තියෙන් ඉතාමත් සසංගත හා ඉතාමත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වූ එම බුද්ධිමතුන් කොටස, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයට පක්ෂපාතව සිටියහ. යම් අය පක්ෂය අතහැර යාම නම්, පක්ෂය පිරිසිදු වීමකි; අඩුම ස්ථාවරත්වය ඇති කොටස්වලින් නිදහස් වීමකි. එය එහි අවිශ්වාසවත් මිතුරන්ගෙන් සහ කවදත් මඳ කලකට නිර්ධන පංතියට එකතු වුනු හා සුළු ධනපති පංතියෙන් හෝ එසේ නැතහොත් ''පංතියෙන් විසිවුනු'', එනම් කිසියම් පංතියක සීමාවෙන් ඔබ්බට විසිවුනු අය අතුරෙන් බඳවා ගන්නා ලද ''නඩයට එක්වුවන්ගෙන්'' Mitläufer ගෙන් නිදහස් වීමකි.

පක්ෂ සංවිධානය පිළිබඳ මූලධර්මය මෙසේ ඇගැයීමෙන්, සාකච්ඡා සම්මේලනය අනුමත කළ සංවිධාන කටයුතු පිළිබඳ ප්‍රතිපත්තිමය ක්‍රියාමාර්ගය නිවැරදි බව තර්කානුකූල ලෙස නිගමනය කළ හැකි වේ. නීති විරෝධී පක්ෂ සංවිධාන ශක්තිමත් කිරීම, සියළුම වැඩ අංශවල පක්ෂ ශාඛා ඇති කිරීම, ප්‍රථමයෙන් ම, ''සෑම කාර්මික ව්‍යවසායයකම කම්කරුවන්ගෙන් සමන්විත හා සංඛ්‍යාවෙන් ඉතා කුඩා වූ හෝ, පිරිසිදු ම පක්ෂ කාරක සභා පිහිටුවීම'', කම්කරුවන්ම අතරින් ආ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ නායකයන් අතට නායකත්ව කාර්යයන් සංකේන්ද්‍රණය කිරීම, යන මේවා අද දවසේ කර්තව්‍යයන් වන්නේ ය. මෙම ශාඛාවල හා කාරක සභා වල කර්තව්‍යය විය යුත්තේ, ''ජනතාව සමග සමීප සම්බන්ධකම් පවත්වා ගැනීම'' හා ජනතාවගේ සියළුම අවශ්‍යතාවයන් සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රතිචාරය දක්වෙන ආකාරයට කටයුතු මෙහෙයවීම සඳහා, සියළුම අර්ධ නීත්‍යානුකූල සංවිධාන හා හැකි තරම් දුරට නීත්‍යානුකූල සංවිධානද, උපයෝගී කර ගැනීම බව නොකියා වුවද, පැහැදිලි වන කරුණකි. සෑම පක්ෂ ශාඛාවක්ම හා කම්කරු කාරක සභාවක් ම ''ජනතාව අතර උද්ඝෝෂණය, ප්‍රචාරය හා ප්‍රායෝගික සංවිධාන කටයුතු සඳහා කඳවුරක්'' විය යුතුය. ඉන් අදහස් වන්නේ ජනතාව යන තැනට ඔවුන් ද යායුතු බව හා සෑම අවස්ථාවකදීම ජනතාවගේ විඥනය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දෙසට තල්ලු කිරීමත්, සෑම නිශ්චිත ප්‍රශ්නයක් ම නිර්ධන පංතියේ පොදු කර්තව්‍යයන් සමග සම්බන්ධ කිරීමටත්, සෑම සංවිධාන කටයුත්තක්ම පංතිය තහවුරු කිරීමේ පියවරක් බවට පරිවර්තනය කිරීමටත්, ධෛර්යය හා දෘෂ්ටිමය බලපෑම අනුව (නමුත් පදවි හා නම්බුනාම වලින් නම් නොවේ) නීත්‍යානුකූල නිර්ධන පංති සංවිධාන සියල්ලෙහි ම නායකත්ව කාර්ය කොටස දිනා ගැනීමටත්, උත්සාහ කළ යුතු බව ය. මෙම ශාඛා සහ කාරක සභා සමහර විට ඉතා කුඩා වුවත්, ඒවා පක්ෂ සම්ප්‍රදයයන් හා පක්ෂ සංවිධානයන් මගින් මෙන්ම නිශ්චිත පක්ෂ වැඩ පිළිවෙළක්ද මගින් එකට සම්බන්ධ කෙරෙන්නේ ය. එවිට පක්ෂයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සාමාජිකයන් දෙදෙනෙකුට හෝ තිදෙනෙකුට, ඒකාන්ත ස්වරූපයක් නොමැති නීත්‍යානුකූල සංවිධානයක් තුළ ගිලී යාමෙන් වැළකී, සියළුම කොන්දේසි යටතේ, සියළුම වාතාවරණයන් යටතේ, ඔවුන්ගේ පක්ෂ ක්‍රියාමාර්ගය ගෙන යාමට සහ සියළු ආකාරයේ ම තත්වයන් යටතේ, මුළු පක්ෂයේම ජීව ගුණයෙන් තමන්ගේ වටපිටාව කෙරෙහි බල පෑමට හා තමන් ගිලගැනීමට වටපිටාවට ඉඩ නොදී ආරක්ෂා වීමට හැකි වන්නේ ය.

එක් හෝ තවත් වර්ගයක පොදු ජන සංවිධාන විසුරුවා හැරියත්, නීත්‍යානුකූල වෘත්තීය සමිතිවල පැවැත්ම තහනම් කළත්, ප්‍රතිවිප්ලවයේ පාලනයක් යටතේ සිටින පොලිසිය විසින් එක් හෝ තවත් හේතුවක් පෙන්වමින්, කම්කරු ක්‍රියාරම්භකත්වයේ සෑම විවෘත ක්‍රියාවක්ම විනාශ කර දමනු ලැබුවත්, ධනපති රටක, කම්කරු පොදු ජනතාව සංකේන්ද්‍රණය

වීම වැළැක්විය හැකි බලවතෙක් මිහි පිට නොමැත. රුසියාව දැනටමත් එවැනි ධනපති රටක් වී තිබෙන බව මෙහිලා කිව යුතුය. එක් හෝ තවත් මගකින්, නීත්‍යානුකූලව හෝ අර්ධ නීත්‍යානුකූල ලෙස, විවෘතව හෝ රහසින් කම්කරු පංතිය එයට විශේෂ වූ, එක්රැස්වීමේ ලක්ෂයන් සොයා ගනු ඇත. පංති විඥානය ඇති සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පාක්ෂිකයෝ සෑම තැනෙකදීම හා සෑම විටම ජනතාව ඉදිරියෙන් ගමන් කරනු ඇත; සෑම තැනෙකදීම හා සෑම විටම පක්ෂ ජීව ගුණයෙන් ජනතාවට බල පෑම පිණිස එක්ව ක්‍රියා කරනු ඇත. තවද, තමන් පංතියේ පක්ෂය බව විවෘත විප්ලවයේදී ඔප්පු කර තිබෙන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, වැඩ වර්ජනවලදී, 1905 නැගී සිටීමේදී සහ එමෙන්ම 1906—1907 මැතිවරණයේදී, දශලක්ෂ ගණන් ජනතාවට නායකත්වය දුන් ඒ පක්ෂය, දුනුදු පංතියේ පක්ෂය, ජනතාවගේ පක්ෂය වන එය, පෙරටු බල ඇණිය ලෙසට පවතිනු ඇත. ඉතාමත් දුෂ්කර කාලවලදී පවා, බහුතර ජන හමුදාව සමග සම්බන්ධය බිඳෙනු නො දෙන එම පක්ෂය ඔවුනට මෙම දුෂ්කර කාලය ගෙවා ගැනීමට, නැවත වරක් ඔවුන්ගේ පිරිස් තහවුරු කර ගැනීමට, ඔවුනට ආධාර කරනු ඇත.

කළු සියය උග්‍රයන්,[89] දූමා සභාව තුළ හා ඉන් පිටතත් අගනුවර හා ප්‍රත්‍යන්ත පළාත් වලත් ප්‍රීති උත්සව පැවැත්වුවා වේ, එසේම ඝෝෂා කළාවේ. ප්‍රතිගාමිත්වය කෝපයෙන් වියරු වුනාවේ. සමබරතාවය රැකගැනීමේ දුෂ්කරතාවයේ අවදානමට මුහුණ පා සිටින ඒකාධිපත්‍යය, එහි බිඳ වැටීමට තව තවත් ළං නොකර, දේශපාලන අභව්‍යතාවයන් හා විකාරයන් පිළිබඳ පටලැවිලි ඇති නො කර, නිර්ධන පංති පිරිස්වලට හා ගොවි-ජනතාවන්ගේ විප්ලවවාදී කොටස්වලට අළුත් සහ නවක බලවේගයන් එකතු නොකර, මහා නැණවත් ස්තොලිපින් මහතාට එකද පියවරක් හෝ ගත නො හැක. ජනතාව සමග සම්බන්ධකම් ඇතිව සසංගත ලෙස වැඩ කිරීම සඳහා තහවුරු වීමෙහි සමත් වන පක්ෂයක්, දියුණු පංතියේ පෙරමුණු බල ඇණිය සංවිධානය කිරීමට සමත් වන එම පංතියේ පක්ෂයක්, නිර්ධන පංති ජීවයේ සෑම ලක්ෂණයක් ම කෙරෙහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ජීව ගුණයෙන් බලපාන ආකාරයට ස්වකීය බලවේගයන් මෙහෙයවන පක්ෂයක්, ජයගනු ඇත. කුමක් සිදු වවත්, එවැනි පක්ෂයක් ජය ගනු ඇත.

''සොට්සල්-ඩිමොක්‍රට්'', අංක 2. ජනවාරි 28 (පෙබරවාරි 10) 1909

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 17, පිටු 354—365

# හෙර්ට්සන් සමරුව

හෙර්ට්සන් උපන් දින සිට සියක් අවුරුද්දක් ගෙවී ඇත. සමස්ත ලිබරල් රුසියාවම ඔහුට ගරු බුහුමන් දක්වයි. එහෙත් එසේ කිරීමේදී ඉතා සුපරීක්ෂාකාරී ලෙස සමාජවාදය ගැන වූ ප්‍රශ්නය අමතක කරනු ලැබේ; ලිබරල්වාදියෙකුට වඩා හෙර්ට්සන් විප්ලවවාදියා වෙනස් පුද්ගලයෙකු වීමට අදාල වූ ඒ කරුණම අමතක කරනු ලැබේ. හෙර්ට්සන්ගේ අවසාන කාලයේදී ඔහු විප්ලවය අත්හළේ යයි බොරුවට සහතික වෙමින් දක්ෂිණාංශික පත්‍රද ඔහු සමරති. එසේම, විදේශගත ලිබරල්වාදීන් හා නරෝද්නික්වරු විසින් හෙර්ට්සන් ගැන කරනු ලබන දේශන තුළ ඉහළින් රජයන්නේ වදන් හරඹයයි.

අමන යශෝ-කීර්තිය සඳහා නොව, කම්කරු පංති පක්ෂයේ අරමුණු පැහැදිලි කිරීම සඳහා සහ රුසියානු විප්ලවයට මහ හෙළිපෙහෙළි කිරීමෙහි ලා ශ්‍රෙෂ්ඨ කාර්ය කොටසක් ඉටු කළ මෙම ලේඛකයා, ඇත්ත වශයෙන්ම ඉතිහාසයෙහි දිනාගෙන තිබෙන තැන නිශ්චය කිරීම සඳහා, එම පක්ෂය හෙර්ට්සන් ශත සංවත්සරය පැවැත්විය යුතු ය.

පසු ගිය ශත වර්ෂයේ ප්‍රථම අර්ධයෙහි වංශවතුන් හා ඉඩම් හිමියන් අතර වූ විප්ලවවාදීන් පරම්පරාවට හෙර්ට්සන් අයත් විය. බිරොන්ලා සහ අරක්චේයව්ලා ද, නිමක් නැති ''බීමත් නිලධාරීන්, දමරිකයන්, සූදු අන්තුවන්, විවිධ වීරයන්, බල්ලන්ගේ ස්වාමිවරුන්, විනෝද කාමීන්, වධකයන් හා පිම්පියන්'' ද, එසේම ප්‍රියමනාප මනුයිලව්ලාද,[90] වංශවතුන් විසින් රුසියාවට දෙන ලදී. නමුත්, ''ඔවුනතරින්, වන මෘගයාගේ කිරෙන් ඇති දැඩි වුනු රොම්යුලස් සහ රීමස් මෙන් වීර සේනාවක් වූ දෙසැම්බර් 14 පුරුෂයන්[91] ඇති වූ බව'' හෙර්ට්සන් ලීවේය. ඔවුන් හිස සිට පතුල දක්වා වානේ ලෝහයෙන් සැදුම් ලද්දවුන්, තරුණ පරම්පරාව නව ජීවනයකට අවදි කිරීම සහ දුෂ්ඨත්වයේ සහ දසත්වයේ වාතාවරණයක උපන්

දරුවන් පිරිසිදු කරනු සඳහා ඒකාන්ත මරණයට කැපවුනු පතාක යෝධයන් බඳුය.''[92]

හෙර්ට්සන් ඒ දරුවන්ගෙන් කෙනෙකි. දෙසැම්බර්වාදීන්ගේ නැගී සිටීමෙන් ඔහු ප්‍රබෝධ විය, ''පිරිසිදු'' විය. දහනවවැනි ශත වර්ෂයේ හතළිස් ගණන්වල ඔහු බොහෝ ඉහළට නැංග අතර එකල ශ්‍රෙෂ්ඨතම චින්තකයන් හා සමග සම මට්ටමට පැමිණියේ ය. ඔහු හේගල්ගේ දයලෙක්තික ක්‍රමය ධාරණය කර ගත්තේ ය. එය ''විප්ලවයේ වීජ ගණිතය'' බව හේ දැන සිටියේ ය. ඔහු හේගල් පසු කර, ෆේපායර්බාහ් අනුව යමින් ද්‍රව්‍යවාදය වෙත එළඹියේය. 1844 දී ලියන ලද ඔහුගේ ප්‍රථම ''ස්වභාව ධර්මය ගැන අධ්‍යයනය පිළිබඳ ලිපි'', ''අනුභූතිවාදය සහ ද්‍රව්‍යවාදය'' යන කෘතිවලින් අපට අනාවරණය වන්නේ, වර්තමාන අනුභූතිවාදී ස්වභාව විද්‍යාඥයන් රාශිය හා වර්තමාන විඥනවාදී සහ අර්ධ — විඥනවාදී දර්ශනිකයන් හමුදවට වඩා, අදත් මහ ඉහළින් කැපී පෙනෙන චින්තකයෙකි. හෙර්ට්සන් දයලෙක්තික ද්‍රව්‍යවාදය දක්වාම පැමිණ, නැවතුනේය. ඔහු ඓතිහාසික ද්‍රව්‍යවාදය ඉදිරියේ නැවතුනේ ය.

1848 විප්ලවයේ පරාජයෙන් පසුව හෙර්ට්සන්ගේ අධ්‍යාත්මික නැව පෙරළීමට හේතුවූයේ මෙම ''නැවතීම'' ය. රුසියාවෙන් බැහැර ගොස් සිටි හෙර්ට්සන් ආසන්න මානයේ සිට මෙම විප්ලවය දුටුවේය. එම අවස්ථාවේදී ඔහු ප්‍රජාතන්ත්‍රවාදීයෙක්, විප්ලවවාදියෙක් හා සමාජවාදියෙක් විය. නමුත්, ඔහුගේ සමාජවාදය, 1848 කාලයේ පැවති නිමක් නැති ධනපති සහ සුළු ධනපති සමාජවාදයේ ආකෘතිවලින් එකක් විය. එම අවුරුද්දේ ජූනි කාලයේ දී එම සමාජවාදයට මරණීය පහර වැදුනි.[93] ඇත්ත වශයෙන්ම එය කිසිසේත් සමාජවාදය නොවීය. එය ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ සහ එසේම, එම ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් එතෙක් නිදහස නො ලබා සිටි, නිර්ධන පංතියේ විප්ලවීය ස්වභාවයේ එකල ප්‍රකාශනය වූ, හැඟුම්බර වදන් හා හිතකාමී දෘෂ්ටි සමූහයක් විය.

හෙර්ට්සන්ගේ අධ්‍යාත්මික නැව පෙරළී යාමත්, 1848 න් පසුව ඔහුගේ ගැඹුරු සන්දේහවාදය සහ, සර්ව අශුභවාදයත් මගින් සමාජවාදය පිළිබඳ ධනපති මායා මත නැමති නැව පෙරළී යාම පිළිබිඹු විය. හෙර්ට්සන්ගේ අධ්‍යාත්මික නාට්‍යය යනු, ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විප්ලවවාදී ස්වභාවය පහවී යාම (යුරෝපයේ) සිදුවෙමින් පැවති, ඒ අතරම සමාජවාදී නිර්ධන පංතියේ විප්ලවවාදී ස්වභාවය තවමත් මෝරා නොතිබුණු, ලෝක ඉතිහාසයේ එම අවධියේ ඵලයක් හා ප්‍රතිබිම්බයක් විය. හෙර්ට්සන්ගේ සන්දේහවාදය පිළිබඳ අත්‍යාලංකෘත වදන් වලින්, තමන්ගේ ප්‍රතිවිප්ලවවාදය මුවා කර තබන ලිබරල්වාදී වචන බාහුල්‍යත්වයේ රුසියානු වීරයන්, වටහා නොගත් හා ඔවුනට වටහා නොගත හැකි වූ දෙය මෙය යි. 1905 රුසියානු විප්ලවය පාවාදුන් හා විප්ලවවාදියා ගේ ශ්‍රෙෂ්ඨ නම ගැන සිතීමට පවා අමතක කළ, මෙම වීරයන් විෂයෙහි සන්දේහවාදය යනු, ප්‍රජාතන්ත්‍රවාදයේ සිට ලිබරල්වාදයට, එනම්, 1848 දී කම්කරුවන් වෙඩිතබා දැමූ, කඩා වැටුනු සිංහාසන නැවත ඉදි කළ හා අත්පොළසන් දී තුන්වැනි නැපෝලියන් පිළිගත්, එමෙන්ම, එහි පංති ස්වරූපය වටහා ගත නොහැකි හෙර්ට්සන් විසින් ශාප කරන ලද, මෙහෙවරකාරී දූෂ්‍ය, පිළිකුල් හා ම්ලේච්ඡ ලිබරල්වාදයට පරිවර්තනය වීමේ ආකෘතියකි.

හෙර්ට්සන් විෂයෙහි සන්දේහවාදය යනු ''පංතිවලට ඉහළින් ඇති'' ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ සිට නිර්ධන පංතියේ උග්‍ර, බුරුලක් නො දෙන හා අනභිබවනීය පංති අරගලයට පරිවර්තනය වීමේ ආකෘතියක් විය. හෙර්ට්සන් මිය යාමට වර්ෂයකට පෙර 1869 දී ඔහු ලියූ ''පැරණි සහෝදරයෙකුට ලියුම්'' (බකූනින්ට) වලින් මෙය ඔප්පු වේ. එම ලිපි මගින් හෙර්ට්සන් බකූනින්ගෙන් ඈත්වෙයි. හෙර්ට්සන් ඒ වන විටත් මෙම ඈත්වීම දුටුවේ, උපක්‍රම පිළිබඳ වෙනසක් ලෙසට බවත්, තමන්ගේ පංතියේ ජයග්‍රහණය පිළිබඳ විශ්වාසයෙන් ඔද වැඩි නිර්ධන පංතිකයා ගේ ලෝකාවබෝධය හා තමන්ගේ විමුක්තිය පිළිබඳ භංග විශ්වාසයෙන් පසුවන සුළු ධනපතියාගේ ලෝකාවබෝධය අතර පරතරය ලෙසට නොවන බවත් සැබෑ ය. සමාජවාදය විසින් ''කම්කරුවා සහ ස්වාමියාද, ගොවියා සහ නාගරිකයා ද, එකසේ අමතනු ලබන බණක්'' දේශනා කළ යුතුයයි හෙර්ට්සන් මෙම ලියුම්වලින් ද ප්‍රතිරාවය කරන බව ඇත්ත ය. කෙසේ හෝ වුව, බකූනින්ගෙන් ඈත් වීමේදී හෙර්ට්සන් ඔහුගේ ඇස් බැල්ම යොමු කළේ ලිබරල්වාදය වෙතට නොව, ජාත්‍යන්තරය වෙතටය — මාක්ස් නායකත්වය දුන් ජාත්‍යන්තරය වෙතට ය, නිර්ධන පංතියේ ''බල ඇණි රැස් කිරීම'' හා ''වැඩ නොකර සැප විඳින්නවුන් ගේ ලෝකය අත් හරිමින්''[94] ''ශ්‍රමකරු ලෝකය'' එක්සත් කිරීම ආරම්භ කර තිබුණු ජාත්‍යන්තරය වෙතට ය.

---

1848 සමස්ත ව්‍යාපාරයේම සහ සියළු ආකාරයේම මාක්ස්-පූර්ව සමාජවාදයේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවය හෙර්ට්සන්ට නොවැටහුනු හෙයින්, රුසියානු විප්ලවයේ ධනපති ස්වභාවය තේරුම් ගැනීම ඔහුට ඊටත් වඩා අපහසු විය. ''රුසියානු සමාජවාදයේ'', ''නරෝද්නික්වාදයේ'' නිර්මාතෘවරයා වූයේ හෙර්ට්සන්ය. ඉඩම් ඇති ගොවිජනයා නිදහස් කර ගැනීමෙහිත්, සමූහගත ඉඩම් බුක්තියෙහිත්, ''ඉඩමට හිමිකම'' පිළිබඳ වූ ගොවිජන අදහසෙහිත්, ''සමාජවාදය'' ඇති බවක් ඔහු දුටුවේය.

සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සායම් ගිය නරෝද්නික්වාදය ඇතුළත්ව, මුළු රුසියානු නරෝද්නික්වාදයේ මෙන්ම, හෙර්ට්සන්ගේ මෙම

ධර්මයේ ද බිඳක් හෝ සමාජවාදය නො මැත. ''1848 සමාජවාදයේ'' විවිධ ආකෘති මෙන්ම, මෙය ද, රුසියාවේ ධනපති ගොවි ප්‍රජාතන්ත්‍රවාදයේ විප්ලවකාමයේ ප්‍රකාශනය වන හැඟීම්බර වදන් හා හිතකාමී දෘෂ්ටි වේ. 1861 දී[95] ගොවීන්ට ලැබුණු ඉඩම් වැඩි වී නම්, එසේම ඔවුනට ඒ සඳහා ගෙවීමට සිදුවන මුදල අඩු වී නම්; රදළ ඉඩම් හිමියන් ගේ බලය වඩාත් දුර්වල වන්නට තිබුණි; එසේම, රුසියාවේ ධනපති ක්‍රමය වඩාත් වේගයෙන්, නිදහස් ලෙස හා පුළුල් ලෙස සංවර්ධනය වන්නට තිබුණි. ''ඉඩමට හිමිකම'' සහ ''ඉඩම් සමසේ බෙදීම'' පිළිබඳ අදහස අන් කිසිවක් නොව, ඉඩම් හිමියන් ගේ බලය සම්පූර්ණයෙන්ම පෙරළා දැමීමටත්, ඉඩම් හිමි ක්‍රමය සම්පූර්ණයෙන්ම අහෝසි කර දැමීමටත් සටන් කරන ගොවි ජනයා ඉතාමත් අගය කරන, සාමානාත්මතාවය පිළිබඳ විප්ලවීය ප්‍රාර්ථනාව ඉදිරිපත් කෙරෙන එක් ආකාරයක් පමණකි.

මේ කරුණ 1905 විප්ලවයෙන් සම්පූර්ණයෙන්ම ඔප්පු විය: එක් අතකින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිහිටුවා ගත් නිර්ධන පංතිය ඉතාමත් ස්වාධීන ලෙස විප්ලවීය අරගලයේ මූලිකත්වය දරමින් ඉදිරියට පැමිණියේ ය; අනිත් අතට ඉඩම් හිමි කම සෑම ආකාරයකින් ම අහෝසි කිරීම සඳහා, ''පෞද්ගලික ඉඩම් හිමි කම අහෝසි කිරීමට'' පවා සටන් කළ විප්ලවවාදී ගොවි ජනයා (''තෘදෙවික්වරු'' සහ ''ගොවිජන සංගමය''[96]) සටනෙහි යෙදුනේ නියත වශයෙන්ම දේපල හිමියන් සහ කුඩා ව්‍යවසායිකයන් වශයෙනි.

අද ඉඩමට හිමි කම ආදියෙහි ''සමාජවාදී ස්වභාවය'' ප්‍රයෝජනවත් වන්නේ, රුසියානු ධනපති විප්ලවයේ දී ලිබරල් ධනපති පංතියේ සහ විප්ලවවාදී ගොවිජනතාව ගේ අවශ්‍යතාවයන් අතර වෙනස පිළිබඳ සැබවින්ම වැදගත් සහ බරපතල ඓතිහාසික ප්‍රශ්නය, අඳුරු කිරීමට හා වසා තැබීමට පමණකි; වෙනත් වචන වලින් කියතොත්, එම විප්ලවයේ විද්‍යාමාන වන ලිබරල්වාදී සහ ප්‍රජාතන්ත්‍රවාදී උපනති ද, ''සම්මුතිවාදී'' (රාජාණ්ඩුවාදී) සහ සමූහාණ්ඩුවාදී උපනතිද හා සම්බන්ධ ප්‍රශ්නය අඳුරු කිරීමට හා වසා තැබීමට පමණකි. අපි වචනවලට නොව කාරණයෙහි සාරාර්ථය කෙරෙහි අපගේ අවධානය යොමු කරතොත්, ''න්‍යායවල'' සහ උගැන්වීම්වල පදනම වශයෙන් පංති අරගලය ගැන පරීක්ෂා කරතොත්, හා එය ප්‍රතිලෝම වශයෙන් නො කරතොත්, හර්ට්සන් ගේ ''කොලොකොල්''[97] සඟරාවෙන් මතු කරන්නේ ඉඳුරාම මෙම ප්‍රශ්නය බව පෙනෙනු ඇත.

විදේශයෙහි නිදහස් රුසියානු පුවත්පත් ආරම්භ කළේ හර්ට්සන් ය. ඔහු කළ ශ්‍රේෂ්ඨ සේවය එය යි. ''පොලියාර්නයා ස්වෙස්ද'' ''[98] දෙසැම්බර්වාදීන් ගේ සම්ප්‍රදය අනුගමනය කළේය. ''කොලොකොල්'' (1857—1867) ගොවිජනතාව ගේ විමුක්තියට පක්ෂව, බලවත් ධෛර්යයෙන් සටන් කළේය. වහල් ස්වභාවයේ නිහැඬියාව බිඳින ලදී.

නමුත් හර්ට්සන් බිහිවූයේ ඉඩම් හිමි රදළ වටපිටාවකිනි. ඔහු 1847 දී රුසියාවෙන් බැහැරව සිටියේය. ඔහු විප්ලවවාදී ජනතාව දැක තිබුනේ නැති අතර, ඔහුට එම ජනතාව කෙරෙහි විශ්වාසය තැබිය නොහැකි විය. ඔහුගේ ලිබරල්වාදී ආයාචනය ''ඉහළ පිරිස්'' වෙතට යොමු කෙරුනේ එනිසා ය. ''කොලොකොල්'' සඟරාවේ පළවූ හා පිළිකුළෙන් තොරව අයෙකුට අද කියවිය නොහැකි, දෙවැනි ඇලෙක්සාන්දර් වෙත චාටුකාර බසින් ආමන්ත්‍රණය කරන ලද, ඔහුගේ ලිපි රාශිය ලියන ලද්දේ එහෙයිනි. ප්‍රජාතන්ත්‍රවාදයේ සිට ලිබරල්වාදය වෙතට හර්ට්සන්ගේ මෙම අපගමනය සම්බන්ධයෙන් විප්ලවවාදී-රාස්නචින්ට්සි[99] නව පරම්පරාවට අයත් චෙර්නිෂෙව්ස්කි, ඩුබ්රලූබොව් සහ සියර්නෝ-සලොවියෙවිච් ඔහුට දෝෂාරෝපනය කිරීමේදී ඔවුහු සම්පූර්ණයෙන්ම නිවැරදි වූහ. එසේ වුවද, හර්ට්සන් ප්‍රජාතන්ත්‍රවාදය හා ලිබරල්වාදය අතර කොතරම් එහා මෙහා වැනුනත්, ඔහු තුළ වූ ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවය කෙසේ හෝ ජයගත් බව, ඔහුට සාධාරණය ඉටු වීමවස් කිව යුතුය.

ලිබරල්වාදී දූසත්වයේ ඉතාමත් පිළිකුල් සහගත පක්ෂවාදීන්ගෙන් කෙනෙක් වූ සහ ''කොලොකොල්'' අනුගමනය කළ ලිබරල්වාදී උපනති නිසාම, වරක් එය ගැන මහත් උනන්දුවක් දැක්වූ, කවේලින් ව්‍යවස්ථාවට විරුද්ධව නැගී සිටි කල, විප්ලවවාදී උද්ඝෝෂණයට පහරදුන් කල, ''හිංසනයට'' සහ ඒ සඳහා කරන ආයාචනයන්ට විරුද්ධව නැගී සිටි කල හා ඉවසීම දේශනා කරන්නට පටන් ගත් කල, හර්ට්සන් එම ලිබරල්වාදී මහා ප්‍රාඥයා අත් හැර ඔහුගෙන් ඈත් විය. ''ලිබරල්වාදී බවක් බොරුවට පෙන්වන ආණ්ඩුවකට පෞද්ගලික ලෙස මග පෙන්වීම සඳහා ලියන ලද කවේලින් ගේ ''අල්ප ස්වල්ප, විකාර හා හානිකර පොත'' හර්ට්සන් විසින් විවේචනය කරන ලදී. ''රුසියන් ජනතාව ගවයන් ලෙසටත්, රුසියානු ආණ්ඩුව බුද්ධිමත් භාවයේ සංකේතයක් ලෙසටත්'' දැක්වූ කවේලින් ගේ ''හැඟුම්බර දේශපාලන ආප්තෝපදේශයන්'' ඔහු විසින් හෙළා දකින ලදී. ''තමන්ගේ අහංකාර නීච අදහස් නැමති ජරා මකුළු දැල වියමින් සිටින මහාචාර්ය වරුන්ට'' විරුද්ධව, ''වරක් විවෘත හදවතක් ඇතිව සිටි නමුත්, පසුව, තමන්ගේ උද්ධච්ඡ චින්තනයන්ට සහයෝගය දීම නිරෝගී තරුණයන්ට නො කළ හැකි බව පෙනී ගිය විට, අමනාපයට පත් හිටපු මහාචාර්ය වරුන්ට'' විරුද්ධව තදින් පහර දෙන ලිපියක් ''ස්මෘති සටහන්'' යන සිරස් තලය යටතේ ''කොලොකොල්'' හි පළවිය. මෙම පින්තූරය තමාට ගැලපෙන බව කවේලින් එක් වරම දැන ගත්තේ ය.

වෙර්නිෂෙව්ස්කි අත් අඩංගුවට ගත් කළ කවෙලින් මෙසේ ලීවේය: ''මෙම අත් අඩංගුවට ගැනීම්වලින් කැලඹීමට පත් වීමට කිසිම හේතුවක් මට නොපෙනේ... ආණ්ඩුව පෙරලා දැමීමට සෑම මාර්ගයක් ම යොදා ගැනීම සාධාරණ යයි විප්ලවවාදී පක්ෂය සලකන අතර, ආණ්ඩුව එය කැමති ආකාරයෙන් ස්වකීය ආරක්ෂාව සලසා ගනියි.'' මෙම කැඩෙට් පාක්ෂිකයාට පිළිවදන් දෙන නියායෙන් වෙර්නිෂෙව්ස්කි නඩු විභාගය ගැන හෙර්ට්සන් මෙසේ ලීවේය: ''තවද, අප ආණ්ඩු කරන හොරුන් හා තක්කඩින් කණ්ඩායමට දෝෂාරෝපනය නොකළ යුතු යයි කියන කාල-කණ්ණි, වල්පැලැටි වැනි පුද්ගලයෝ සහ බිය ගුල්ලෝ සිටිති.''

ලිබරල්වාදී තුර්ගේනෙව්, දෙවැනි ඇලෙක්සාන්දර් වෙත පෞද්ගලික ලිපියක් යවමින් ඔහුට තමන් ගේ පක්ෂපාතිත්වය ප්‍රකාශ කරමින්, පෝ-ලන්තයේ කැරළි සහිත නැගී සිටීම මර්දනය කිරීමේ දී තුවාල ලත් සො-ල්දාදුවන් සඳහා රන්කාසි දෙකක් පරිත්‍යාග කළ විට, ''තමන් ඉහවහ ගොස් තිබෙන පශ්චාත්තාප හැඟීම ගැන සාර් නොදන්නේය යන කල්පනා-වෙන් පීඩිතව සිටින නිසා තමාට නින්ද නොයන බව ඔහුට දැන්වීමට සාර් වෙත ලිපියක් යැවූ සුචරිතය පිළිගත් කෙස් පැහුණු (පුරුෂ ලිංගික) ගණිකාව'' ගැන ''කොලොකොල්'' ලීවේය. එවිට තුර්ගේනෙව්, එක් වරම, තමන් ගැන හඳුනාගත්තේය.

හෙර්ට්සන් පෝලන්තය ආරක්ෂා කිරීමට කථා කළ හෙයින්, මුළු ලිබරල් වාදීන් රංචුවම ඔහු හැර දමා දිව ගිය විට, මුළු උගත් සමාජයම ''කොලොකොල්'' සඟරාවට පිටු පෑ කල, හෙර්ට්සන් එයින් කම්පා වූයේ නැත. ඔහු දිගටම පෝලන්තයේ නිදහස සඳහා සටන් කළ අතර, දෙවැනි ඇලෙක්සාන්දර් ගේ සේවයෙහි යෙදී සිටි, එය මර්දනය කරන්-නන්ට, බුචේරුවන්ට සහ අළුගෝසුවන්ට, තදබල ලෙස පහර දුන්නේ ය. හෙර්ට්සන් රුසියානු ප්‍රජාතන්ත්‍රවාදයේ ගෞරවය රැක ගත්තේය. ''අපි රුසියානු නමෙහි ගෞරවය රැකගත්තෙමු. එසේ කිරීම නිසා, දාස ස්වභා-වයේ ගැලී සිටින සුළු පිරිසගෙන් පහර ලැබුවෙමු'' යනුවෙන් ඔහු තුර්ගේ-නෙව්ට ලීවේය.

''ගොවි ප්‍රවේණි දාසයෙකුගේ බිරිඳ ගේ චරිතය කැලැල් කිරීමට උත්සාහ කළ ඉඩම් හිමියෙක්, එම දාසයා විසින් මරණු ලැබීම ගැන වාර්තා වූ කල, හෙර්ට්සන් ''අන්න හොඳයි!'' යනුවෙන් ''කොලොකොල්'' හි සඳහන් කළේය. ''විමුක්තිදානයේ'' ''සාමකාමී'' ප්‍රගතිය පරිපාලනය කිරීම සඳහා යුද්ධ හමුදා නිලධාරීන් පත් කෙරෙනා බව වාර්තා වූ කල, හෙර්ට්සන් මෙසේ ලීවේය: ''ගොවි ජනයා මර්දනය කරනු වෙනුවට, තමන්ගේ සේනාවත් සමග ඔවුන්ට එකතු වන ප්‍රථම ඥානවන්ත කර්නල්-වරයා, රොමානොව් වරුන්ගේ සිංහාසනයට නගිනු ඇත''. තමන් අළුගෝ-



සුවාගේ ආධාර කරුවෙක් වීමට අකැමති හෙයින් කර්නල් රෙයිතෙර්න් (1860) වොර්සෝහි දී තමන්ට ම වෙඩි තබා ගත් විට, හෙර්ට්සන් මෙසේ ලීවේය: ''වෙඩි තැබීමක් සිදුවිය යුතු නම්, වෙඩි තැබිය යුත්තේ, නිරායුධ ජනතාවට වෙඩි තැබීමට නියෝග දුන් සේනාපතියන්ට ය''. බෙස්ද්නා හි ගොවීන් පණස් දෙනෙක් ඝාතනය කර දමා ඔවුන් ගේ නායකයාවූ පෙත්‍රොව්ට මරණ දණ්ඩනය දුන් විට (1861 අප්‍රියෙල් 12) හෙර්ට්සන් ''කොලොකොල්'' සඟරාවේ මෙසේ ලිවීය:

''රුසියා දේශයේ වැඩ කරන්නාණනි, දුක් විඳින්නාණනි, ඔබ වෙත ඒමට මගේ වචනවලට හැකි නම්!.. සාන්ත පීටර්ස්බර්ග් දෙවගැති සභාව සහ ජර්මන් සාර් වරයෙක් ඔබේ කරේ එල්ලා ඇති අධ්‍යාත්මික ගො-පල්ලන්ට පරිහාස කරන හැටි, මම ඔබට මැනවින් කියා දෙන්නෙමි... ඔබ ඉඩම් හිමියාට වෛර කරන්නෙහිය; ඔබ නිලධාරියාට වෛර කරන්-නෙහිය; ඔබ ඔවුනට බිය වන්නෙහිය. ඒ හේතු සහිතවය. නමුත් ඔබ තවමත් සාර් සහ බිෂොප් කෙරෙහි විශ්වාසය තබන්නෙහිය. ඔවුන් විශ්වාස කරන්න එපා. සාර් ඔවුන් සමගය. ඒ ඔහුගේ මිනිස්සුය. ඔබට, බෙස්ද්නා හි මරා දමන ලද තරුණයෙකු ගේ පියෙක් වන ඔබට, එසේම පෙන්සාහි මරා දමන ලද පියෙකුගේ පුතෙක් වන ඔබට, දැන් පෙනෙන්නේ ඔහු ය. ඔබ ගේ ගොපල්ලන් ද ඔබ මෙන්ම නූගත්ය, ඔබ මෙන්ම දුප්පත් ය... ඔබ වෙනුවෙන් කසාන්හි වේදනා වින්ද අනිත් අන්තෝනිද (බිෂොප් අන්තෝනි නොව, බෙස්ද්නා හි අන්තෝන් ය) එසේම විය... ඔබගේ වීරයන්ගේ මළ සිරුරු ප්‍රාතිහාර්ය හතළිස් අටක් පෑමෙහි සමත් නොවේ. ඒවාට යාඥා කිරීමෙන් දත් කැක්කුමක්වත් සනීප නොවේ. නමුත් ඔවුන් ගැන ඇති ජීවමාන මතකයෙන් එක ප්‍රාතිහාර්යයක් සිදුවිය හැකිය. ඒ ඔබේ විමුක්-තියයි''.

හෙර්ට්සන්ගේ දුර්වල කම් අතිශයෝක්තියෙන් හුවා දක්වන සහ ඔහුගේ හොඳ පැත්ත ගැන කිසිවක් නොකියන, වහල් ස්වභාවයේ පවතින ''නීත්‍යානුකූල'' ප්‍රවෘත්ති පත්‍රවලට අරක් ගෙන සිටින, අපගේ ලිබරල්-වාදීන් කොතරම් කැත හා දුර්වාචක විලාශයෙන් ඔහුට අපවාද කරන්නේ ද යනු, මෙයින් පෙනේ. 1840 ගණන්වල රුසියාවේ ම සිටි විප්ලවවාදී ජනයා හෙර්ට්සන්ට නො පෙනීම ඔහුගේ වරදක් නොව, අභාග්‍යයකි. හැටගණන්වලදී ඔහු විප්ලවවාදී ජනතාව දුටු කල, ඔහු ලිබරල්වාදයට විරුද්ධව, නිර්භීත ලෙස, විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ පැත්ත ගත්තේ ය. ඔහු, ලිබරල් ධනපති පංතිය සහ ඉඩම් හිමියන් ගේ සාර් අතර ජාවාරමක් ඇති කර ගැනීම සඳහා නොව, සාර්වාදය පරදවා ජනතාව ලබන ජයග්‍ර-හණයක් සඳහා සටන් කළේ ය.

---

හෙර්ට්සන් අනුස්මරණය කිරීමේ දී, රුසියානු විප්ලවයේ ක්‍රියාත්-මකව සිටි පරම්පරා තුන, පංති තුන, අපට පැහැදිලිව පෙනෙන්නේ ය.

ප්‍රථමයෙන්ම ඉදිරියට ආවේ වංශවතුන් හා ඉඩම් හිමියන් ය, දෙසැම්බර්වාදීන් සහ හෙර්ට්සන් ය. මෙම විප්ලවවාදීන් ගෙන් සැදුනේ පටු කණ්ඩායමක් පමණකි. ඔවුන් සිටියේ ජනතාවගෙන් බොහෝ ඈත්ව ය. නමුත් ඔවුන්ගේ ව්‍යායාමය නිරර්ථක නො වීය. දෙසැම්බර්වාදීහු, හෙර්ට්සන් අවදි කළහ. හෙර්ට්සන් විප්ලවවාදී උද්ඝෝෂණයේ කටයුතු වෙන් ගත්තේ ය.

චෙර්නිෂෙව්ස්කි ගේ පටන් ''නරෝද්නයා වෝලිය'' වීරයන් පදක්වා වූ විප්ලවවාදී සාමාන්‍ය ජනයා මෙම කටයුතු භාරගෙන ඒවා ව්‍යාප්ත කළහ, ශක්තිමත් කළහ, මුවහත් කළහ. සටන්කාරීන් ගේ ශ්‍රේණිය විශාල විය. ජනතාව සමග ඔවුන් ගේ සම්බන්ධය වඩාත් සමීප විය. හෙර්ට්සන් ඔවුන් ගැන විස්තර කළේ ''හැමීමට යන කුණාටුවේ තරුණ නියමුවා'' යනුවෙනි. නමුත් ඒවන විට හමායමින් තිබුණේ, නියම කුණාටුව නොවීය.

කුණාටුව නම්, ජනතාවගේම ව්‍යාපාරය යි. සම්පූර්ණයෙන්ම විප්ලවවාදී වන එකම පංතිය නිර්ධන පංතිය ය. එය ජනතාවගේ පෙරමුණ දරමින් නැගී සිට ප්‍රථම වතාවට දශලක්ෂ සංඛ්‍යාත ගොවි ජනයා විවෘත විප්ලවීය අරගලයට එන සේ ඔවුන් කුල්මත් කළේය.මෙම කුණාටුවේ ප්‍රථම ප්‍රහාරය 1905 දී ඇති විය. අපගේ ඇස් හමුවේම, ඊළඟ පහර දීම ඇතිවන්නට යන්නේ ය.

හෙර්ට්සන් අනුස්මරණය කරන නිර්ධන පංතිය, විප්ලවවාදී න්‍යායෙහි ශ්‍රේෂ්ඨ වැදගත් කම අගය කිරීම සම්බන්ධයෙන්, ඔහු දක්වූ ආදර්ශයෙන් පාඩම් උගෙන ගනියි. බීජ වැපිරීම හා අස්වනු නෙළීම අවුරුදු දශක ගණනක දීර්ඝ කාලයකින් වෙන් වුනත්, ආත්මාර්ථයෙන් තොරව විප්ලවයට කැපවී කටයුතු කිරීම සහ විප්ලවවාදී ප්‍රචාරය අපතේ නො යන බව, එය උගෙන ගනියි. රුසියානු සහ ජාත්‍යන්තර විප්ලවයේදී, විවිධ පංතිවලට පැවරෙන කාර්ය කොටස නිශ්චය කිරීමට එය උගෙන ගනියි.

මෙම පාඩම් උගෙන ගැනීමෙන් ශක්තිමත් වන නිර්ධන පංතිය, අනිකුත් දේශයන් හි සමාජවාදී කම්කරුවන් සමග නිදහස් සන්ධානයක් ඇති කර ගැනීම වෙත ළඟාවන මාර්ගය විවෘත කර ගැනීම පිණිස සටන් කරනු ඇත. ඒ සඳහා, ඊට ප්‍රථමයෙන්, එය සාර්වාදී රාජාණ්ඩුව නැමති විරූපී දූවැන්ත මෘගයා විනාශ කරනු ඇත.හෙර්ට්සන් ඔහුගේ නිදහස් රුසියානු භාෂිතයෙන් ජනතාව ඇමතීමෙන් ශ්‍රේෂ්ඨ අරගලයේ ධජය එසවූයේ, එම මෘගයාට විරුද්ධවය.

''සොට්සල්-ඩිමොක්‍රට්'', අංක 26,
1912 මැයි 8 (අප්‍රියෙල් 25)

වි. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 21, පිටු 255—262

# සමගිය පිළිබඳ ඝෝෂාව දඩමීමා කරගෙන සමගිය කඩාකප්පල් කිරීම

වර්තමාන කම්කරු ව්‍යාපාරයේ ප්‍රශ්න වූකලී කීප අතකින් ම බලන කල නිතර නිතර මළ වූ ඒවා ය. විශේෂයෙන් ම ව්‍යාපාරයේ මෑත අතීතයේ (එනම්,ඓතිහාසික ලෙස මෙතෙකින් නිමාවට පත් අවධියේ) නියෝජිතයන්ට ඒ බව පෙනේ. මෙය, විශේෂයෙන්ම, ඊනියා කට්ටිවාදය, භේද යනාදී ප්‍රශ්නවලට අදළ වන්නේ ය. මෙම විවාදත්මක ප්‍රශ්න මතු නො කරන ලෙසට කම්කරු පංති ව්‍යාපාරයේ සිටින බුද්ධිමතුන් නො ඉවසිලිමත්ව, උත්සන්න ලෙස හා වියරු ලෙසින් මෙන් කරන ආයාචනා අයෙකුට බොහෝ විට ඇසේ. නිදසුනක් වශයෙන් මෙම විවාදත්මක ප්‍රශ්න හා සම්බන්ධ තර්ක බොහොමයක් නැවත ගෙන හැර දක්වීම අනවශ්‍ය දෙයකැයි 1900—1901 පටන් දීර්ඝකාලයක් මාක්ස්වාදීන් අතර පැවති විවිධ උපනතිවල අරගලය අත් දුටු අය ස්වාභාවික වශයෙන්ම සිතන්නට පිළිවන.

නමුත් දහ හතර අවුරුද්දක් ගත වූ අරගලයට (''ආර්ථිකවාදයේ'' ප්‍රථම ලක්ෂණ මතුවූ තැන් පටන් ගණන් ගතහොත්, අවුරුදු දහ අටක් හෝ දහනවයක් පැවති අරගලය යයි කීම අවශ්‍ය නොවේ) සහභාගි වූ අය ඇත්තේ ස්වල්ප දෙනෙකි. අද මාක්ස්වාදී පිරිස්වලට අයත් වන අති බහු තරයට එක්කෝ එම පරණ ගැටුම මතක නැත, නැතහොත්, ඔවුන් ඒ ගැන කිසි දිනක අසා නොමැත. ඉන් ඉතා විශාල බහු තර පිරිසකට (අපගේ සඟරාව[101] විසින් පවත්වන ලද මත විමසීමෙන් පෙනී ගිය පරිදි), මෙම විවාදක්මක ප්‍රශ්න මහත් උනන්දුවක් ගෙන දෙන කරුණක් වී තිබේ. එනිසා, ට්‍රොට්ස්කිගේ ''කට්ටිවාදී නොවන කම්කරු සඟරාව'' වන ''බර්බා''[102] හි අළුතෙන් මෙන් මතු කර තිබෙන (එසේම, තරුණ පරම්පරාවට ඇත්ත වශයෙන්ම අළුත්) මෙම ප්‍රශ්න ගැන විස්තර කිරීමට අපි බලාපොරොත්තු වෙමු.

## I "කට්ටිවාදය" ගැන

ට්‍රොට්ස්කි ගේ අළුත් සඟරාව "කට්ටිවාදී නොවන" බව ඔහු කියයි. ඔහු මෙම වචනය ඔහුගේ දැන්වීම් වල මුල් පේලියෙහි යොදයි. "බර්බා" හි කතුවැකි ලිපිවල ද, එමෙන්ම එය පළ කිරීම ආරම්භ වීමට පෙර, එය ගැන ට්‍රොට්ස්කිගේ ලිපියක් පළ කළ, ලික්විඩේෂනිස්ට්වාදී "සේවෙර්නයා රබෝචයා ගසියෙත"[103] හිද, ඔහු විසින් මෙම වචනය සෑම ස්වරයකින්ම නාද කරවනු ලැබේ.

මෙම "කට්ටිවාදී නොවන" යන්න කුමක් ද?

ට්‍රොට්ස්කි ගේ "කම්කරු සඟරාව", කම්කරුවන් සඳහා වූ ට්‍රොට්ස්කි ගේ සඟරාව ය. එසේ කියන්නේ කම්කරු ක්‍රියාරම්භකත්වය හෝ, එසේ නැතහොත්, කම්කරු සංවිධාන සමග කිසිම සම්බන්ධයක් හෝ දක්වෙන ඡායාවක්වත් එහි නොමැති නිසාය. ජනප්‍රිය ශෛලියකින් ලිවීමේ ආශාවෙන් මඩනා ලද ට්‍රොට්ස්කි, කම්කරුවන් සඳහා වූ ඔහුගේ සඟරාවේ පාඨකයන් ගේ දැන ගැනීම පිණිස "දේශය", "සාධකය" යනාදිය වැනි විදේශීය වචනවල අර්ථය එහි පැහැදිලි කර දක්වයි.

එය ඉතා හොඳය. නමුත් "කට්ටිවාදී නොවන" යන්නෙහි අර්ථය පැහැදිලි නොකරන්නේ මන් ද? එම වචනය "දේශය" හා "සාධකය" යන වචනවලට වඩා පහසුවෙන් තේරුම් ගත හැකි ද?

නැත. හේතුව එය නොවේ. එයට හේතුව, කම්කරුවන්ගේ තරුණ පරම්පරාව නොමගයැවීම සඳහා, කට්ටිවාදයේ දරුණුම නෂ්ඨාවශේෂයන් ගේ නරකම නියෝජිතයන් විසින් "කට්ටිවාදී නොවන" යන ලේබලය යොදගෙන තිබීම ය. මෙය පැහැදිලි කිරීමට මඳ කාලයක් ගත කිරීම ප්‍රයෝජනවත් ය.

නිශ්චිත ඓතිහාසික කාලසීමාවක් තුළදී, කණ්ඩායම් බෙදීම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන විශේෂ ලක්ෂණයක් විය. ඒ කුමණ කාලසීමාවක ද? 1903 සිට 1911 දක්වා කාලයේ දී ය.

මෙම කණ්ඩායම් බෙදීම්වල ස්වභාවය වඩාත් පැහැදිලි ලෙස විස්තර කරනු වස්, 1906—1907 වැනි කාලයක පැවති නියම තත්වයන් ගැන අපි සිහිපත් කළ යුත්තෙමු. එකල පක්ෂය එක්සත්ව පැවැත්තේ ය. භේදයක් නො තිබුණි. නමුත් කණ්ඩායම් බෙදීම් පැවතුනි. ඉන් අදහස් වන්නේ එක්සත් පක්ෂය තුළ, සැබැවින් ම කණ්ඩායම් දෙකක්, සැබැවින්ම වෙන් වූ සංවිධාන දෙකක්, ඇති තත්වයක් පැවතුනු බවයි. ප්‍රාදේශීය කම්කරු සංවිධාන එක්සත්ව පැවතුනු නමුත්, සෑම වැදගත් ප්‍රශ්නයක්ම සම්බන්ධයෙන් කණ්ඩායම් දෙක එකිනෙකට වෙනස් උපක්‍රම මාලා සකස් කළහ. ඒ ඒ උපක්‍රමවල පක්ෂ වාදීහු, එක්සත් කම්කරු සංවිධානය තුළ (නිදර්ශනයක් වශයෙන්, 1906 දී දූමා නැතහොත් කැඩෙට් ඇමති මණ්ඩලයක් යන සටන් පාඨය ගැන කළ සාකච්ඡාවලදී, නැතහොත්, 1907 ලන්ඩන් සම්මේලනයට නියෝජිතයින් තේරීමේදී මෙන්) ඔවුනොවුන් අතර වාද විවාද කර ප්‍රශ්න ගැන තීරණ වැඩි ඡන්දයකින් සම්මත කළහ. එක කණ්ඩායමක් (1906) ස්ටොක්හෝම් එක්සත් සම්මේලනයේ දී පරාජය වූ අතර, අනිත් කණ්ඩායම (1907) ලන්ඩන් සමගි සම්මේලනයේදී පරාජය විය.[104]

මේවා, රුසියාවේ සංවිධානය වූ මාක්ස්වාදයේ ඉතිහාසයෙහි එන කවුරුත් දන්නා කරුණු ය.

ට්‍රොට්ස්කි පතුරුවන්නේ කොතරම් විශාල බොරු ද යන්න පැහැදිලි වීම සඳහා, මෙම කවුරුත් දන්නා කරුණු සිහිපත් කිරීම ප්‍රමාණවත් වේ.

1912 න් පසු[105] අවුරුදු දෙකකට වැඩි කාලයක් තිස්සේ රුසියාවේ සංවිධානය වූ මාක්ස්වාදීන් අතර කට්ටිවාදයක් නොවීය; එක්සත් සංවිධාන තුළ හා එක්සත් සාකච්ඡා සභා සහ සම්මේලනවල උපක්‍රම ගැන වාද භේද ඇති නොවීය. ලික්විඩේටර්වරු තම පක්ෂයට අයත් නැතැයි 1912 ජනවාරියේදී විධිමත් ලෙස ප්‍රකාශ කළ පක්ෂයත්, ලික්විඩේටර් වරුනුත් අතර අංග සම්පූර්ණ වෙන් වීමක් ඇත. ට්‍රොට්ස්කි, බොහෝ විට මෙම තත්වය "භේදයක්" ලෙසට හඳුන්වයි. මෙම හැඳින්වීම ගැන පසුව විමසා බලමු. නමුත් "කට්ටිවාදය" යන පදය සත්‍යයෙන් බැහැර වන බව ඒකාන්ත සත්‍යයක්ව පවතී.

අප කියා ඇති ලෙසට මෙම පදය නම්, පුනරුච්ඡාරණයකි; ඊයේ සත්‍ය වූ දෙය, එනම්, දැනට ගත වී ඇති කාලයේ සත්‍ය වූ දෙය විමසිල්ලෙන් තොරව, අසාධාරණ ලෙස හා අර්ථ විරහිත ලෙස, පුනරුච්ඡාරණය කිරීමකි. "කට්ටිවාදී කෝලාහලයේ වියවුල" ගැන ට්‍රොට්ස්කි අපට කථා කරන විට (අංක 1, පිටු 5,6 හා වෙනත් බොහෝ පිටු බලන්න) ඔහුගේ වචන දෝංකාර දෙවන්නේ අතීතයේ කුමණ කාල සීමාවද යනු අපට එක්වරම වැටහේ.

රුසියාවේ සංවිධානය වූ මාක්ස්වාදීන් ගෙන් දහයෙන් නමයක් වන තරුණ රුසියන් කම්කරුවන් ගේ දෘෂ්ටි කෝණයෙන් වර්තමාන තත්වය ගැන සලකා බලන්න. කම්කරු පංති ව්‍යාපාරයේ පවතින එකිනෙකට වෙනස් අදහස්, නැතහොත්, උපනති තුනක් පොදු ජන ස්වභාවයෙන් ප්‍රකාශ වෙනු ඔවුනට දක්නට ලැබේ. ප්‍රාව්දවාදීහු පිටපත් 40,000 ක[106] ප්‍රචාරයක් ඇති ප්‍රවෘත්ති පත්‍රයක් වටා එක්ව සිටිති. ඒ අතර ලික්විඩේටර් වරු (ප්‍රචාරය පිටපත් 15,000) සහ වාම නරෝද්නික් වාදීහු[107] (ප්‍රචාරය පිටපත් 10,000) වෙති. ප්‍රචාරය වන පිටපත් සංඛ්‍යාව අනුව එක් එක් අදහසෙහි පොදු ජන ස්වභාවය ගැන වැටහීමක් පාඨකයාට ලැබේ.

''වියවුල'' මෙයට සම්බන්ධ වන්නේ කෙසේ ද? යන ප්‍රශ්නය පැන නගී. මහා හඬ නංවන, හිස් වදන් බිනීමට ට්‍රොට්ස්කි රුචි වන බව කවුරුත් දනිති. නමුත් ''වියවුල'' යන ආකර්ෂණීය වචනය යෙදීම හුදෙක් වදන් හරඹයක් පමණක් ම නොවේ. පසුගිය කාලයේ විදේශයෙහි පැවති සම්බන්ධ කම්, මෙම කාලයේදී රුසියානු භූමියෙහි රෝපනය කිරීමට දරන ප්‍රයත්නයක් ද, නැතහොත් නිෂ්ඵල ප්‍රයත්නයක් ද, එයින් විද්‍යාමාන වේ. ප්‍රධාන කරුණ එය යි.

මාක්ස්වාදීන් හා නරෝද්නික්වාදීන් අතර අරගලයේ කිසිම ''වියවුලක්'' නැත. එය එසේ නොවේ යයි කීමට, ට්‍රොට්ස්කි වුවද, ඉදිරිපත් නො වෙතැයි අපි අපේක්ෂා කරමු. මාක්ස්වාදීන් හා නරෝද්නික්වරු අතර අරගලය තිස් අවුරුද්දක් තිස්සේ, මාක්ස්වාදය ආරම්භ වූ ද පටන් පැවතියේය. මෙම අරගලයට හේතු වී තිබෙන්නේ වෙනස් පංති දෙකක, නිර්ධන පංතියේ හා ගොවිජනතාව ගේ අවශ්‍යතාවයන් හා දෘෂ්ඨී අතර ඇති මූලික වෙනස ය. කිසියම් හෝ තැනක ''වියවුලක්'' තිබේනම්, ඒ මෙය වටහා ගැනීමට අසමත්, මන්ද බුද්ධිකයන්ගේ හිස් ගෙඩි තුළ පමණකි.

එසේ නම් ඉතිරිව ඇත්තේ කුමක් ද? මාක්ස්වාදීන් හා ලික්විඩේටර්වරු අතර අරගලයේ ''වියවුල'' ද? එය ද වැරදි ය. මක්නිසාද යත් පක්ෂය 1908 තරම් ඈත කාලයක උපනතියක් ලෙසට පිළි ගෙන හෙළා දුටු, උපනතියකට විරුද්ධව කරන අරගලය වියවුලක් යනුවෙන් හැඳින්විය නො හැකි හෙයිනි. ලික්විඩේෂනිස්ට්වාදය, එහි නායකයන් හා ආධාර කරුවන් අනුව පවා, ''මෙන්ෂෙවික්වාදයත්'' (1903—1908), ''ආරථිකවාදයත්'' (1894—1903) සමග ඉතාමත් ආසන්න ලෙස හා වෙන් නො කළ හැකි ලෙස සම්බන්ධව තිබෙන බව, රුසියාවේ මාක්ස්වාදය ගැන මඳ සැලකිල්ලක් හෝ දක්වන, සෑම කෙනෙක් ම දන්නේ ය. ඒ අනුව බලන කල මෙහි ද, අවුරුදු විස්සක් පමණ කාලයක් තිස්සේ පැතිරී ගිය ඉතිහාසයක්, අපට ඇත. තමන්ගේ ම පක්ෂයේ ඉතිහාසය ''වියවුලක්'' ලෙසට සැලකීම, සමාව දිය නො හැකි තරමට බුද්ධි හීන කමක් පෙන්වීමකි.

දැන් පැරිස් හෝ වියනා දෘෂ්ටි කෝණයෙන් වර්තමාන තත්වය ගැන විමසා බලමු. එක් වරම මුළු පින්තූරය ම වෙනස් වන්නේ ය. ප්‍රාව්දාවාදීන් හා ලික්විඩේටර්වරුන් හැරුනු විට, එකම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකත්වයට හිමි කම් කියන රුසියානු කණ්ඩායම් පහකට නො අඩු සංඛ්‍යාවක් අපට දක්නට ලැබේ. ඒවා නම්, ට්‍රොට්ස්කි ගේ කණ්ඩායම, ''වපිරියොද්'' කණ්ඩායම්[108] දෙක ''පක්ෂයට හිතවත් බොල්ෂෙවික්වරු'' සහ ''පක්ෂයට හිතවත් මෙන්ෂෙවික් වරු''[109]ය. පැරිස්හි සහ වියනා හි (නිදර්ශනය සඳහා මා ගන්නේ විශාලතම මධ්‍යස්ථාන දෙක ය) මාක්ස්වාදී හු සියළු දෙනාම, මේ ගැන හොඳින් දනිති.

මෙහි දී ට්‍රොට්ස්කි එක්තරා අර්ථයකින් නිවැරදිය. මෙය ඇත්ත වශයෙන් ම කණ්ඩායම් බෙදීමකි! ඇත්ත වශයෙන් ම වියවුලකි!

පක්ෂය තුළ කණ්ඩායම් යනු නාමික සමගිය (සියල්ලෝම එකම පක්ෂයට අයත් බව කියති) සහ ඇත්ත වශයෙන් අසමගිය (සියළුම කණ්ඩායම් අන්‍යෝන්‍ය වශයෙන් එකිනෙකෙන් නිදහස් වන අතර, ස්වෛරී බලවතුන් ලෙසට එකිනෙක සමග සාකච්ඡා වලට හා ගිවිසුම්වලට එළඹෙති) වන්නේ ය.

''වියවුල'' මෙයයි: (1) මෙම කණ්ඩායම් රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරය හා සමග සම්බන්ධ බව ඔප්පු කරන, වාස්තවික හා පරීක්ෂාකර බැලිය හැකි සාධක නො තිබීම හා (2) මෙම කණ්ඩායම්වල නියම දෘෂ්ටිමය හා දේශපාලන මුහුණුවර නිශ්චය කර ගැනීමට, අපට උපකාරවන දත්තයන් කිසිවක් නො තිබීම ය. පූර්ණ අවුරුදු දෙකක, 1912 හා 1913 කාලය ගෙන බලමු. මෙය කම්කරු පංති ව්‍යාපාරයේ නව ජීවනය හා උන්නතිය දක්නට ලැබුනු කාලයක් බව කවුරුත් දනිති. එම වකවානුවේ දී, කිසියම් හෝ ප්‍රමාණයක පොදු ජන ස්වභාවයක් ඇතිව පැවති (දේශපාලනයේ දී වැදගත් වන්නේ පොදු ජන ස්වභාවය පමණකි) සෑම උපනතියකටම හා ප්‍රවණතාවයකටම, හතරවැනි දූමා සභා මැතිවරණ, වැඩ වර්ජන ව්‍යාපාර, නීත්‍යානුකූල පුවත්පත්, වෘත්තීය සමිති, රක්ෂණ නිල වරණ ව්‍යාපාරය, යනාදිය කෙරෙහි, යම් කිසි විධියක බල පෑමක් නොකර සිටිය නොහැකි විය. මෙම අවුරුදු දෙක තිස්සේම, විදේශගත මෙම කණ්ඩායම් පහෙන් එකක් හෝ, රුසියාවේ පොදුජන කම්කරු පංති ව්‍යාපාරයේ ඉහත විස්තර කරන ලද කටයුතු එකකවත්, අල්ප මාත්‍ර වශයෙන් වුවද ක්‍රියාත්මක නො වීය!

මෙය ඕනෑම කෙනෙකුට පහසුවෙන් ම පරීක්ෂා කර බැලිය හැකි කරුණකි.

''කට්ටිවාදයේ ඉතාමත් දරුණු නෂ්ඨාවශේෂයන්'' ගේ නියෝජිතයෙක් ලෙසට ට්‍රොට්ස්කි ගැන අප කළ විස්තරය නිවැරදි බව, සත්‍ය කරුණු වලින් ඔප්පු වේ.

තමන් කට්ටිවාදී නොවන බව ට්‍රොට්ස්කි කියතත්, රුසියාවේ කම්කරු ව්‍යාපාරය ගැන යම්තමින් හෝ දන්නා සෑම කෙනෙක්ම ඔහු හඳුනන්නේ ''ට්‍රොට්ස්කිගේ කට්ටියේ'' නියෝජිතයා ලෙසට ය. කණ්ඩායම් බෙදීමට අත්‍යාවශ්‍ය වන අංග ලක්ෂණ දෙක, එනම් (1) නාමික වශයෙන් සමගිය පිළිගැනීම හා (2) ''ඇත්ත'' වශයෙන් කණ්ඩායම් වලට බෙදීම, මෙහි දක්නට ලැබෙන නිසා, මෙහි අප හමුවේ ඇත්තේ කණ්ඩායම් බෙදීමකි. මෙහි

ඇත්තේ කණ්ඩායම් බෙදීම්වල නෂ්ඨාවශේෂය. එසේ කියන්නේ රුසියාවේ පොදු ජන කම්කරු පංති ව්‍යාපාරය සමග කිසිම සම්බන්ධ කමක් ඇතිකර ගැනීමට හැකියාවක් නොමැති කම නිසාය.

අවසාන වශයෙන්, දෘෂ්ඨිමය හා දේශපාලනමය නිශ්චිතතාවයක් නොමැති හෙයින්, එය ඉතාමත් නරක ආකාරයේ කණ්ඩායම් බෙදීම ය. මෙම නිශ්චිතතාවය ප්‍රාචීදාවාදීන්ගේත් (සියළුම ප්‍රශ්න සම්බන්ධයෙන් ගන්නා ලද කවුරුත් දන්නා විධිමත් තීරණ අනුව අප ''ශක්තිමත් හා විනය සම්පන්න'' ස්ථාවරයක් දරන බව අපගේ දැඩි සතුරා වන එල්. මාර්තව් පවා පිළි ගනියි) ලික්විඩේටර්වාදීගේත් (ඔවුන් කෙරෙහි, නැතහොත්, කෙසේ හෝ, ඔවුන් ගෙන් ඉතාමත් ප්‍රමුඛයන් කෙරෙහි ඉතාමත් නිශ්චිත අංග ලක්ෂණ, එනම්, මාක්ස්වාදී නොවන, ලිබරල් ලක්ෂණය ඇත), යන දෙපිරිසෙහි ම ස්වභාව ලක්ෂණයක් වන බව ප්‍රතික්ෂේප කළ නොහැකි කරුණකි.

කිසිසේත් රුසියානු දෘෂ්ඨි කෝණයෙන් නොව, තනිකරම වියනා-පැරිස් දෘෂ්ඨි කෝණයෙන් බලන කල,පවතින ට්‍රොට්ස්කි ගේ වැනි කණ්ඩායම් සමහරක, එක්තරා ප්‍රමාණයක නිශ්චිත තාවයක් ඇති බව ප්‍රතික්ෂේප කළ නො හැකි ය. නිදර්ශනයක් වශයෙන් මහ්වාදී ''වපිරියොද්'' කණ්ඩායමේ මහ්වාදී න්‍යායයන්[110] නිශ්චිත ය. ''පක්ෂයට හිතවත් මෙන්ෂෙවික් වරු'' විසින්, ලික්විඩෙෂනිස්ට්වාදය න්‍යායික වශයෙන් හෙළා දකිනු ලැබීමට අමතරව මෙම න්‍යායයන් ප්‍රතික්ෂේප කරනු ලැබීම සහ මාක්ස්වාදය ආරක්ෂා කරනු ලැබීම නිශ්චිත ය.

එසේ වුවද, ට්‍රොට්ස්කිට දෘෂ්ඨිමය හා දේශපාලනමය නිශ්චිතතාවයක් නොමැත. ''කට්ටිවාදී නොවන'' යන ඔහුගේ පේටන්ට් බල පත්‍රය, එක කණ්ඩායමක සිට තවත් කණ්ඩායමකට නිදහස් ලෙස එහා මෙහා පැනීම සඳහා බල පත්‍රයක් පමණකි. ඒ ගැන පහත වඩාත් විස්තර සහිතව පැහැදිලි කරමු.

සම්පිණ්ඩනය මෙසේය:

1) විවිධ මාක්ස්වාදී උපනති හා කණ්ඩායම් අතර පවතින දෘෂ්ටිමය අසමඨයන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසයේ විසි අවුරුද්දක් මුළුල්ලේ පැතිර පැවති නමුත් හා වර්තමානයේ මූලික ප්‍රශ්න සමග (අප පසුව පෙන්වා දෙන පරිදි) සම්බන්ධ නමුත්, ට්‍රොට්ස්කි එම අසමඨයන් ගේ ඓතිහාසික වැදගත් කම විස්තර කරන්නේ හෝ ඔහුට එය වැටහෙන්නේ හෝ නැත.

2) කණ්ඩායම් බෙදීමේ ප්‍රධාන විශේෂිත අංග ලක්ෂණ වන්නේ නාමික වශයෙන් සමගිය පිළිගැනීම සහ ඇත්ත වශයෙන් අසමගිව සිටීම බව වටහා ගැනීමට, ට්‍රොට්ස්කි අසමත් වෙයි.



(3) ''කට්ටිවාදී නොවීම'' යන්න දඩමීමා කර ගන්නා ට්‍රොට්ස්කි, විශේෂයෙන්ම නිශ්චිත ප්‍රතිපත්ති නොමැති සහ රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරය තුළ පදනමක් නොමැති, විදේශගත කණ්ඩායමක අවශ්‍යතාවයන් සඳහා සටන් කරයි.

දිලිසෙන සියල්ල රත්රන් නොවේ. ට්‍රොට්ස්කි ගේ වදන් බොහෝ සේ දිලිසෙන හා ශබ්ද සහිත නමුත්, ඒවා අර්ථ විරහිත ය.

## II. භේදය

''ප්‍රාව්දවාදීන් වන ඔබ අතර, කණ්ඩායම් බෙදීමක්, එනම්, නාමික වශයෙන් සමගිය පිළිගැනීමක් හා ඇත්ත අසමගියක් නොමැති නමුත්, ඊට වඩා නරක දෙයක්, එනම්, භේද කාරී උපක්‍රම ඇතැ'' යි අපට කියනු ලැබේ. ට්‍රොට්ස්කි කියන්නේ, ඒකාන්ත වශයෙන් ම එයයි. තමන් ගේ අදහස් ගැන කල්පනා කර ගත නොහැකිව, නැතහොත්, තමන්ගේ තර්ක සංගත ලෙස එකලස් කරගත නො හැකිව, එක මොහොතක ඔහු කණ්ඩායම් බෙදීම ගැන ප්‍රලාප දොඩයි; නැවත ඊළඟ මොහොතේ මෙසේ කෑගසයි: ''භේදකාරී උපක්‍රම එක දිගටම සිය දිවි නසන ජයග්‍රහණයන් ලබා ගන්නේය'' (අංක 1. පිටු 6).

මෙම ප්‍රකාශයෙහි තිබිය හැක්කේ එක් අර්ථයක් පමණකි. ''ප්‍රාව්දාවාදීහු එක දිගටම ජයග්‍රහණ ලබා ගනිති'' (මෙය වාස්තවික, 1912 සහ 1913 කාලයේ රුසියාවේ පොදු ජන කම්කරු පංති ව්‍යාපාරයේ අධ්‍යයනයකින් තහවුරු කරන ලද, පරීක්ෂා කර බැලිය හැකි, සත්‍යයකි). නමුත් ට්‍රොට්ස්කි වන මම, ප්‍රාව්දාවාදීන් (1) කඩාකප්පල් කාරීන් හා (2) සියදිවි නසාගන්නා දේශපාලනඥයන් වශයෙන් හෙළා දකින්නෙමි.

මෙය පරීක්ෂා කර බලමු.

ප්‍රථමයෙන්ම, අපි ට්‍රොට්ස්කිට ස්තුති කළ යුත්තෙමු. ඔහු එෆ්. දාන් සමග එකාවන්ව සිටියේ (1912 අගෝස්තු සිට 1914 පෙබරවාරි දක්වා) වැඩි කල කට පෙර නො වේ. කවුරුත් දන්නා පරිදි එම එෆ්. දාන් ලික්විඩෙෂනිස්ට්වාද විරෝධය''මරා දැමීමට'' තර්ජනය කළ අතර, එසේ කරන ලෙස අන් අයටද හඬ නැඟුවේය. වර්තමානයේ දී අපගේ උපනතිය (හා අපගේ පක්ෂය — කෝප නොවන්න ට්‍රොට්ස්කි මහතාණනි, මෙය සත්‍යයකි!) ''මරා දැමීමට'' ට්‍රොට්ස්කි තර්ජනය නො කරයි. ඔහු කරන්නේ එය තමන්ම නසා ගන්නා බවට අනාවැකි පළ කිරීම පමණකි.

මෙය වඩාත් මෘදුය. එසේ නොවේද? එය ''කට්ටිවාදී නොවන'' තත්වයට බොහෝ දුරට සමානය. නො එසේ ද?

නමුත් විහිළු පසෙක තබමු. (නමුත්, ට්‍රොට්ස්කිගේ ඉවසිය නොහැකි වදන් හරඹයට මෘදු ලෙස පිළිවදන් දිය හැකි එකම ක්‍රමය විහිළු කිරීම ය).

"සිය දිවි නසා ගැනීම" යනු හුදෙක්ම හිස් වදනකි; හුදෙක්ම "ට්‍රොට්ස්කිවාදය"ය.

භේද කාරී උපක්‍රම සම්බන්ධයෙන් කෙරෙන්නේ බරපතල චෝදනාවකි. පැරිස් හා වියනා දෘෂ්ඨී කෝණය අනුව ඇත්ත වශයෙන්ම පවතින, ඉහත විස්තර කෙරුනු කණ්ඩායම් හා ලික්විඩේටර්වරු විසින්, දහසක් ස්වරයෙන් මෙම චෝදනාව යළි යළිත් අපට විරුද්ධව නාද කරවනු ලැබේ.

තවද, ඒ සියළු දෙනාම, මෙම බරපතල චෝදනාව ප්‍රතිරාවය කරන්නේ ඉතාමත් නිසරු ආකාරයකිනි. ට්‍රොට්ස්කි කියන දෙය බලන්න. "භේදකාරී උපක්‍රම එක දිගටම ජය ගනිමින් තිබෙන" බව ඔහු පිළිගත්තේ ය. ('ප්‍රාව්දාවාදීන් ජය ගනිති' යන ලිපිය කියවන්න). එයට ඔහු මෙසේ ද එකතු කරයි.

"අන්ත දේශපාලන වික්ෂිප්ත තත්වයක පසුවන දියුණු කම්කරුවෝ නිමක් නැති පමණ පිරිසක්, තමන්ම, බොහෝ විට භේදයක ක්‍රියාශීලී ඒජන්තවරු ලෙස කටයුතු කරති" (අංක 1, පිටු 6).

මෙම වචන මෙම ප්‍රශ්නය සම්බන්ධයෙන් දක්වන වගකීමෙන් තොර ස්වභාවයේ ඉතා පැහැදිලි නිදර්ශනයක් නොවේ ද?

රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරයේ පොරපිටියෙහි, අප ඉදිරියේ පෙනෙන්නට තිබෙන එකම දෙය ලික්විඩේෂනිස්ට්වාදය වී තිබියදී, ඔබ අපට කඩාකප්පල්කාරීන් වීමක් ගැන චෝදනා කරන්නෙහිය. එසේ නම් අප ලික්විඩේෂනිස්ට්වාදය කෙරෙහි දක්වන ආකල්පය වැරදි යයි, ඔබ කල්පනා කරන්නෙහි ද? ඇත්තෙන්ම ඉහත අප විස්තර කළ විදේශගත කණ්ඩායම් සියල්ල ම, ඒවා එකිනෙකට කොතරම් වෙනස් වුවත්, අප ලික්විඩේෂනිස්ට්වාදය කෙරෙහි දක්වන ආකල්පය වැරදිය, එය "කඩාකප්පල්කාරීන් ගේ" ආකල්පයක් ය, යන අදහසට ඔවුහු එකඟ වෙති. මෙම කණ්ඩායම් සියල්ලම හා ලික්විඩේෂනිස්ට්වාදීන් අතර ඇති සමානතාවය (සහ තරමක් දුරට සමීප දේශපාලන සම්බන්ධය) මෙයින් ද පෙනේ.

අප ලික්විඩේෂනිස්ට්වාදය කෙරෙහි දක්වන ආකල්පය න්‍යායික වශයෙන් හා ප්‍රතිපත්තිමය වශයෙන් වැරදි නම්, ට්‍රොට්ස්කි එය නොසඟවා කිව යුතුය. එසේම, ඔහු එය වැරදි යයි කල්පනා කරන්නේ මන්ද යන්න, නිශ්චිත ලෙස සහ නිසැක ලෙස කිව යුතුය. නමුත් අවුරුදු ගණනක්ම, ට්‍රොට්ස්කි මෙය මග හරිමින් සිටියේය.



අප ලික්විඩේෂනිස්ට්වාදය කෙරෙහි දක්වන ආකල්පය වැරදි බව, ව්‍යවහාරයේදී සහ ව්‍යාපාරයේ අත් දැකීම් වලින් ඔප්පු වී තිබේ නම්, එවිට මෙම අත් දැකීම් විශ්ලේෂණය කළ යුතුය. නමුත් ට්‍රොට්ස්කි මෙය ද කිරීමට සමත් නොවේ. "දියුණු කම්කරුවෝ නිමක් නැති පමණ පිරිසක්, භේදයක ක්‍රියා ශීලී ඒජන්තවරු ලෙස (මෙසේ කියවන්න: ප්‍රාව්දාවාදී ප්‍රතිපත්තියේ, උපක්‍රමවල, ක්‍රමයේ හා සංවිධානයේ ක්‍රියාශීලී ඒජන්ත වරු ලෙස) කටයුතු කරති"යි ඔහු පිළි ගනියි.

ට්‍රොට්ස්කි පිළිගන්නා ලෙසට, අත්දැකීමෙන් සනාථ වී තිබෙන අප්‍රසන්න කරුණක් වන දියුණු කම්කරුවන්, එපමණක් නොව, දියුණු කම්කරුවන් නිමක් නැති පමණ දෙනා "ප්‍රාව්ද වට" පක්ෂපාත වීමට හේතුව කුමක් ද?

එම හේතුව, මෙම කම්කරුවන් ගේ "අන්ත දේශපාලන වික්ෂිප්ත තත්වය" යයි ට්‍රොට්ස්කි පිළිතුරු දෙයි.

මෙම පැහැදිලි කිරීමෙන් ට්‍රොට්ස්කිටත්, විදේශගත කණ්ඩායම් පහටමත්, ලික්විඩේටර් වරුන්ටත්, මහත් සතුටක් ලැබෙනු නිසැක බව කීම අවශ්‍ය නොවේ. ට්‍රොට්ස්කි තමන්ගේ මහත් සතුටට හේතුවන පරිදි, ඓතිහාසික ප්‍රපංචයන් ගැන විස්තර කිරීමට, උගත් විශේෂඥ ඉරියව් පාමින් අත්‍යාලංකාර, මහා ශාබ්දික වදන් ඇද බෑමේ, මහත් රුචියක් දක්වයි. "දියුණු කම්කරුවන් නිමක් නැති පමණ" දෙනා ට්‍රොට්ස්කි ගේ ක්‍රියාමාර්ගයට නො ගැලපෙන දේශපාලන හා පක්ෂ ක්‍රියාමාර්ගයක "ක්‍රියාශීලී ඒජන්තවරුන්" වන හෙයින්, ට්‍රොට්ස්කි හිටි අඩියේ ම ප්‍රශ්නය විසඳාලයි: මෙම දියුණු කම්කරුවෝ "අන්ත දේශපාලන වික්ෂිප්ත තත්වයක පසුවෙති." ඒ අතර ඔහු, එනම්, ට්‍රොට්ස්කි, දේශපාලන ස්ථිරත්වය හා පැහැදිලිකම ඇති "තත්වයක පසුවන" බව හා නිවැරදි ක්‍රියාමාර්ගය අනුගමනය කරන බව පෙනේ!.. තමන්ගේ පපුවට ගසා ගනිමින්, කට්ටිවාදය, ප්‍රදේශවාදය හා බුද්ධිමතුන් ඔවුන්ගේ කැමැත්ත කම්කරුවන් පිට පැටවීමට උත්සාහ කිරීම ගැන ගර්ජනා කරන්නේ ද මෙම ට්‍රොට්ස්කිමය!

මෙවැනි දේ කියවන කල, කෙනෙකුට තමන්ගෙන්ම මෙසේ ප්‍රශ්න කර ගැනීම වැළැක්විය නො හැකිය: මෙවැනි කට හඬ ඇසෙන්නේ මානසික රෝහලෙන් ද?

පක්ෂය ලික්විඩේෂනිස්ට්වාදය සහ එය හෙළාදැකීම පිළිබඳ ප්‍රශ්නය "දියුණු කම්කරුවන්" හමුවේ තැබුවේ, 1908 තරම් ඈත කාලයකදීය. ඒ අතර නිශ්චිත ලික්විඩේටර්වරු කණ්ඩායමකින්, (එනම් "නාෂ සර්යා"[111] කණ්ඩායමෙන්) "බෙදී" වෙන්වීම පිළිබඳ ප්‍රශ්නය, නැතහොත්, පක්ෂය ගොඩනැගීමට ඇති එකම මාර්ගය එය නොමැතිව හා එයට විරුද්ධවය යන ප්‍රශ්නය, මතුකරන ලද්දේ 1912 දීය — එනම්, අවුරුදු දෙකකට පෙරය. දියුණු කම්කරුවනගෙන් අති බහුතරය "ජනවාරි (1912) ක්‍රියා-

මාර්ගයට'' ආධාර කිරීමට පක්ෂව අදහස් ප්‍රකාශ කළහ. ''ජයග්‍රහණ'' සහ ''දියුණු කම්කරුවන් නිමක් නොමැති පමණ'' ගැන කථා කරන විට, ට්‍රොට්ස්කි ම මෙය පිළිගන්නේ ය. නමුත්, දියුණු කම්කරුවන් වෙත අපවාද දමා ගැසීමෙන්, ඔවුන් ''කඩාකප්පල් කාරීන්'' යයි, ''දේශපාලන වශයෙන් වික්ෂිප්ත'' වී ඇතැයි කියමින් පමණක්, ට්‍රොට්ස්කි මෙයින් ගැලවී යයි.

මෙම කරුණු ඇසුරෙන් බුද්ධිමත් ජනයා බැස ගනු ඇත්තේ වෙනත් නිගමනයකට ය. පංති විඥනය ඇති කම්කරුවන් බහුතරය නිශ්චිත හා පැහැදිලි තීරණ වටා එක්රැස් වී සිටින තැන, අදහස් හා ක්‍රියාකාරිත්වය පිළිබඳ සමගියත්, පක්ෂ ජීව ගුණයත්, පක්ෂයත්, අපට දක්නට ලැබේ.

අපට දකින්නට ඇත්තේ, කම්කරුවන් විසින් ''නිලවලින් ඉවත් කරන ලද'' ලික්විඩේටර්වරුන් හෝ තමන් රුසියාවේ කම්කරු පංති ව්‍යාපාරය සමග සම්බන්ධව සිටින බවට අවුරුදු දෙකක් තුළදී කිසිම සාධකයක් නො දක්වූ රුසියාවෙන් පිටත පවතින කණ්ඩායම් දුසිම් භාගයක් පමණ හෝ වන විට අපට වික්ෂිප්ත තත්වය හා භේදයන් දකින්නට ලැබේ. මාක්ස්වාදී ප්‍රාව්දවාදීන් පිළිගන්නා එම ''එක්සත් සමස්තයේ'' තීරණ ක්‍රියාත්මක නො කරන ලෙස කම්කරුවන් පෙළඹවීමට ට්‍රොට්ස්කි දූන් උත්සාහ කිරීමෙන්, ඔහු යෙදෙන්නේ ව්‍යාපාරය කඩාකප්පල් කර, භේදයක් ඇති කිරීමේ උත්සාහයක ය.

මෙම ප්‍රයත්නයන් නිෂ්ඵලය. නමුත්, තමන්ම භේද ඇති කරමින්, වෙනත් අය භේද ඇති කරන බව කියා කෑගසන බුද්ධිමතුන්ගේ කණ්ඩායම්වල හිස උදුම්මාගත් අහංකාර නායකයන් ගැන අපි හෙළිදරව් කළ යුත්තෙමු. ''දියුණු කම්කරුවන්'' අතින් අන්ත පරාජයක් ලබා ගත් මොවුහු, පසුගිය අවුරුදු දෙකක කාලය තිස්සේ, මෙම දියුණු කම්කරුවන්ගේ තීරණ හා කැමැත්ත නො ඇදහිය හැකි තරම් මාන්නාධික ලෙස උල්ලංඝනය කරමින්, එම කම්කරුවන් ''දේශපාලන වික්ෂිප්ත තත්වයේ පසුවන'' බව කියති. මේවා මුළුමනින්ම නස්ද්‍රියොව් ගේ හෝ ''ජූදස්'' ගොලොවාලියව්[112] ගේ උපක්‍රම වෙති.

විචාරකයෙක් ලෙසට, භේදයක් ගැන මෙසේ නැවත නැවතත් කරන ඝෝෂාවන්ට පිළිතුරක් වශයෙන්, ඒකාන්ත, බොරු නො කළ හා බොරු නො කළ හැකි, සංඛ්‍යා නැවත නැවතත් ඉදිරිපත් කිරීමෙන් මා වෙහෙසට පත්වන්නේ නැත. දෙවැනි දූමා සභාවේ, කම්කරු කියූරියා මණ්ඩලවලට තෝරා පත් කරන ලද මන්ත්‍රීන් සංඛ්‍යාවෙන් සියයට 47 ක් ද, තුන්වැනි දූමා සභාවේ සියයට 50 ක් ද, හතරවැනි දූමා සභාවේ සියයට 67 ක්ද බෝල්ෂෙවික්වරු විය.



''දියුණු කම්කරුවන්'' බහුතරය ඇත්තේ එහිය; පක්ෂය ඇත්තේ එහිය; පංති විඥනය ඇති කම්කරුවන් බහුතරයේ අදහස් හා ක්‍රියාකාරිත්වය පිළිබඳ සමගිය ඇත්තේ එහි ය.

අපගේ තර්ක පදනම් කර තිබෙන්නේ, ස්තලිපින් කියූරියා මත බව මෙයට පිළිවදන් දෙමින් ලික්විඩේටර්වරු (එල්. එම්. බුල්කින්, ''නාෂ සර්යා'' අංක 3) කියති. එය මුග්ද අඥන විරුද්ධත්වයකි. කාන්තාවන් ඇතුලත් නොකරන බිස්මර්ක් මැතිවරණ නීතිය යටතේ පැවැත්වෙන මැතිවරණවල ප්‍රතිඵල වලින්, ජර්මන්වරු ඔවුන්ගේ සාර්ථකත්වය මනිති. පවත්නා නීතියේ ප්‍රතිගාමී සීමාවන් අල්ප මාත්‍ර වශයෙන් හෝ සාධාරණ කර පෙන්වන්නේ නැතිව, එය යටතේ ජර්මන් මාක්ස්වාදීන් ලත් සාර්ථකත්වය තක්සේරු කිරීම ගැන ඔවුන්ට දෝෂාරෝපනය කරනු ඇත්තේ, සිහි බුද්ධියට අහිමි වූවන් පමණකි.

එසේම අපි ද, කියූරියා මණ්ඩල හෝ කියූරියා ක්‍රමය සාධාරණ කරන්නේ නැතිව, පවත්නා මැතිවරණ නීතිය යටතේ, අපගේ ජයග්‍රහණය තක්සේරු කෙළෙමු. දූමා සභාමැතිවරණ තුනෙහි දීම (දෙවැනි, තුන් වැනි හා හතරවැනි) කියූරියා මණ්ඩල තිබුණි. තවද, කම්කරු කියූරියා මණ්ඩලය තුළ, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සාමාජිකත්වය තුළ සම්පූර්ණයෙන්ම ලික්විඩේටර් වරුන්ට විරුද්ධව රැල්ලක් පැවතුනි. තමන්ම රවටා ගැනීමටත්, අන්‍යයන් රැවටීමටත්, කැමැත්තක් නො දක්වන අය, මෙම වාස්තවික කරුණ, එනම්, ලික්විඩේටර්වරු පරදවා කම්කරු පංති සමගිය ලැබූ ජයග්‍රහණය, පිළිගත යුතු ය.

අනිත් තර්කය ද එසේම ''ඥනවන්ත'' එකකි: ''මෙන්ෂෙවික් වරු සහ ලික්විඩේටර්වරු මේ, මේ, බෝල්ෂෙවික් වරයාට ඡන්දය දුන්හ'' (නැතහොත් තෝරාපත් කිරීමට සහභාගි වූහ)! අගේ ය. නමුත්, දෙවැනි දූමා සභාවට තේරී පත් වූ බොල්ෂෙවික් නොවන මන්ත්‍රී වරුන් සියයට 53 ටද, තුන්වැනි දූමා සභාවට පත්කළ සියය 50 ටද, හතරවැනි දූමා සභාවට පත්කළ සියයට 33 ටද අදුල මෙයම නොවන්නේ ද?

මන්ත්‍රී වරුන්ගේ සංඛ්‍යා වෙනුවට, ඡන්දදායකයන්ගේ, නැතහොත් කම්කරු නියෝජිතයන් ගේ, ආදීන් ගේ සංඛ්‍යා විස්තර ලබා ගත හැකි වූවහොත් අපි සතුටින් ඒවා උපුටා දක්වන්නෙමු. නමුත් මෙම වඩාත් විස්තර සහිත සංඛ්‍යාවන් ලබා ගත නො හැකිය. එනිසා, ''විවාදකයෝ'' නිකම්ම ජනතාවගේ ඇස්වලට වැලි ගසති.

නමුත්, විවිධ උපනතිවල ප්‍රවෘත්ති පත්‍රවලට ආධාර කළ කම්කරු කණ්ඩායම්වල සංඛ්‍යා ගැන කියන්නේ කුමක් ද? අවුරුදු දෙක (1912 හා 1913) තුළදී කණ්ඩායම් 2801 ක් ''ප්‍රාව්ද වට'' ආධාර කළ අතර 750 ක්

''ලූච්''*[113] පත්‍රයට ආධාර කළහ. මේවා නිවැරදිද යනු පරීක්ෂා කළ හැකි සංඛ්‍යාවන්ය. ඒවා වැරදි බව ඔප්පු කිරීමට කිසිවෙක් උත්සාහ දරා නැත.

''දියුණු කම්කරු'' බහුතරයේ ක්‍රියාකාරිත්වයේ සහ අධිෂ්ඨානයේ සමගිය තිබෙන්නේ කොතැනද? එමෙන්ම, වැඩි දෙනාගේ කැමැත්ත උල්ලංඝනය කිරීම සිදුවන්නේ කොතැන ද?

ට්‍රොට්ස්කි ගේ ''කට්ටිවාදී නොවන'' යනු, ඇත්ත වශයෙන් ම භේද-කාරී උපක්‍රම වන්නේ ය එසේ කිරීමේදී ලජ්ජා විරහිත ලෙස කම්කරුවන් බහුතරයේ කැමැත්ත උල්ලංඝනය කිරීම වන්නේ ය.

## III. අගෝස්තු පෙරමුණ බිඳ වැටීම

භේදකාරී උපක්‍රම ගැන ට්‍රොට්ස්කි කරන චෝදනාවල නිරවද්‍ය-තාවය හා සත්‍යතාවය උරගා බැලිය හැකි තවත් ක්‍රමයක්, ඉතා වැදගත් ක්‍රමයක් ඇත.

භේදකාරීන් වන්නේ ''ලෙනින්වාදීන්'' යයි ඔබ කල්පනා කරන්-නෙහි ද? හොඳයි ඔබ නිවැරදි යයි සිතා ගනිමු.

නමුත්, ඔබ නිවැරදි නම්, ''ලෙනින්වාදීන්'' නොමැතිව හා ''භේද-කාරීන්ට'' විරුද්ධව ලික්විඩේටර්වරු සමග එක්සත් විය හැකි යයි, අන්‍ය කොටස් සහ කණ්ඩායම් සියල්ලම එක්ව ඔප්පු කර නැත්තේ මන්ද?.. භේදකාරීන් වන්නේ අප නම්, සමගිකාරීන් වන ඔබ, ඔවුනොවුන් අතරත්, ලික්විඩේටර්වරු සමගත්, එක්සත් වී නැත්තේ මන්ද? ඔබ එය කෙළෙහි නම්, සමගිය ඇති කළ හැකියයි ද, එය ප්‍රයෝජනවත් යයිද, යන්න ක්‍රියා-වෙන් කම්කරුවන්ට ඔප්පුවන්නට තිබිණි!

සිදුවීම් ඇති වූ දින අනු පිළිවෙළ බලමු.

තමන් ලික්විඩේටර්වරු නොමැති, ඔවුනට විරුද්ධ පක්ෂයක් බව ''ලෙනින්වාදී'' ''භේදකාරීහු'' 1912 ජනවාරියේ දී ප්‍රකාශ කළහ.

1912 මාර්තුවේදී කණ්ඩායම් හා ''කට්ටි'' සියල්ලම, එනම්, ලික්වි-ඩේර්වරු, ට්‍රොට්ස්කි වාදීහු, විපිරියොද්වාදීහු, ''පක්ෂයට හිතවත් බොල්-ෂෙවික්වරු''සහ''පක්ෂයට හිතවත් මෙන්ෂෙවික් වරු'',යන සියළු දෙනාම ඔවුන් ගේ රුසියානු පත්‍ර මගින් හා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී "Vorwär-ts"[114] පුවත් පත මගින්, මෙම ''භේදකාරීන්ට'' විරුද්ධව එක්සත් වූහ. මේ සියළු දෙනාම එකාවන්ව, එක තාලයට හා එක හඬින්,අපට අපවාද කරමින්, අපට ''පැහැර ගන්නෝ'',''මායා කාරයෝ'' යන නම් හා වෙනත් හිතෛ-තෂීභාවයෙන් හා මෘදු කමින් ඊට වඩා නො අඩු, නම් පට බැන්දහ.

හොඳයි මහත්වරුනි! ''පැහැර ගන්නන්ට'' විරුද්ධව එක්සත්වීමට සහ ''දියුණු කම්කරුවන්ට'' සමගිය පිළිබඳ ආදර්ශයක් දීමටත් වඩා ඔබට පහසු විය හැකි වූ අන් දෙය කුමක් ද? එක් අතකින් පැහැරගන්නන්ට විරුද්ධව ලික්විඩේටර්වරුන්ගේ සහ ලික්විඩේටර්වරුන් නොවන්නන් ගේ සමගිය ද, අනිත් අතින් කොන් වූ ''පැහැර ගන්නන්'' හා ''භේදකා-රීන්'' ද, දියුණු කම්කරුවන්ට දක්නට ලැබුණේ නම්, ඔවුන් මුලින් සඳහන් පිරිසට සහයෝගය නොදක්වතැයි කීමට ඔබ අදහස් කරන්නේ ද?

අසමථයන් ''ලෙනින්වාදීන්'' විසින් නිර්මාණය කරන ලද නැත-හොත් අතිශයෝක්තියෙන් දක්වන ලද ආදී වූ ඒවා පමණක් නම්, එමෙන්ම, ලික්විඩේටර්වරු, ප්ලෙහානව්වාදීන්, විපිරියොද්වාදීන්, ට්‍රොට්ස්කිවා-දීන් හා එවැනි අය අතර සමගිය ඇත්ත වශයෙන්ම ඇති කළ හැකිනම්, පසු ගිය දෙ අවුරුද්ද තුළ දී ඔබගේම ආදර්ශයෙන් මෙය ඔප්පු කර නැත්තේ මන් ද?

1912 අගෝස්තුවේදී ''සමගිකාරයන්''[115] ගේ සාකච්ඡා සභාවක් රැස් කරන ලදී. එක්වරම අසමගිය ආරම්භ විය. ප්ලෙහානව්වාදීහු ඊට සහ-භාගිවීම සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කළහ. විපිරියොද්වාදීහු රැස්වීමට පැමිණි නමුත්, විරෝධය ප්‍රකාශකර, එම මුළු කටයුත්තෙහිම මිථ්‍යා ස්වභාවය හෙළිදරව් කිරීමෙන් පසුව, පිටවී ගියහ.

ලික්විඩේටර්වරු, ලත්වියන්වරු, ට්‍රොට්ස්කිවාදීහු (ට්‍රොට්ස්කි සහ සෙම්කොව්ස්කි), කොකේසියානුවෝ සහ හත් දෙනා[116] ''සමගිවූහ''. නමුත් ඔවුහු ඇත්තෙන්ම සමගි වූහු ද? ඔවුන් සමගි නොවූ බවත්, මෙය හුදෙක්ම ලික්විඩේෂනිස්ට්වාදය වසං කිරීමට කඩතුරාවක් පමණක් බවත්, අපි එම අවස්ථාවේ දී, කීවෙමු. අපගේ ප්‍රකාශය වැරදි බවක් සිදුවීම් වලින් ඔප්පු වී තිබේද?

හරියටම දහ අට මසකට පසු, එනම් 1914 පෙබරවාරි මස අපට මෙය දක්නට ලැබුණි:

1) හත් දෙනා භේද වෙමින් සිටියහ. බුරියානව් ඔවුන් අත්හැර ගොස් සිටියේය.

2) ඉතිරි වූ ''හයදෙනාගෙන්'', චහෙයිඩ්සේ සහ තුලියාකොව් හෝ වෙනත් අයෙක්, ප්ලෙහානව්ට යවන පිළිතුර ගැන එකඟ නොවූහ. ඔහුට පිළිතුරු දීමට ඔවුන් බලාපොරොත්තු වන බවත්, නමුත් ඔවුනට එය කළ නො හැකි වූ බවත් ඔවුන් විසින් පුවත් පත් මගින් ප්‍රකාශ කරන ලදී.

* 1914 අප්‍රියෙල් 1 දින කරන ලද ප්‍රාථමික ගණන් බැලීමක් අනුව (1912 ජනවාරි 1 දින පටන්) ''ප්‍රාව්දා'' වටා කණ්ඩායම් 4000 ක් හා ලික්වි-ඩේටර් වරුන් හා ඔවුන්ගේ මිතුරන් සියළු දෙනාටම එකතුව කණ්ඩායම් 1000 ක්ද සිටි බව පෙනී ගියේය.

3) මාස ගණනක්ම තිස්සේ ''ලූච්'' පත්‍රයෙන් එළි නොදුටු ට්‍රොට්ස්කි, බිඳී වෙන්වී ගොස් ''ඔහුගේම'' ''බර්බා'' සඟරාව ආරම්භ කර තිබුණි. මෙම සඟරාව ''කට්ටිවාදී නොවන'' යනුවෙන් හැඳින්වීමෙන් ට්‍රොට්ස්කි පැහැදිලි ලෙසම (විෂය කාරණය ගැන කිසියම් තරමකට හෝ දන්නා අයට පැහැදිලි ලෙස) දනුම් දෙන්නේ, ඔහුගේ අදහසේ හැටියට, ''නාෂ සර්යා'' සහ ''ලූච්'' කට්ටිවාදී යයි ඔප්පුවී තිබෙන බවය — සමගිකාරීන් වශයෙන් අසාර්ථක වූ බව ය.

මා හිතවත් ට්‍රොට්ස්කි, ඔබ සමගිකාරයෙක් නම්, ලික්විඩේටර්වරු සමග සමගිවිය හැකි යයි ඔබ කියන්නේ නම්, ඔබත්, ඔවුනුත් ''1912 අගෝස්තුවේ සකස් කර ගත් මූලික අදහස්වලට'' (''බර්බා'' අංක 1, පිටු 6, කතුවැකි සටහන) ගරු කරන්නේ නම්, ඔබම ''නාෂ සර්යා'' සහ ''ලූච්'' ලික්විඩේටර්වරුන් සමග සමගි නොවූයේ මන්ද?

ට්‍රොට්ස්කිගේ සඟරාව පළවන්නට පෙර, මෙම සඟරාවේ හැඩරුව ''අපැහැදිලි'' බවත් මෙම සඟරාව ගැන ''මාක්ස්වාදී පිරිස් අතර බොහෝ කථා බහ'' ඇති වූ බවත්, කියමින් ''සේවෙර්නයා රබෝචිය ගසියෙත'' එයට බලවත් ලෙස පහර දෙමින් විස්තරයක් පළ කළ විට, ස්වාභාවික වශයෙන්ම මෙම බොරුව හෙළිදරව් කිරීමට ''පුත් ප්‍රාව්දි''[117] (අංක 37) ට සිදුවිය. එය මෙසේ කීවේය. '' 'ලූච්' කණ්ඩායමට විරුද්ධව ට්‍රොට්ස්කි ලියූ රහස් ලියවිල්ලක් ගැන ''මාක්ස්වාදී පිරිස් අතර කතා බහ ඇති වී තිබේ''. ට්‍රොට්ස්කි ගේ හැඩරුවත්, ඔහු අගෝස්තු පෙරමුණෙන් බිඳී ගිය බවත් සම්පූර්ණයෙන්ම ''පැහැදිලි'' විය.

4. සුප්‍රසිද්ධ කොකේසියානු ලික්විඩේටර් වරුන්ගේ නායකයෙකු වන ආන් දූන් ''බර්බා'' තුළින් මතුවිය. ඔහු එල්. සෙදොව්ට පහර ගැසීමෙහි යෙදී සිටි අයෙකි. (එනිසා දාන් සහ සමාගම ඔහුට ප්‍රසිද්ධියේ බැන වැදුනේය). දූන් කොකේසියානුන් කැමතිවන්නේ ට්‍රොට්ස්කි සමග යාමට ද, නැතහොත් දාන් සමග යාමට ද, යන්න ''අපැහැදිලිව'' පවතී.

5. ''අගෝස්තු පෙරමුණ'' තුළ සිටි එකම සැබෑ සංවිධානය වූ, ලත්වියන් මාක්ස්වාදීහු, ඔවුන් ගේ පසුගිය සම්මේලනයේ (1914) යෝජනාවෙන් පහත සඳහන් පරිදි ප්‍රකාශ කර විධිමත් ලෙස එයින් ඉවත් වූහ:

''මොන ක්‍රමයකින් හෝ ලික්විඩේටර්වරු සමග සමගි වීමට සමාදනකාරීන් දැරූ ප්‍රයත්නය (1912 අගෝස්තු සාකච්ඡා සභාව) නිෂ්ඵල බව ඔප්පුවිය. එපමණක් නොව, සමගිකාරීහුම දෘෂ්ටිමය හා දේශපාලනමය වශයෙන් ලික්විඩේටර්වරුන්ගෙන් යැපෙන තත්වයට පත්වූහ''.

මෙම ප්‍රකාශය කරන ලද්දේ, මධ්‍යස්ථාන දෙකෙන් එකක් හෝ සමග සම්බන්ධකම් ඇති කර ගැනීමට කැමැත්ත නො දක්වූ, මධ්‍යස්ථ වූ සංවිධානයක් විසින්, දහ අට මසක අත් දැකීමෙන් පසුව ය. මධ්‍යස්ථ අයගේ මෙම තීරණය, ට්‍රොට්ස්කිගේ වැඩි පිළිගැන්මට හේතු විය යුතුය!

මේ ප්‍රමාණවත්ය. නො එසේද?

අප භේද කාරීන් වෙතැයිද, ලික්විඩේටර්වරු සමග සමගියෙන් සිටීමට නො කැමති හෝ අසමත් හෝ වෙතැයිද, අපට චෝදනා කළ අයම, ඔවුන් සමග සමගියෙන් සිටීමට අසමත් වූහ. අගෝස්තු පෙරමුණ මිථ්‍යාවක් වූයෙන්, එය බිඳ වැටුනේ ය.

මෙම බිඳ වැටීම තමන්ගේ පාඨකයන්ගෙන් සඟවා තැබීමෙන්, ට්‍රොට්ස්කි කරන්නේ ඔවුන් රැවටීමය.

අපගේ ප්‍රතිපාක්ෂිකයන් ගේ අත්දැකීමෙන් අප නිවැරදි බව ඔප්පු වී තිබේ; ලික්විඩේටර්වරු සමග සහයෝගිතාවයක් පැවැත්විය නොහැකි බව ඔප්පු වී තිබේ.

## IV. සමාදනකාරයෙක් ''හත් දෙනාට'' උපදෙස් දෙයි

සමාදනකාරයෙකු විසින් දූමා සභාවේ ලික්විඩේටර්-හිතවත් (නැතහොත් ලික්විඩේෂනිස්ට්වාදයට නැඹුරුව සිටින) මන්ත්‍රීවරුන් හත් දෙනාට දෙනු ලබන උපදෙස්, ''බර්බා'' අංක 1 හි '''දූමා කණ්ඩායමේ භේදය'' යන සිරස්තලය සහිත කතු වැකියේ ඇතුලත් ය. උපදේශයෙහි සම්පිණ්ඩනය මෙම වචන වලින් දක් වේ:

''වෙනත් කණ්ඩායම් සමග එකඟත්වයක් ඇති කර ගැනීමට අවශ්‍ය වූ හැම විටෙකම, ප්‍රථමයෙන්ම, හය දෙනා[118] විමසන්න'' (පිටු 29).

''ලූච්'' ලික්විඩේටර්වරුන් සමග ට්‍රොට්ස්කිගේ අසමථයට, අනෙකුත් කරුණු ද සමග මෙම ඥානවන්ත උපදේශය හේතුවක් වූ බව පෙනේ. දූමා සභාවේ කණ්ඩායම් දෙක අතර ගැටුම ආරම්භ වූ තැන් පටන්ම, ග්‍රීෂ්ම ඍතුවේ (1913) සාකච්ඡා සභාවේ[119] යෝජනාව අනුමත වූ තැන් පටන්ම, ප්‍රාව්දවාදීන් දැරූ අදහස මෙයයි. ''හත් දෙනා'' එසේ කටයුතු කිරීමට යළි යළිත් ප්‍රතික්ෂේප කළත්, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු කණ්ඩායම එම තත්වයට අනුකූලව දිගටම කටයුතු කරන බව, භේදයෙන් පසුව පවා, එය පුවත් පත් මගින් නැවත නැවතත් ප්‍රකාශ කර ඇත.

දූමා සභාවේ කටයුතු හා සම්බන්ධ ප්‍රශ්න ගැන එකඟත්වයන් ඇති කර ගැනීම සුදුසුය හා හැකිය යන අදහස, අපි මුල පටන්ම, ග්‍රීෂ්ම ඍතුවේ

සාකච්ඡා සභාව එය අනුමත කළ තැන් පටන්ම, දුරුවෙමු. අපි තවමත් එම අදහස දරන්නෙමු. සුළු ධනපති ගොවි ජන ප්‍රජාතන්ත්‍රවාදීන් (තෘදොවික්වරු) සමග, එවැනි එකඟතාවයන් නැවත නැවතත් ඇති කර ගෙන තිබේ නම්, සුළු ධනපති, ලිබරල් කම්කරු දේශපාලනඥයයන් සමග එකඟත්වයන් ඇති කර ගැනීමට ඊට වැඩි හැකියාවක් හා අවශ්‍යතාවයක් ඇත.

අපි අසමර්ථයන් අතිශයෝක්තියෙන් නොදැක්විය යුතු නමුත් සත්‍ය කරුණුවලට මුහුණ දිය යුත්තෙමු. හත් දෙනා ලික්විඩේෂනිස්ට්වාදයට නැඹුරු වූ පුද්ගලයන් ය. පසුගිය කාලයේ ඔවුහු සම්පූර්ණයෙන් ම දාන්ගේ නායකත්වය අනුගමනය කළහ. අද ඔවුහු දාන් වෙත සිට ට්‍රොට්ස්කි දක්වාද, නැවත ආපසුද යාමට ලොල් වෙති. ලික්විඩේටර්වරු යනු පක්ෂයෙන් බිඳී වෙන් වී ගිය නීත්‍යානුකූලවාදීන් කණ්ඩායමක් වන අතර, ඔවුහු ලිබරල් කම්කරු ප්‍රතිපත්තියක් අනුගමනය කරති. ඔවුන් ''නීති විරෝධී'' කටයුතු ප්‍රතික්ෂේප කරන හෙයින්, පක්ෂ සංවිධානය සහ කම්කරු පංති ව්‍යාපාරය හා සම්බන්ධ කරුණුවලදී ඔවුන් සමග සමගි වීමේ ප්‍රශ්නයක් පැන නැගිය නො හැක. ඊට වෙනස් ආකාරයකට කල්පනා කරන අයෙක් වේනම්, ඔහුට සිදුවී ඇත්තේ බරපතල වැරදීමකි; ඔහු 1908 න් පසු ඇති වී තිබෙන වෙනස්කම් වල බරපතල ස්වභාවය ගැන සැලකිල්ලට නොගන්නෙකි.

නමුත්, පක්ෂයෙන් බාහිරව, නැතහොත් පක්ෂය පර්යන්තයෙහි සිටින මෙම කණ්ඩායම සමග යම් යම් ප්‍රශ්න ගැන එකඟතාවයන් ඇති කර ගැනීමට ඉඩදිය හැකි බව ඇත්තය. කම්කරු (ප්‍රාවිදවාදී) ප්‍රතිපත්තිය හා ලිබරල් ප්‍රතිපත්තිය යන දෙකෙන් එකක් තෝරා ගැනීමට, තෘදෙවික්වරුන්ට සේම මොවුන්ටද, බල කළ යුත්තෙමු. නිදසුනක් වශයෙන් පුවත්පත් නිදහස සඳහා සටන් කිරීමේ ප්‍රශ්නයෙහි දී, ලික්විඩේටර්වරු, නීති විරෝධී පත්‍ර අත්හළ, නැතහොත්, අමතක කළ ලිබරල් යෙදුමත්, ඊට ප්‍රතිවිරුද්ධ එනම් කම්කරු ප්‍රතිපත්තියත්, අතර වැනි වැනී සිටි බව පැහැදිලිව පෙන්නුම් කළහ.

දූමා සභාවෙන් බාහිර ඉතාමත් වැදගත් ප්‍රශ්න එක එල්ලේම මතු නො කෙරෙන, දූමා සභා ප්‍රතිපත්තියේ පරිමාණය තුළ ලිබරල් කම්කරු මන්ත්‍රීවරු හත් දෙනා සමග එකඟතාවයන් ඇති කර ගැනීමට හැකිය එසේම සුදුසුය. මෙම කාරණය විෂයෙහි ට්‍රොට්ස්කි ලික්විඩේටර් වරුන්ගේ ස්ථාවරයේ සිට පක්ෂයේ (1913) ග්‍රීෂ්ම ඍතුවේ සාකච්ඡා සභාවේ ස්ථාවරය දක්වා වෙනස් වී සිටී.

පක්ෂයෙන් බාහිරව සිටින කණ්ඩායමක් එකඟත්වය යනුවෙන් අදහස් කරන්නේ, එම වචනයෙන් පක්ෂයේ අය වටහා ගන්නවාට වඩා සම්පූර්ණයෙන් ම වෙනස් දෙයක් බව, මෙහිදී අමතක නො කළ යුතුය. දූමා සභාවේ ''එකඟත්වය'' යන්නෙන්, පක්ෂයෙන් බාහිර ජනයා අදහස් කරන්නේ, ''උපක්‍රමීය යෝජනාවක් හෝ ක්‍රියාමාර්ගයක් සකස් කිරීම ය''. පක්ෂයේ අයට, එකඟත්වය යනු, පක්ෂ ක්‍රියා මාර්ගය ඉදිරියට ගෙන යාමේදී, අන් අයගේ සහභාගිත්වය ලබා ගැනීමට ප්‍රයත්න දැරීම ය.

නිදසුනක් වශයෙන්, තෘදෙවික් වරුන්ට පක්ෂයක් නැත. එකඟත්වයක් යනුවෙන් ඔවුන් අදහස් කරන්නේ, අද කැඩෙට්වරු සමග, හෙට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සමග ''ස්වේච්ඡාවෙන්'' යයි කිව හැකි පරිද්දෙන්, ක්‍රියාමාර්ගයක් ''සකස් කිරීම'' ය. නමුත් තෘදෙවික්වරු සමග එකඟත්වයක් යන්නෙන් අප අදහස් කරන්නේ ඊට හාත් පසින් ම වෙනස් දෙයකි. උපක්‍රම සම්බන්ධයෙන් වූ සෑම වැදගත් ප්‍රශ්නයක්ම ගැන අපට පක්ෂ තීරණ තිබේ. අපි කිසි කලෙකත් ඒවායින් බැහැර නොයන්නෙමු. තෘදෙවික්වරු සමග එකඟත්වය යනුවෙන් අප අදහස් කරන්නේ ඔවුන් අපගේ පැත්තට දිනා ගැනීමය; අප නිවැරදි බව ඔවුනට අවබෝධ කර දීම ය; කළු සියය පිරිස් හා ලිබරල් වාදීන්ට විරුද්ධව ඒකාබද්ධව සටන් කිරීම ප්‍රතික්ෂේප කිරීම නොවේ.

එකඟත්වයන් පිළිබඳ, මෙම පක්ෂ හා පක්ෂ නොවන අදහස් අතර ඇති මූලික වෙනස කොතරම් දුරට ට්‍රොට්ස්කිට අමතක වී තිබේද (ඔහු ලික්විඩේටර් වරු සමග ඇසුරු කළේ නිකම්ම නොවේ) යනු, ඔහුගේ පහත සඳහන් තර්කයෙන් පෙනේ:

''ජාත්‍යන්තරයේ නියෝජිතයන්, අපගේ බෙදී ගිය පාර්ලිමේන්තු කණ්ඩායමේ කොටස් දෙක එකතු කර, එකඟ විය හැකි හා එකඟ විය නො හැකි කරුණු ඔවුන් සමග ඒකාබද්ධ ලෙස නිශ්චය කළ යුතුය... පාර්ලිමේන්තු උපක්‍රම පිළිබඳ, ප්‍රතිපත්ති ඉදිරිපත් කරමින් විස්තර සහිත උපක්‍රමීය යෝජනාවක් සකස් කිරීම සුදුසුය...'' (අංක 1, පිටු 29—30).

ප්‍රශ්නය ලික්විඩේෂනිස්ට්වාදී ලෙසට ඉදිරිපත් කිරීමේ, ස්වභාව නිරූපී සහ නියම නිදර්ශනයක් ඔබ හමුවේ ඇත! ට්‍රොට්ස්කිගේ සඟරාවට පක්ෂය ගැන අමතක වී තිබේ. එවැනි සුළු දෙයක් මතක තබා ගැනීමට උවමනාවක් නැත!

යුරෝපයේ (යුරෝපීයවාදය ගැන අනුචිත ලෙස කතාකිරීම ට්‍රොට්ස්කි ප්‍රිය කරයි) විවිධ පක්ෂ එකඟත්වයට හෝ සමගියට එළඹෙන විට සිදුවන්නේ මෙයයි: ඒවායේ නියෝජිතයන් රැස් වී ප්‍රථමයෙන්ම එකඟ නොවන කරුණු තීරණය කරති (''පැරණි පක්ෂය දූන් ඇත්තේ නැතැයි''[120] යනුවෙන් කෞට්ස්කි කළ අදූර දර්ශී ප්‍රකාශය යෝජනාවට ඇතුලත් නො කර, රුසියාව හා සම්බන්ධයෙන් ජාත්‍යන්තරය යෝජනා කළේ ද හරිය-

ටම එය යි). එකඟ නොවන කරුණු නිශ්චය කළ පසු, පක්ෂ දෙකෙහි සම්මේලනවලට ඉදිරිපත් කළ යුත්තේ උපක්‍රම, සංවිධාන ආදිය පිළිබඳ කුමන නම් තීරණ ද (යෝජනා, කොන්දේසි, ආදිය), යනු නියෝජිතයෝ තීරණය කරති. ඔවුනට ඒකමතික තීරණ සකස් කර ගත හැකි වුවහොත්, ඒවා පිළිගත යුතු ද, නැද්ද, යන්න සම්මේලන තීරණය කරති. වෙනස් යෝජනා සකස් කළහොත්, ඒවාද අවසාන තීරණ සඳහා පක්ෂ දෙකෙහි සම්මේලනවලට ඉදිරිපත් කරනු ලැබේ.

ලික්විඩේටර් වරු හා ට්‍රොට්ස්කි ප්‍රිය කරන්නේ අවස්ථාවාදයේ යුරෝපීය ආකෘති වලට මිස, ඇත්තෙන්ම යුරෝපීය පාක්ෂික භාවයේ ආකෘතිවලට නම් නොවේ.

දූමා සභාවේ සාමාජිකයින් විසින් ''විස්තර සහිත උපක්‍රමීය යෝජනාවක්'' සකස් කරනු ලැබේ! රුසියාවේ ''පක්ෂයක් නොමැති'' බව කෞට්ස්කිට පවා ඒත්තු ගැන්වූ වියනා සහ පැරිස් කණ්ඩායම් කොතරම් දුරට ඒවායේ විකාර යෝජනා ක්‍රම හරඹය ගෙන යන්නේ දැයි පෙන්වන, සිත්කාවදින, ආදර්ශයක් ලෙසට, මෙය රුසියාවේ සිටින, එමෙන්ම, සහේතුක ලෙස ට්‍රොට්ස්කිගේ අප්‍රසාදයට ලක්වූ, ''දියුණු කම්කරුවන්ට'' ප්‍රයෝජනවත් වනු ඇත. නමුත් මේ කාරණය ගැන සමහර විට විදේශ කම්කරුවන් රැවටීමට හැකි වුවත්, රුසියාවේ ''දියුණු කම්කරුවන්'' (බිහිසුණු ට්‍රොට්ස්කි, අප්‍රසාදය බිණීමේ තවත් අවස්ථාවකට පෙළඹවීමේ අවදානමට මුහුණ දෙමින්) මෙම යෝජනා ක්‍රම හරඹ කරුවන්ට සිනාසී අවඥ කරනු ඇත.

''අප අතර නම් විස්තර සහිත උපක්‍රමීය යෝජනා සකස් කරනු ලබන්නේ පක්ෂ සම්මේලන හා සාකච්ඡා සභා විසිනි (පක්ෂයේ අය නොවන ඔබ අතර එය කෙරෙන්නේ කෙසේ දැයි අපි නො දනිමු), නිදර්ශන වශයෙන් 1907, 1908, 1910, 1912 හා 1913 වර්ෂවල පැවැත්වුනු වැනි ඒවා මගිනි. කරුණු නොදන්නා විදේශිකයන්ට හා මතක අඩු රුසියානුන්ට, අපි අපගේ පක්ෂ තීරණ ගැන සතුටින් දන්වන්නෙමු. ඒ අතර ''හත්දෙනාගේ'' හෝ ''අගෝස්තු පෙරමුණේ'' සාමාජිකයන් ගේ හෝ ''වාම අංශවල''[121] වෙනත් ඕනෑම කෙනෙකුගේ හෝ සම්මේලන වල හා සාකච්ඡා සභාවල යෝජනා ගැන අපට දන්වන ලෙසත්, අපගේ යෝජනා හෝ 1914 මධ්‍යස්ථ ලත්වියන් සම්මේලන යෝජනාව යනාදිය හෝ කෙරෙහි ඔවුන් අනුගමනය කළයුතු ආකල්පය පිළිබඳ වූ නිශ්චිත ප්‍රශ්නය ඔවුන්ගේ මීළඟ සම්මේලනයේදී මතු කරන ලෙසත්, ඊටත් වඩා සතුටෙන් කියන්නෙමු''.

විවිධ යෝජනා ක්‍රම හරඹ කරුවන්ට රුසියාවේ ''දියුණු කම්කරුවන්'' කියනු ඇත්තේ මේයයි — මෙය, නිදර්ශනයක් වශයෙන්, සාන්ත පීටර්ස්-



බර්ග්හි සංවිධානය වූ මාක්ස්වාදීන් විසින් මාක්ස්වාදී පුවත්පත් වලින් දැනටමත් කියා ඇත: ලික්විඩේටර්වරු සඳහා පළ කර ඇති මෙම වදන් නොතකා හැරීමට ට්‍රොට්ස්කි අදහස් කරන්නේ ද? එසේනම් ට්‍රොට්ස්කිට වන්නේ අයහපතක්මය. පංති විඥනය ඇති රුසියාවේ කම්කරු බහුතරයේ කැමැත්ත ගැන සැලකිල්ලට ගැනීමට ප්‍රතික්ෂේප කරන ඒ ''සමගි'' (අගෝස්තු වර්ගයේ ''සමගිය''?) යෝජනා ක්‍රම හරඹය, කොතරම් විකාරයක් ද යන්න ගැන, අපගේ පාඨකයන්ට අනතුරු හැඟවීම, අපගේ යුතු කම ය.

## V. ට්‍රොට්ස්කි සහ ලික්විඩේටර්වාදී අදහස්

තමන්ගේම අදහස්වල හරය ගැන, තමන්ගේ නව සඟරාව මගින් හැකි තරම් අඩුවෙන් කීමට ට්‍රොට්ස්කි වග බලා ගත්තේ ය. ''නීති විරෝධී සංවිධානය'' සම්බන්ධ ප්‍රශ්නය හෝ නීත්‍යානුකූල පක්ෂයක් සඳහා වූ සටන් පාඨය ආදිය හෝ ගැන ට්‍රොට්ස්කි වචනයක්වත් කියා නොමැති බව ''පුත් ප්‍රාව්දි'' (අංක 37) දැනටමත් සඳහන් කර ඇත. දෘෂ්ටිමය හා දේශපාලන හැඩහුරුකමක් නොමැති සංවිධානයක් වෙනම පිහිටුවීමට ප්‍රයත්න දරන විට එය, වෙනත් කරුණු ද සමග ගත් කල, ඉතාමත්ම නරක ආකාරයේ කට්ටිවාදය බව අප කියන්නේ එබැවිනි.

ට්‍රොට්ස්කි, ඔහුගේ අදහස් විවෘත ලෙස විස්තර කිරීමෙන් වැළකී සිටිය නමුත්, ඔහු හොර රහසේ ඉදිරිපත් කිරීමට උත්සාහ කර ඇත්තේ කුමණ වර්ගයේ අදහස් ද යන්න, ඔහුගේ සඟරාවේ ඡේද ගණනාවකින් පෙනේ.

ඔහුගේ සඟරාවේ ප්‍රථම කලාපයේ, ඔහුගේ ප්‍රථම වාක්‍යයේ, අපට පහත සඳහන් පරිදි කියවිය හැකි ය:

''අප රටේ විප්ලව පූර්ව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, කම්කරු පක්ෂයක් වූයේ, අදහස් හා අරමුණු අතින් පමණකි. එය ඇත්ත වශයෙන් ප්‍රබෝධ වී ගෙන එන කම්කරු පංතියට නායකත්වය දුන්, මාක්ස්වාදී බුද්ධිමතුන්ගේ සංවිධානයක් විය'' (5).

මෙය නම්, සැබැවින්ම පක්ෂය අත්හැරීමේ පෙරනිමිත්තක් වන පැරණි ලිබරල් සහ ලික්විඩේෂනිස්ට්වාදී ගායනය මැයි. එය ඓතිහාසික කරුණුවල විකෘතියක් පදනම් කරගත්තකි. 1895—1896 වැඩවර්ජන විසින් පොදුජන කම්කරු පංති ව්‍යාපාරයක් ඇති කර තිබුණි. එය අදහස්

හා සංවිධානය අතින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය සමග සම්බන්ධ වී තිබුණි. එසේම මෙම වැඩ වර්ජන වලදී, මෙම ආර්ථික හා ආර්ථික නොවන උද්ඝෝෂණයේ දී ''බුද්ධිමත්තු කම්කරු පංතියට නායකත්වය දුන්හ''!! ?

නැතහොත්, 1901—1903 කාලයේ දේශපාලන වැරදි, ඊට පූර්ව ගාමී කාලයේ වැරදි සමග සංසන්දනය කරන, පහත සඳහන් ඉතාමත් නිවැරදි සංඛ්‍යා ලේඛන ගෙන බලන්න.

දේශපාලන වැරැදි සඳහා නඩු පවරනු ලැබූ විමුක්ති ව්‍යාපාරයට සහභාගි වූවන්ගේ රැකියාවන් (සියයට ගණනින්).

| කාලසීමාව | කෘෂිකර්මය | කර්මාන්ත සහ වාණිජ | ලිබරල් වෘත්ති සහ ශිෂ්‍යයින් | නිශ්චිත රැකියාවක් නොමැති සහ රැකියා නොමැති |
|---|---|---|---|---|
| 1884—1890 | 7.1 | 15.1 | 53.3 | 19.9 |
| 1901—1903 | 9.0 | 46.1 | 28.7 | 8.0 |

රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක් නොපැවති හා ව්‍යාපාරය ''නරෝද්නික්'' ව්‍යාපාරයක්ව පැවති, අසූ ගණන්වල, සහභාගි වූවන්ගෙන් අඩකට වැඩිය බුද්ධිමතුන් වූ අතර, ඔවුන් ප්‍රමුඛත්වයක් ගත් බව අපට පෙනේ.

නමුත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පැවති හා පැරණි ''ඉස්ක්‍රාව'' එහි වැඩ කටයුතු කර ගෙන යමින් තිබුණු, 1901—1903 කාලයේ පින්තූරය, සම්පූර්ණ වෙනසකට බඳුන් වී ඇත. දැන් ව්‍යාපාරයට සහභාගි වූවන් අතර බුද්ධිමතුන් සුළු පිරිසක් වෙයි;කම්කරුවන් (“කර්මාන්ත සහ වාණිජ'') සංඛ්‍යාවෙන් බුද්ධිමතුන්ට වඩා බෙහෙවින් වැඩි වූ අතර, කම්කරුවන් හා ගොවිජනයා එක්කොට ගත් කල, එම ගණන මුළු සංඛ්‍යාවෙන් භාගයකට වැඩි ය.

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සුළු ධනපති බුද්ධිමත් අංශය එහි ක්‍රියාකාරිත්වය පැවේ, නියත වශයෙන්ම මාක්ස්වාදී උපනති අතර ඇති වූ ගැටුමේදී වූ අතර, එය ''ආර්ථිකවාදයෙන්'' (1895—1903) පටන් ගෙන, ''මෙන්ෂෙවික්වාදය'' (1903—1908) හා ''ලික්විඩේෂනිස්ට්වාදය'' (1908—1914) ඔස්සේ විහිදී ගියේය. පක්ෂයට විරුද්ධව ලික්විඩේෂනිස්ට්වාදී අපවාද ප්‍රතිරාවය කරන ට්‍රොට්ස්කි, පක්ෂය තුළ විසි අවුරුද්දක් පැවති උපනති අතර සට්ටනයේ ඉතිහාසය ගැන සඳහන් කිරීමට බිය වන්නේය.



තවත් නිදර්ශනයක් මෙන්න:

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය පාර්ලිමේන්තුවාදය කෙරෙහි දක්වන ආකල්පය සම්බන්ධයෙන් එය එම අවධි තුනම...(වෙනත් රටවල මෙන්)... පසු කළේය. ඒවා නම්,... ප්‍රථමයෙන් ''වර්ජන වාදය'',... ඊළඟට ප්‍රතිපත්තියක් වශයෙන් පාර්ලිමේන්තු උපක්‍රම පිළිගන්නා නමුත්... (ඒ අනර්ඝ ''නමුත්'' යන්න,''නළලට වඩා උසට කන් නොවැඩෙන්නේය, කිසි කලෙකත් වැඩෙන්නේ නැත!'' යනුවෙන් ශෙද්‍රින් විසින් පරිවර්තනය කරන ලද ''නමුත්'' යන්න)... එය උද්ඝෝෂණ කටයුතු සඳහා පමණක් යොදා ගැනීම... හා අවසාන වශයෙන්... වර්තන ඉල්ලීම්... දූමා සභා වේදිකාවෙන් ඉදිරිපත් කිරීම...'' (අංක 1, පිටු 34).

මෙය ද, ඉතිහාසයේ ලික්විඩේෂනිස්ට්වාදී විකෘතියකි. දෙවැනි හා තුන්වැනි අවධි අතර වෙනස නිර්මාණය කරන ලද්දේ, ප්‍රතිසංස්කරණවාදයට හා අවස්ථාවාදයට පක්ෂ අදහසක්, හොර රහසින් ඉදිරිපත් කිරීමට ය. ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, පාර්ලිමේන්තුවාදය කෙරෙහි දක්වන ආකල්පයේ අවධියක්''හැටියට වර්ජනවාදය යුරෝපයේ වත් (එහි ආරාජිකවාදය පැවති අතර තවදුරටත් පවතින්නේ ය), නැතහොත් රුසියාවේ වත් පැවතුනේ නැත. නිදසුනක් වශයෙන් රුසියාවේ බුලීගින් දූමා සභාව වර්ජනය කිරීම එක නිශ්චිත ආයතනයකට පමණක් අදාල වූ අතර, එය කිසිකලෙකත් ''පාර්ලිමේන්තුවාදය'' සමග සම්බන්ධ වූවක් නොවීය. එය උද්ගත වූයේ, පහර දීම දිගටම කරගෙන යාම සඳහා ලිබරල්වාදයත්, මාක්ස්වාදයත්, අතර පැවති අරගලයේ විශේෂ ස්වභාවය අනුවය. මාක්ස්වාදයේ උපනති දෙක අතර සට්ටනයට මෙම අරගලය බල පැවේ කෙසේ ද යන්න ගැන, ට්‍රොට්ස්කි වචනයක් වත් කියන්නේ නැත!

ඉතිහාසය ගැන කරුණු සඳහන් කරන විට, අයෙක්, විවිධ උපනති වලට නියත ප්‍රශ්න හා ඒවායේ පංති මූලයන් ගැන පැහැදිලි කළ යුතුය. බුලීගින් දූමා සභාවට සහභාගි වීම පිළිබඳව ඇති වූ පංති හා උපනති අතර අරගලය ගැන මාක්ස්වාදී අධ්‍යයනයක් කිරීමට උවමනා කරන ඕනෑම කෙනෙකුට එය තුළ ලිබරල් කම්කරු ප්‍රතිපත්තියේ මූලයන් දක්නට ලැබෙනු ඇත. නමුත් ට්‍රොට්ස්කි ඉතිහාසය ගැන කරුණු ''සඳහන් කරන්නේ'', නියත ප්‍රශ්න මඟ හැරීමත්, වර්තමාන අවස්ථාවාදීන් සාධාරණ කර පෙන් වීමට, නැතහොත්, ඔවුනට සාධාරණ වැනි පෙනුමක් දීමට, හේතු නිර්මාණය කිරීමත්, පිණිස පමණකි!

ඔහු මෙසේ ලියයි:

''... ඇත්ත වශයෙන්ම, සියළුම උපනති එකම අරගල හා සංවිධාන විධි උපයෝගි කරගනිති. අපගේ ව්‍යාපාරයේ ඇති ලිබරල් අන්තරාය ගැන කරන ඝෝෂාව, හුදෙක්ම යථාර්ථයේ ගොරහැඩි සහ නිකායවාදී විකෘතියකි'' (අංක 1, පිටු 5 සහ 35).

මෙය ලික්විඩේටර්වරු ආරක්ෂා කිරීමේ ඉතා පැහැදිලි සහ බලවත් පරිශ්‍රමයකි. නමුත් අපි එක කරුණක්, ඉතාමත් අළුත් කරුණුවලින් එකක්, උපුටා දක්වන්නෙමු. ට්‍රොට්ස්කි නිකම්ම වචන විසුරුවයි. සත්‍ය කරුණු ගැන, කම්කරුවන්ම කල්පනා කර බලනු දකීමට අපි කැමැත්තෙමු.

''සෙට්වේර්නයා රබෝචිය ගසියෙත'' මාර්තු 13 දින පහත සඳහන් පරිදි ලියූ බව සත්‍යයකි:

''කම්කරු පංතිය මුහුණ පා සිටින නිශ්චිත හා නියත කර්තව්‍යය, එනම්, (පුවත්පත් ගැන වූ) පණත ඉවත ලන ලෙස දූමා සභාවට බල කිරීම ගැන අවධාරණය කරනු වෙනුවට කප්පාදු නොකළ හඬ නැගීම සඳහා සටන් කිරීම හා සම්බන්ධ අපැහැදිලි සූත්‍රයක් ඉදිරිපත් කරනු ලැබේ. තවද, ඒ අතරම, නීති විරෝධී පුවත් පත් පුළුල් ලෙස ප්‍රචාරය කරනු ලැබේ. එයින් සිදුවිය හැක්කේ නීත්‍යානුකූල පුවත් පත් සඳහා කරනු ලබන කම්කරු අරගලය ලිහිල් වීම පමණකි''.

මෙය පැහැදිලි ලෙස, නියත වශයෙන් හා ලිඛිත ලෙස ලික්විඩේෂනිස්ට්වාදී ප්‍රතිපත්තිය ආරක්ෂා කිරීමක් හා ''ප්‍රාව්ද'' ප්‍රතිපත්තිය විවේචනය කිරීමක් වන්නේ ය. මෙම ප්‍රශ්නය විෂයෙහි, උපනති දෙක ''එකම අරගල සහ සංවිධාන විධි උපයෝගි කරගන්නා'' බවක්, කිසියම් හෝ උගත් පුද්ගලයෙක් කියනු ඇද්ද? මෙම ප්‍රශ්නය සම්බන්ධයෙන් ලික්විඩේටර්වරු ලිබරල් කම්කරු ප්‍රතිපත්තියක් අනුගමනය නොකරතියිද, කම්කරු පංතියට ඇති ලිබරල් තර්ජනය හුදෙක්ම සිතින් මවා ගත් එකක් යයි ද, කිසියම් උගත් පුද්ගලයෙක් කියනු ඇද්ද?

ට්‍රොට්ස්කි සත්‍ය කරුණු හා නියම ලියවිලි ගැන සඳහන් කිරීමෙන් වළකින්නේ, ඒවා විසින් ඔහුගේ කෝපාන්විත ඝෝෂණයන් හා උඩඟු වදන් නිර්දය ලෙස බිඳ දමනු ලබන බැවිනි. කිසියම් ඉරියව්වක් ආරූඪ කරගනිමින් ''ඝෝර හැඩි සහ නිකායවාදී විකෘතියකි'' යි කීම පහසු ය. එසේ නැතහොත්, ''ගතානුගතික කට්ටිවාදයෙන් මිදීම'' වැනි, ඊටත් වඩා සැර දැනෙන හා උඩඟු උගුල් වදනක් එකතු කිරීමට පහසුය.

නමුත් මෙය ඉතාමත් ලාමක නොවේද? උසස් පාඨශාලා ශිෂ්‍යයන්ගෙන් සමන්විත සභා හමුවේ, ට්‍රොට්ස්කි සියළු සැරසිලි සහිතව පෙනී සිටි කාලයේ තිබූ අවි ගබඩාවෙන් ණයට ඉල්ලාගත් ආයුධයක් නොවේ ද, මෙය?

කෙසේ හෝ වේවා, ට්‍රොට්ස්කි ගේ බලවත් කෝපයට හේතුවූ ''දියුණු කම්කරුවෝ'' මෙය පැහැදිලි ලෙස දැනගනු කැමති වෙති: නිශ්චිත දේශපාලන ව්‍යාපාරයක්, ඉහත උපුටා දක්වන ලද පරිදි අගය කිරීමෙන් නිශ්චිත ලෙස ප්‍රකාශ වන ''අරගල ක්‍රම සහ සංවිධාන'' ඔබ අනුමත කරන්නේ ද? නැතහොත් අනුමත කරන්නේ නැද්ද? ඔබ එය අනුමත කරන්නේ නම්, ඔබ ලිබරල් කම්කරු ප්‍රතිපත්තියක් අනුගමනය කරන්නෙහිය, ඔබ මාක්ස්වාදයට හා පක්ෂයට ද්‍රෝහී වන්නෙහිය. එවැනි ප්‍රතිපත්තියක් සමග, එවැනි ප්‍රතිපත්තියක් අනුගමනය කරන කණ්ඩායම් සමග, ''සාමයට'' හෝ ''සමගියට'' කථා කිරීම යනු, ඔබම රවටා ගැනීමක් හා අනුන් රැවටීමක් වනු ඇත.

එසේ නොවේ නම්, ඒ බව පැහැදිලිව කියන්න. වදන් වලින් වර්තමාන කම්කරුවන් පුදුමයට පත් වන්නේවත්, තෘප්තියට හෝ බියට හෝ පත්වන්නේවත් නැත.

ඉහත උපුටා දක්වන ලද කොටසෙන් ඉදිරිපත් කෙරෙන ලික්විඩේටර්වරුන් ගේ ප්‍රතිපත්තිය ලිබරල් දෘෂ්ටි කෝණයෙන් බලන කල වුවද, අඥාන එකකි. මක්නිසාද යත්, දූමා සභාවේ පණතක් සම්මත කිරීම, දැනටමත් කාරක සභාවෙහි ක්‍රියාත්මක වී සිටින බෙනිග්සන් වර්ගයේ ''සියම්ස්ත්ව-ඔක්තෝබර්වාදීන්'' මත රැඳී පවතින හෙයිනි.

* * *

රුසියාවේ මාක්ස්වාදී ව්‍යාපාරයට සහභාගි වූ පැරැණ්නෝ, ට්‍රොට්ස්කි ගැන හොඳින් දනිති. ඔවුන් ගේ ප්‍රයෝජනය සඳහා ඔහු ගැන සාකච්ඡා කිරීමේ අවශ්‍යතාවයක් නොමැත. නමුත් කම්කරුවන්ගේ තරුණ පරම්පරාව ඔහු ගැන නො දනී. එනිසා ඔහු ගැන සාකච්ඡා කිරීම අවශ්‍ය වන්නේ ය. එයට හේතුව, විදේශගත කණ්ඩායම් පහ, ලික්විඩේටර්වරු සහ පක්ෂය අතර වැනෙමින් සිටින අතර, ට්‍රොට්ස්කි ඒ පහේම ගතිගුණ නිරූපනය කරන හෙයිනි.

පැරණි ''ඉස්ක්‍රා'' කාලයේ දී (1901—1903) ''ආර්ථිකවාදීන්'' පැත්තේ සිට ඉස්ක්‍රාවාදීන් පැත්තට ද, නැවත ආපසුද, පැනීමෙහි යෙදුනු මෙම වැනෙන්නන්ට ''තුෂිනෝ පිල් මාරු කරන්නෝ'' (රුසියාවේ කරදර සහිත කාලයේදී[122], එක කඳවුරක සිට අනිත් කඳවුරකට ගිය භටයන්ට දුන් නම) යන නම පට බඳින ලදී.

අප ලික්විඩේෂනිස්ට්වාදය ගැන කථා කරන විට, අප සඳහන් කරන්නේ, මාක්ස්වාදයේ විසි අවුරුදු ඉතිහාසයේ දී උද්ගත වූ ''මෙන්ෂෙවික්වාදයෙන්'' හා ''ආර්ථිකවාදයෙන්'' පැන නගින, අවුරුදු ගණනාවක් තිස්සේ වර්ධනය වී ආ, එමෙන්ම, නිශ්චිත පංතියක, එනම්, ලිබරල් ධනපති පංතියේ ප්‍රතිපත්තිය හා දෘෂ්ටිය සමග සම්බන්ධ වූ, නිශ්චිත දෘෂ්ටිමය උපනතියක් ගැන ය.

තමන් කණ්ඩායම් වලට ඉහළින් සිටිතියි යන අයිතිවාසිකම කීමට ''තුෂිනෝ පිල් මාරු කරන්නන්ට'' ඉඩ සපයන එකම සාධකය නම්,

ඔවුන් විසින් එක දිනක එක් කණ්ඩායමකින් ද, තවත් දිනක වෙනත් කණ්ඩායමකින් ද, අදහස් ''ණයට ගනු'' ලැබීමයි. 1901—1903 ට්‍රොට්ස්කි දූඩි ''ඉස්ක්‍රාවාදියෙක්'' විය. ඔහු ''ලෙනින්ගේ මුගුර'' ලෙසට, 1903 සම්මේලනයේ දී රියසානව් විසින් විස්තර කරන ලදී. 1903 අවසාන වන විට ට්‍රොට්ස්කි දූඩි මෙන්ෂෙවික් වරයෙක් විය. ඔහු ඉස්ක්‍රාවාදීන් අතර සිට ''ආර්ථිකවාදීන්'' අතරට පැනගිය බව ඉන් අදහස් වේ. ''පැරණි ''ඉස්ක්‍රා'' සහ නව ''ඉස්ක්‍රා'' අතර නව පරතරයක් ඇතැ'' යි ඔහු කීවේය. 1904—1905 කාලයේ දී මෙන්ෂෙවික් වරු හැර දමා ගිය ඔහු, වැනෙන සුළු තත්වයක් දරමින් වරක් මර්තිනව් (''ආර්ථිකවාදී'') සමග සහයෝගී වෙමින් ද, වරක් ඔහුගේ අභූත වාම ''නොනවතින විප්ලව''[123] න්‍යායය ප්‍රකාශ කරමින් ද සිටියේ ය. අනතුරුව, 1907 වසන්තයේ දී තමා රෝසා ලුක්සෙම්බුර්ග් සමග එකඟවන බව, ඔහු ප්‍රකාශ කළේ ය.

බිඳී විසිරී යාමේ කාල පරිච්ඡේදයේ දී, දීර්ඝ කාලයක් තිස්සේ ''කට්ටි-වාදී නොවන'' ලෙසට වැනි වැනී සිට, නැවතත් දකුණට ගිය ඔහු, 1912 දී ලික්විඩේටර්වරු සමග පෙරමුණකට ඇතුලත් විය. ඔහු දැන්, නැවතත්, ඔවුන් අත්හැර ගොස් ඇත. එහෙත් ඔහු ප්‍රධාන වශයෙන් ඔවුන්ගේ අදහස්ම පුනරුච්ඡාරණය කරයි.

රුසියාවේ පොදුජන කම්කරු පංති ව්‍යාපාරය තවමත් අක්‍රියාකාරීව පැවති කාලයේ, සැම කණ්ඩායමක්ටම, උපනතියක්, කණ්ඩායමක් හෝ කට්ටියක්, නැතහොත්, කොටින් කියතොත්, අන්‍යයන් හා සමග සාකච්ඡා කරන හා ඒකාබද්ධවන ''බලවේගයක්'' වශයෙන් පෙනී සිටීමේ ''ඉඩකඩ ඕනෑ තරම්''තිබුණු අතීත කාලයේ ඇති වූ, ඓතිහාසික ආකෘතියටතේ ඉබාගාතේ පාවී ගිය කොටස් අතර මෙවැනි අය දක්නා ලදී.

ලික්විඩේෂනිස්ට්වාදය කෙරෙහි අප දක්වන ආකල්පය 1908 පටන්ම පැහැදිලි කර තිබෙන පක්ෂ තීරණ ගැන හෝ, එසේ නැතහොත්, ඉහත සඳහන් තීරණ පදනම් කර ගෙන ඇත්ත වශයෙන් බහුතරයේ සමගිය ඇති කර තිබෙන රුසියාවේ වර්තමාන කම්කරු පංති ව්‍යාපාරයේ අත් දැකීම් ගැන හෝ, කිසිම සැලකිල්ලක් දැක්වීමට නො කැමති පුද්ගලයන්, නො ඇදහිය හැකි තරම් බොරු හපන්කම් කියමින්, තරුණ කම්කරු පරම්පරාව හමුවට පැමිණෙන විට, තමන් කටයුතු කරන්නේ කවුරුන් සමග ද යන්න, එම තරුණ කම්කරුවන් හරිහැටි දැන ගත යුතු වේ.

''ප්‍රොස්වෙශේනිය'', අංක 5
සහරාවෙහි 1914 මැයි මස
[illegible]රන ලදී

වි. අයි. ලෙනින්.
සම්පූර්ණ කෘති,
5 වැනි මුද්‍රණය,
වෙළුම25, පිටු183—206

# ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය

ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ගැන කරුණු ඇතුළත්, රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තිය නිසා (අප දැනටමත් ''ප්‍රොස්වෙශේනිය'' හි පෙන්වා දී ඇති පරිදි), අවස්ථාවාදීන් කුරුස යුද්ධයකට එළඹෙන තත්වයක්, මෑතදී උද්ගත වී තිබේ. රුසියානු ලික්විඩේටර්වර සෙම්කොව්ස්කි, සාන්ත පීටර්ස්බර්ග් ලික්විඩේටර්වාදී ප්‍රවෘත්ති පත්‍රයෙන් සහ බුන්ද්වාදී[124] ලීබ්මන් සහ උක්‍රෙනියානු ජාතික යූර්කෙවිච් තම තමන්ගේ වාර පත්‍රවලින්ද,මෙම වගන්තියට දරුණු ලෙස පහර ගසා එය අතිශයින් පිළිකුල් කොට සලකා ඇත.අපගේ මාක්ස්-වාදී වැඩ පිළිවෙළට විරුද්ධව ගෙන යන, අවස්ථාවාදී ''වෛවර්ණ වදන් ආක්‍රම ණය'', වර්තමාන කාලයේ පොදුවේ බලපවත්වන ජාතිකවාදී අස්ථිරතාවය හා සමග සමීප ලෙස සම්බන්ධව ඇති බවට සැකයක් නොමැත. මෙම ප්‍රශ්නය විස්තර සහිත ලෙස සලකා බැලීම කාලෝචිත යයි අප සලකන්නේ එහෙයිනි. ඉහත නම් සඳහන් අවස්ථාවාදීන්ගෙන් එක් අයෙක් වත් තමන්ටම විශේෂ වූ තර්ක එකක් වත් ඉදිරිපත් කර නොමැති බව, මෙහි ලා අමතර වශයෙන් සඳහන් කරමු. ඔවුන් කරන්නේ රෝසා ලුක්සෙම්බුර්ග්, පෝලන්ත බසින් ලියූ ඇගේ දීර්ඝ 1908—1909 ''ජාතික ප්‍රශ්නය සහ ස්වාධිපත්‍යය'' යන ලිපියෙන් කී දේ පුනරුච්ඡාරණය කිරීම පමණකි. අප කරන විග්‍රහයේදී අප ප්‍රධාන වශයෙන් බලාපොරොත්තු වන්නේ අවසානයට සඳහන් කළ කතුවරියගේ ''මුල්'' තර්ක විමර්ශනයට ලක් කිරීමට ය.

## 1. ජාතීන්ගේ ස්වාධිපත්‍යය යනුවෙන් අදහස් කෙරෙන්නේ කුමක්ද?

ස්වාධිපත්‍යය යනුවෙන් හඳුන්වනු ලබන දෙය ගැන මාක්ස්වාදී විමර්ශනයක් කිරීමට ප්‍රයත්නයක් දරන විටෙකදී, ස්වාභාවික වශයෙන්ම, පැන නගින ප්‍රථම ප්‍රශ්නය මෙය යි. එම පාඨයෙන් වටහා ගත යුත්තේ කුමක්ද? මෙයට පිළිතුර සෙවිය යුත්තේ, නීතිය පිළිබඳ විවිධාකාර "පොදු සංකල්පයන්" ගෙන් නිගමනය කර ගන්නා නීතිමය නිර්වචනයන් තුළ ද? එසේ නැතහොත්, එය සෙවිය යුත්තේ ජාතික ව්‍යාපාර පිළිබඳ ඓතිහාසික-ආර්ථික අධ්‍යයනයක් කිරීම මගින් ද?

සෙම්කෝව්ස්කිලා, ලිබ්මන්ලා හා යුර්කේවිච්ලා මෙම ප්‍රශ්නය මතු කිරීම ගැන කල්පනා කළේවත් නැති අතර, මාක්ස්වාදී වැඩ පිළිවෙළෙහි "නොපැහැදිලිභාවය" ගැන සිනහ වෙමින්, එය ඉවතට තල්ලු කර දැමීම පුදුමයට කරුණක් නොවේ. 1903 රුසියානු වැඩ පිළිවෙළෙහි පමණක් නොව, 1896 ලන්ඩන් ජාත්‍යන්තර සම්මේලනයේ යෝජනාවෙහිද (ඒ ගැන නිසි තැනදී මම කරුණු සඳහන් කරන්නෙමි), ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ගැන කරුණු ඇතුලත් කර තිබූ බව, නිවට මොවුන් නොදත් නිසා, එසේ කරන ලද බව පෙනෙන්නට තිබේ. අදාළ වගන්තියෙහි ඇතැයි කියන වියුක්ත සහ අධ්‍යාත්මික ස්වභාවය ගැන ගාල ගොට්ටියක් කරන රෝසා ලුක්සෙම්බුර්ග්ම, වියුක්ත ස්වභාවයට හා අධ්‍යාත්මකවාදයට ඇද වැටීම ඊට වඩා පුදුම සහගත ය. මෙම කාරණයෙහි හරය රඳන්නේ නීතිමය නිර්වචනයන් තුළද, එසේ නැතහොත් ලෝකය මුළුල්ලෙම ඇති ජාතික ව්‍යාපාරයන්ගේ අත්දැකීම් තුළද යන ප්‍රශ්නය කිසිම තැනකදී පැහැදිලි ලෙස හා නියත වශයෙන් අසන්නේ නැතිව, ස්වාධිපත්‍යය පිළිබඳ සාමාන්‍යත්වයෙන් කරුණු සඳහන් කිරීමේ තත්වයට (ජාතියක කැමැත්ත නිශ්චය කරන්නේ කෙසේද යන්න ගැන හාස්‍යජනක ලෙස දර්ශනික අදහස් ඉදිරිපත් කිරීම දක්වා පවා), එක දිගටම ඇද වැටෙන්නේ රෝසා ලුක්සෙම්බුර්ග්ම ය.

මෙම ප්‍රශ්නය නියත වශයෙන් ඉදිරිපත් කිරීම කිසිම මාක්ස්වාදි-යෙකුට මග හැරිය නොහැකි අතර, එසේ ඉදිරිපත් කිරීමෙන් රෝසා ලුක්සෙම්බුර්ග් ගේ තර්කවලින් දහයෙන් නමයක්ම බිඳ වැටේ. රුසියාවේ ජාතික ව්‍යාපාර ඇතිවූ ප්‍රථම අවස්ථාව මෙය නොවේ. ඒවා එරටට පමණක් සීමා වූයේ ද නොවේ. ලෝකය මුළුල්ලේම වැඩවසම් ක්‍රමය පරදවා, ධනපති ක්‍රමය අවසාන ජයග්‍රහණය ලත් කාල සීමාව, ජාතික ව්‍යාපාර හා සමග සම්බන්ධව තිබේ. වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදන ක්‍රමයේ පූර්ණ ජයග්‍රහණය සඳහා, ධනපති පංතිය දේශීය වෙළෙඳ පොළ අත්පත් කර



ගත යුතුය; එකම භාෂාවක් කථා කරන ජනතාවක් ඇති, දේශපාලන වශයෙන් එක්සත් වූ දේශයන් තිබිය යුතුය; එම භාෂාවේ සංවර්ධනයට සහ එය සාහිත්‍යය තුළ තහවුරු වීමට ඇති බාධක සියල්ල ඉවත් වී තිබිය යුතුය. ජාතික ව්‍යාපාරවල පදනම ඇත්තේ එහි ය. මිනිස් සම්භාෂණයේ ඉතාමත් වැදගත් මාධ්‍යය භාෂාව ය. නවීන ධනපති ක්‍රමයට ගැලපෙන, සැබවින්ම නිදහස් හා විස්තීර්ණ වාණිජය සඳහා ද, ජනගහනය එහි පංති සියල්ල අනුව, නිදහස් හා පුළුල් ලෙස, කණ්ඩායම් ගත වීම සඳහාද, වෙළඳ පොළ සහ ලොකු හෝ කුඩා සෑම දේපළ හිමියෙක්ම අතරත්, එසේම අලෙවි කරන්නා හා මිළට ගන්නා අතරත්, කිට්ටු සම්බන්ධයක් ඇති කිරීම සඳහාද, එක්සත්කම සහ භාෂාවේ අබාධිත සංවර්ධනය ඉතාමත් වැදගත් කොන්දේසි වේ.

නවීන ධනපති ක්‍රමයේ මෙම අවශ්‍යතාවයන් ඉටු කළ හැකි, ජාතික රාජ්‍යයන් පිහිටුවීම කෙරෙහි, සෑම ජාතික ව්‍යාපාරයක්ම නැඹුරු වන්නේ එහෙයිනි. ඉතාමත් බරපතල ආර්ථික සාධකයන් මෙම අරමුණ කරා යාමට පෙළඹීම කරයි. එනිසා, මුළු බටහිර යුරෝපයටම, නැත, සමස්ත ශීලාචාර ලෝකයටම, ධනපති අවධිය සඳහා ජාතික රාජ්‍යය ඉතාමත් පිළිගැනෙනසුලු හා සාමාන්‍ය ආකෘතියක් වන්නේය.

එනිසා නීතිමය නිර්වචනයන් ගෙන හරඹ කිරීමෙන් හෝ වියුක්ත නිර්වචනයන් "නිර්මාණය කිරීමෙන්" හෝ නොව, ජාතික ව්‍යාපාරවල ඓතිහාසික-ආර්ථික තත්වයන් පරීක්ෂා කිරීමෙන්, ස්වාධිපත්‍යය යන්නෙහි අර්ථය වටහා ගැනීම අපට අවශ්‍ය වේනම්, ජාතීන්ගේ ස්වාධිපත්‍යය යනු-වෙන් අදහස් වන්නේ, මෙම ජාතීන් අන්‍යතර ජාතික ආයතනවලින් දේශ-පාලන වශයෙන් වෙන්වීම සහ ස්වාධීන ජාතික රාජ්‍යයන් පිහිටුවීමය, යන නිගමනය වෙත අපි අනිවාරණීය වශයෙන් එළඹිය යුතු වෙමු.

ස්වාධිපත්‍යය යන්නේහි අර්ථය, වෙනම රාජ්‍යයක් ලෙසට පැවැත්-මේ අයිතිය යනුවෙන් මිස, වෙනත් කුමණ ආකාරයකින් හෝ නිරූපනය කිරීම වැරදි වන්නේ මන්ද යන්න පෙන්වීමට ඇති වෙනත් හේතු අපට පසුවට දැකිය හැකි වනු ඇත. දැන් අප කළ යුත්තේ, ජාතික රාජ්‍යයක් වෙත යාමට උනන්දු කෙරෙන පෙළඹීමට, බරපතල ආර්ථික සාධකයන් පදනම්ව ඇතැයි යන නොවැළැක්විය හැකි නිගමනය "ඉවත ලීමට" රෝසා ලුක්සෙම්බුර්ග් දරන ප්‍රයත්නයන් ගැන විමසා බැලීමය.

"ජාතික භාවය හා ජාත්‍යන්තර භාවය" යනුවෙන් කෞට්ස්කි ලියූ පොත ගැන රෝසා ලුක්සෙම්බුර්ග් ඉතා හොඳින් දන්නේය (Neue Zeit[125] අංක 1 ට අතිරේකය; රුසියානු පරිවර්තනය "නවූචනය මිස්ල්" සඟරාවෙහි, රිගා 1908).[126] එම පොතේ 4 වැනි කොටසෙන් ජාතික රාජ්‍යය පිළිබඳ ප්‍රශ්නය සූපරීක්ෂාකාරී ලෙස විශ්ලේෂණය කළ කෞ-

ට්ස්කි*, ''ජාතික රාජ්‍යයක් කරා යාමට උනන්දු කරන පෙළඹවීමෙහි ශක්තිය''ඔත්තෝ බෝයර් විසින්''අඩුවෙන් තක්සේරු කරුණු ලැබේ''යන නිගමනයට එළඹ ගත් බව (පොතෙහි 23 පිටුව) ඇ දන්නීය. කෞට්ස්කිගේ පහත සඳහන් වචන රෝසා ලුක්සෙම්බුර්ග්ම උපුටා දක්වන්නීය: ''ජාතික රාජ්‍යය වර්තමාන තත්වයන්ට'' (එනම්, මධ්‍යකාලීන, පූර්ව ධනපති යනාදී වූ තත්වයන්ගෙන් වෙනස්වූ, ධනපති, ශීලාචාර, ආර්ථික වශයෙන් ප්‍රගතිශීලී වූ තත්වයන්ට) ''ඉතා හොඳින් ගැලපෙන්නේය. රාජ්‍යයට එහි කර්තව්‍යයන්'' (එනම්, ධනපති ක්‍රමයේ නිදහස්තම, පුළුල් තම හා සීඝ්‍රතම සංවර්ධනය ඇති කිරීමේ කර්තව්‍යයන්) ''හොඳින් ඉටු කිරීමට වඩාත්ම සුදුසු වන ආකෘතිය ජාතික රාජ්‍යයයි''. කෞට්ස්කිගේ මීටත් වඩා නිවැරදි, අවසාන අදහස අපි මෙයට එකතු කළ යුත්තෙමු. මිශ්‍ර ජාතික සංයුතියෙන් යුත් රාජ්‍යයන් (ජාතික රාජ්‍යයන්ගෙන් වෙනස් වන බහු ජාතීය රාජ්‍යයන්) හැම එකකම ''අභ්‍යන්තර සැකැස්ම, කිසියම් හෝ හේතුවක් නිසා අසාමාන්‍ය ස්වභාවයෙන් හෝ ඌන සංවර්ධිතව'' (නො දියුණුව) ''හෝ පැවතුනේය''. කෞට්ස්කි අසාමාන්‍ය ස්වභාවය ගැන කථා කරන්නේ, ධනපති සංවර්ධනයේ අවශ්‍යතාවයන් සඳහා වඩාත් හොඳින් යොද ගැනීමට සුදුසු නොවීමේ අර්ථයෙන් වන බව, කීම අවශ්‍ය නොවේ.

දැන් පැන නගින ප්‍රශ්නය මෙයයි: කෞට්ස්කිගේ මෙම ඓතිහාසික ආර්ථික නිගමනයන් ගැන රෝසා ලුක්සෙම්බුර්ග් දැක්වූ සැලකිල්ල කුමක් ද? ඒවා හරිද? නැතහොත් වැරදිද? කෞට්ස්කි ඔහුගේ ඓතිහාසික-ආර්ථික න්‍යායය ඉදිරිපත් කිරීමෙහිදී නිවැරදි වන්නේද? නැතහොත් මූලික වශයෙන් මනෝ විද්‍යාත්මක වූ බෝයර්ගේ න්‍යායය නිවැරදිද? බෝයර්ගේ නිසැක ''ජාතික අවස්ථාවාදයත්'', එනම්, ඔහුගේ සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය ආරක්ෂා කිරීමේ පිළිවෙතත්, ඔහුගේ ජාතිකවාදී මෝහනයත් (කෞට්ස්කි කී ලෙසට ''ජාතික අංගය ගැන ඉඳ හිට අවධාරණය කිරීමත්''), ''ඔහු ජාතික අංගය බොහෝ සේ අතිශයෝක්තියෙන් දැක්වීම සහ ජාත්‍යන්තර අංගය සම්පූර්ණයෙන්ම නොතකා හැරීමත්'' (කෞට්ස්කි), හා සමග ජාතික රාජ්‍යයක් ඇති කිරීමට උනන්දු කරන තම පෙළඹවීමෙහි ශක්තිය ඔහු විසින් අවතක්සේරු කරනු ලැබීමේ, ඇති සම්බන්ධය කුමක්ද?

රෝසා ලුක්සෙම්බුර්ග් මෙම ප්‍රශ්නය මතු කරන්නේවත් නැත. ඇයට මෙම සම්බන්ධය පෙනී නැත. ඈ බෝයර්ගේ න්‍යායික අදහස්වල එකතු සමස්තය ගැන කල්පනා කර නැත. ජාතික ප්‍රශ්නය පිළිබඳ ඓතිහාසික-ආර්ථික හා මනෝවිද්‍යාත්මක යන න්‍යායය දෙකොටස වෙන් කොට ගැනීමවත්, ඇය කර නැත. එහිදී ඇය කෞට්ස්කි විවේචනයට ලක් කරන පහත සඳහන් අදහස්වලට පමණක් සීමාවෙයි:

''... මෙම ''හොඳම'' ජාතික රාජ්‍යය යනු, න්‍යායික වශයෙන් පහසුවෙන් ඉදිරිපත් කළ හැකි හා නිවැරදි බව පෙන්විය හැකි, එහෙත් යථාර්ථයට නොගැලපෙන හුදු කල්පනා මාත්‍රයක් පමණකි''. ("Przegląd Socjaldemokratyczny" 1908, අංක 6, පිටුව 499)[127].

තීරණාත්මක ලෙස කරන මෙම ප්‍රකාශය සනාථ කිරීමට, ඊළඟට තර්කද ඉදිරිපත් කෙරේ. මහබලවත් ධනපති රටවල් හා අධිරාජ්‍යවාදය ඇති වීම නිසා කුඩා ජාතීන්ගේ ''ස්වාධිපත්‍යය සඳහා අයිතිය'' මිරිඟුවක් වී තිබේ යයි එයින් කිය වේ. ''නාමික වශයෙන් නිදහස් මොන්ටිනීග්‍රෝ, බල්ගේරියානු, රුමේනියානු, සර්බියානු, ග්‍රීක හා ''යුරෝපා සංගතියේ'' දේශපාලන අරගලයේ සහ රාජ්‍යතන්ත්‍රික ක්‍රීඩාවේ ප්‍රතිඵලයක් වන නිදහසක් භුක්ති විඳින ස්විස් ජාතිකයන්ගේ පවා, ස්වාධිපත්‍යය ගැන අයෙකුට කථා කළ හැකි ද?''යි රෝසා ලුක්සෙම්බුර්ග් විමති ස්වභාවයෙන් අසන්නීය (පිටු 500). මෙම තත්වයන්ට වඩාත්ම ගැලපෙන රාජ්‍යය ''කෞට්ස්කි විශ්වාස කරන ලෙසට ජාතික රාජ්‍යයක් නොව, කොල්ලකාරී එකකි'' බ්‍රිතාන්‍ය, ප්‍රංශ හා වෙනත් රාජ්‍යයන්ට අයත් යටත් විජිතවල විශාලත්වය දක්වන සංඛ්‍යා දූසිම් ගණනක්ද උපුටා දක්වා තිබේ.

මෙවැනි තර්ක කියවීමෙන් පසුව, යම් කිසිවක ස්වභාවය හා හේතුව වරදවා වටහා ගැනීමට කතුවරියගේ ඇති හැකියාව ගැන, කෙනෙකුට පුදුම නොවී සිටිය නොහැකිය. කුඩා රටවල් ආර්ථික වශයෙන් ලොකු රටවලට ගැති බවද, වෙනත් ජාතීන් කොල්ලකාරී ලෙස මර්දනය කිරීම සඳහා ධනපති රාජ්‍යයන් අතර අරගලයක් ඇවිලෙමින් තිබෙන බවද, අධිරාජ්‍යවාදය හා යටත් විජිත පවතින බවද, කෞට්ස්කිට උගැන්වීම සඳහා බරපතල ස්වරූපයක් ආරූඪ කරගෙන දරන ප්‍රයත්නයකි. මේ සියල්ල අතුරෙන් කිසිවක්, විෂය කාරණයට කිසිසේත් අදාල නොවන නිසා, එය සමර්ථකම් පෙන්වීමට දරන විකාර සහ ළාමක ප්‍රයත්නයකි. කුඩා රාජ්‍යයන් පමණක් නොව, නිදර්ශනයක් වශයෙන් රුසියාව පවා, ''පොහොසත්'' ධනපති රටවල අධිරාජ්‍යවාදී මූල්‍ය ප්‍රාග්ධනයේ බලයට ආර්ථික වශයෙන් සම්පූර්ණයෙන්ම ගැති වී තිබේ. කුඩා බෝල්කන් රාජ්‍යයන් පමණක් නොව, මාක්ස්ගේ ''ප්‍රාග්ධනය''[128] කෘතියෙහි පෙන්වාදී ඇති පරිදි, දහ නවවැනි ශත වර්ෂයේ ඇමෙරිකාව පවා, ආර්ථික වශයෙන්

---

* 1916 දී ලිපිය නැවත සංස්කරණය කිරීමේදී ලෙනින් මෙම කොටසට පහත සඳහන් සටහන යෙදූවේය: ''කෞට්ස්කි 1909 දක්වා, ''බලයට මාවත'' යන ඔහුගේ විශිෂ්ඨ පොත ලියන තෙක්ම, ඔහු අවස්ථාවාදයේ සතුරෙකුව සිටි බවත්, 1910—1911 දී ඔහු එහි පක්ෂවාදියෙක් වූ බවත්, 1914—1916 දී වඩාත් දැඩි ලෙස එසේ වූ බවත් අමතක නොකරන ලෙස අපි පාඨකයාගෙන් ඉල්ලමු''.

යුරෝපයේ යටත් විජිතයක් විය. ඕනෑම මාක්ස්වාදියෙකු ලෙසට කෞට්ස්කිද මෙය දන්නේය. නමුත්, එය ජාතික ව්‍යාපාර සහ ජාතික රාජ්‍ය පිළිබඳ ප්‍රශ්නය සමග කිසිසේත්ම සම්බන්ධ නැත.

ධනපති සමාජය තුළ ජාතීන්ගේ දේශපාලන ස්වාධිපත්‍යය සහ රාජ්‍යයන් වශයෙන් ඒවායේ ස්වාධීනත්වය පිළිබඳ ප්‍රශ්නය වෙනුවට, රෝසා ලුක්සෙම්බුර්ග් ඒවායේ ආර්ථික ස්වාධීනත්වය හා නිදහස් බව පිළිබඳ ප්‍රශ්නය ආදේශ කරන්නීය. මෙයද, පාර්ලිමේන්තුවේ, එනම්, ධනපති රාජ්‍යයක ජනතා නියෝජිතයන්ගේ සභාවේ, ආධිපත්‍යය සම්බන්ධයෙන්, වැඩ පිළිවෙළෙහි සඳහන් ඉල්ලීම ගැන කරන සාකච්ඡාවක දී, කිසියම් අයෙක් මැදිහත්ව, ධනපති රටක ආණ්ඩුව කුමක් වුවත්, ලොකු ධනපතියන් එහි ආධිපත්‍යය දරන්නේය. යන සම්පූර්ණයෙන්ම නිවැරදි අවබෝධය ගැන කරන විස්තරයක් මෙන්ම ඥානවන්තය.

ඉතාමත් ඝන ජනගහනයක් ඇති ආසියා මහා දේශයෙන් වැඩි කොටසක්, ''මහ බලවත් රටවල'' යටත් විජිතවලින් හෝ එසේ නැතහොත් ජාතීන් වශයෙන් ඉතාමත් ගැති හා පීඩිත රාජ්‍යයන්ගෙන් හෝ සමන්විත වී ඇති බවට කිසිම සැකයක් නැත. නමුත්, ආසියාවේම, වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය ඉතාමත් අංග සම්පූර්ණ ලෙස සංවර්ධනය වීමත්, ධනපති ක්‍රමය නිදහස්තම ලෙස, පුළුල්තම ලෙස හා සීඝ්‍රතම ලෙස වර්ධනය වීමත් සඳහා අවශ්‍ය තත්වයන් නිර්මාණය වී තිබෙන්නේ ජපානයේ පමණක් එනම්, ස්වාධීන ජාතික රාජ්‍යයක පමණක්ය යන සත්‍යය, ඉහත සඳහන් කවුරුත් දන්නා කරුණු නිසා වෙනස් වේද? ජපානය ධනපති රටකි. ඒ හේතුව නිසා එයද වෙනත් ජාතීන්ට පීඩා කිරීමටත්, යටත් විජිත වහල් කර ගැනීමටත් පටන් ගෙන තිබේ. ධනපති ක්‍රමය බිඳ වැටීමට පෙර, ස්වාධීන ජාතික රාජ්‍ය ක්‍රමයක් ලෙසට සංවර්ධනය වීමට යුරෝපයට මෙන් ආසියාවට කාලය ලැබෙනු ඇද්ද යන්න අපට කිව නොහැකිය. නමුත් ආසියාව ප්‍රබෝධ කළා වූ ධනපති ක්‍රමය, එම මහා දේශයෙහිද ජාතික ව්‍යාපාර ජනිත කර තිබෙන බව අභියෝගයට ඉඩ නොදෙන සත්‍යයකි. මෙම ව්‍යාපාර නැඹුරු වී තිබෙන්නේ ජාතික රාජ්‍යයන් ඇති කිරීම දෙසට බවත්, එවැනි රාජ්‍යයන් ධනපති ක්‍රමයේ සංවර්ධනය සඳහා හොඳම තත්වයන් ඇති කරන බවත් එසේම සත්‍යයකි. ආසියාවේ ආදර්ශය කෞට්ස්කිට පක්ෂ රෝසා ලුක්සෙම්බුර්ග්ට විරුද්ධ සාධකයකි.

බෝල්කන් රාජ්‍යවල ආදර්ශයද එසේම ඇගේ මතය බිඳ හෙළයි. එසේ ප්‍රකාශ කරන්නේ, බෝල්කන් රටවල ධනපති ක්‍රමයේ සංවර්ධනයට අදාල හොඳම තත්වයන් නිර්මාණය වන්නේ හරියටම එම අර්ධ ද්වීපයේ ස්වාධීන ජාතික රාජ්‍යයන් ඇති වීමේ අනුපාතය අනුව බව ඕනෑම කෙනෙකුට පෙනෙන හෙයිනි.



එනිසා, රෝසා ලුක්සෙම්බුර්ග් මොනවා කීවත්, සමස්ත ප්‍රගතිශීලී සහ ශිෂ්ටාචාර මිනිස් වර්ගයාගේම ආදර්ශයෙන්ද, බෝල්කන් රාජ්‍යවල සහ ආසියාවේ ආදර්ශයෙන්ද, කෞට්ස්කිගේ ස්ථාවරය සම්පූර්ණයෙන් නිවැරදි බවත්, ධනපති ක්‍රමය යටතේ නියමය සහ ''ප්‍රතිමානය'' වන්නේ ජාතික රාජ්‍යය බවත්, බහුජාතීය රාජ්‍යයෙන් නොදියුණු කම, නැතහොත්, විශේෂතාවයක් නියෝජනය වන බවත්, ඔප්පු වේ. ජාතික සම්බන්ධතාවයන් පිළිබඳ දෘෂ්ටි කෝණයෙන් බලන කල, ධනපති ක්‍රමයේ සංවර්ධනය සඳහා හොඳම තත්වයන් නිසැක වශයෙන්ම සැපයෙන්නේ ජාතික රාජ්‍යයෙනි. නමුත් ධනපති සම්බන්ධකම් මත පදනම් වූ එවැනි රාජ්‍යයකට, ජාතීන් සූරාකෑම සහ පීඩාවට පත්කිරීමට අහෝසි කළ හැකි යයි එයින් කිසිසේත් අදහස් නොවේ. එයින් අදහස් කෙරෙන්නේ, ජාතික රාජ්‍යයන් නිර්මාණය කිරීමට උනන්දුවක් උද්ගත කරන බලවත් ආර්ථික සාධක ගැන අමතක කිරීමට පුළුවන් කමක් මාක්ස්වාදීන්ට නොමැති බව ය. එයින් අදහස් වන්නේ, ඓතිහාසික-ආර්ථික දෘෂ්ටි කෝණය අනුව බලන කල, මාක්ස්වාදී වැඩ පිළිවෙළෙහි ඇතුලත් ''ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' යන්නෙහි, දේශපාලන ස්වාධිපත්‍යය, රාජ්‍ය ස්වාධීනත්වය හා ජාතික රාජ්‍යයක් පිහිටුවීම හැර වෙනත් අර්ථයක් තිබිය නොහැකි බවය.

''ජාතික රාජ්‍යයක්'' සඳහා වූ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීමට මාක්ස්වාදී, එනම් පංති, නිර්ධන පංති දෘෂ්ටි කෝණයෙන් ආධාර කළ යුතු වන්නේ කුමණ තත්වයන් යටතේද යන්න ගැන, පහත විස්තර සහිතව කරුණු දක්වනු ලැබේ. දැනට, ''ස්වාධිපත්‍යය'' පිළිබඳ සංකල්පය ගැන අර්ථ දැක්වීමට සීමා වන අතර, මෙම සංකල්පයෙන් අදහස් කෙරෙන්නේ කුමක්ද (''ජාතික රාජ්‍යය'') යනු රෝසා ලුක්සෙම්බුර්ග් දන්නා නමුත්, ඇගේ අවස්ථාවාදී පාර්ශවකරුවන් වන ලීබ්මන්ලා, සෙම්කොව්ස්කිලා, යුර්කේවිච්ලා, එයවත් නොදන්නා බව සඳහන් කරමු!

## 2. ඓතිහාසික නිශ්චිතතාවයකින් යුතුව ප්‍රශ්නය ඉදිරිපත් කිරීම

ඕනෑම සමාජ ප්‍රශ්නයක් විමර්ශනය කිරීමේදී, එය නිශ්චිත ඓතිහාසික සීමාවන් තුළ රැවා විමසීමත්, එය නියමිත රටකට අදල වන්නේ නම් (නිදසුනක් වශයෙන්, නියමිත රටක ජාතික වැඩ පිළිවෙළ), එම ඓතිහාසික යුගයේම පසුවන වෙනත් රටවලින් එය වෙන් කෙරෙන විශේෂ අංග ලක්ෂණයන් සැලකිල්ලට ගැනීමත්, මාක්ස්වාදී න්‍යායයෙන් අපේක්ෂා කෙරෙන ඒකාන්ත අවශ්‍යතාවයක් වේ.

14—705

මාක්ස්වාදයේ මෙම ඒකාන්ත අවශ්‍යතාවය සාකච්ඡාවට භාජනය වන ප්‍රශ්නයට ගලපන ලද කල, එහි අර්ථය කුමක්ද?

ප්‍රථමයෙන්ම, ධනපති ක්‍රමයේ යුග දෙක අතර පැහැදිලි වෙනස සලකුණු කිරීමක් අවශ්‍ය බව එයින් අදහස් වන්නේය. ජාතික ව්‍යාපාරය හා සම්බන්ධයෙන් වූ කල, එම යුග එකිනෙකෙන් මූලික වශයෙන් වෙනස් වේ. එක් අතකින්, වැඩවසම් ක්‍රමය හා පරම අධිපතිවාදය බිඳ වැටීමේ යුගය, එනම්, ජාතික ව්‍යාපාර ප්‍රථම වතාවට පොදු ජන ව්‍යාපාර බවට පත්වන හා පත් වූ හෝ තවත් මගකින් පුවත්පත්, නියෝජිත ආයතනවලට සහභාගිවීම, හෝ යනාදිය තුළින් ජනගහනයේ සියලුම පංති දේශපාලනයට ඇදගන්නා, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී සමාජය සහ රාජ්‍යය බිහිවීමේ යුගය ඇත. අනිත් අතින්, බොහෝ කලක සිට ස්ථාපිත වී තිබෙන ව්‍යවස්ථානුකූල පාලනයක් සහ නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර ඉහළ මට්ටමට වර්ධනය වූ සතුරු තාවයක් ඇති, සම්පූර්ණ වශයෙන් සකස් වූ ධනපති රාජ්‍යයන්ගේ යුගය, එනම්, ධනපති ක්‍රමයේ බිඳවැටීම ආසන්න වී ඇතැයි කිව හැකි යුගය ඇත.

ප්‍රථම යුගයට ආවේණික වූ අංග ලක්ෂණ වන්නේ, ජාතික ව්‍යාපාර පිබිදී ඒම සහ පොදු වශයෙන් දේශපාලන නිදහස සඳහාත්, විශේෂයෙන්ම, ජාතියේ අයිතිවාසිකම් සඳහාත් කරන අරගලය හා සම්බන්ධයෙන්, ජනගහනයේ "ඉතාමත් උදාසීන" කොටස වන, ගොවි ජනතාව එම ව්‍යාපාරවලට ඇද ගැනීමය. දෙවැනි යුගයට ආවේණික අංග ලක්ෂණ වන්නේ, පොදු ජන ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර නොමැති වීම සහ වාණිජ සම්භාෂණයට සම්පූර්ණයෙන් ඇදීවිත් සිටින ජාතීන් තව දුරටත් එකට එක් කිරීමත්, ඒවා වැඩි වැඩියෙන් අන්‍යොන්‍ය වශයෙන් මුසු වීමට සැලැස්වීමත් තුළින්, ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ ප්‍රාග්ධනය හා ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරය අතර සතුරුතාවය, සංවර්ධනය වූ ධනපති පංතිය විසින් පෙරමුණට ගෙන එනු ලැබීමය.

මෙම යුග දෙක, එකකින් අනික බිත්තියක් බැඳ වෙන් කර නොමැති බව ඇත්ත ය. ඒවා නිමක් නැති තරම් පරිවර්තනීය පුරුක්වලින් සම්බන්ධ වී ඇත. ඒ අතර විවිධ රටවල් ඒවායේ ජාතික සංවර්ධන වේගය අතින්ද, ජාතික සංයුතිය හා ඒවායේ ජනගහනය බෙදී ගොස් ඇති ආකාරය, ආදිය අතින්ද, එකිනෙකට වෙනස් වේ. මෙම පොදු ඓතිහාසික සහ නියත ස්වභාවයේ තත්වයන් සැලකිල්ලට නොගෙන, කිසිම රටක මාක්ස්වාදීන්, ඔවුන්ගේ ජාතික වැඩපිළිවෙළ සකස් කර ගැනීම පිළිබඳ ප්‍රශ්නයක් ඇති විය නොහැක.

රෝසා ලුක්සෙම්බුර්ග්ගේ තර්කවල, දුර්වලම තැන හමුවන්නේ මෙතැනදී ය. අපගේ වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තියට විරුද්ධව එල්ල කර "තද" වචන රැසකින් ස්වකීය ලිපිය සැරසීමට අසාමාන්‍ය උත්සුක්ත භාවයක් දක්වන ඇය, එය "අවිශේෂ" යයිද, "අති පණ්ඩිත වදනක්" යයිද, "අධ්‍යාත්මිකවාදී වදනක්" යයිද යනාදී වශයෙන් කොනක් නැතිව කියන්නීය. අධ්‍යාත්මවාදය (මාක්ස්වාදී අර්ථයෙන්, එය දයලෙක්තික විරෝධයය) සහ හිස් කල්පනා මාත්‍රයන් එතරම් විශිෂ්ය ලෙස හෙළා දකින කතුවරියක්, ප්‍රශ්නය පිළිබඳව නියම ඓතිහාසික විශ්ලේෂණයක් කරන්නේ කෙසේද යන්න ගැන. අපට ආදර්ශයක් දෙනු ඇතැයි බලාපොරොත්තු වීම ස්වාභාවික දෙයකි. සාකච්ඡාවට භාජනය වී තිබෙන්නේ නිශ්චිත රටක, එනම්, රුසියාවේ, නිශ්චිත කාල සීමාවක, එනම්, විසිවැනි ශත වර්ෂය ආරම්භයේදී, මාක්ස්වාදීන්ගේ ජාතික වැඩ පිළිවෙළ පිළිබඳ ප්‍රශ්නය ය. නමුත්, රුසියාව පසු කරමින් සිටින්නේ කුමණ ඓතිහාසික කාල සීමාවද, එම විශේෂ රටෙහි, එම විශේෂ කාල සීමාවෙහිදී ජාතික ප්‍රශ්නයේ හා විශේෂයෙන්ම, ජාතික ව්‍යාපාර තුළ ඇති නියත අංග ලක්ෂණ මොනවාද, යන ප්‍රශ්නය රෝසා ලුක්සෙම්බුර්ග් විසින් මතු කරනු ලැබේද?

නැත. ඇය එය මතු කරන්නේ නැත! ඒ ගැන ඇය කිසිම දෙයක් කියන්නේ නැත! වර්තමාන ඓතිහාසික කාලසීමාවේදී රුසියාවේ ජාතික ප්‍රශ්නය පවත්නා ආකාරය ගැන හෝ, මෙම විශේෂ කරුණ සම්බන්ධයෙන් රුසියාවේ ඇති විශේෂ අංග ලක්ෂණ ගැන හෝ, විශ්ලේෂණයක ඡායාවක්වත් ඇගේ කෘතියෙන් ඔබට සොයාගත නොහැකි වනු ඇත!

බෝල්කන් රටවල ජාතික ප්‍රශ්නය, අයර්ලන්තයේ එම ප්‍රශ්නයට වඩා වෙනස් ලෙස ඉදිරිපත් කර තිබෙන බවද, 1848 පැවති නියත තත්වයන් යටතේ, පෝලන්ත හා චෙක් ජාතික ව්‍යාපාර සම්බන්ධයෙන් මේ, මේ ආකාරයෙන් අගය කළ බවද (මාක්ස්ගෙන් උපුටා ගත් කොටස් පිටුවකි), ඔස්ට්‍රියාවට විරුද්ධව ස්විට්සර්ලන්තයේ කැලෑබද කැන්ටන පෙදෙස් කළ අරගලය හා 1315 දී ඇති වූ මොන්ට්ගාටන් සංග්‍රාමය එංගල්ස් විසින් මේ, මේ ආකාරයෙන් අගය කරන ලද බවද, (කෞට්ස්කිගේ අදාල නිරීක්ෂණද සමග එංගල්ස්ගෙන් උපුටාගත් කොටස් පිටුවකි), දහසය වැනි ශත වර්ෂයේ ජර්මනියේ ගොවිජන යුද්ධය ප්‍රතිගාමී යයි ලසාල් විසින් සලකන ලද බවද, යනාදිය අපට කියනු ලැබේ.

මෙම අදහස්වල හා උපුටා දක්වන කොටස්වල කිසිම නවතාවයක් ඇතැයි කිව නොහැකිය. නමුත්, එක් එක් රටවල නිශ්චිත ඓතිහාසික ප්‍රශ්න විශ්ලේෂණය කිරීමට මාක්ස්, එංගල්ස් හා ලසාල් ඒවාට සමීප වූයේ කෙසේද යන්න, ඉඳහිට පාඨකයාට සිහිපත් කරදීම කුමණ තත්වයක් යටතේ වුවද, වැදගත් ය. එපමණක් නොව, මාක්ස්ගෙන් සහ එංගල්ස්ගෙන් උපුටාගත් මෙම කොටස් කියවූ කල, රෝසා ලුක්සෙම්බුර්ග් බැස තිබෙන්නේ කුමණ විසුළු තත්වයකටදැයි, ඉතාමත් සිත්කාවදින ලෙස

අනාවරණය වන්නේය. විවිධ රටවල, විවිධ කාලවල, පවතින ජාතික ප්‍රශ්නය නියත ඓතිහාසික තත්වය අනුව විශ්ලේෂණය කිරීමේ අවශ්‍යතාවය ගැන ඈ චතුර හා කෝපාන්විත ලෙස දේශනා කරන නමුත්, විසිවැනි ශත වර්ෂයාරම්භයේදී රුසියාව පසු කරමින් සිටින්නේ ධනපති ක්‍රමයේ සංවර්ධනයෙහි කුමණ ඓතිහාසික අවධියද, නැතහොත් මෙම රටේ ජාතික ප්‍රශ්නයේ විශේෂ අංග ලක්ෂණ මොනවාද, යනු නිශ්චය කිරීමට අල්පමාත්‍ර හෝ ප්‍රයත්නයක් නොදරන්නීය. වෙනත් අය මාක්ස්වාදී ශෛලියෙන් මෙම ප්‍රශ්නය සලකා ඇති ආකාරය ගැන රෝසා ලුක්සෙම්බුර්ග් නිදර්ශන සපයා ඇත්තේ, අපායට යන මඟ කොතරම් නම් නිරතුරුව හොඳ අපේක්ෂාවන්ගෙන් අතුරා තිබේද යනුත්, හොඳ අවවාද දීම, එම අවවාද පිළිපැදීමට ඇති අකැමැත්ත හෝ නොහැකියාව වසං කිරීම සඳහා කොතරම්නම් නිරන්තර ලෙස කඩතුරාවක් වන්නේ ද යනුත්, උවමනාවෙන්ම අවධාරණය කිරීමක් සේ පෙනෙන ලෙසටය.

ඇගේ ව්‍යක්ත සංසන්දනයන්ගෙන් එකක් මෙසේය. රෝසා ලුක්සෙම්බුර්ග් පෝලන්තයේ ස්වාධීනත්වය සඳහා සටන්පාඨයට විරෝධය ප්‍රකාශය කරන අතර, පෝලන්තයේ තැනූ භාණ්ඩ රුසියාවේ අළෙවි කිරීමත් සමග, ''පෝලන්තයේ සීඝ්‍ර කාර්මික සංවර්ධනයක්'' වූ බව ඔප්පු කරමින් ඇය 1898 දී ලියූ ඇගේ පොත ගැන සඳහන් කරන්නීය. ස්වාධිපත්‍යය සඳහා අයිතිය පිළිබඳ ප්‍රශ්නය ගැන මෙයින් කිසිම නිගමනයකට බැසිය නොහැකි බව සඳහන් කිරීම අවශ්‍ය නොවේ. එයින් ඔප්පු වන්නේ ඉඩම් හිමි ප්‍රභූ පංතිය යනාදීන්ගේ පැරණි පෝලන්තය අතුරුදහන් වී ඇති බව පමණකි. නමුත්, රුසියාව හා පෝලන්තය එක්සත් කරන සාධක අතුරෙන් දැන් ප්‍රබල වන්නේ නවීන ධනපති සම්බන්ධකම්වල පිරිසිදුම ආර්ථික සාධකයන්ය යන නිගමනය වෙත, රෝසා ලුක්සෙම්බුර්ග් අදිසි ලෙස මෙන්, නිතරම එළඹගන්නීය.

ඊළඟට, අපේ රෝසා ස්වතන්ත්‍රය පිළිබඳ ප්‍රශ්නය කරා යන්නීය. එහිදී, ''ජාතික ප්‍රශ්නය සහ ස්වතන්ත්‍රය'' යන සිරස්තලයෙන් යුත් ඇගේ ලිපියෙන්, පෝලන්ත රාජධානියට ස්වතන්ත්‍රය සඳහා තනි අයිතියක් ඇතැයි කියමින් පොදු වශයෙන් තර්ක කිරීමට පටන් ගන්නීය. (1913 අංක 12 ''ප්‍රොස්විශේනිය'' බලන්න). පෝලන්තයේ ස්වතන්ත්‍ර අයිතියට සහයෝගය දැක්වීම පිණිස, රෝසා ලුක්සෙම්බුර්ග්, රුසියාවේ ආර්ථික දේශපාලන හා සමාජ විද්‍යාත්මක ස්වභාව ලක්ෂණ සහ දෛනික ජීවිතය අනුව ඇගේ රාජ්‍ය ක්‍රමය ගැන නිගමනය කරන බව පෙනේ — රුසියාවේ එම ස්වභාව ලක්ෂණ සියල්ල එක්කොට ගත්කල සැදෙන්නේ ''ආසියාතික සර්වාධිකාරය'' පිළිබඳ සංකල්පය ය. ("Przegląd" අංක 12, පිටු 137).

ආර්ථික ක්‍රමය තුළ සම්පූර්ණයෙන්ම පීතෘ මූලික සහ ධනපති පූර්ව



අංග ලක්ෂණ ප්‍රබලව පවතින කල හා වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය සහ පංති බෙදීම කිසිසේත් වර්ධනය වී නොමැති තැන මෙම වර්ගයේ රාජ්‍ය ක්‍රමය මහත් ස්ථාවරත්වයෙන් යුක්ත වන බව පොදුවේ දත් කරුණකි. එසේ වුවද, පැහැදිලි පූර්ව ධනපති ස්වභාව ලක්ෂණ සහිත රාජ්‍ය ක්‍රමයක් ඇති රටක, ධනපති ක්‍රමය සීඝ්‍රයෙන් සංවර්ධනය වන, ජාතික වශයෙන් වෙනස් ලෙස සලකුණු වූ, ප්‍රදේශයක් තිබේනම්, එවිට, එම ධනපති ක්‍රමය වඩාත් සීඝ්‍ර ලෙස සංවර්ධනය වූ තරමට, එයත්, පූර්ව ධනපති රාජ්‍ය ක්‍රමයත් අතර සතුරුතාවය එසේම වැඩි වනු ඇත; එනිසා ''නවීන ධනපති'' නොවන, එහෙත් ''ආසියාතික ලෙසට සර්වාධිකාරී'' වන බන්ධනවලින් සමස්තයට බැඳී තිබෙන ප්‍රගතිශීලී ප්‍රදේශය වෙන් වී යාමට ඇති ඉඩ කඩ වැඩි වේ.

ධනපති පෝලන්තය හා සම්බන්ධයෙන්, රුසියාවේ ආණ්ඩුවේ සමාජ ව්‍යුහය පිළිබඳ ප්‍රශ්නයේදී පවා, තමන්ගේ තර්ක එකිනෙකට ගලපා ගැනීමට රෝසා ලුක්සෙම්බුර්ග්ට නොහැකි බව මෙයින් පෙනේ. රුසියාවේ ජාතික ව්‍යාපාරවල නිශ්චිත, ඓතිහාසික, විශේෂ අංග ලක්ෂණ ගැන සඳහන් කරතොත්, ඈ ඒ ප්‍රශ්නය මතු කරන්නේවත් නැති බව කිව යුතුය.

එම කරුණ ගැන අපි දැන් සලකා බැලිය යුත්තෙමු.

## 3. රුසියාවේ ජාතික ප්‍රශ්නයේ නිශ්චිත අංග ලක්ෂණ සහ රුසියාවේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණය

''... හුදෙක් අතිපණ්ඩිත වදනක්ම වන හා ඉතා පැහැදිලිව පෙනෙන ලෙසට රුසියාවේ වාසය කරන ජාතීන්ට පමණක් නොව, ජර්මනියේ සහ ඕස්ත්‍රියාවේ ද, ස්විට්සර්ලන්තයේ සහ ස්වීඩනයේද, ඇමෙරිකාවේ සහ ඔස්ට්‍රෙලියාවේද වෙසෙන ජාතීන්ටත් එක සේ ගලපා ගත හැකි, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' පිළිබඳ ප්‍රතිපත්තිය න්‍යායශීලී වන නමුත්, වර්තමාන සමාජවාදී පක්ෂ එකකවත් වැඩ පිළිවෙළෙහි අපට එය හමු නොවේ...'' "Przegląd" අංක 6, පිටු 483).

රෝසා ලුක්සෙම්බුර්ග් මාක්ස්වාදී වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තියට විරුද්ධව ප්‍රහාරය අරඹන්නේ එසේය. වැඩ පිළිවෙළේ මෙම වගන්තිය ''හුදෙක්ම අතිපණ්ඩිත වදනකැ''යි යන සංකල්පය අප මත හෙළීමට දරන උත්සාහයේදී, මෙම කරුණ රුසියාවට, ජර්මනියට ආදී වශයෙන්, ''ඉතා පැහැදිලිව පෙනෙන ලෙසට එකසේ ගලපා ගත හැකි''

යයි හාස්‍ය ජනක තරම් බිය සැක නොමැතිව කීමෙන්, රෝසා ලුක්සෙම්බුර්ග්ම, මෙම වරදට වැටෙන්නීය.

තමන්ගේ ලිපිය පාඨශාලා ශිෂ්‍යයන්ගේ අභ්‍යාස සඳහා උපයෝගි කර ගැනීමට සුදුසු වන සේ, එය තර්ක විද්‍යා දෝෂවලින් පිරවීමට රෝසා ලුක්සෙම්බුර්ග් තීරණය කර තිබෙන බව, ඉතා පැහැදිලි යයි කියමින්, අපි පිළිතුරු දෙන්නෙමු. අප එසේ කියන්නේ ඇගේ බැන වැදීම, ඉඳුරාම අර්ථ විරහිත සහ ප්‍රශ්නය ඓතිහාසික නිශ්චිතතාවයකින් ඉදිරිපත් කිරීම විකාරයකට හැරවීමක් වන හෙයිනි.

කිසියම් කෙනෙක්, ළදරු ආකාරයෙන් නොව, මාක්ස්වාදී ශෛලියෙන්, මාක්ස්වාදී වැඩ පිළිවෙළ ගැන අර්ථ දක්වන්නේ නම්, එහි සඳහන් කර තිබෙන්නේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ජාතික ව්‍යාපාර ගැන බව අපහසුවක් නොමැතිව වටහා ගත හැකිය. කාරණය එසේ වන නිසා, මෙම වැඩ පිළිවෙළ ''අතිපණ්ඩිත'' වදනක් මෙන් ''අවිශේෂ'' ලෙස ආදී වශයෙන්, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ජාතික ව්‍යාපාර පිළිබඳ සියළුම අවස්ථා වලට අදාල වන බව ''ඉතා පැහැදිලිව පෙනේ''. රෝසා ලුක්සෙම්බුර්ග් ඒ ගැන මඳක් හෝ කල්පනා කර බැලුවා නම්, අපගේ වැඩ පිළිවෙළෙහි සඳහන් කර තිබෙන්නේ එවැනි ව්‍යාපාර ඇත්ත වශයෙන්ම පවතින අවස්ථා ගැන පමණක්ය යන නිගමනය ඇයට එසේම පැහැදිලි වන්නට තිබුණි.

මෙම පැහැදිලි කරුණු ගැන, රෝසා ලුක්සෙම්බුර්ග් සිත යොමු කළා නම්, ඇය කියන්නේ කොතරම් අර්ථ විරහිත කථාද යන්න ඇයට පහසුවෙන්ම අවබෝධ වන්නට තිබුණි. ''අති පණ්ඩිත වදනක්'' දෙඩීම ගැන අපට චෝදනා කරන ඇය, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර නොමැති රටවල වැඩ පිළිවෙළවල් තුළ ස්වාධිපත්‍යය සඳහා අයිතිය ගැන සඳහනක් නැතැයි යන්න අපට විරුද්ධ තර්කයක් ලෙසට යොදගෙන තිබේ. මෙය නම් අති දක්ෂ තර්කයකි!

සියළුම නවීන රාජ්‍යයන් පොදු ධනපති ස්වභාවයක් දරන බව හා එනිසා, ඒවා පොදු සංවර්ධන නියාමයකට යටත් බව, නිසැක හෙයින්, විවිධ රටවල දේශපාලන හා ආර්ථික සංවර්ධනයද, එමෙන්ම, ඒවායේ මාක්ස්වාදී වැඩ පිළිවෙළවල්ද සංසන්දනය කර බැලීම මාක්ස්වාදී දෘෂ්ටි කෝණය අනුව අතිශයින් වැදගත් වන්නේ ය. නමුත් එවැනි සංසන්දනයක් කළ යුත්තේ අර්ථාන්විත ආකාරයෙනි. සංසන්දනය කිරීමක් සඳහා මූලික කොන්දේසිය වන්නේ, අදල රටවල සංවර්ධනයේ ඓතිහාසික කාල සීමා කිසියම් ලෙසකින් හෝ සැසඳෙන්නේද යන්න සොයා බැලීමය. නිදසුනක් වශයෙන්, අපගේ වැඩ පිළිවෙළෙන් ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ගොවිජන ප්‍රශ්න හා සම්බන්ධයෙන් පිළිතුරු සැපයෙන අතර, බටහිර රටවල එවැනි ප්‍රශ්නයක් පැන නොනගින හෙයින්, රුසියානු මාක්ස්වාදීන්ගේ ගොවිජන වැඩ පිළිවෙළ බටහිර යුරෝපයේ පිළිවෙළවල් සමග ''සංසන්දනය කිරීමෙහි'' සමත් වන්නේ (''රුස්කයා මිස්ල්''[129] හි වයි. ත්‍රුබෙත්ස්කොයි කුමාරයා වැනි) අන්ත අඥනයන් පමණකි.

ජාතික ප්‍රශ්නයට ද එය අදල වන්නේ ය. බටහිර රටවල් බොහොමයකම එය බොහෝ ඉහත දී නිරාකරණය කරන ලදී. නොපවත්නා ප්‍රශ්නවලට බටහිර යුරෝපයේ වැඩ පිළිවෙළවල් තුළින් පිළිතුරු සෙවීම විකාරයකි. මේ හා සම්බන්ධයෙන් ඉතාමත් වැදගත් කරුණ රෝසා ලුක්සෙම්බුර්ග්ට අමතක වී තිබේ. එම කරුණ නම්, මීට බොහෝ කලකට පෙර ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව සම්පූර්ණ කළ රටවල් හා එම විප්ලව සම්පූර්ණ කර නොමැති රටවල් අතර ඇති වෙනසය.

ප්‍රශ්නයේ අරටු කොටස ඇත්තේ මෙම වෙනස තුළය. රෝසා ලුක්සෙම්බුර්ග්, එය ගැන සම්පූර්ණයෙන්ම නොතකා හරින නිසා, ඇගේ වචන බහුල ලිපිය, හිස් හා අතිපණ්ඩිත වදන් එකතුවක් බවට පත් වේ.

බටහිර යුරෝපයේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව යුගය දළ වශයෙන් 1789 පටන් 1871 දක්වා විහිද යන, එක්තරා දුරකට නිශ්චිත, කාල පරිච්ඡේදයක් ඇතුලත් වූවකි. ජාතික ව්‍යාපාරවල හා ජාතික රාජ්‍යයන් ඇති වීමේ කාල පරිච්ඡේදය හරියටම මෙය විය. මෙම කාල පරිච්ඡේදය අවසාන වන විට බටහිර යුරෝපය පැහැදිලි ධනපති රාජ්‍ය ක්‍රමයක් බවට පරිවර්තනය වී තිබිණ. මෙම රාජ්‍යයන් සාමාන්‍ය වශයෙන් ජාතික ඒකාකාරභාවයක් ඇත්තේ විය. එනිසා මෙතරම් කල් ගත වූ තැන බටහිර යුරෝපීය සමාජවාදීන්ගේ වැඩ පිළිවෙළවල් තුළ ස්වාධිපත්‍යය සඳහා අයිතිය සෙවීම යනු, අයෙක් මාක්ස්වාදයේ අ යන්න ආ යන්න ගැනවත් නොදන්නා බව හෙළිදරව් කිරීමකි.

පෙරදිග යුරෝපයේ සහ ආසියාවේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව යුගය 1905 වන විට ආරම්භ වූවා පමණකි. අපගේ කාලයේ, අපගේ ''පෙරදිග'', ලෝක සිදුවීම් දමය ඇති වූයේ, රුසියාවේ, පර්සියාවේ, තුර්කියේ සහ චීනයේ විප්ලවද, බෝල්කන් යුද්ධද, යන අනුපිළිවෙළට ය. මෙම සිදුවීම් දමය තුළින් නැගී එන, ජාතික වශයෙන් නිදහස් හා ජාතික වශයෙන් ඒකාකාර රාජ්‍යයන් පිහිටුවීමට ප්‍රයත්න දරන, ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ජාතික ව්‍යාපාර මාලාවක්ම දැකීමට අසමත් වන්නේ අන්ධ මිනිහෙක් පමණකි. රුසියාවත් එහි අසල් වැසි රටවලුත් මෙම කාල පරිච්ඡේදය ගෙවමින් සිටිති. ඉඳුරාම ඒ නිසාම, ඒ හේතුව නිසා පමණක්ම, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිබඳ වගන්තියක් **අපගේ** වැඩ පිළිවෙළට ඇතුලත් කළ යුත්තෙමු.

මෙහිදී රෝසා ලුක්සෙම්බුර්ග්ගේ ලිපියෙන් තවත් කුඩා කොටසක් උපුටා දක්වමු. ඈ මෙසේ ලියන්නීය:

''විශේෂයෙන්ම, අතිශයින් විවිධාකාර ජාතික සංයුක්තතාවයක් ඇති රාජ්‍යයක කටයුතු කරන හා වැදගත්කම අතින් ජාතික ප්‍රශ්නය ප්‍රථම අංකයෙහි ලා ගැනෙන පක්ෂයක වැඩ පිළිවෙළෙහි, එනම්, ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙළෙහි, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිබඳ ප්‍රතිපත්තිය අන්තර්ගත වී නැත.'' (එම)

මේ අනුව ''විශේෂයෙන්ම'' ඕස්ත්‍රියාවේ නිදර්ශනය ගෙන හැර දක්වා පාඨකයාට කරුණු අවබෝධ කිරීමේ උත්සාහයක් දරනු ලැබේ. නියත ඓතිහාසික කරුණු ආශ්‍රයෙන් මෙම නිදර්ශනය විමසිල්ලට භාජනය කොට, එය කොතරම් ශක්ති සම්පන්න දැයි බලමු.

ප්‍රථමයෙන්ම, ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සම්පූර්ණ කිරීමේ ප්‍රශ්නය ගෙන බලමු. ඕස්ත්‍රියාවේ මෙම විප්ලවය 1848 වර්ෂයේ ආරම්භ වී 1867 වන විට අවසන් විය. එතැන් පටන් බොහෝ දුරට සම්පූර්ණ ලෙස තහවුරු වූ ධනපති ව්‍යවස්ථාවක්, අඩ ශත වර්ෂයක පමණ කාලයක් තිස්සේ ප්‍රබලව පැවත ආවේය. එය පදනම් කරගෙන, කම්කරුවන්ගේ පක්ෂය නීත්‍යානුකූල ලෙස ක්‍රියාත්මක වෙයි.

එබැවින්, ජාතික වශයෙන් නිදහස් රාජ්‍යයන්ගේ උදව ගෙන එන, අතිශය වේගවත් වර්ධනයන් ඇති කරන සාධක ඕස්ත්‍රියාවේ සංවර්ධනයේ අභ්‍යන්තර කොන්දේසි තුළ (එනම්, සාමාන්‍ය වශයෙන් ඕස්ත්‍රියාවේ සහ විශේෂයෙන් එහි විවිධ ජාතීන් අතර ධනපති ක්‍රමය සංවර්ධනය කිරීමේ දෘෂ්ටි කෝණයෙන් බලන කල) නොමැත. රෝසා ලුක්සෙම්බුර්ග්ගේ සංසන්දනය මගින්, මෙම කරුණ සම්බන්ධයෙන්, රුසියාව එවැනි තත්වයක ඇතැයි යන්න පිළිගැනීමෙන්, ඇය මූලික වශයෙන් වැරදි සහ ඉතිහාස විරෝධී උපකල්පනයක යෙදෙනු හැර, නොදැනුවත්වම, ලික්විඩේෂනිස්ට්වාදයටද ලිස්සා යන්නීය.

දෙවැනිව, ඕස්ත්‍රියාවේ ජාතීන් අතර පවතින සම්බන්ධකම් සහ රුසියාවේ එම සම්බන්ධකම් අතර වෙනස අපගේ සැලකිල්ලට භාජනය වී ඇති ප්‍රශ්නයට විශේෂයෙන් වැදගත් වේ. දීර්ඝ කාලයක් තිස්සේ ඕස්ත්‍රියාවේ වැඩි පිරිස ජර්මන්වරු වූහ. එපමණක් නොව, ඕස්ත්‍රියානු ජර්මන්වරු සමස්ත ජර්මන් ජාතියේම නායකත්වයට ද හිමිකම් පෑහ. 1866 යුද්ධයෙන් මෙම ''හිමිකම'' සුනු විසුනු වී ගිය බව කාරුණික ලෙස මතකයට නැගීමට (අවශේෂ කරුණුවලට, අතිපණ්ඩිත වදන්වලට හා හුදු කල්පනා මාත්‍රයන්ට අරුචියක් දක්වන බව පෙනෙන) රෝසා ලුක්සෙම්බුර්ග් කැමති වනු ඇත. ඕස්ත්‍රියාවේ වැඩි පිරිස වූ ජර්මන් ජාතිය,



1871 වන විට ස්ථිර ලෙසම ඇති වූ ස්වාධීන ජර්මන් ජාතියේ සීමාවෙන් පිටත සිටින බව පෙනී ගියේය. අනිත් අතට ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවීමට හංගේරියානු ජාතිකයන් දැරූ ප්‍රයත්නය, 1849 තරම් ඈත කාලයකදී, රුසියාවේ ප්‍රවේණිදාස යුද හමුදාවේ පහර යටතේ බිඳ වැටුණේය.

ඉතාමත් අමුතු තත්වයක් උද්ගත විය. වඩාත් කැදර සහ බලවත් අසල්වැසියන් විසින් සම්පූර්ණයෙන් අකා මකා දමනු ලැබිය හැකිව තිබුණු ජාතික නිදහස ආරක්ෂා කර ගැනීමේ ඒකාන්ත අරමුණම ඇතිව, ඕස්ත්‍රියාවෙන් වෙන් වීම සඳහා නොව, ඊට ප්‍රතිකූල ලෙසට ඕස්ත්‍රියාවේ ඒකස්ථ භාවය ආරක්ෂා කරනු සඳහා, හංගේරියානුවරු සහ ඉන් පසුව චෙක්වරුද විසින් ප්‍රයත්න දරනු ලැබීමක් සිදුවිය! මෙම අමුතු තත්වය නිසා ඕස්ත්‍රියාව ද්විත්ව රාජ්‍යයක ආකාරයක් ගත් අතර දැන් ඈය තුන්වැනි (ජර්මානුන්,හංගේරියානුන් හා ස්ලාව් ජාතිකයින්) රාජ්‍යයකට පරිවර්තනය වෙමින් පවතී.

රුසියාවේ මෙවැනි කිසියම් හෝ තත්වයක් තිබේද? වඩාත් භයානක ජාතික පීඩනයක තර්ජනය යටතේ, ''යටත් ජනතාවන්'' මහ රුසියානුන් සමග එක්සත් වීමට ප්‍රයත්න දරන තත්වයක් තිබේද?

ජාතීන්ගේ ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රශ්නයේදී, රුසියාව හා ඕස්ත්‍රියාව සංසන්දනය කිරීම අර්ථ විරහිත, අතිපණ්ඩිත හා මෝඩ ක්‍රියාවක් බව පෙනී යාමට, අයෙක් මෙම ප්‍රශ්නය ඉදිරිපත් කිරීම ම ප්‍රමාණවත් වේ.

ජාතික ප්‍රශ්නය ගත් විට අපට රුසියාවේ දකින්නට ලැබෙන්නේ, ඕස්ත්‍රියාවේ තත්වයෙහි ඒකාන්ත ප්‍රතිලෝමය හා අමුතු තත්වයකි. රුසියාව ඒකීය ජාතික මධ්‍යස්ථානයක් ඇති රාජ්‍යයකි. එම මධ්‍යස්ථානය මහ රුසියාවය. අඛණ්ඩ අතිවිශාල භූමි භාගයක් හිමිකරගෙන සිටින මහ රුසියනුන් සංඛ්‍යාවෙන් 7,00,00,000 ක් පමණ වෙති. මෙම ජාතික රාජ්‍යයෙහි විශේෂ අංග ලක්ෂණ මෙසේය: ප්‍රථමයෙන් ''යටත් ජනතාවෝ'' (සමස්තයක් වශයෙන් මුළු ජනගහනයෙන් බහුතරය එනම් සියයට 57 ක් වන අතර) දේශ සීමා ප්‍රදේශවල වාසය කරති. දෙවැනිව, මෙම යටත් ජනතාවන්ගේ පීඩනය, අසල් වැසි (යුරෝපීය රාජ්‍යවල පමණක් නොවන) ජනතාවන්ගේ පීඩනයට වඩා බෙහෙවින් දරුණුය. තුන්වැනිව, දේශ සීමා ප්‍රදේශ ගණනාවකම වාසය කරන ජාතික කොටස්වල ස්වජාතික සගයන් දේශ සීමාවෙන් ඔබ්බෙහි සිටින අතර ඔවුහු වැඩි ජාතික නිදහසක් භුක්ති විඳිති (රාජ්‍යයේ බටහිර හා දක්ෂිණ දේශ සීමාබඳව වෙසෙන පින්ලන්ත, ස්වීඩන, පෝලන්ත, උක්‍රේනියානු හා රුමේනියානු ජනතාවන් සඳහන් කිරීම ප්‍රමාණවත්ය). හතරවැනිව, ධනපති ක්‍රමයේ සංවර්ධනයත්, සංස්කෘතියේ සාමාන්‍ය මට්ටමත්, මධ්‍යස්ථානයට වඩා රුසියානු නොවන

දේශ සීමා ප්‍රදේශවල උසස්ය. අවසාන වශයෙන්, රුසියාවේ දේශ සීමා තුළ සිටින සමජාතීය ජාතික කොටස්වලට පැතිරී යන ධනපති විප්ලවවල හා ජාතික ව්‍යාපාරවල එක් අවස්ථාවක ආරම්භය අපට දක්නට ලැබෙන්නේ අසල් වැසි ආසියානු රාජ්‍යයන් තුළය.

වර්තමාන කාල සීමාවේදී ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගැනීම අප රටට විශේෂ බලවත් අවශ්‍යතාවයක් බවට පත් කරන, රුසියාවේ ජාතික ප්‍රශ්නයේ විශේෂ නිශ්චිත ඓතිහාසික අංග ලක්ෂණ ඉඳුරාම එසේය.

තවද, කරුණෙහි සත්‍යාසත්‍යතාවය අනුව බලන්නේ වුවත්, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිබඳ කිසිම පිළිගැනීමක් ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙළෙහි අන්තර්ගතව නැතැයි යනුවෙන් රෝසා ලුක්සෙම්බුර්ග් දෙන සහතිකය වැරදිය. තම ජාතීන්ගේ ජාතික සමගිය සහ නිදහස සහ ස්වාධීනත්වය දිනා ගැනීම උක්‍රේනියානු සහ පෝලන්ත ජාතීන්ට අයත් ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අපේක්ෂාවන් අතුරෙන් එකක් වන බව, ජාතික වැඩ පිළිවෙළ අනුමත කළ බ්‍රෑන් සම්මේලනයේදී,[130] මුළු උක්‍රේනියානු (රුතේනියානු) නියෝජිත මණ්ඩලයම වෙනුවෙන් කථා කළ රුතේනියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ගන්කෙවිච් විසින්ද (වාර්තා පිටු 85), මුළු පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී රෙගෙර් විසින්ද (වාර්තා පිටු 108), කරන ලද ප්‍රකාශයන් දැක ගැනීමට, අප කළ යුත්තේ, එම සම්මේලනයේ වාර්තා පිටු පෙරළා බැලීම පමණකි. ඒ අනුව බලන කල, ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ඔවුන්ගේ වැඩ පිළිවෙළට එක එල්ලේම ඇතුලත් නොකළ නමුත්, පක්ෂයේ කොටස් එයින්, ජාතික නිදහස සඳහා ඉල්ලීම ඉදිරිපත් කරනු ලැබීමට අවකාශ දුන්නෝය. ඇත්ත වශයෙන්ම, මෙහි නියම අර්ථය වන්නේ ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගත් බවයි! මේ අනුව බලන කල, රෝසා ලුක්සෙම්බුර්ග් ඕස්ත්‍රියාව ගැන කරන සඳහන සෑම අතින්ම ඇයට විරුද්ධව සිටින්නකි.

## 4. ජාතික ප්‍රශ්නයේ ''ප්‍රායෝගික භාවය''

අපගේ වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තියෙහි ''ප්‍රායෝගික'' කිසිවක් අන්තර්ගතව නැතැයි යන, රෝසා ලුක්සෙම්බුර්ග්ගේ තර්කය, අවස්ථාවාදීන් විසින් තදින් අල්ලා ගන්නා ලදී. මෙම තර්කයෙන් රෝසා ලුක්සෙම්බුර්ග් කොතරම් ආශ්වාදයක් ලබන්නීද යත්, ඇගේ ලිපියේ සමහර කොටස්වල, මෙම ''සටන් පාඨය'' එක පිටුවක අටවරක්ම සඳහන් කර ඇත.



9 වැනි වගන්තිය ''නිර්ධන පංතියේ දෛනික ප්‍රතිපත්තිය සම්බන්ධයෙන් කිසි නායකත්වයක් නොදෙන බවත්, ජාතික ප්‍රශ්නවලට කිසිම ප්‍රායෝගික විසඳීමක් නොදෙන බවත්'' ඇය කියන්නීය.

මෙම තර්කය ගැන විමසා බලමු. 9 වැනි වගන්තිය සම්පූර්ණයෙන්ම අර්ථ විරහිත ලෙසට පෙනෙන ආකාරයෙන්ද, එසේ නැතහොත්, සියලුම ජාතික අපේක්ෂාවන්ට ආධාර දෙන තත්වයට අප පත්වන ආකාරයෙන්ද, මෙම තර්කය වෙනත් තැනක ඉදිරිපත් කර තිබේ.

ජාතික ප්‍රශ්නය විෂයෙහි ''ප්‍රායෝගිකතාවය'' සඳහා කරන ඉල්ලීමෙහි අර්ථය කුමක්ද?

කරුණු තුනකින් එකක් එයින් අදහස් වේ. එම කරුණු මෙසේය: සියලුම ජාතික අපේක්ෂාවන්ට සහයෝගය දැක්වීම; ඕනෑම ජාතියක් වෙන්වී ඉවත්වීම පිළිබඳ ප්‍රශ්නයට ''ඔව්'' හෝ ''නැත'' යන පිළිතුර; එසේ නැතහොත් ජාතික ඉල්ලීම් සාමාන්‍යයෙන්ම ක්ෂණික වශයෙන් ප්‍රායෝගික බවය.

''ප්‍රායෝගිකතාවය'' සඳහා ඉල්ලීමට දිය හැකි අර්ථ තුනම ගැන විමසා බලමු.

සෑම ජාතික ව්‍යාපාරයක්ම ආරම්භයේ ස්වාභාවික වශයෙන්ම එහි නායකත්වය ගන්නා ධනපති පංතිය, ජාතික අපේක්ෂාවන් සියල්ලටම සහයෝගය දැක්වීම ප්‍රායෝගික බව කියයි. එසේ නමුත්, ජාතික ප්‍රශ්නයේදී (අනිත් සියලු ප්‍රශ්නවලදී මෙන්ම) නිර්ධන පංතිය අනුගමනය කරන ප්‍රතිපත්තිය, ධනපති පංතියට සහයෝගය දක්වන්නේ කිසියම් දිශානතියක් අනුව පමණකි. නමුත් එය කිසි කලෙකත් ධනපති පංතියේ ප්‍රතිපත්තිය සමග සම්පාත නොවන්නේය. කම්කරු පංතිය ධනපති පංතියට සහයෝගය දක්වන්නේ, ජාතික සාමය ලබා ගැනීම සඳහාත් (ධනපති පංතියට මෙය සම්පූර්ණ වශයෙන් ඇති කළ නොහැකිය. එය ඉටු කර ගත හැක්කේ සම්පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය සමග පමණකි), සමාන අයිතිවාසිකම් දිනා ගැනීම සඳහාත්, පංති අරගලය කිරීමට හොඳම තත්වයන් ඇති කිරීම සඳහාත් පමණකි. එනිසා නිර්ධන පංතිකයන් ජාතික ප්‍රශ්නය පිළිබඳ ඔවුන්ගේ ප්‍රතිපත්ති ඉදිරියට ගෙන යන්නේ ධනපති පංතියේ ප්‍රායෝගිකභාවයට විරුද්ධව ය. ඔවුන් කවදත් ධනපති පංතියට දෙන්නේ කොන්දේසි සහිත සහයෝගයක් පමණකි. ජාතික ප්‍රශ්නයේදී සෑම ධනපති පංතියක්ම වෙර දරන්නේ තමන්ගේම ජාතියට වරප්‍රසාද දිනා ගැනීමටය; එසේ නැතහොත් විශේෂ වාසි දිනා ගැනීමටය මෙය ''ප්‍රායෝගික'' වීම යනුවෙන් හඳුන්වනු ලැබේ. නිර්ධන පංතිය සියලු වරප්‍රසාදයන්ට, සියලුම සුවිශේෂතාවයන්ට විරුද්ධ වන්නේය. එය ''ප්‍රායෝගික'' විය යුතු යයි කියන ඉල්ලීමෙහි අර්ථය ධනපති පංතියේ නායකත්වය අනුගමනය කිරීමය, අවස්ථාවාදයට වැටීමය.

සෑම ජාතියක්ම වෙන් වී ඉවත්වීම සම්බන්ධයෙන්''ඔව්''හෝ ''නැත'' යනුවෙන් පිළිතුරක් ඉල්ලීම, ඉතා ''ප්‍රායෝගික'' ඉල්ලීමක් ලෙස පෙනෙන්නට පිළිවන. යථාර්ථ වශයෙන් එය විකාරයකි. එය න්‍යායික වශයෙන් අධ්‍යාත්මිකවාදී වන අතර ව්‍යවහාරයේදී නිර්ධන පංතිය ධනපති පංතියේ ප්‍රතිපත්තියට යටත් කිරීමට මඟ සකස් කරයි. ධනපති පංතිය නිතරම එහි ජාතික ඉල්ලීම් ඉදිරියෙන්ම තබයි. එය එසේ කිරීමේදී නිරවනත ශෛලියක් දක්වයි. නිර්ධන පංතිය සම්බන්ධයෙන් වූ කල, මෙම ඉල්ලීම් පංති අරගලයේ අවශ්‍යතාවයන්ට අවනතය. කිසියම් ජාතියක ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය කෙළවර වන්නේ එය වෙනත් ජාතියකින් වෙන් වී ඉවත් වීමෙන්ද, නැතහොත්, එය පසු කී ජාතියක් සමග සමානත්වයට පැමිණීමෙන්ද, යන්න න්‍යායික වශයෙන් ඔබට කිව නොහේ. එයින් කුමක් සිදුවුවත්, නිර්ධන පංතියට වැදගත් වන්නේ එහි පංතියේ සංවර්ධනය සහතික කිරීමය. ධනපති පංතියට, ''තමන්ගේම'' ජාතියේ අරමුණු, නිර්ධන පංතියේ අරමුණුවලට වඩා ඉදිරියෙන් තැබීමෙක්, ඉහත සඳහන් සංවර්ධනයට බාධා කිරීම වැදගත් වන්නේය. කිසිම ජාතියකට පොරොන්දු දීමක් නොමැතිව, තවත් ජාතියකට පාඩුවක් වන සේ කිසිවක් දීමට භාර නොගෙන, නිර්ධන පංතිය, ප්‍රතිෂේධාත්මක යයි කිව හැකි ස්වභාවයේ වූ, ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය පිළිගැනීමට සීමා වන්නේ එහෙයිනි.

මෙය ''ප්‍රායෝගික'' නොවිය හැකිය. නමුත්, දිය හැකි සියලුම විසඳීම් අතුරෙන් ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී විසඳීමේ සාර්ථකත්වය සහතික කළ හැකි හොඳම සහතිකය එයයි. සෑම ජාතියකම ධනපති පංතියට උවමනා කරන්නේ තමන්ගේම යහපත සහ අනිකුත් ජාතීන්ගේ තත්වය (නැතහොත් ඒවාට සිදු විය හැකි අවාසි) ගැන නොතකා දෙනු ලබන සහතික වන අතර, නිර්ධන පංතියට අවශ්‍ය වන්නේ ඉහත සඳහන් පරිදි වන සහතික පමණකි.

අන් සියල්ලටම වඩා ධනපති පංතිය උනන්දුවක් දක්වන්නේ කිසියම් ඉල්ලීමක ''ශක්‍යතාවය'' ගැන ය. එය නිර්ධන පංතියේ හානියට හේතු වන පරිදි, වෙනත් ජාතීන්ගේ ධනපති පංති සමග සම්මුතිවලට එළඹීමේ ප්‍රතිපත්තියක් අනිවාරණීය ලෙස අනුගමනය කරන්නේ එහෙයිනි. එසේ වුවද, නිර්ධන පංතියට වැදගත් දෙය වන්නේ, ධනපති පංතියට විරුද්ධව තම පංතිය ශක්තිමත් කිරීම සහ සසංගත ප්‍රජාතන්ත්‍රවාදයේ හා සමාජවාදයේ ජීවගුණයෙන් පොදු ජනතාවට අධ්‍යාපනය දීමය.

අවස්ථාවාදීන් ගැන සලකන කල නම් මෙය ''ප්‍රායෝගික'' නොවිය හැකිය. නමුත්, වැඩවසම් ඉඩම් හිමියන් සහ ජාතිකවාදී ධනපතියන් කුමක් කීවත්, නියම සහතිකය එයයි, වැඩි ජාතික සමානත්වය සහ සාමය සඳහා සහතිකය එයයි.



සෑම ජාතියකම ජාතිකවාදී ධනපති පංතියේ ඇසින් බලන කල, ජාතික ප්‍රශ්නයේදී නිර්ධන පංතියට පැවරී තිබෙන මූළු කර්තව්‍යයම ''ප්‍රායෝගික නොවන්නේය''. සෑම වර්ගයකම ජාතිකවාදයකට විරුද්ධවන ඔවුහු ''වියුක්ත'' සමානත්වය ඉල්ලති. අල්ප වශයෙන් හෝ වරප්‍රසාද නොතිබිය යුතු යයි ඔවුහු ඉල්ලති. මෙය වටහා ගැනීමට අසමත් වන රෝසා ලුක්සෙම්බුර්ග්, නො මග ගොස් ප්‍රායෝගිකභාවය ගැන කරන වර්ණනාවෙන් අවස්ථාවාදීන්ට සම්පූර්ණයෙන්ම දොර හැර දුන්නාය; විශේෂයෙන්ම, මහ රුසියානු ජාතිකවාදයට අවස්ථාවාදී සහන දීමට දොර විවෘත කළාය.

මෙහිදී මහ රුසියානු යයි කියන්නේ මන්ද? එසේ කියන්නේ රුසියාවේ පීඩක ජාතිය මහ රුසියානුන් වන හෙයින්ද, ජාතික ප්‍රශ්නයේදී දක්වන අවස්ථාවාදය පීඩිත ජාතීන් අතර එක් ආකාරයකටත්, පීඩක ජාතීන් අතර තවත් ආකාරයකටත්, ප්‍රකාශිත වන හෙයින්ද වේ.

තමන්ගේ ඉල්ලීම් ''ප්‍රායෝගිකය'' යන කරුණ ඉදිරිපත් කරමින්, පීඩිත ජාතීන්ගේ ධනපති පංතිය එහි අපේක්ෂාවන්ට කොන්දේසි විරහිතව සහයෝගය දක්වන ලෙස, නිර්ධන පංතිය ම හඬ නඟයි. ඉතාමත් ප්‍රායෝගික ක්‍රියාමාර්ගය වනු ඇත්තේ, වෙන්වී, ඉවත්වීමට අයිතිය ඇති සියලුම ජාතීන්ට පක්ෂව නොව, කිසියම් එක් ජාතියක වෙන්වී ඉවත්වීමට පක්ෂ, ''ඔව්'' කීමය!

එවැනි ප්‍රායෝගිකභාවයට නිර්ධන පංතිය විරුද්ධ වන්නේය. ජාතික රාජ්‍යයක සමානත්වය හා සමාන හිමිකම් පිළිගන්නා අතරම, එය සියලුම ජාතීන්ගේ නිර්ධන පංතිකයන්ගේ සන්ධානය සියල්ලටම වඩා අගය කරමින්, එය අන් සියල්ලටම වඩා ඉදිරියෙන් තබයි; එසේම ඕනෑම ජාතික ඉල්ලීමක්, ඕනෑම ජාතියක වෙන්වීමක්, කම්කරුවන්ගේ පංති අරගලයේ දෘෂ්ටි කෝණය අනුව අගය කරයි. ප්‍රායෝගිකභාවය සඳහා නගන මෙම හඬ, ඇත්ත වශයෙන්ම, නොසොයා, නොබලා, ධනපති අපේක්ෂාවන් භාර ගන්නා ලෙස කරන හඬ නැගීමක් පමණකි.

වෙන්වී ඉවත් වීමේ අයිතිය සඳහා සහයෝගය දැක්වීමෙන්, ඔබ පීඩිත ජාතීන්ගේ ධනපති ජාතිකවාදයට සහයෝගය දක්වන්නෙහි යයි, අපට කියනු ලැබේ. රෝසා ලුක්සෙම්බුර්ග් කියන්නේ මෙයයි. ඒ අනුව අවස්ථාවාදී සෙම්කොව්ස්කිද, එය දෝංකාර දෙයි. ලික්විඩේෂනිස්ට්වාදී ප්‍රවෘත්ති පත්‍රයෙහි, මෙම ප්‍රශ්න සම්බන්ධයෙන් ලික්විඩේෂනිස්ට්වාදී අදහස් දරන, එකම නියෝජිතයා ඔහු බව, මෙහිලා සඳහන් කරනු කැමැත්තෙමු.

අප මෙයට මෙසේ පිළිතුරු දෙන්නෙමු: නැත, මෙම ප්‍රශ්නය ''ප්‍රායෝගික ලෙසට'' විසඳා ගැනීම වැදගත් වන්නේ ධනපති පංතියට ය.

කම්කරුවන් හට වැදගත් වන්නේ, උපනති දෙකෙහි ප්‍රතිපත්ති අතර වෙනස පැහැදිලි කිරීම ය. පීඩිත ජාතියේ ධනපති පංතිය පීඩකයාට විරුද්ධව සටන් කරන තාක් දුරට, අපි නිතරම සහ සෑම අවස්ථාවකම, ඊට පක්ෂ වෙමු. එසේ වන්නේ, පීඩනයේ ඉතාමත් දැඩි සහ සසංගත සතුරන් අප වන බැවිනි. නමුත්, පීඩිත ජාතියේ ධනපති පංතිය, තමන්ගේම ධනපති පංතිකවාදය වෙනුවෙන් පෙනී සිටින තාක් දුරට, අපි එයට විරුද්ධ වන්නෙමු. පීඩක ජාතියේ වරප්‍රසාද හා හිංසනයට විරුද්ධව සටන් කරන අප, පීඩිත ජාතිය වරප්‍රසාද ලබා ගැනීමට දරන ප්‍රයත්න ගැන සමා නොදෙන්නෙමු.

අපගේ දේශපාලන උද්ඝෝෂණයේදී, වෙන් වී ඉවත් වීමේ අයිතිය හා සම්බන්ධ සටන් පාඨය ඉදිරිපත් කිරීමට හා එයට පක්ෂ බව දක්වීමට අප අසමත් වන්නේ නම්, පීඩක ජාතියේ ධනපති පංතියේ පමණක් නොව, වැඩවසම් ඉඩම් හිමියන්ගේද ග්‍රහණයට හසුවන පරිද්දෙන් අපි කටයුතු කරන්නෝ වෙමු. බොහෝ කලකට පෙර කෞට්ස්කි රෝසා ලුක්සෙම්බුර්ග්ට විරුද්ධව මෙම තර්කය උපයෝගි කර ගත්තේය. එම තර්කය අවිවාදී ය. පෝලන්තයේ ජාතිකවාදී ධනපති පංතියට ''ආධාර'' නොකිරීමට ඇති උනන්දුව නිසා රෝසා ලුක්සෙම්බුර්ග්, රුසියාවේ මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි වෙන්වී ඉවත්වීමේ අයිතිය ඇතුලත් කිරීමට විරුද්ධ වීමෙන්, ඇය ඇත්ත වශයෙන් කරන්නේ මහ රුසියානු කළු සියය පිරිස්වලට ආධාර කිරීමය. ඇය ඇත්ත වශයෙන් කරන්නේ, මහ රුසියානුවන්ගේ වරප්‍රසාද අවස්ථාවාදී ලෙස ඉවසා සිටීමට (එය වරප්‍රසාදවලට වඩා නරකය) ආධාර කිරීම ය.

පෝලන්තයේ ජාතිකවාදයට විරුද්ධව කරන අරගලයෙන් උද්දම වූ රෝසා ලුක්සෙම්බුර්ග්ට, මහ රුසියානුන්ගේ ජාතිකවාදය අමතක වී තිබේ. වර්තමාන කාලයේදී ඉතාමත් බලවත් ජාතිකවාදය එය වුවත්, ඇයට එය අමතක වී තිබේ. ධනපති ස්වභාවයට වඩා වැඩවසම් ස්වභාවය දරන, ප්‍රජාතන්ත්‍රවාදයට සහ නිර්ධන පංති අරගලයට ප්‍රධාන බාධකය වන ජාතිකවාදය එයයි. ඕනෑම පීඩිත ජාතියක, ධනපති ජාතිකවාදය තුළ, පීඩනයට විරුද්ධව එල්ල වුනු සාමාන්‍ය ප්‍රජාතන්ත්‍රවාදී සන්ධාරයක් ඇත. අප කොන්දේසි විරහිතව සහයෝගය දක්වන්නේ මෙම සන්ධාරයට ය. ඒ අතරම, අපි ඉතාමත් දැඩි ලෙස, එය ජාතික සුවිශේෂතාවය කරා එල්ල වුනු නැඹුරුවීම් වලින් වෙන් කොට හඳුනා ගන්නෙමු. පෝලන්ත ධනපති පංතිය, යුදෙව්වන්ට පීඩා කිරීමට, යනාදියට, දක්වන ප්‍රවණතාවයට විරුද්ධව සටන් කරන්නෙමු.

ධනපතියාගේ සහ අමනයාගේ අදහස අනුව මෙය ''ප්‍රායෝගික නොවන'' නමුත්, ප්‍රතිපත්ති පදනම් කරගත් සහ නියම වශයෙන් ම ප්‍රජාතන්ත්‍රවාදය, නිදහස සහ නිර්ධන පංති සමගිය ශක්තිමත් කරන, ජාතික ප්‍රශ්නයේදී ප්‍රායෝගික වන එකම ප්‍රතිපත්තිය එයයි.



සියළුම ජාතීන් සඳහා වෙන්වී ඉවත්වීමේ අයිතිය පිළිගනු ලැබේ. වෙන් වී ඉවත්වීම පිළිබඳ සෑම එක් එක් නිශ්චිත ප්‍රශ්නයක් ම ගැන, සියළුම අසමානතාවයන්, සියළුම වරප්‍රසාද හා සියළුම සුවිශේෂතාවයන් ඉවත් කිරීමේ දෘෂ්ටි කෝණයෙන් සලකා බලනු ලැබේ.

පීඩක ජාතියකගේ තත්වය සලකා බලමු. කිසියම් ජාතියක් වෙනත් ජාතීන් පීඩාවට පත් කරන්නේ නම්, එයට නිදහස් ජාතියක් විය හැකිද? නැත. එසේ විය නොහැකිය. මහ රුසියානු ජනගහනයේ* නිදහසේ අවශ්‍යතාවයන් අනුව, එවැනි පීඩාවට විරුද්ධව අරගල කිරීම අවශ්‍ය වේ. පීඩිත ජාතීන්ගේ ව්‍යාපාර මර්දනය ගැන කියන දීර්ඝ ශතවර්ෂාධික ඉතිහාසයද, එවැනි මර්දන කිරීම්වලට පක්ෂව ''ඉහළ'' පංතිවලින් එන ක්‍රමාණුකූල ප්‍රචාරයද, නිසා මහ රුසියානු ජනතාවගේ ම නිදහසේ සත් ව්‍යාපාරයට හරස් වන දුර්මත යනාදී ආකාරයේ බලවත් බාධක ඉදි වී තිබේ.

මහ රුසියානු කළු සියය පිරිස් උවමනාවෙන්ම මෙම දුර්මතයන් වර්ධනය කර ශක්තිමත් කරති. මහ රුසියානු ධනපති පංතිය ඒවා ඉවසා සිටියි, නැතහොත්, ඒවාට ඉඩ දෙයි. මෙම දුර්මතයන් ක්‍රමාණුකූල ලෙස පරාජය කරන්නේ නැතිව, මහ රුසියානු නිර්ධන පංතියට ස්වකීයම අරමුණු ඉටු කර ගැනීමට හෝ එහි නිදහසට යන මාර්ගය හෙළි කර ගැනීමට හෝ, නොහැකි වන්නේය.

රුසියාවේ ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවීම, තාවකාලික වශයෙන්, මහ රුසියානු ජාතියේ පමණක් වරප්‍රසාදයක්ව පවතී. වරප්‍රසාද කිසිවක් ආරක්ෂා නොකරන මහ රුසියානු නිර්ධන පංතිකයන් වන අපි, මෙම වරප්‍රසාදය ද ආරක්ෂා නොකරමු. අපි නිශ්චිත රාජ්‍යයක භූමියේ සිට සටන් කරමු. අපි මෙම රාජ්‍යය තුළ වෙසෙන සියළුම ජාතීන්ගේ කම්කරුවන් එක්සත් කරන්නෙමු. අපි අපේ පංති අරමුණ වෙත හැකි සියළුම මාර්ගවලින් ගමන් කරමින් සිටින්නෙමු. එනිසා ජාතික සංවර්ධනයේ කිසියම් එක මාවතක් ගැන අපට සහතික දිය නොහැකිය.

එසේ වුවද, සියළු ජාතිකවාදයන් පරාජය කරමින්, විවිධ ජාතීන්ගේ

---

* පැරිසියේ කිසියම් එල්. ව්. කෙනෙක් මෙම වචනය මාක්ස්වාදයට නොගැලපේ යයි අදහස් කරයි. මෙම හාස්‍ය ජනක ලෙසට, "Superklug" (බාගෙට පණ්ඩිත). ''බාගෙට පණ්ඩිත'', එල්. ව්. (පංති අරගලය ගැන සිතේ ඇතිව) අපේ අවම වැඩ පිළිවෙළෙන් ''ජනගහනය'', ''ජාතිය'' ආදී වචන ඉවත් කිරීම ගැන රචනාවක් ලිවීමට අදහස් කරන බව පෙනේ.

සමානත්වය ආරක්ෂා නොකළහොත්, අපට එම අරමුණ දෙසට යාමට නොහැකිය. නිදසුනක් ලෙසට උක්‍රෙනියාව ස්වාධීන රාජ්‍යයක් පිහිටුවීමට ඉරණම්ව තිබේද යන්න, තීරණය වනු ඇත්තේ, කලින් කිව නොහැකි සාධකයන් දහස් ගණනක් විසිනි. අලස ''අනුමානයන්'' කිරීමට උත්සාහ නොදරා අපි නිසැක දෙය තරයේ ආරක්ෂා කරමු — එවැනි රාජ්‍යයක් පිහිටුවීමට උක්‍රෙනියාවට ඇති අයිතිය ආරක්ෂා කරමු. අපි මෙම අයිතියට ගරු කරමු. උක්‍රෙනියානු ජාතිකයන් සම්බන්ධයෙන් අපි මහ රුසියානුන්ගේ වරප්‍රසාද ආරක්ෂා නොකරන්නෙමු. මෙම අයිතිවාසිකම පිළිගැනීමේ ජීවගුණයෙන් ද, ඕනෑම ජාතියකට රාජ්‍ය වරප්‍රසාදයන් දීම ප්‍රතික්ෂේප කිරීමේ ජීවගුණයෙන්ද, අපි පොදුජනතාවට අධ්‍යාපනය දෙන්නෙමු.

ධනපති විප්ලව සමයේදී, ජාතික රාජ්‍යයක් පිළිබඳ අයිතිය සඳහා වූ සට්ටන සහ අරගල සමයේදී, සියළුම ජාතීන් පෙන්නුම් කළ සීඝ්‍ර ඉදිරි ගමන, විය හැකි හා බලාපොරොත්තු විය හැකි දෙයකි. නිර්ධන පංතිකයන් වන අපි මහ රුසියානු වරප්‍රසාදයන්ට විරුද්ධවන බව කල් තබා ප්‍රකාශ කරන්නෙමු. අපේ සියළුම ප්‍රචාරක සහ උද්ඝෝෂණ කටයුතු නිගමනය වන්නේ ඒ අනුව ය.

රෝසා ලුක්සෙම්බුර්ග් ''ප්‍රායෝගික භාවය'' සොයා යන ගමනේදී, මහ රුසියානු නිර්ධන පංතියේ සහ වෙනත් ජාතීන්ගේ නිර්ධන පංතියේ යන දෙකොටසෙහිම ප්‍රධාන ප්‍රායෝගික කර්තව්‍යය, එනම්, සියළුම ජාතික වරප්‍රසාද වලට විරුද්ධව සහ ජාතික රාජ්‍ය සඳහා ඔවුන් සතු අයිතියට පක්ෂව, සියළුම ජාතීන්ට ඇති සමාන අයිතියට පක්ෂව, දෛනික උද්ඝෝෂණයෙහි සහ ප්‍රචාරයෙහි යෙදීමේ කර්තව්‍යය, ඇයට අමතක වී තිබේ. ප්‍රජාතන්ත්‍රවාදය සහ සියළුම ජාතීන්ගේ සියළුම නිර්ධන පංතිකයන් සමාන පදනමක් මත සන්ධාන ගත වීමේ අවශ්‍යතාවයන් ආරක්ෂා කළ හැකි එකම මාර්ගය මෙය වන හෙයින් ජාතික ප්‍රශ්නය හා සම්බන්ධයෙන් ඉටු කළ යුතු අපේ ප්‍රධාන (වර්තමාන) කර්තව්‍යය මෙයයි.

මහ රුසියානු පීඩකයන්ගේ දෘෂ්ටි කෝණයෙන් ද, එමෙන්ම, පීඩිත ජාතීන්ගේ ධනපති පංතියේ දෘෂ්ටි කෝණයෙන්ද, බලන කල මෙම ප්‍රචාරය ''ප්‍රායෝගික නොවන'' දෙයක් විය හැකිය (නිශ්චිත ලෙසට ''ඔව්'' හෝ ''නැත'' කියන පිළිතුරක් ඉල්ලන ඔවුහු, ''නියමයක් නැති'' තත්වයක් ගැනීම ගැන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට චෝදනා කරති). යථාර්ථ වශයෙන් පොදු ජනතාවට සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී වූ සහ සැබැවින්ම සමාජවාදී වූ අධ්‍යාපනයක් ලැබීම සහතික කරන්නේ මෙම ප්‍රචාරය ය, එය පමණක් ම ය. රුසියාව බහු ජාතීය රාජ්‍යයක් වශයෙන් පවතින්නේ නම්, වැඩිම ජාතික සාමයක් සඳහා අවස්ථාව සැලසීමත්, වෙනම රාජ්‍යයන්ට වෙන්වීම එයට අවශ්‍ය වුවහොත්, ඉතාමත් සාමකාමී ලෙස (සහ



නිර්ධන පංති පංති අරගලයට හානි විරහිත ලෙස) එසේ වෙන් වීමත්, සහතික කිරීමට හැකි එකම ප්‍රචාරය එයයි.

ජාතික ප්‍රශ්නය හා සම්බන්ධයෙන්, මෙම ප්‍රතිපත්තිය, එනම්, එකම නිර්ධන පංති ප්‍රතිපත්තිය වඩාත් නිශ්චිත ලෙස පැහැදිලි කිරීමට, ''ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' කෙරෙහි මහ රුසියන් ලිබරල්වාදය දක්වන ආකල්පයත්, නෝර්වේ රාජ්‍යය ස්වීඩනයෙන් වෙන් වී ඉවත් වීම පිළිබඳ නිදර්ශනයත් විමසා බලන්නෙමු.

## 5. ජාතික ප්‍රශ්නයේදී ලිබරල් ධනපති පංතිය සහ සමාජවාදීන් දරන ආකල්පය

රුසියාවේ මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළට විරුද්ධව රෝසා ලුක්සෙම්බුර්ග් කරන අරගලයේ දී, ඇය පහත සඳහන් තර්කය ''තුරුම්පුවක්'' කර ගන්නා බව අපි දැක ඇත්තෙමු: ස්වාධිපත්‍යය සඳහා අයිතිය පිළිගැනීම යනු පීඩිත ජාතීන්ගේ ධනපති ජාතිකවාදයට ආධාර කිරීම හා සමානය. අනිත් අතට, අප මෙම අයිතියෙන් වටහා ගන්නේ, වෙනත් ජාතීන්ට විරුද්ධව, සියළු හිංසනයට විරුද්ධව, සටන් කිරීමට වඩා දෙයක් නොවේ නම්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සාමාන්‍ය වශයෙන් සියළු පීඩනයට හා අසමානතාවයට විරුද්ධ වන නිසා, ඒ ගැන විශේෂ වගන්තියක් වැඩ පිළිවෙළට ඇතුලත් කිරීම අවශ්‍ය නැතැයි, ඇය කියන්නී ය.

අවුරුදු විස්සකට පමණ පෙර විවාදයට ඉඩ නොතබා කෞට්ස්කි ඔප්පු කළ පරිදි, මෙම ප්‍රථම තර්කය, තමන්ගේ ම ජාතිකවාදය ගැන වරද අනුන් පිට දැම්මක් වන්නේය. පීඩිත ජාතීන්ගේ ධනපති පංතියේ ජාතිවාදයට බිය වූ රෝසා ලුක්සෙම්බුර්ග්, මහ රුසියානුන්ගේ කළු සිය ජාතිවාදයේ උවමනාවන් සැබැවින් ම ඉටු කරන තත්වයට පත් වන්නීය! ඇගේ දෙවැනි තර්කය වනාහි, වෙන් වී ඉවත්වීමේ අයිතිය පිළිගන්නා විට එයට ජාතික සමානත්වය පිළිගැනීම ඇතුලත් ද නැද්ද යන ප්‍රශ්නයට මුහුණ නොදී ඇත්ත වශයෙන් ම බිය සුළු ලෙස මඟහැරීමක් වේ. එය ඊට ඇතුලත් වේ නම්, එවිට ප්‍රතිපත්තියක් වශයෙන් අපේ 9 වැනි වගන්තිය නිවැරදි බව රෝසා ලුකසෙම්බුර්ග් පිළිගන්නීය. එය ඊට ඇතුලත් නොවේ නම්, ඇ ජාතික සමානත්වය පිළිගන්නේ නැත. මෙහිදී පය ඇද ඇද සිටීමෙන් හා මහ හැරීමෙන් වැඩක් නොවේ!

කෙසේ හෝ වේවා, මෙම සහ එවැනි සියළු තර්ක පරීක්ෂා කිරීමේ හොඳම ක්‍රමය, ප්‍රශ්නය කෙරෙහි සමාජයේ විවිධ පංති දක්වන ආකල්පය අධ්‍යයනය කිරීම ය. මෙම පරීක්ෂාව මාක්ස්වාදියෙකුගේ අනිවාර්ය යුතු

15—705

කමකි. අප කටයුතු ආරම්භ කළ යුත්තේ වාස්තවික දෙයිනි. අපි, මෙම කරුණ ගැන පංති අතර පවතින සම්බන්ධය පරීක්ෂා කළ යුත්තෙමු. මෙය නොකර හැරීම නිසා, රෝසා ලුක්සෙම්බුර්ග් වැටෙන්නේ, ඇගේ ප්‍රතිපාක්ෂිකයන් විසින් කරන ලද පව් ලෙසට ඈ විස්තර කළ ඒ අධ්‍යාත්මිකවාදය, හුදු කල්පනා මාත්‍රයන්, අති පණ්ඩිත වදන්, යනාදියට ම ය.

අපි රුසියාවේ මාක්ස්වාදීන්ගේ, එනම්, රුසියාවේ සියළුම ජාතීන්ට අයත් මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළ සාකච්ඡා කරමින් සිටින්නෙමු. මෙහිදී රුසියාවේ පාලක පංතිවල තත්වය විමර්ශනය කළ යුතු නොවේ ද?

''නිලධාරි පෙළැන්තියේ'' (මෙම සම්පූර්ණයෙන්ම නිවැරදි නොවන වචනය ගැන සමාවන්න) සහ එක්සත් වංශවතුන්ගේ වර්ගයේ[131] වැඩ වසම් ඉඩම් හිමියන්ගේ තත්වය සුප්‍රකට ය. ඔවුහු ජාතීන්ගේ සමානාත්මතාවයත්, ස්වාධිපත්‍යය සඳහා අයිතියත් යන දෙකම ඒකාන්ත වශයෙන් ප්‍රතික්ෂේප කරති. ඔවුන් අනුගමනය කරන්නේ ප්‍රවේණිදස ක්‍රමය කාලයේ පිළිගත් මෙම ආදර්ශ වාදන් ය: ඒකාධිපත්‍යය, සාධර්මිකවාදය සහ ජාතික සාරාර්ථය — මෙයින් අන්තිම කොටස යෙදෙන්නේ මහ රුසියානු ජාතියට පමණකි. උක්‍රේනියානුන් පවා ''අන්‍යතර'' ජනතාවක් බවට ප්‍රකාශ කර, ඔවුන්ගේ භාෂාව පවා මඩිනු ලැබේ.

රුසියානු ධනපති පංතිය දෙස බලමු. ''ජූනි තුන්වැනි දින''[132] ව්‍යවස්ථාදායක සහ පරිපාලන ක්‍රමයේ කාර්ය කොටසක් ඉටු කරන සේ එයට ''ආයාචනා කර'' ඇත. එය ඉතා සුළු වුවත්, කිසියම් කාර්ය කොටසකි. මෙම ප්‍රශ්නයේදී ඔක්තෝබර්වාදීන් අනුගමනය කරන්නේ දක්ෂිණාංශිකයින් බව ඔප්පු කිරීමට වචන රැසක් මිඩංගු කිරීම අවශ්‍ය නොවේ. අවාසනාවකට මෙන්, මහ රුසියානු ලිබරල් ධනපති පංතිය, ප්‍රගතිවාදීන්[133] සහ කැඩෙට්වරු ගන්නා ස්ථාවරය ගැන, සමහර මාක්ස්වාදීන් දක්වන්නේ ඉතා අඩු සැලකිල්ලකි. එසේ වුවත්, මෙම ස්ථාවරය අධ්‍යයනය කර ඒ ගැන සුපරීක්ෂාකාරී ලෙස කල්පනා කර නොබලන තැනැත්තේ, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ගැන සාකච්ඡා කිරීමේදී, අනිවාරණීය වශයෙන්ම, හුදු කල්පනා මාත්‍රයන් සහ පදනම් විරහිත ප්‍රකාශයන් අතර ගිලී යනු ඇත.

''අප්‍රසන්න'' ප්‍රශ්නවලට කෙළින්ම පිළිතුරු නොදී තාන්ත්‍රික ලෙස මඟ හැරීමේ හුරුබුහුටි කමක් ''රේච්''[134] පත්‍රයට ඇතත්, පසුගිය අවුරුද්දේ ''ප්‍රාව්ද'' සමග ඇතිවූ ගැටුමේදී, එයට සමහර වැදගත් කරුණු පිළිගැනීමට සිදුවිය. අවුල පටන් ගත්තේ 1913 ග්‍රීෂ්ම ඍතුවේ ල්වොව්හි පැවැත්වුනු සමස්ත උක්‍රේනියානු ශිෂ්‍ය සම්මේලනය හා සම්බන්ධයෙනි. උක්‍රේනියාව වෙන් වී ඉවත් විය යුතුය යන අදහස, ජාතිකවාදී සමාජවාදියෙකු වූ දොන්ට්සොව් විසින් ඉදිරිපත් කරන ලදුව, එය ඉහත සඳහන් සම්මේලනය විසින් අනුමත කරන ලදින්, ''රේච්'' පත්‍රයේ ''උක්‍රේනියානු විශේෂඥයා'' නැතහොත් උක්‍රේනියානු වාර්තාකාරු වන මොගිලාන්ස්කි මහතා, ''රේච්'' පත්‍රයට ලිපියක් ලියමින්, එම අදහසට විරුද්ධව උග්‍ර බැනුම් (''දෙඩමළු කථා'', ''සාහසික කම්'' ආදිය) එල්ල කළේය.

''රබෝචය ප්‍රාව්ද'' පත්‍රය, මෙහිදී, දොන්ට්සොව් සමග කිසිම එකඟත්වයක් නොදක්වාම, ඔහු ජාතික-සමාජවාදියෙක් බව පැහැදිලි ලෙසත්, උක්‍රේනියානු මාක්ස්වාදීන් බොහෝ දෙනෙක් ඔහු සමග එකඟ නොවන බවත් පෙන්වා දෙන අතරම, ''රෙච්'' පත්‍රයේ ස්වරය, නැතහොත්, ප්‍රතිපත්තියක් වශයෙන් එම ප්‍රශ්නය ඉදිරිපත් කළ ආකාරය නුසුදුසු වන හා මහ රුසියානු ප්‍රජාතන්ත්‍රවාදියෙකුට, හෝ, එසේ නැතහොත්, ප්‍රජාතන්ත්‍රවාදියෙකු ලෙසට සලකනු ලැබීමට කැමති ඕනෑම කෙනෙකුට හෝ තරම් නොවන බව පෙන්වා දුන්නේය. ''රෙච්'' කැමති නම්, එය දොන්ට්සොව් මතය ප්‍රතික්ෂේප කරන බව කීමට විරුද්ධව යමක් කිව නොහැකිය. නමුත්, ප්‍රජාතන්ත්‍රවාදය වෙනුවෙන් කථා කරන බවට අයිතිවාසිකම් කියන මහ රුසියන් පත්‍රයට, ප්‍රතිපත්තියේ ප්‍රතිඥාව අනුව, වෙන් වී ඉවත් වී යාමේ නිදහස, වෙන් වී ඉවත් වීමේ අයිතිය, ගැන නොදැන සිටිය නොහැකිය.

''රෙච'' පත්‍රයේ පළ කෙරුණු ජාත්‍යොන්මාදවාදී ප්‍රහාරයන් නිසි ලෙස සලකුණු කර (හංවඩු තබා?) ඇත්තේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍ර පමණකැයි කියමින්, දොන්ට්සොව් මහතා දුන් පිළිතුර ගැන මාස කීපයකට පසු ''ෂ්ලායාහි''[135] නැමති උක්‍රේනියානු ප්‍රවෘත්ති පත්‍රය මගින් දැනගත් මොගිලාන්ස්කි මහතා, ''රේච්'' අංක 331 මගින් ''පැහැදිලි කිරීමක්'' පළ කළේය. මෙම පැහැදිලි කිරීම සංයුක්ත වූයේ, ''දොන්ට්සොව්ගේ වට්ටෝරු'' විවේචනය කිරීම හා ''ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ප්‍රතික්ෂේප කිරීම අතර කිසිම සමානත්වයක් නොමැති'' බව තුන් යළක් ප්‍රකාශ කිරීමෙනි.

මොගිලාන්ස්කි මහතා මෙසේ ලීවේය: ''ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය වුවද විවේචනය කළ නොහැකි පූජනීය වස්තුවක් (මෙය සටහන් කර ගන්න!!) නොවේ. ජාතීන්ගේ ජීවිත විෂයෙහි ඇති අපථ්‍ය තත්වයන් නිසා ජාතික ස්වාධිපත්‍යයේ අපථ්‍ය ප්‍රවණතාවයන් ඇති විය හැක. මේවා ගැන හෙළිදරව් කිරීමෙන්, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ප්‍රතික්ෂේප කළ බවට අදහස් නොවේ.''

මෙම ලිබරල්වාදියා ''පූජනීය වස්තුවක්'' ගැන කරන කථාව, රෝසා ලුක්සෙම්බුර්ග් ගේ කථාවට මනාව ගැලපෙන බව, ඔබට පෙනෙනු ඇත. මොගිලාන්ස්කි මහතා, දේශපාලන ස්වාධිපත්‍ය සඳහා, එනම්, වෙන්වී

ඉවත්වීම සඳහා අයිතිය පිළිගන්නේ ද, නැද්ද, යන ප්‍රශ්නයට කෙළින් ම පිළිතුරු නොදී මඟහැරීමට උත්සාහ කරමින් සිටි බව පැහැදිලිය.

1913 දෙසැම්බර් 11 දින, ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' අංක 4 පත්‍රයද, මොගිලාන්ස්කි මහතා සහ ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය වෙත මෙම ප්‍රශ්නය එක එල්ලේම ඉදිරිපත් කළේය.

ඉන් පසුව, ''රෙච්'' පත්‍රය අත්සන් නොකළ ප්‍රකාශනයක්, එනම්, නිල කතුවැකියක් මඟින්, මෙම ප්‍රශ්නයට පිළිතුරු දුන්නේය. එම පිළිතුරෙහි සම්පිණ්ඩනය පහත සඳහන් කරුණු තුනෙන් දක්වේ.

1) ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙළෙහි ''නිදහස් සංස්කෘතික ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' ගැන කෙළින්ම, නිශ්චිත වශයෙන් ම හා පැහැදිලි ලෙසම සඳහන් කර ඇත.

2) ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' පත්‍රය, ස්වාධිපත්‍යය යන්න කිසියම් එක් ජාතියක බෙදී වෙන්වීමේ ප්‍රතිපත්තිය සමග, වෙන්වී ඉවත්වීම සමග, ''සම්පූර්ණයෙන්ම අවුල් කර ගන්නා'' බව ''රෙච්'' පත්‍රය සහතික කරයි.

3) ''රුසියානු රාජ්‍යයෙන් 'වෙන්වී ඉවත්වීම සඳහා වූ ජාතීන්ගේ' අයිතියට පක්ෂවාදී වීමට කැඩෙට්වරු ඇත්ත වශයෙන් ම කිසි කලෙකත් පොරොන්දු දී නොමැත.'' (1913 දෙසැම්බර් 20දින ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' අංක 12 පත්‍රයේ ''ජාතික ලිබරල්වාදය සහ ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' යන ලිපිය බලන්න).

''රෙච්'' ප්‍රකාශයේ දෙවැනි කරුණ ප්‍රථමයෙන් සලකා බලමු.''ස්වාධිපත්‍යය''යන්නෙහි ඇතැයි කියන''අපැහැදිලි කම'' නැතහොත් ''අවිනිශ්චිතතාවය'' ගැන සෙම්කොව්ස්කිලා, ලීබ්මන්ලා, යූර්කේවිච්ලා සහ වෙනත් අවස්ථාවාදීන් කරන ගාල ගෝට්ටිය, ඇත්ත වශයෙන් ම, රුසියාවේ පංති අරගලයේ, වාස්තවික පංති අරගලයේ, ස්ථාවරය අනුව බලන කල, ඉඳුරාම ලිබරල් රාජාණ්ඩුවාදී ධනපති ප්‍රකාශවල කැබලි පූට්ටුවක් පමණක් වන බව එයින් ඉතා සිත් කාවදින ලෙස පෙන්නුම් කෙරේ!

''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' පත්‍රය ''රෙච්'' පත්‍රයේ ''ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී'' මහත්වරු වෙත පහත සඳහන් ප්‍රශ්න තුන ඉදිරිපත් කළේය: 1) ජාත්‍යන්තර ප්‍රජාතන්ත්‍රවාදයේ ඉතිහාසය මුළුල්ලේම, විශේෂයෙන් ම, දහනවවැනි ශතවර්ෂයේ මැද භාගයේ පටන්, ජාතීන්ගේ ස්වාධිපත්‍යය යන්නෙන් වටහා ගන්නා ලද්දේ, නියත වශයෙන් ම, දේශපාලන ස්වාධිපත්‍යය ම බවත්, ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවීමේ අයිතිය ම බවත් ඔවුන් නොපිළිගන්නේ ද? 2) 1896 දී ලන්ඩනයේ පැවැත්වුනු ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනය අනුමත කළ සුප්‍රසිද්ධ යෝජනාවෙහි ද, එම අර්ථයම ඇති බව ඔවුන් පිළිනොගන්නේ ද? එමෙන් ම,3) 1902 තරම් ඈත කාලයක දී,ප්ලෙහානව් ස්වාධිපත්‍යය ගැන



ලිවීමේදී අදහස් කළේ,නියත වශයෙන් ම දේශපාලන ස්වාධිපත්‍යයම බව ඔවුන් පිළිනොගන්නේ ද? ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' මෙම ප්‍රශ්න තුන ඉදිරිපත් කළ විට කැඩෙට් මහත්වරු නිහඬ වූහ!

පිළිතුරු වශයෙන් ඔවුහු වචනයක්වත් නොකීහ. ඒ ඔවුනට කීමට දෙයක් නොතිබුණු හෙයිනි. ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' නිවැරදි බව නිහැඬියාවෙන් පිළිගැනීමට ඔවුනට සිදුවිය.

''ස්වාධිපත්‍යය'' යන පාඨය අපැහැදිලි යයි ද, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එය බෙදී වෙන් වීමේ ප්‍රතිපත්තිය සමග ''සම්පූර්ණයෙන්ම අවුල් කර'' ගන්නේ යයිද, කියන ලිබරල් ඝෝෂාව නම්, විශ්වීය වශයෙන් පිළිගත් ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තියක් පිළිගැනීම මඟ හැරීමට හා ප්‍රශ්නය අවුල් කිරීමට දරන ප්‍රයත්නයක් පමණකි. සෙම්කොව්ස්කිලා, ලීබ්මන්ලා හා යූර්කෙවිච්ලා නොදනුවත් කම් ඇති පුද්ගලයන් නොවූහු නම්, ලිබරල් තාලයකින් කම්කරුවන් ඇමතීමට ඔවුන් ලජ්ජා වනු ඇත.

එය එසේ තිබිය දී, අපි තවදුර යමු. ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වැඩ පිළිවෙළෙහි සඳහන් ''සංස්කෘතික'' ස්වාධිපත්‍යය යන පාඨයෙහි අර්ථය වන්නේ දේශපාලන ස්වාධිපත්‍යය ප්‍රතික්ෂේප කිරීමක් බව පිළිගන්නා ලෙස ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' පත්‍රය ''රෙච්'' පත්‍රයට බල කළේය.

''රුසියානු රාජ්‍යයෙන් වෙන් වී ඉවත් වීම සඳහා වූ ජාතීන්ගේ අයිතියට පක්ෂවාදී වීමට කැඩෙට්වරු ඇත්ත වශයෙන් ම කිසි කලෙකත් පොරොන්දු දී නොමැත.'' ''රෙච්'' පත්‍රයෙන් ගත් මෙම වචන, අපේ කැඩෙට්වරුන්ගේ ''පක්ෂපාතිත්වය'' පිළිබඳ නිදර්ශනයක් වශයෙන්, ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද''[136] විසින් ''නෝවය ව්රේමියා''[137] පත්‍රයට හා ''සියෙම්ශිනා''[138] පත්‍රයට නිර්දේශ කරන ලද්දේ හේතු විරහිතව නොවේ. ''නෝවය ව්රේමියා'' කැඩෙට්වරුන්ගේ ''ඇද පළුදු'' දක්වීමට හා ඔවුන්ට පහර ගැසීමට ලැබෙන හැම අවස්ථාවකින්ම ප්‍රයෝජනය ගන්නා පත්‍රයක් වන නමුත්, එහි අංක 13563 හි සඳහන් මෙම ප්‍රකාශය සටහන් කර ගත යුතුය:

''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට දේශපාලන බුද්ධියේ ප්‍රත්‍යක්ෂයක් වන දෙය (එනම්, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය, වෙන් වී ඉවත් වීමේ අයිතිය, පිළිගැනීම) අද කැඩෙට්වරු අතර පවා අසමඨයන් ඇති කිරීමට පටන් ගෙන තිබේ.''

තමන්, ''රුසියානු රාජ්‍යයෙන් ඉවත්වීම සඳහා වූ ජාතීන්ගේ අයිතියට පක්ෂවාදී වීමට කිසි කලෙකත් පොරොන්දු දී නොමැති'' බව කීමෙන්, කැඩෙට්වරු පිළිගෙන ඇත්තේ, ඒකාන්ත වශයෙන්ම, ''නෝවය ව්රේ-

මියා'' ස්ථාවරය මය. කැඩෙට් ජාතිකවාදී-ලිබරල්වාදයේ, පුරිෂ්කෙවිච්ලා සමග ඇති ඔවුන්ගේ නෑ සම්බන්ධකමෙහි සහ එම පසු කී කොටස් කෙරෙහි ඇති ඔවුන්ගේ දේශපාලන, දෘෂ්ටිමය සහ ප්‍රායෝගික බැඳීමේ මූලික කරුණුවලින් එකක් මෙයයි. ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' මෙසේ ලීවේය: ''කැඩෙට් මහත්වරු ඉතිහාසය අධ්‍යයනය කර ඇත. එනිසා සුළුවෙන් කියතොත් ''හිංසන කාරී'' ක්‍රියා ද, ''ඔවුන් අල්ලා ගෙන නවත්වා ගැනීමට''[139] පුරිෂ්කෙවිච්ලා සතු පැරණි අයිතිය ක්‍රියාත්මක කිරීමද නිසා බොහෝ විට ඇති වූ ප්‍රතිඵලය කුමක්ද යනු, ඔවුහු හොඳින් දනිති. පුරිෂ්කෙවිච්ලාගේ සර්වබලධාරීත්වයේ වැඩ වසම් මූලාශ්‍රය හා ස්වභාවය ගැන කැඩෙට්වරු ඉතා හොඳින් දන්නා නමුත්, ඔවුහු, එම පංතිය විසින් ම නිර්මාණය කරන ලද සම්බන්ධකම් සහ දේශ සීමාවන් පදනම් කර ගෙන ඔවුන්ගේ ස්ථාවරයට එළඹෙති. මෙම පංතිය විසින් නිර්මාණය කරන ලද සහ ස්ථාපිත කරන ලද සම්බන්ධකම් වල හා දේශසීමාවල යුරෝපීය නොවන හා යුරෝපීය විරෝධී (ජපානුනට හා චීනුනට අපහාසයක් නොවේ නම් 'ආසියාතික වන' යනුවෙන් කියන්නෙමු), බොහෝ දෑ ඇති බව කැඩෙට්වරු ඉතා හොඳින් දන්නා නමුත්, ඔවුහු ඒවා උපරිම සීමාව වශයෙන් පිළිගනිති.

මේ අනුව බලන කල, තමන්ගේ තත්වයට හානියක් කර ගැනීමට ඇති බියෙන් ඔවුහු පුරිෂ්කෙවිච්ලාට සුදුසු වන ලෙසට වෙනස් වෙති. ඔවුහු පොදු ජන ව්‍යාපාරයෙන්, එනම්, ප්‍රජාතන්ත්‍රවාදයෙන්, පුරිෂ්කෙවිච්ලා ආරක්ෂා කරති. ''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' පෙන්වා දුන් ලෙසට, මෙහි අර්ථය වන්නේ, එම දුර්මතයන්ට විරුද්ධව ක්‍රමානුකූල ලෙස සටන් කරනු වෙනුවට, වැඩවසම් ඉඩම් හිමියන් ගේ සහ අධිපති ජාතියේ, නරකම ජාතිකවාදී දුර්මතයන්ට අනුකූල වනසේ, අයෙක් වෙනස් වන බවයි.''

ඉතිහාසය ගැන හොඳින් දන්නා සහ තමන් ප්‍රජාතන්ත්‍රවාදීන් බව කියාගන්නා පුද්ගලයන් වන කැඩෙට්වරු, අද නැගෙනහිර යුරෝපයේ සහ ආසියාවේ ස්වභාව ලක්ෂණයක් වන, එමෙන්ම, ඒ දෙකම ශිෂ්ටාචාර ධනපති රටවල ආකෘතිය අනුව වෙනස් කිරීමට ප්‍රයත්න දරන, ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය, — එම ව්‍යාපාරය වැඩ වසම් යුගය, එනම් පුරිෂ්කෙවිච්ලාගේ සර්වබලධාරීත්වයේ සහ ධනපති පංතියේ සහ සුළු ධනපති පංතියේ පුළුල් ස්ථරයන්ට ඡන්ද බලය අහිමි කර තැබීමේ යුගය, විසින් ස්ථාපිත කරන ලද දේශ සීමාවන් වෙනස් නොකර එසේම නිසැක වශයෙන්ම තිබෙන්නට හැරිය යුතු බව කීමට ප්‍රයත්නයක් පවා නොදරති.

''ප්‍රොලිතාර්ස්කයා ප්‍රාව්ද'' සහ ''රෙච්'' අතර විවාදයේදී මතු කරන ලද කරුණ, හුදෙක්ම සාහිත්‍යික ප්‍රශ්නයක් නොව, කාලයට අදළ නියම



දේශපාලන ප්‍රශ්නයක් හා සම්බන්ධ වුවක් බව, වෙනත් කරුණුවලින් මෙන්ම, 1914 මාර්තු 23—25 දිනවල පැවති ව්‍යවස්ථානුකූල ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ පසුගිය සම්මේලනයෙන් ද ඔප්පු විය. ''රෙච්'' (අංක 83, 1914 මාර්තු 26) පළ කළ මෙම සම්මේලනයේ නිල වාර්තාවෙහි මෙසේ කියා ඇත:

''ජාතික ප්‍රශ්න ගැන විශේෂයෙන්ම ප්‍රාණවත් සාකච්ඡාවක් ඇති විය. ජාතික ප්‍රශ්නය ප්‍රධාන ප්‍රශ්නයක් බවට පත් වෙමින් තිබෙන බවත්, මේ දක්වා සිදු වූ ආකාරයට වඩා අධිෂ්ඨාන සහගත ලෙස එයට මුහුණ දියයුතු බවත් 'කීව්' නියෝජිතයෝ කීහ. එන්. වී. නෙක්‍රාසව් සහ ඒ. එම්. කොලියුබාකින් ඔවුනට සහයෝගය දැක්වූහ. එසේ වුවද (මෙම ''එසේ වුවද'' යන්න ෂෙද්රින්ගේ ''නමුත්'' යන්න වැනිය — ''නළලට වඩා උසට කන් කිසි කලෙකත් වැඩෙන්නේ නැත, කිසි කලෙකත් නැත!''), 'ජාතික කොටස්වල දේශපාලන ස්වාධිපත්‍යය' පිළිබඳ 'නම්‍යශීලී සූත්‍ර' ගැන ඉතාමත් ප්‍රවේසම් සහිත ලෙස කටයුතු කළ යුතු බවට, වැඩ පිළිවෙළ සහ පසුගිය ආදර්ශයන් යන දෙකම බලකරන්නේ යයි එෆ්. එෆ්. කොකොෂ්කින් කීය.

කැඩෙට්වරුන්ගේ සම්මේලනයේ මෙම තර්කන මාර්ගය, සියළුම මාක්ස්වාදීන්ගේ සහ සියළුම ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අවධානයට ලක්වීමට තරම් වටනේ ය. (ඔහු, ඔහුගේ ප්‍රතිපාක්ෂිකයන්ට අනතුරු හැඟවීමක් වශයෙන්, රාජ්‍යය ''බිඳී විසිරී යාමේ'' අන්තරාය ගැන විශේෂයෙන් අවධාරනය කළ බව ''කීව්ස්කයා මිස්ල්''[140] එකතු කළ බවත්, පෙනෙන ලෙසට, එය තොරතුරු හරි හැටි දැන සිටි බව හා නිසැකවම, කොකොෂ්කින්ගේ අදහස් නිවැරදි ලෙස ඉදිරිපත් කරන බවත්, වරහන් තුළ ලා එකතු කරන්නෙමු).

''රෙච්'' පත්‍රයේ නිල වාර්තාව පරිසමාප්ත දක්ෂතාවයෙන් යුතුව සකස් කරන ලද්දකි. එය සකස් කර ඇත්තේ තිරය අඩුවෙන් ම ඇරෙන ලෙසට සහ හැකි තරම් කරුණු වසා තබනු පිණිසය. එසේ වුවත්, කැඩෙට් සම්මේලනයේ දී ප්‍රධාන වශයෙන් සිදු වූයේ කුමක් ද යන්න මනාව පැහැදිලිය. උක්‍රේනියාවේ පවතින තත්වය දත් ලිබරල් ධනපති නියෝජිතයෝ සහ ''වාම'' කැඩෙට්වරු, නියත වශයෙන් ම ජාතීන්ගේ දේශපාලන ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රශ්නය මතු කළහ. නොඑසේ නම් මෙම ''සූත්‍රය'' ගැන ''ඉතාමත් ප්‍රවේසම් සහිත ලෙස කටයුතු කරන්නැ'' යි යනුවෙන් උනන්දු කිරීමේ අවශ්‍යතාවයක් කොකොෂ්කින් මහතාට නොතිබිණ.

කැඩෙට් සම්මේලනයේ නියෝජිතයන් දැන සිටි කැඩෙට් වැඩ පිළිවෙළෙහි කියා ඇත්තේ, ''සංස්කෘතික'' ස්වාධිපත්‍යය ගැන මිස දේශපාලන ස්වාධිපත්‍යය ගැන නොවේ. එනිසා උක්‍රේනියානු නියෝජිතයින්ට විරුද්ධ

වෙමින් සහ වාම කැඩෙට්වරුන්ට විරුද්ධ වෙමින් වැඩ පිළිවෙළ ආරක්ෂා කිරීමට කොකොෂ්කින් මහතාට අවශ්‍ය විය. ඔහු ආරක්ෂා කළේ ''දේශපාලන'' ස්වාධිපත්‍යයට ප්‍රතිවිරුද්ධ ලෙස ඉදිරිපත් කෙරුනු ''සංස්කෘතික'' ස්වාධිපත්‍යය ය. දේශපාලන ස්වාධිපත්‍යයට විරුද්ධ වීමේදීත්, ''රාජ්‍යය ලිහී විසිරී යාමේ'' අන්තරාය හුවා දක්වීමේදීත්, ''දේශපාලන ස්වාධිපත්‍යය'' පිළිබඳ සූත්‍රය ''නම්‍යශීලී'' සූත්‍රයක් ලෙසට (රෝසා ලුක්සෙම්බුර්ග්ට ගැලපෙන ලෙසට!) විස්තර කිරීමේදීත්, කොකොෂ්කින් මහතා කළේ, ව්‍යවස්ථානුකූල ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වඩාත් වාමාංශික හා වඩාත් ප්‍රජාතන්ත්‍රවාදී කොටස් වලට විරුද්ධව සහ උක්‍රේනියානු ධනපති පංතියට විරුද්ධව, මහ රුසියානු ජාතික ලිබරල්වාදය ආරක්ෂා කිරීමය.

''රෙච්'' වාර්තාවේ ඇතුලත් ''එසේ වුවද'' යන කුඩා භයානක වචන අනුව පෙනෙන ලෙසට, කැඩෙට් සම්මේලනයේදී කොකොෂ්කින් මහතා ජයගත්තේ ය. කැඩෙට්වරුන් අතර මහ රුසියානු ජාතික ලිබරල්වාදය ජයග්‍රහණය කර තිබේ. රුසියාවේ මාක්ස්වාදීන් අතර සිටින, ''ජාතික කොටස්වල දේශපාලන ස්වාධිපත්‍යය පිළිබඳ නම්‍යශීලී සූත්‍ර'' ගැන, කැඩෙට්වරුන් මෙන් බියවීමට පටන් ගෙන සිටින, නොමග ගිය පුද්ගලයන්ගේ සිත් පිරිසිදු වීමට, මෙම ජයග්‍රහණය උදව් නොවනු ඇද්ද?

''එසේ වුවද'' කොකොෂ්කින්ගේ චින්තන පිළිවෙළෙහි හරය ගැන විමසා බලමු. දේශපාලන ස්වාධිපත්‍යය යන්නෙන් අදහස් වන්නේ වෙන්වී ඉවත් වීමේ සහ ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවීමේ අයිතිය මිස, අන් කිසිවක් නොවන බව, කොකොෂ්කින් මහතාට වැටහුනු නියාව ''පසුගිය ආදර්ශයන්'' ගැන (එනම්, මහ රුසියානු ධනපති පංතිය එහි ජාතික වරප්‍රසාද සම්බන්ධයෙන් මහත්සේ බිය ගෙන, ස්වකීය බිය මාර්ගයෙන් කැඩෙට් පක්ෂය තැතිගැන්වූ 1905 අත්දැකීම් ගැන) සඳහන් කිරීමෙන් හා ''රාජ්‍යය බිඳී විසිරී යාමේ'' අන්තරාය හුවා දක්වීමෙන්, හේ පෙන්නුම් කළේ ය. පැන නගින ප්‍රශ්නය මෙයයි: පොදු ප්‍රජාතන්ත්‍රය සහ විශේෂයෙන් ම නිර්ධන පංති අරගලය ගැන සලකන කල කොකොෂ්කින් මහතාගේ බිය කෙසේ නම් සැලකිය යුතුද?

වෙන් වී ඉවත් වීමේ අයිතිය පිළිගැනීමෙන් ''රාජ්‍යය බිඳී විසිරී යාමේ'' අන්තරාය වැඩි වන්නේ යයි විශ්වාස කරන ලෙස, කොකොෂ්කින් මහතා අපට කියයි. ''ඔවුන් අල්වා නවත්වාගනු'' යන්න තම ආදර්ශ වාක්‍ය කොටගත් කොස්තාපල් මිම්රෙට්සොව්ගේ ද අදහස මෙය විය. පොදු ප්‍රජාතන්ත්‍රවාදයේ අදහස අනුව සත්‍යය එහි අනිත් පැත්තය. ඒ අනුව, වෙන්වී ඉවත් වීමේ අයිතිය පිළිගැනීමෙන් ''රාජ්‍ය ලිහී විසිරී යාමේ'' අන්තරාය අඩු වන්නේය.



කොකොෂ්කින් මහතා තර්ක කරන්නේත් ජාතිකවාදීන් තර්ක කරන ලෙසට ය. ඔවුන්ගේ පසුගිය සම්මේලනයේදී ඔවුහු උක්‍රේනියානු ''මසෙපින් වරුන්ට'' පහර දුන්හ. ඕස්ත්‍රියානු උක්‍රයිනෝප්‍රේමය නිසා ඕස්ත්‍රියාව සමග ඇති උක්‍රේන සම්බන්ධකම් ශක්තිමත් වන හෙයින්, උක්‍රේනියානු ව්‍යාපාරය හේතු කොට ගෙන, උක්‍රේනියාව හා රුසියාව අතර සම්බන්ධකම් දුර්වල වීමේ තර්ජනයක් උද්ගත වන්නේ යයි, සවෙන්කෝ මහතා සහ සමාගම වේගයෙන් ප්‍රකාශ කළේ ය! ඕස්ත්‍රියාව විසින් උපයෝගී කර ගනු ලබන්නේ යයි සවෙන්කෝ මහතා චෝදනා කරන, එම ක්‍රමයම අනුගමනය කිරීමෙන්, එනම්, උක්‍රේනියානු ජාතිකයින්ට ඔවුන්ගේ ම භාෂාව භාවිතා කිරීමේ නිදහසක්, ස්වයං පාලනයක් සහ ස්වතන්ත්‍ර මන්ත්‍රණ සභාවකුත් දීමෙන්, උක්‍රේනියානුන් සමග සම්බන්ධකම් ''ශක්තිමත් කර ගැනීමට'' රුසියාවට උත්සාහ කළ නොහැක්කේ මන්ද යන්න පැහැදිලි කර නොමැත.

සවෙන්කෝලාගේ හා කොකොෂ්කින්ලාගේ තර්ක හරියටම එකාකාරය. හුදෙක්ම තර්කානුකූල භාවය ගැන බලන කල ඒවා එකසේම විකාර සහ මෝඩ ස්වභාවයක් පෙන්නුම් කරයි. කිසියම් රටක සිටින උක්‍රේනියානු ජාතික කොටස් භුක්ති විඳින නිදහස වැඩි වූ තරමට, එම රට සමග එහි සම්බන්ධකම් වැඩි වන බව පැහැදිලි නොවේද? ප්‍රජාතන්ත්‍රවාදයට අදළ තර්කමූලයන් සියල්ලම සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප නොකර, මෙම සත්‍යයට අභියෝග කළ නොහැකි බව අයෙක් පිළිගනු ඇත. ජාතියක් ලෙසට, වෙන්වී ඉවත් වීමේ නිදහසට, ස්වාධීන ජාතික රාජ්‍යයක් පිහිටුවීමට ලැබෙන නිදහසට වැඩි තවත් නිදහසක් තිබිය හැකිද?

ලිබරල්වාදීන් (සහ ඔවුන් කියන දෙය දෝංකාර දෙවීමට තරම් නොමග ගියවුන්) එතරම් පටලවාගත් මෙම ප්‍රශ්නය පැහැදිලි කිරීමට සරල නිදර්ශනයක් ගැන සඳහන් කරන්නෙමු. දික්කසාද ප්‍රශ්නය ගනිමු. මධ්‍යගත ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යය, එහි සංයුක්ත කොටස්වලට ස්වතන්ත්‍රය ප්‍රදනය කරමින්, දික්කසාද නීති පැනවීම ඇතුලත්ව, ඉතාමත් වැදගත් ව්‍යවස්ථා සම්පාදන අංශයන් මධ්‍යම පාර්ලිමේන්තුවේ අධිකරණ වසමයෙහි රඳවා ගත යුතු යයි රෝසා ලුක්සෙම්බුර්ග් ඇගේ ලිපියෙහි කියන්නීය. දික්කසාදවලට ඉඩ දීමේ බලය ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයේ මධ්‍යම අධිකාරිය වෙත රඳවාගැනීම සම්බන්ධයෙන් දක්වා ඇති සැලකිල්ල, පහසුවෙන් ම වටහා ගත හැකිය. ප්‍රතිගාමීහු දික්කසාද වීමේ අයිතියට විරුද්ධයහ. එය ගැන ''ප්‍රවේසම් සහිත ලෙස කටයුතු කළ යුතු'' යයි කියන අතර ''පවුල බිඳී විසිරී යාම'' එයින් අදහස් වන බව ඔවුහු මහ හඬින් ප්‍රකාශ කරති. එසේ වුවද ප්‍රතිගාමීන් කුහකයන් වන බවත්, ඔවුන් ඇත්ත වශයෙන් ම පොලීසියේ සහ නිලධාරී පෙළැන්තියේ සර්වබලධාරීත්වය මෙන්ම, එක

පාර්ශවයක වරප්‍රසාද ද, ස්ත්‍රීන් ඉතාමත් දරුණු ආකාරයේ පීඩනයට පත් කිරීමද, ආරක්ෂා කරන බවත් ප්‍රජාතන්ත්‍රවාදීහු විශ්වාස කරති. දික්කසාද වීමේ නිදහස දීමෙන් ඇත්තෙන්ම පවුල් සම්බන්ධකම් ''බිඳී විසිරී යාම'' සිදු නොවන බවත්, ඊට ප්‍රතිකූල වශයෙන් එම සම්බන්ධකම්, ශීලාචාර සමාජයේ පැවතිය හැකි හා කල් පවත්නා එකම පදනම වන ප්‍රජාතන්ත්‍රවාදී පදනමක් මත ශක්තිමත් කෙරෙන බවත්, ඔවුහු විශ්වාස කරති.

ස්වාධිපත්‍ය නිදහස සහ වෙන් වී ඉවත් වීමේ නිදහස සඳහා සහයෝගය දක්වන අය, වෙන්වීම්වාදයට අනුබල දෙන බවක් කියමින්, චෝදනා කිරීම යනු, දික්කසාද වීමේ නිදහස දිය යුතුයයි කියන අය පවුල් සම්බන්ධකම් විනාශ කිරීමට අනුබල දෙතියි චෝදනා කිරීම මෙන්ම, අඥාන හා කුහක වේ. ධනපති විවාහයට පදනම වූ වරප්‍රසාදයේ සහ දූෂණයේ ආරක්ෂකයන්, දික්කසාද වීමේ නිදහසට විරුද්ධ වන්නා සේම, ධනපති රාජ්‍යයේ ස්වාධිපත්‍ය අයිතිය, එනම්, වෙන් වී ඉවත්වීම සඳහා ජාතීන්ට ඇති අයිතිය, ප්‍රතික්ෂේප කිරීමෙහි අර්ථය වන්නේ, අධිපති ජාතියේ වරප්‍රසාද ආරක්ෂා කිරීම සහ ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමවලට හානි පැමිණෙන සේ පොලිස් පාලන ක්‍රම අනුගමනය කිරීම මිස, අන් කිසිවක් නොවේ.

ධනපති සමාජයේ පවතින සියළුම සම්බන්ධකම් වලින් උද්ගත වන, දේශපාලන රැවටිලි අනුව, සමහරවිට පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන් හා පුවත්පත් කලා වේදීන් අතර, එක් හෝ තවත් ජාතියක් වෙන් වී ඉවත් වීම පිළිබඳව අර්ථ විරහිත හා විකට ස්වභාවයක් පවා ගන්නා නන් දෙඩවිලි ඇති වන්නේය. නමුත් එවැනි කථා වලින් තමන් බියපත් වීමට (නැතහොත් බියපත් වූ බවක් හැඟවීමට) ඉඩ දීමෙහි සමත් වන්නේ ප්‍රතිගාමීන් පමණකි. දේශපාලනඥයන්ගේ දෙඩවිලි සහ පොදු ජනතාවන්ගේ තීරණ අතර ''අති විශාල දුරක්''[141] ඇති බව, ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්ති ආරක්ෂා කරන අය, එනම්, රජයේ කටයුතු පොදු ජනතාවගේ තීරණ අනුව කළ යුතු යයි කියන අය, හොඳින් දනිති. භූමි ශාස්ත්‍රීය හා ආර්ථික සම්බන්ධකම් වල වටිනාකමත්, ලොකු වෙළඳ පොළක් හා ලොකු රාජ්‍යයක් නිසා ලැබෙන වාසියත්, ගැන පොදු ජනතාව ඔවුන්ගේ සැමදා අත්දැකීමෙන් දන්නේය. එනිසා ඔවුන් වෙන් වී ඉවත් වීමේ පියවරෙහි පිහිට සොයන්නේ, ජාතික පීඩනය සහ ජාතික ඝට්ටනය නිසා ඒකාබද්ධ ජීවිතය සම්පූර්ණයෙන්ම ඉවසුම් නොදෙන සහ සැම, සියළු ආර්ථික සම්භාෂණයට බාධක වන, තත්වයක් ඇති වූ විට පමණකි. එවැනි අවස්ථාවක, ධනපති සංවර්ධනයේ සහ පංති අරගලයේ අවශ්‍යතාවයන් වඩාත් හොඳින් ඉටුවන්නේ වෙන් වී ඉවත් වීමෙනි.

මේ අනුව බලන කල කොකොෂ්කින් මහතාගේ තර්ක වෙත අප මොන පැත්තෙන් ළඟා වුනත්, ඒවා ඉතාමත්ම මෝඩ බවත්, ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තියේ විකාරයක් බවත් ඔප්පු වේ. නමුත් මෙම තර්කවල සුළු තාර්කික භාවයක්ද ඇත. එය නම් මහ රුසියානු ධනපති පංතියේ පංති අවශ්‍යතාවයන්ගේ තාර්කික භාවයයි ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සමාජිකයන් බොහෝ දෙනෙක් මෙන් කොකොෂ්කින් මහතාද, ධනපති පංතියේ සල්ලි මළුවල අතවැස්සෙකි. ඔහු සාමාන්‍ය වශයෙන් ධනපති පංතියේ ද, විශේෂයෙන් ම රාජ්‍යයේ ද වරප්‍රසාද ආරක්ෂා කරන්නේ ය. ඒවා ආරක්ෂා කිරීමේදී, ඔහු පුරිෂ්කෙවිච් සමග අතිනත් ගෙන, උරෙනුර ගැටී කටයුතු කරයි. ඔවුන් අතර ඇති එකම වෙනස මෙයයි. පුරිෂ්කේවිච් වැඩ වසම් ක්‍රමය නැමති මුගුර කෙරෙහි වැඩි විශ්වාසයක් තබන අතර, මෙම මුගුර 1905 දී දරුණු ලෙස අබලන් වූ බව වටහා ගත් කොකොෂ්කින් සහ සමාගම ''රාජ්‍ය බිඳී විසිරී යාමේ'' අවතාරය පෙන්වමින් සුළු ධනපති පංතිය සහ පොදු ජනතාව බිය ගැන්වීම සහ ''ජනතා නිදහස'' ඓතිහාසික සම්ප්‍රදාය සමග කලවම් කිරීම, යනාදී බූ වදන් මාලා මගින්, ජනතාව මුළා කර, පොදු ජනයා රැවටීමේ ධනපති ක්‍රමය කෙරෙහි වැඩි විශ්වාසයක් තබන්නේය.

දේශපාලන ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රතිපත්තියට ලිබරල්වාදීන් දක්වන විරුද්ධත්වයෙහි තිබිය හැක්කේ, එකම එක සැබෑ පංති අර්ථයක් පමණකි. එය නම් ජාතික-ලිබරල්වාදයයි, එනම්, මහ රුසියානු ධනපති පංතියේ රාජ්‍ය වරප්‍රසාද ආරක්ෂා කිරීම ය. එනිසා, ජූනි තුන්වැනි දින ආණ්ඩුව යටතේ, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතියට මෙකල විරුද්ධවන, රුසියාවේ මාක්ස්වාදීන් අතර සිටින අවස්ථාවාදීහු — ලික්විඩේටර්වාදී සෙම්කොව්ස්කි, බුන්ද්වාදී ලීබ්මන්, උක්‍රේනියානු සුළු ධනපති යුර්කෙවිච් — සැබැවින්ම ජාතික-ලිබරල්වාදීන්ගේ අඩි පාරේ ගමන් කරමින්, ජාතික-ලිබරල්වාදී අදහස්වලින් කම්කරු පංතිය දූෂණය කරති.

කම්කරු පංතියේ සහ ධනපති ක්‍රමයට විරුද්ධව එය කරන අරගලයේ යහපත පිණිස, සියළුම ජාතීන්ගේ කම්කරුවන්ගේ සම්පූර්ණ සහයෝගය සහ සමීපතම සමගිය අවශ්‍ය වන්නේ ය. ඒ සඳහා සැම ජාතියකම ධනපති පංතියේ ජාතික ප්‍රතිපත්තියට ප්‍රතිරෝධය පෑම අවශ්‍ය වන්නේය. එනිසා, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය, එනම්, වෙන්වී ඉවත් වීම සඳහා පීඩිත ජනතාවන්ගේ අයිතිය ප්‍රතික්ෂේප කරත් නම්, නැතහොත් පීඩිත ජාතීන්ගේ ධනපති පංතිවල සියළුම ඉල්ලීම් වලට සහයෝගය දක්වත් නම්, ඔවුහු නිර්ධන පංති ප්‍රතිපත්තියෙන් ඉවත යමින්, කම්කරුවන් ධනපති පංතියේ ප්‍රතිපත්තිවලට යටත් කරති. තමා සූරා කනු ලබන්නේ මහ රුසියානු ධනපති පංතිය විසින්ද, නැතහොත් රුසියානු නොවන ධනපති පංතිය විසින්ද, පෝලන්ත ධනපති පංතිය විසින්ද, නැතහොත් යුදෙව් ධනපති පංතිය විසින්ද යනාදී ප්‍රශ්න, කුලිය සඳහා

වැඩ කරන කම්කරුවාට වැදගත් නොවේ. එසේම, මහ රුසියානු ධනපතියන්ගේ රාජ්‍ය වරප්‍රසාද සහ උක්‍රේනියානු ධනපතියන් රාජ්‍ය වරප්‍රසාද ලබාගත් පසු මිහි පිට ඉදි කරන්නට පොරොන්දු දෙන දෙව්ලොවද, ස්වකීය පංති උවමනාවන් අවබෝධ කරගත්, කුලිය සඳහා වැඩ කරන, කම්කරුවා තුළ උනන්දුවක් ඇති කරන්නේ නැත. කෙසේ හෝ වේවා, මිශ්‍ර ජනගහනයක් ඇති ඒකස්ථ රාජ්‍යයන් තුළ හා වෙන් වෙන් වූ ජාතික රාජ්‍යයන් තුළද, ධනපති ක්‍රමය සංවර්ධනය වෙමින් පවතී; එය තවදුරටත් සංවර්ධනය වෙනු ඇත.

ඒ කුමණ තත්වය යටතේ වුවත්, කුලියට වැඩ කරන කම්කරුවා සූරා කෑමට යටත් වනු ඇත. සූරා කෑමට විරුද්ධව සාර්ථක ලෙස අරගල කරනු හැකිවීම සඳහා, නිර්ධන පංතිය ජාතිකවාදයෙන් සම්පූර්ණයෙන්ම නිදහස් ව සිටීමත්, විවිධ ජාතීන්ගේ ධනපති පංති අතර අධිපතිකම සඳහා යයි කිව හැකි ලෙසට කෙරෙන සටනෙහිදී එය සම්පූර්ණයෙන්ම මධ්‍යස්ථව සිටීමත්, අවශ්‍ය වන්නේ ය. කිසි යම් එක් ජාතියක නිර්ධන පංතිය ''තමන්ගේ ම'' ජාතික ධනපති පංතියේ වරප්‍රසාදයන්ට යම්තමින් හෝ සහයෝගයක් දක්වුවහොත්, එනිසා වෙනත් ජාතියක නිර්ධන පංතිය තුළ, අනිවාරණීය වශයෙන් ම අවිශ්වාසය ඇවිස්සෙන්නේය. එනිසා කම්කරුවන්ගේ ජාත්‍යන්තර පංති සමගිය දුර්වල වී ඔවුන් භේද වන්නේය. එය ධනපති පංතියේ මහත් සතුටට හේතුවක් වනු ඇත. ස්වාධිපත්‍ය සඳහා, නැතහොත් වෙන්වී ඉවත් වීම සඳහා, අයිතිය ප්‍රතික්ෂේප කිරීමෙන් ව්‍යවහාරික වශයෙන් සිදු වන්නේ අධිපති ජාතියේ වරප්‍රසාද වලට සහයෝගය දක්වීමකි.

අපි නෝර්වේ රාජ්‍යය ස්වීඩනයෙන් වෙන් වී ඉවත් වීම පිළිබඳ නියත ප්‍රශ්නය ගැන සලකා බලන්නෙමු නම්, මෙය මීටත් වඩා හොඳින් සනාථ වනු දක්ක හැකිය.

## 6. නෝර්වේ ස්වීඩනයෙන් වෙන්වී ඉවත්වීම

රෝසා ලුක්සෙම්බුර්ග් ද හරියටම මෙම නිදර්ශනය ගෙන හැර දක්වමින්, ඒ ගැන මෙසේ සාකච්ඡා කරන්නීය:

''රාජ්‍ය ඒකාබද්ධකාරී ඉතිහාසයේ අළුත්ම සිදුවීම වන නෝර්වේ රාජ්‍යය ස්වීඩනයෙන් වෙන් වී ඉවත් වීම සිදු වූ අවස්ථාවේදී, එය වෙන්වී ඉවත් වීම කරා එල්ලවුනු ප්‍රවණතාවයේ ශක්තිය හා ප්‍රගතිශීලී භාවය පෙන්නුම් කරන ප්‍රසන්න සලකුණක් ලෙසට පෝලන්ත සමාජ දේශප්‍රෙමී (ක්‍රාකොව් ''නප්ෂුඩ්'' බලන්න) පුවත් විසින් ඉක්මන්කාරීව තරකොට ගන්නා ලද නමුත්, පෙඩරල් ඒකාබද්ධ වීම හෝ ඊට සහභාවී වෙන් වීම, කිසි ලෙසකින්වත්, ප්‍රගතියේ හෝ ප්‍රජාතන්ත්‍රවාදයේ හෝ ප්‍රකාශනයක් නොවන බව එම ඉවත් වීමෙන් එක් වරම හා සිත්කාවදින ලෙස ස්ඵුට විය. ස්වීඩන රාජයා බලයෙන් පහ කර, නෝර්වේ රාජ්‍යයෙන් ඉවත් වන සේ ඔහුට බල කිරීම අර්ථය කොටගත්, ඊනියා නෝර්වීජියානු ''විප්ලවයෙන් පසුව,'' නෝර්වීජියන් වරු, සමූහාණ්ඩුවක් පිහිටුවීම සඳහා වූ යෝජනාව ජාතික ජනමත විමසීමක් මගින් විධිමත් ලෙස ප්‍රතික්ෂේප කරමින්, සන්සුන් ලෙස, වෙනත් රජකෙනෙක් තෝරා ගැනීමට කටයුතු කළහ. සියළුම ජාතික ව්‍යාපාර හා ස්වාධීනත්වය වැනි පෙනුමක් ඇති සියල්ල මතු පිටින් අගය කරන අය ''විප්ලවයක්'' යනුවෙන් හැඳින්වූ දෙය, හුදෙක්ම, ගොවි ජන සහ සුළු ධනපති පංතික විශේෂත්වතාවාදයේ, එමෙන්ම, ස්වීඩන ඒකාධිපත්‍යය විසින් තමන් මත පටවන ලද රජු වෙනුවට, තමන්ගේ මුදලට 'තමන්ගේම' රජ කෙනෙක් පත්කර ගැනීමට ඇති අභිලාෂයේ එක් ස්වරූපයක් පමණක් විය. එනිසා, එය විප්ලවය හා සමග කිසිම සම්බන්ධයක් නොමැති ව්‍යාපාරයක් විය. ඒ අතරම, ස්වීඩනය සහ නෝර්වේ අතර සංගමය විසුරුවා හැරීමෙන්, නැවත වරක් පෙනී ගියේ, මෙම අවස්ථාවේදී ද, ඒ දක්වා ම පැවති පෙඩරල් ඒකාබද්ධතාවය, පිරිසිදුම වංශික අවශ්‍යතාවයන් නියෝජනය කරන්නක් බව හා එනිසා එය රාජාණ්ඩුවාදයේ හා ප්‍රතිගාමීත්වයේ එක් ආකෘතියක් පමණක් බවයි'' (''ප්ෂෙග්ලොන්ඩ්'').

මේ සම්බන්ධයෙන් රෝසා ලුක්සෙම්බුර්ග් කියා ඇති සියල්ලම, පදගත අර්ථයෙන් මෙහි ඇතුලත්ය! ඇගේ තත්වයෙහි අසතුටුදායක ස්වභාවය මීට වඩා කැපී පෙනෙන සේ අනාවරණය කිරීම ඇයට දුෂ්කර වන්නට ඇතැයි යන්න පිළිගත යුතුව තිබේ.

ප්‍රශ්නය වූයේ සහ වන්නේ, මිශ්‍ර ජාතික රාජ්‍යයක සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට, ස්වාධිපත්‍යය සඳහා, නැතහොත් වෙන්වී ඉවත්වීම සඳහා අයිතිය පිළිගන්නා වැඩ පිළිවෙළක් අවශ්‍ය ද? යන්න ය.

මෙම කාරණය හා සම්බන්ධයෙන්, රෝසා ලුක්සෙම්බුර්ග් ගෙන හැර පාන නෝර්වේ ගැන නිදර්ශනය අපට කියන්නේ කුමක්ද?

කර්තෘවරිය ඇඹරෙන හා හැරෙන නමුත්, ඇගේ බුද්ධිය මෙහෙයවන හා ''නප්ෂුඩ්''[142] පත්‍රයට බැන වදින නමුත්, ඇ ප්‍රශ්නයට පිළිතුරු නොදෙන්නීය!! සාකච්ඡාවට භාජනය වී තිබෙන කරුණ ගැන එක වචනයකුදු නොකියා මඟ හැරීමට කතු වරිය මෙලොව ඇති සියළුම දේ ගැන කථා කරන්නීය!

නෝර්වීජියානු සුළු ධනපති පංතිය, තමන්ගේ මුදලට තමන්ගේම රජකෙනෙක් පත් කර ගැනීමට කැමැත්ත දක්වීමෙන් හා සමූහාණ්ඩුවක් පිහිටුවීම සඳහා යෝජනාව ජාතික ජනමත විමසීමක් මගින් ප්‍රතික්ෂේප කිරීමෙන්, ඉතාමත් නරක අමන ගතිගුණ පෑ බවට සැකයක් නැත. මෙය

හැදින ගැනීමට අසමත් වීමෙන්, ''නප්ෂුඩ්'' ද ඊටම සමාන අමන ගතිගුණයක් පෑ බව නිසැක ය.

නමුත් මේ සියල්ල කාරණයට අදාළ වන්නේ කෙසේ ද?

සාකච්ඡාවට භාජනය වූ ප්‍රශ්නය වූයේ, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය සහ මෙම අයිතිය කෙරෙහි සමාජවාදී නිර්ධන පංතිය දැක්විය යුතු ආකල්පය ය! එසේ නම් වැල් වටාරම් දෙඩීම වෙනුවට රෝසා ලුක්සෙම්බුර්ග් මෙම ප්‍රශ්නයට පිළිතුරු නොදෙන්නේ මන් ද?

බළලාට වඩා ශක්තිමත් සතෙක් මීයා නොදන්නේ යයි කියමනක් ඇත. රෝසා ලුක්සෙම්බුර්ග් දන්නා ඉතාමත් ශක්තිමත් සතා ''ෆ්‍රාකි'' බව පෙනේ.''ෆ්‍රාකි'' යනු ''පෝලන්ත සමාජවාදී පක්ෂය''[143] ද,එහි ඊනියා විප්ලවවාදී කොටසද, එම ''කොටසේ'' අදහස් පිළිගන්නා ''නප්ෂුඩ්'' නැමති ක්‍රාකොව් පුවත් පතද, හැඳින්වීමට යොදන ජනප්‍රිය පාඨය ය. රෝසා ලුක්සෙම්බුර්ග් එම ''කොටසේ'' ජාතිකවාදයට විරුද්ධව කරන ඇගේ සටනින් කොතරම් අන්ධ වී තිබේ ද යත්, ''නප්ෂුඩ්'' හැරෙන්නට අන් සියල්ලම ඇයට නොපෙනී යන්නේය.

''නප්ෂුඩ්'' ''ඔව්'' කියතොත් වහාම ''නැත'' කීම තම යුතු කම යයි රෝසා ලුක්සෙම්බුර්ග් කල්පනා කරන්නීය. එසේ කිරීමෙන් හෙළිදරව් වන්නේ ඇ ''නප්ෂුඩ්'' පත්‍රයෙන් ස්වාධීන තත්වයක් දරන බවක් නොව, ඊට ප්‍රතිකූල වශයෙන් ඇ හාස්‍ය ජනක ලෙස ''ෆ්‍රාකි'' කෙරෙන් යැපෙන බව හා ක්‍රාකොව් තුඹසට වඩා ගැඹුරු ලෙස හා පුළුල් ලෙස කරුණු අවබෝධ කර ගැනීමට ඇය අසමත් වන බවය යන්න, සිතා බැලීමටවත් ඇය ප්‍රමාද නොවන්නීය. ''නප්ෂුඩ්'' නම් ඇත්ත වශයෙන්ම කාලකණ්ණි, කිසිසේත් මාක්ස්වාදී නොවන පත්‍රයකි. නමුත් නෝර්වේ පිළිබඳ නිදර්ශනය විමසා බැලීම සඳහා තෝරාගත් පසු, ඒ ගැන නිසි ලෙස විශ්ලේෂණය කර බැලීමට අපට එයින් බාධාවක් සිදු නොවිය යුතුය.

මෙම නිදර්ශනය මාක්ස්වාදී ශෛලියකින් විශ්ලේෂණය කිරීම පිණිස අප සලකා බැලිය යුත්තේ අතිශයන් භයානක ''ෆ්‍රාකි'' පක්ෂ දුර්ගුණයන් ගැන නොව, ප්‍රථමයෙන් ම නෝර්වය ස්වීඩනයෙන් වෙන් වී ඉවත් වීමේ නියත ඓතිහාසික අංග ලක්ෂණ ගැන හා දෙවැනිව මෙම වෙන්වී ඉවත් වීම හා සම්බන්ධයෙන් දෙරටෙහිම නිර්ධන පංතිය හමුවේ පැන නගින කර්තව්‍යයන් ගැන ය.

නෝර්වය හා ස්වීඩනය අතර භූමි ශාස්ත්‍රීය, ආර්ථික හා භාෂා බැඳීම් මහ රුසියානුවන් හා වෙනත් ස්ලාව් ජාතීන් බොහොමයක් අතර ඇති සම්බන්ධකම් තරම් ම ආසන්නය. නමුත් නෝර්වය හා ස්වීඩනය අතර ඒකාබද්ධවීම ස්වේච්ඡාවෙන් ඇති කරන ලද්දක් නොවීය. එනිසා ''පෙඩරල් ඒකාබද්ධවීම'' පිළිබඳ ප්‍රශ්නය ඇද ගැනීමෙන් රෝසා ලුක්සෙම්-



බුර්ග් එල්ලයක් නොමැතිව කථා කිරීමෙහි යෙදුනේ ඇ කිව යුත්තේ කුමක්දැයි යන්න නොදත් නිසාය.නෝර්වය ස්වීඩනයට පවරා දෙන ලද්දේ නැපෝලියන් යුද්ධ අතර තුරදී, රජවරුන් විසින්, නෝර්වීජියන් ජනතාවගේ කැමැත්තට පටහැණිව ය. එපමණක් නොව නෝර්වය යටත් කර ගැනීම සඳහා, ස්වීඩනවරුන්ට නෝර්වයට යුද්ධ හමුද ගෙන ඒමට සිදුවිය.

නෝර්වය ඉතා පුළුල් ස්වතන්ත්‍රයක් භුක්ති විඳි (ඇයට ඇගේම පාර්ලිමේන්තුවක් ආදිය තිබුණේය) නමුත් ඒකාබද්ධ වීමෙන් පසු දශක ගණනාවක් යන තෙක් නෝර්වය සහ ස්වීඩනය අතර නිරන්තර ගැටුම් ඇති වූ අතර, ස්වීඩන ඒකාධිපත්‍යයේ විය ගස ඉවත දැමීමට නෝර්වීජියන්වරු බලවත් සේ ප්‍රයත්න දැරූහ. අවසානයේදී 1905 අගෝස්තුවේදී ඔවුන්ගේ ප්‍රයත්නය සාර්ථක විය: ස්වීඩන රජු තවදුරටත් නෝර්වේ රජු නොවන බව නෝර්වේ පාර්ලිමේන්තුව තීරණය කළේය. අනතුරුව නෝර්වීජියානු ජනතාව අතර පවත්වන ලද ජනමත විමසීමේදී, අති බහුතර සංඛ්‍යාවක් (විරුද්ධ වූ සිය ගණනක් හා සමග සසඳන කල 2,00,000 ක් පමණ දෙනා) ස්වීඩනයෙන් වෙන්වීමට පක්ෂව ඡන්දය දුන්හ. කෙටි අවිනිශ්චිත කාල සීමාවකින් පසුව, වෙන්වීම යථාභූත කරුණක් ලෙස පිළිගෙන ඉවසා සිටීමට, ස්වීඩනවරු කැමති වූහ.



වර්තමාන ආර්ථික හා දේශපාලන සම්බන්ධකම් යටතේ, ජාතීන් වෙන්වී ඉවත්වීමේ අවස්ථා ප්‍රායෝගික වන්නේ හා ඇත්ත වශයෙන් ඇති වන්නේ, කුමණ කරුණු මතද යනුත්, දේශපාලන නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය ඇති තත්වයන් යටතේ සමහර විට ඉවත්වී වෙන්වීම සිදුවීමේ ආකෘතිය කෙබඳුද යනුත්, මෙම නිදර්ශනයෙන් පෙන්නුම් කෙරේ.

ජාතීන් වෙන්වී ඉවත් වීම සම්බන්ධයෙන් ඇති විය හැකි ගැටුම්, ''රුසියානු ක්‍රමයෙන්'' නොව, ඒවා 1905 දී නෝර්වය හා ස්වීඩනය අතර බේරුම් කරගන්නා ලද පරිදි බේරුම් කිරීම සඳහා, ක්‍රමානුකූලව ප්‍රචාරක කටයුතු කිරීම සහ පසු බිම සකස් කිරීම, පංති විඥානය ඇති කම්කරුවන්ගේ ඒකාන්ත යුතු කම වන බව, මෙම නිදර්ශනයෙන් මුළුමනින්ම මෙන් ඔප්පු වන්නේය. දේශපාලන නිදහස හා ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ප්‍රශ්න ගැන සැලකිල්ලක් දක්වන කිසිම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, එම කරුණ ප්‍රතික්ෂේප නොකරනු ඇත. එය ප්‍රතික්ෂේප කළ හැක්කේ, දේශපාලන නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය හා සම්බන්ධ ප්‍රශ්න ගැන නොසැලකිල්ලක් දැක්වීම දේශනා කරන (එසේ නම් ස්වාභාවික වශයෙන්ම හේ තවදුරටත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් නොවේ), අයෙකුට පමණකි. ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය ගැන වැඩ පිළිවෙළෙහි ඇතුලත් ඉල්ලීමෙන් අදහස් කෙරෙන්නේද, ඉදුරා ම මෙය ය. නමුත්, රෝසා ලුක්සෙම්බුර්ග් උත්සාහ කළේ, නෝර්වීජියන් අමනයන්ගේ සහ ක්‍රාකොව්

“නජ්ෂුඩ්” පත්‍රයෙහි අමනවාදයට වේගවත් ලෙස පහර දීමෙන්, ඇගේ න්‍යායට නොගැලපෙන දෙයක් මඟ හැරීමට ය. එසේ කියන්නේ, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය “මනෝරාජ්‍යයක්” යයිද, “රත්රන් පිඟන් වලින් ආහාර බුදීමට” අයිතිය වැනි යයිද, යනාදී වශයෙන් වූ ඇගේ වදන්, මෙම ඓතිහාසික සත්‍යයෙන් සම්පූර්ණයෙන්ම බිඳ වැටෙන බව, ඇය හොදින් ම දන සිටි හෙයිනි. එවැනි වදන් වලින් ප්‍රකාශ වන්නේ, නැගෙනහිර යුරෝපයේ ජාතික කොටස් අතර දනට පවතින බලවේග පෙළගැස්ම වෙනස් කළ නොහැකිය යන, තුටු පහටු සහ අවස්ථාවාදී විශ්වාසය ය.

තවද, වෙනත් සෑම ප්‍රශ්නයකදී මෙන්ම, ස්වාධිපත්‍යය සම්බන්ධයෙන් ප්‍රශ්නවල දී ද, අප ප්‍රථමයෙන් ම හා ප්‍රධාන වශයෙන් ම උනන්දුවක් දක්වන්නේ, නියමිත කිසියම් ජාතියක නිර්ධන පංතියේ ස්වාධිපත්‍යය ගැන ය. තමා ම තෝරා ගත් නෝර්වය පිළිබඳ නිදර්ශනය පදනම් කර ගෙන එම ප්‍රශ්නය විශ්ලේෂණය කිරීම, ඇගේ “න්‍යායට” භයානක වන බව අවබෝධ වූ හෙයින්, රෝසා ලුක්සෙම්බුර්ග් නිහතමානී ලෙස, එම ප්‍රශ්නය ද මඟ හැරියාය.

වෙන් වී ඉවත් වීම හා සම්බන්ධ සට්ටනයේදී නෝර්වීජියානු සහ ස්වීඩන නිර්ධන පංතිය ගත්, සහ ඇත්ත වශයෙන් ම එයට ගන්නට සිදු වූ ප්‍රතිෂ්ඨාව කුමක් ද? නෝර්වය වෙන්වී ඉවත් වූ පසු, එහි පංති විඥානය ඇති කම්කරුවන් ස්වාභාවික වශයෙන්ම සමූහාණ්ඩුවක් සඳහා ඡන්දය දෙන්නට ඇත*. නමුත් සමාජවාදීන් සමහර දෙනෙක් වෙනස් ලෙසකට ඡන්දය දුන්නේ නම්, එයින් පෙනෙන්නේ, යුරෝපීය සමාජවාදී ව්‍යාපාරය තුළ කොතරම් ඝණ අමන අවස්ථාවාදයක් තිබේද යන්න පමණකි. ඒ ගැන කථා දෙකක් තිබිය නොහැක. නමුත් අප මෙම කරුණ සඳහන් කරන්නේ, රෝසා ලුක්සෙම්බුර්ග් කාරණය වසං කිරීමේ උත්සාහයක යෙදෙමින්, ඉලක්කය මඟ හැර කථා කරන හෙයිනි. නෝර්වීජියානු සමාජවාදී වැඩ පිළිවෙළ අනුව නෝර්වීජියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, වෙන්වී ඉවත් වීම හා සම්බන්ධ ප්‍රශ්නය ගැන නියමිත අදහස් දැරීම අවශ්‍යයෙන්ම සිදු විය යුතු වී දැයි අපි නොදනිමු. එවැනි අවශ්‍යතාවයක් නොවීයයි අපි සිතමු. පංති අරගලය නිදහස් ලෙස ගෙන යාම සඳහා, නෝර්වයේ ස්වතන්ත්‍රයෙන් කොතරම් දූරට ප්‍රමාණවත් ඉඩ කඩක් ලැබුණේ ද යන්නත්, කෙළවරක් නොමැතිව ස්වීඩන රදළයින් සමග ඇතිවන ඝර්ෂණය හා සට්ටන නිසා, ආර්ථික ජීවිතයේ නිදහසට කොතරම් බාධක ඇති වී ද යන්නත්, විවෘත ප්‍රශ්නයක් ලෙසට තිබෙන්නට නෝර්වීජියානු සමාජවාදීන් විසින් ඉඩ හරින ලදැයි සිතමු. නමුත්, නෝර්වීජියානු නිර්ධන පංතියට, මෙම රදළයන්ට විරුද්ධව සටන් කිරීමට සහ නෝර්වීජියානු ගොවිජන ප්‍රජාතන්ත්‍රවාදයට (එහි අමන ස්වභාවයන් එසේ තිබිය දීම) සහයෝගය දැක්වීමටත් සිදුවූ බව විවාද රහිතය.

ඒ අතර ස්වීඩන නිර්ධන පංතියේ තත්වය කුමක් වී ද? ස්වීඩන පූජක පංතියේ අනුබලයද ලත් ස්වීඩන ඉඩම් හිමියන්, නෝර්වයට විරුද්ධව යුද්ධ කිරීමට යෝජනා කළ බව කවුරුත් දන්නා කරුණකි. නෝර්වය ස්වීඩනයට වඩා බෙහෙවින් දුර්වල වූ නිසාද, එය ඊට කලිනුත් ස්වීඩන ආක්‍රමණ වලට ගොදුරුවී තිබුණු නිසාද, ස්වීඩන රදළ පංතිය ඔවුන්ගේ රට තුළ මහත් බලයක් ඇතිව සිටි හෙයින් ද, යුද්ධ කිරීම සඳහා ඉදිරිපත්වූ මෙම යෝජනාව තුළින් මහත් බරපතල තර්ජනයක් මතු විය. “ජාතීන්ගේ දේශපාලන ස්වාධිපත්‍යයය සඳහා වූ නම්‍යශීලී සූත්‍ර ගැන ප්‍රවේසම් සහිත ලෙස කටයුතු කරන්නැයි” ආයාචනා කරමින්ද, “රාජ්‍යය බිඳී විසිරී යාමේ අන්තරාය” ගැන බියකරු පින්තූර ඇඳ පෙන්වමින්ද, “ජනතාවගේ නිදහස” ස්වීඩන රදළ පංතියේ සම්ප්‍රදය සමග හොදින් ගැලපෙන බව සහතික කරමින්ද, ස්වීඩන ජනතාවගේ සිත් සතන් දූෂණය කිරීම සඳහා ස්වීඩන කොකොෂ්කින්ලා, ශක්තිය හා කාලය බොහෝ සේ වැය කළ බව, අපට ස්ථිර ය. ස්වීඩන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, ඉඩම් හිමි සහ “කොකොෂ්කින්” දෘෂ්ටිය හා ප්‍රතිපත්තිය පරාජය කිරීමට ඔවුන්ගේ මුළු ශක්තිය යොදා සටන් නොකළේ නම්,එමෙන්ම, සාමාන්‍ය වශයෙන්, ජාතීන්ගේ සමානාත්මතාවය (කොකොෂ්කින්ලා ද එයට දයක වෙත්) සඳහා පමණක් නොව, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතියද, වෙන්වී ඉවත්වීම සඳහා නෝර්වයට ඇති අයිතියද, දෙන ලෙසත් ඉල්ලීමට ඔවුන් සමත් නොවී නම්, ඔවුන් නිසැක ලෙසම සමාජවාදයේ සහ ප්‍රජාතන්ත්‍රවාදයේ සත්ව්‍යාපාරය පාවා දෙන තත්වයට පත්වන්නට තිබුණි.

වෙන් වී ඉවත් වීම සඳහා නෝර්වීජියානුන්ට ඇති අයිතිය ස්වීඩන කම්කරුවන් විසින් පිළිගන්නා ලද නිසා, නෝර්වීජියානු හා ස්වීඩන කම්කරුවන් අතර සමීප සන්ධානයත්, ඔවුන්ගේ සම්පූර්ණ පංති සමගියත්, ශක්තිමත් විය. ස්වීඩන කම්කරුවන් ස්වීඩන ජාතිකවාදයෙන් රෝගී වී නොමැති බවත්, ඔවුන් නෝර්වීජියානු නිර්ධන පංතිකයන් හා සමග ඇති සහෝදරත්වය ස්වීඩන ධනපති පංතියේ හා රදළයින්ගේ වරප්‍රසාදවලට වඩා ඉහළින් තබන බවත් එයින් නෝර්වීජියානු කම්කරුවන් හට අවබෝධ

* නිර්ධන පංතියට සමූහාණ්ඩුවක් අවශ්‍ය වූ අතර නෝර්වීජියානු ජාතියෙන් බහුතරයට රාජාණ්ඩුවක් අවශ්‍ය වූ නිසා, සාමාන්‍ය වශයෙන් කියතොත්, නෝර්වීජියන් නිර්ධන පංතියට මෙම විකල්පයට මුහුණ දෙන්නට සිදුවිය: එක්කෝ විප්ලවය සඳහා තත්වය මෝරා ඇතොත් එය කිරීම, නැතහොත්, වැඩි දෙනාගේ කැමැත්තට හිස නමා, දීර්ඝ ලෙස ප්‍රචාරක සහ උද්ඝෝෂණ කටයුතුවල යෙදීම.

විය. යුරෝපයේ රජවරුන් හා ස්වීඩන රදළයන් විසින් නෝර්වය මත පටවන ලද බන්ධනයන් අහෝසි කර දැමීම නිසා නෝර්වීජියානු සහ ස්වීඩන කම්කරුවන් අතර සම්බන්ධය ශක්තිමත් විය. ධනපති සම්බන්ධකම් යටතේ නෝර්වීජියානුන් ස්වීඩනයට බලෙන් යටත් කිරීමක් වීමට බොහෝ ඉඩකඩ තිබෙන අතර, ධනපති පංතියේ ප්‍රතිපත්තිවල වෙනස්වීම් සියල්ලම එසේ තිබිය දීම, ස්වීඩන සහ නෝර්වීජියන් යන දෙකොටසේම ධනපති පංතියට විරුද්ධව කරන අරගලයේදී, ජාතීන් දෙකෙහිම කම්කරුවන්ගේ සම්පූර්ණ සමානත්වය සහ පංති සමගිය ආරක්ෂා කිරීමට, තමන්ට හැකි වන බව ස්වීඩන කම්කරුවන් ඔප්පු කර තිබේ.

රෝසා ලුක්සෙම්බුර්ග් හා අප අතර පවතින අසමථයන් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට විරුද්ධව ''පාවිච්චි කිරීමට'' ''ෆ්‍රාකිවරු''. විසින් දරනු ලබන ප්‍රයත්නයන් කොතරම් හේතු විරහිත හා නිරර්ථක පවා වන්නේද යන්න, මෙයින් අනාවරණය වන බව, අමතර වශයෙන් සඳහන් කරමු. ''ෆ්‍රාකිවරු'' නිර්ධන පංතික හෝ සමාජවාදී හෝ පක්ෂයක් නොවේ. එය පෝලන්ත සමාජ-විප්ලවවාදීන් වැනි, සුළු ධනපති පංති ජාතිකවාදී පක්ෂයකි. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ මෙම පක්ෂය අතර සමගිය පිළිබඳව කිසිම ප්‍රශ්නයක් කිසි කලෙකත් ඇති වූයේ හෝ ඇතිවිය හැක්කේ හෝ නැත. අතීත් අතට, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සමග ඇති කරගෙන තිබෙන සමීප සම්බන්ධකම් හා සමගිය ගැන කිසිම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් කිසි කලෙකත් ''පසු තැවිලි'' වී නැත. ජාතිකවාදී අභිලාෂයන්ගෙන් සහ ජාතික අනුරාගී හැඟීම්වලින් වෙළී ගිය රටක් වන පෝලන්තයේ ප්‍රථම සැබෑ මාක්ස්වාදී නිර්ධන පංති පක්ෂය නිර්මාණය කිරීමෙන් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ශ්‍රෙෂ්ඨ ඓතිහාසික සේවයක් කළහ. නමුත්, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කළ මෙහෙය ශ්‍රෙෂ්ඨ සේවයක් වන්නේ, රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තියට විරුද්ධව රෝසා ලුක්සෙම්බුර්ග් කී නන් දෙඩවිලි නිසා නොව, එයින් සිදුවන හානිය මධ්‍යයේය.

''ස්වාධිපත්‍යය සඳහා අයිතිය'' පිළිබඳ ප්‍රශ්නය, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට තරම් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට වැදගත් නොවන බව සැබෑ ය. ජාතිකවාදී ස්වභාවයෙන් අන්ධ වූ පෝලන්තයේ සුළු ධනපති පංතියට විරුද්ධව සටන් කිරීමට (සමහර විට පමණට මඳක් වැඩියෙන්) දක්වන උනන්දුව නිසා පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් යම් යම් කටයුතුවලදී පමණ ඉක්මවා යන බව වටහා ගත හැකි කරුණකි. පෝලන්තය වෙන්වී ඉවත්වීමට විරුද්ධවීම ගැන, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් හට දෝෂාරෝපනය කිරීමට කිසිම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් කිසි කලෙකත් කල්පනා කළේ නැත. රෝසා ලුක්සෙම්බුර්ග්ට මෙන්, මෙම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට වැරදෙන්නේ ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය පිළිගැනීම, රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි ඇතුලත් කිරීමේ අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කිරීමට උත්සාහ කරන විටය.

මෙය හරියටම ක්‍රාකොව් සම්මතයන් අනුව වටහා ගත හැකි සම්බන්ධකම්, රුසියාවේ වෙසෙන, මහා රුසියානු ඇතුළු සියලුම ජනතාවන් විෂයෙහි ක්‍රියාත්මක කිරීමට දරන උත්සාහයක් බඳුය. මෙයින් අදහස් වන්නේ රුසියානුන්ගේ නොව, ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නොව ''කනපිට හැරවූ පෝලන්ත ජාතිකවාදීන්ගේ'' තත්වයට වැටෙන බවය.

ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතියට පක්ෂ ස්ථාවරයක් ගන්නේය. අපි දැන් ඒ ගැන සාකච්ඡා කිරීමට යොමු වන්නෙමු.

## 7. 1896, ලන්ඩන් ජාත්‍යන්තර සම්මේලනයේ යෝජනාව

මෙම යෝජනාවෙහි මෙසේ කියා ඇත:

''ස්වාධිපත්‍යය සඳහා සියලුම ජාතීන්ගේ පූර්ණ අයිතියට (Selbstbestimmungsrecht) පක්ෂ ස්ථාවරයක තමන් පිහිටා සිටින බව ප්‍රකාශ කරන මෙම සම්මේලනය, යුද්ධමය, ජාතික හෝ වෙනත් පරම අධිපතිවාදයන් යටතේ දැනට පීඩා විඳින, සෑම රටකම කම්කරුවන් කෙරෙහි, තම සහයෝගය පළ කරයි. ජාත්‍යන්තර ධනපති ක්‍රමය පරාජය කිරීම සහ ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අරමුණු ඉටු කර ගැනීම සඳහා, සමස්ත ලෝකයේම පංති විඥානය ඇති (Klassenbewusste = තමන්ගේ පංති උවමනාවන් වටහා ගත්) කම්කරුවන්ගේ පිරිසට එකතු වන ලෙසට, මෙම සම්මේලනය, මෙම රටවල කම්කරුවන්ට හඬ නගා කියන්නේය''.*

අප දැනටමත් පෙන්වාදී ඇති ලෙසට, අපගේ අවස්ථාවාදීහු — සෙම්කොව්ස්කි, ලීබ්මන් සහ යුර්කෙවිච් — මෙම යෝජනාව ගැන කොහෙත්ම දන්නේ නැත. නමුත් රෝසා ලුකසෙම්බුර්ග් එය ගැන දන්නීය. එපමණක් නොව, අපගේ වැඩ පිළිවෙළෙහි ඇතුළත් එම පාඨයම, එනම්, ''ස්වාධිපත්‍යය'' අන්තර්ගත සම්පූර්ණ යෝජනාවම උපුටා දක්වන්නීය.

---

* ලන්ඩන් සම්මේලනය ගැන ජර්මන් නිල වාර්තාව බලන්න: Verhandlungen und Beschlüsse des internationalen sozialistischen Arbeiter-und Gewerkschafts-Kongresse zu London, vom 27. Juli bis 1. August 1896" Berlin, 1896, S. 18. ජාත්‍යන්තර සම්මේලනවල තීරණ අන්තර්ගත පොතක් රුසියානු බසින් පළ කර ඇති අතර එහි ''ස්වාධිපත්‍යය'' යන අර්ථය දෙන වචනය පරිවර්තනය කර ඇත්තේ ''ස්වතන්ත්‍රය'' යනුවෙන් වැරදි ලෙසට ය.

රෝසා ලුක්සෙම්බුර්ග් ඇගේ "මුල්" න්‍යායේ මාර්ගයෙන් මෙම බාධකය ඉවත් කරන්නේ කෙසේද?

ඕහ්, එය යුළු දෙයකි: ... මුළු අවධාරණයම රැඳී ඇත්තේ යෝජනාවෙහි දෙවැනි කොටසෙහිය... ... එහි ප්‍රකාශතා ස්වභාවය කෙරෙහිය... අයෙකුට ඒ ගැන සඳහන් කළ හැක්කේ වැරදීමකින් පමණකි!!

අපගේ කතුවරියගේ දුර්වල කම සහ අන්ත ආකූල ව්‍යාකූලතාවය, ඇත්තෙන්ම මවිත කර තරම්ය. වැඩ පිළිවෙළෙහි ඇතුළත් සසංගත ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී කරුණු හුදු ප්‍රකාශනයන් පමණක් ලෙසට ගෙන කථා කරන්නේ සහ ඒවා ගැන විවෘත ලෙස විවාද කිරීම කපටි ලෙස මඟ හරින්නේ සාමාන්‍යයෙන් අවස්ථාවාදීන් පමණකි. මේ වාරයේදී රෝසා ලුක්සෙම්බුර්ග්, තමා සෙම්කොව්ස්කිලාගේ, ලීබ්මන්ලාගේ සහ යුර්කෙවිච්ලාගේ අප්‍රසන්න සමාගමයට පත්ව සිටින බව දකින තත්වයට වැටී ඇත්තේ හේතු විරහිතව නොවේ. රෝසා ලුක්සෙම්බුර්ග් ඉහත සඳහන් යෝජනාව නිවැරදි ලෙස පිළිගන්නේද, නැතහොත්, වැරදි ලෙස පිළිගන්නේද යනු විවෘත ලෙස ප්‍රකාශ කිරීමට ඉදිරිපත් වන්නේ නැත. ඇ යෝජනාවේ දෙවැනි කොටස කියවීමට පටන් ගන්නා අවස්ථාව වන විට, එහි මුල් කොටස අමතක කරන අවධාරණයෙන් තොර හා කරුණු නොදත්, එසේ නැතහොත් ලන්ඩන් සම්මේලනයට පෙර සමාජවාදී පුවත්පත්වල ඇති වූ සාකච්ඡාව ගැන කිසි කලෙකත් අසා නැති, පාඨකයා කෙරෙහි විශ්වාසය තබන කලෙක මෙන්, ඇඹරෙන්නීය, පැටලෙන්නීය.

එසේ වුවද, එතරම් වැදගත් මූලික ප්‍රශ්නයකට අදල වූ ජාත්‍යන්තරයේ යෝජනාවක් ගැන විමසිලිමත් ලෙස විශ්ලේෂණය කරන බවක් පෙන්වන්නේවත් නැතිව, පංති හැඟීම ඇති රුසියාවේ කම්කරුවන් ඉදිරියේ එය පාගා දමා ගැලවී යා හැකි යයි රෝසා ලුක්සෙම්බුර්ග් අදහස් කරන්නේ නම්, ඇයට සිදුවී ඇත්තේ බරපතල වැරදීමකි.

ලන්ඩන් සම්මෙලනයට පෙර ඇති වූ සාකච්ඡාවලදී, රෝසා ලුක්සෙම්බුර්ග්ගේ අදහස ජර්මන් සමාජවාදීන්ගේ පත්‍රය වූ "Die Neue Zeit" පිටු මගින් ප්‍රධාන වශයෙන්, ප්‍රකාශ විය. මෙම අදහසෙහි සාරාර්ථය ජාත්‍යන්තරයේදී පරාජය විනි! රුසියානු පාඨකයා විශේෂයෙන් මතක තබා ගත යුතු, කාරණයේ අරටු කොටස එයයි.

විවාදය පෝලන්තයේ ස්වාධීනත්වය පිළිබඳ ප්‍රශ්නය වටා ගෙතුණ එකක් විය. එහිදී අදහස් තුනක් ඉදිරිපත් විය.

1) "ෆ්‍රාකි" ප්‍රතිෂ්ඨාව, ෆ්‍රාකි වෙනුවෙන් කථා කළ හෙකර් ඉදිරිපත් කළේය. ජාත්‍යන්තරය, තම වැඩ පිළිවෙළෙහි, පෝලන්තයේ ස්වාධීනත්වය සඳහා ඉල්ලීමක් ඇතුලත් කරන ලෙස ඔවුහු යෝජනා කළහ. මෙම යෝජනාව අනුමත නොවූ අතර එය ජාත්‍යන්තරය තුළ පරාජයට පත්විය.



2) රෝසා ලුක්සෙම්බුර්ග්ගේ අදහස, එනම්, පෝලන්ත සමාජවාදීන් පෝලන්ත ස්වාධීනත්වය සඳහා ඉල්ලීමක් ඉදිරිපත් නොකළ යුතුය යන අදහස,මෙම අදහස, ස්වාධිපත්‍ය සඳහා ජාතීන්ගේ අයිතිය ප්‍රකාශය සම්පූර්ණයෙන්ම බැහැර කළේය. එයද, ජාත්‍යන්තරය තුළ එසේම පරාජය විය.

3) එකල කෞට්ස්කි ඉදිරිපත් කළ අදහස, රෝසා ලුක්සෙම්බුර්ග්ට විරුද්ධ වූ ඔහු, ඇගේ ද්‍රව්‍යවාදය අන්ත "එක් පැති නැඹුරුවක්" සහිත බව ඔප්පු කළේය. කෞට්ස්කි කී ලෙසට, පෝලන්තයේ ස්වාධීනත්වය තම වැඩ පිළිවෙළෙහි අංකයක් වශයෙන් ගැනීම, එවකදී, ජාත්‍යන්තරයට කළ හැකි දෙයක් නොවීය. නමුත් එවැනි ඉල්ලීමක් ඉදිරිපත් කිරීමේ සම්පූර්ණ අයිතිය පෝලන්ත සමාජවාදීන්ට තිබිණ. සමාජවාදීන්ගේ දෘෂ්ටි කෝණයෙන් බලන කල ජාතික පීඩනය පවතින තැන, ජාතික විමුක්තියේ කර්තව්‍යයන් පැහැර හැරීම වරදක් බව නිසැකය.

මෙම අදහසෙහි ඉතාමත් වැදගත් සහ මූලික ප්‍රස්තුතයන්, ජාත්‍යන්තරයේ යෝජනාවෙහි ඇතුලත් වී තිබේ. එක් අතකින්, ස්වාධිපත්‍යය සඳහා සියලුම ජාතීන් සතු පූර්ණ අයිතිය ඒකාන්ත ලෙස එක එල්ලේම සහ ඒකාර්ථමය වශයෙන් පිළිගැනීම සහ අනිත් අතට, කම්කරුවන්ගේ පංති අරගලයේදී ජාත්‍යන්තර සමගිය සඳහා එසේම ඒකාර්ථමය ලෙස, ඔවුනට ආයචනා කිරීම, එයින් කරනු ලැබේ.

මෙම යෝජනාව සම්පූර්ණයෙන්ම නිවැරදි බවත්, විසිවැනි ශතවර්ෂයාරම්භයේ නැගෙනහිර යුරෝපීය සහ ආසියාතික රටවලට, ජාතික ප්‍රශ්නයේදී එකම නිවැරදි නිර්ධන පංති මග පෙන්වීම සැපයෙන්නේ, මෙම යෝජනාවෙහි දෙකොටසම ඒකස්ථ සමස්තයක් ලෙසට ගත් කල, එයින් බවත්, අපි කල්පනා කරමු.

ඉහත සඳහන් අදහස් තුන ගැන, තරමක් තවත් විස්තර සහිතව, සලකා බලමු.

පෝලන්ත නිදහස සඳහා ක්‍රියාශීලී ලෙස සහයෝගය දැක්වීම සමස්ත බටහිර යුරෝපීය ප්‍රජාතන්ත්‍රවාදයේම, ඊටත් වඩා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ පැහැර හැරිය නොහැකි යුතු කම ලෙසට, මාක්ස් හා එංගල්ස් විසින් සලකන ලද බව සුප්‍රකට කරුණකි. ඔස්ත්‍රියාවේ සහ ජර්මනියේ ධනපති විප්ලව කාලය වූ 1840 ගණන් හා 1880 ගණන් සම්බන්ධයෙන්'සහ රුසියාවේ "ගොවිජන ප්‍රතිසංස්කරණයේ"[144] කාලය සම්බන්ධයෙන්, මෙය ඉතාමත් නිවැරදි සහ සසංගත ලෙසට ප්‍රජාතන්ත්‍රවාදී සහ නිර්ධන පංතික වන, එකම අදහස විය. රුසියාවේ හා ස්ලාව් රටවල් බොහොමයකම පොදු ජනතාවන් නිද්‍රාශීලී භාවයේ ගැලී සිටිනා තාක් කල්, එම රටවල ස්වාධීන, පොදු ජන ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර නොමැති වූ තාක් කල්, රුසියානු ප්‍රජා-

තන්ත්‍රවාදයේ පමණක් නොව, ස්ලාව් ප්‍රජාතන්ත්‍රවාදයේ පමණක් නොව, සමස්තයක් වශයෙන් මුළු යුරෝපීය ප්‍රජාතන්ත්‍රවාදයේම දෘෂ්ටි කෝණය අනුව, පෝලන්තයේ ප්‍රභූ පංතියේ විමුක්ති ව්‍යාපාරය අතිශයින් හා පරම වැදගත් තත්වයක් ගත්තේය.*145

නමුත් හතළිස් ගණන්, පණස් ගණන් සහ හැට ගණන් සඳහා, එසේ නැතහොත් දහනවවැනි ශත වර්ෂයේ තුන්වැනි කාර්තුව සඳහා, මාක්ස්ගේ අදහස සම්පූර්ණයෙන්ම නිවැරදි වුවත්, විසිවැනි ශත වර්ෂය වන විට එම නිරවද්‍යතාවය කෙළවර වී තිබුණේය. ස්ලාව් රටවල් බොහොමයක, ඉතාමත් නොදියුණු ස්ලාව් රටවල්වලින් එකක් වන රුසියාවේ පවා ස්වාධීන ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර හා ස්වාධීන නිර්ධන පංති ව්‍යාපාරයක් පවා, උද්ගත වී තිබේ. රදළ පෝලන්තය අහෝසි වී ගොස්, ධනපති පෝලන්තයට ඉඩ සලසා ඇත. එවැනි තත්වයන් යටතේ, පෝලන්තයට ඇගේ විශේෂ විප්ලවවාදී වැදගත්කම අහිමි කර නොගෙන බැරි විය.

වෙනත් යුගයකදී මාක්ස් දැරූ අදහස සදකාලික වශයෙන් ''ස්ථාපිත කිරීම'' සඳහා 1896 දී පෝ. ස. ප. (පෝලන්ත සමාජවාදී පක්ෂය, එනම්, වර්තමාන කාලයේ ''†ප්‍රාකි'') දැරූ ප්‍රයත්නය, මාකස්වාදයේ ජීව ගුණයට විරුද්ධව මාක්ස්වාදයේ වචනාර්ථ යොදා ගැනීමට දරන ප්‍රයත්නයක්ම වේ. එනිසා, පෝලන්ත සුළු ධනපති පංතියේ අන්ත ජාතිකවාදයට පහර දීමෙන් හා පෝලන්ත කම්කරුවන් හට ජාතික ප්‍රශ්නය ද්විතීය වැදගත්කමකින් යුත් එකක් බව පෙන්වා දීමෙන්ද, ප්‍රථම වතාවට පෝලන්තයේ පිරිසිදු නිර්ධන පංතික පක්ෂය නිර්මාණය කිරීමෙන් හා පෝලන්ත හා රුසියානු කම්කරුවන්ගේ පංති අරගලයේදී ඔවුන් සමීපතම සන්ධානයක් පවත්වා ගත යුතුය යන ඉතාමත් වැදගත් ප්‍රතිපත්තිය ප්‍රකාශයට පත් කිරීමෙන්ද, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කළේ ඉතාමත් නිවැරදි දෙයකි.

---

* 1863 පෝලන්තයේ කැරළිකාර වංශවතෙකුගේ ප්‍රතිෂ්ඨාව සමග, (මාක්ස් මෙන්) පෝලන්ත ව්‍යාපාරයේ වැදගත් කම අගය කිරීමට සමත් වූ සමස්ත රුසියා විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී චෙර්නිෂෙව්ස්කිගේද, ඊට බොහෝ කලකට පසු ඉදිරිපත් වූ හා පෝලන්ත ප්‍රභූ පංතියේ අරගලය සමස්ත රුසියා ප්‍රජාතන්ත්‍රවාදයට වැදගත් වන බව අමතක වන සේ පෝලන්ත ප්‍රභූවරු කෙරෙහි සාධාරණ වෛරයක් ඇති වන තරමට තමන්ගේ වටපිටාවට බැඳී සිටින නූගත් හා උදසීන ගොවියෙකුගේ අදහස් ප්‍රකාශ කළ උක්‍රේනියානු සුළු ධනපතියෙක් වූ ද්‍රග්මානව්ගේද, ප්‍රතිෂ්ඨාවන් සංසන්දනය කර බැලීම උනන්දුව දනවන ඉතිහාසමය පර්යේෂණයක් වනු ඇත (ද්‍රග්මානව්, ''ඓතිහාසික පෝලන්තය සහ මහ-රුසියන් ප්‍රජාතන්ත්‍රවාදය'' බලන්න). ඒ වන විට ජාතික ලිබරල්වාදියෙකුව සිටි පී. බී. ස්ත්‍රූවේ පසුව ද්‍රග්මානව්ට ඉතා හිතාදර ලෙස දුන් තොත්තු ලැබීමට ඔහු සම්පූර්ණ සුදුසුකම් ලබා සිටියේය.



නමුත්, ජාතීන්ගේ දේශපාලන ස්වාධීනත්වය පිළිබඳ ප්‍රතිපත්තිය, නැතහොත්, වෙන් වී ඉවත් වීමේ අයිතිය විසිවැනි ශතවර්ෂයාරම්භයේදී නැගෙනහිර යුරෝපයට හා ආසියාවට අත්‍යාවශ්‍ය සේ සැලකීමට හැකියාවක් ජාත්‍යන්තරයට තිබුණේ යයි එයින් අදහස් වීද? එසේ කරන ලද නම්, එය මහත්ම නුනුවණකමක්ද, තුර්කිය, රුසියාව හා චීනය යන රාජ්‍යවල ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණයන් සම්පූර්ණ කර තිබෙන බවක් (න්‍යායික වශයෙන්) පිළිගැනීමක්ද, වන්නට තිබිණි. ඇත්ත වශයෙන්ම එය් අවස්ථාවාදී ලෙසට (ව්‍යවහාරික වශයෙන්), පරම අධිපතිවාදය වෙත නැඹුරු වීමක් වන්නට තිබුණි.

නැත. නැගෙනහිර යුරෝපයේ හා ආසියාවේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලව ආරම්භ වී ඇති කාලයක් වන, ජාතික ව්‍යාපාර උත්සන්න වන හා ස්වාධීන නිර්ධන පංතික පක්ෂ පිහිටුවනු ලබන, මෙම කාල සීමාවේ දී, ජාතික ප්‍රතිපත්තිය සම්බන්ධයෙන් මෙම පක්ෂවලට පැවරෙන කර්තව්‍යය දෙ ආකාරය: ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණය තවමත් සම්පූර්ණ කර නොමැති නිසා සහ කම්කරු පංති ප්‍රජාතන්ත්‍රවාදය ජාතීන්ගේ සමාන අයිතිවාසිකම් සඳහා සසංගත ලෙස හා මහත් උවමනාවකින් (කොකොෂ්කින්, ශෛලයෙන් නොව) සටන් කරන නිසා, ස්වාධිපත්‍යය සඳහා සියලුම ජාතීන්ගේ අයිතිය පිළිගැනීමත්, ඊළඟට, ඉතිහාසයේ සියලු වෙනස්කම් මුළුල්ලේම, ධනපති පංතිය විසින් එක්, එක් තනි රාජ්‍යයන්ගේ දේශ සීමාවන් සම්බන්ධයෙන් කරනු ලබන වෙනස්කම් නොතකාම, නියමිත කිසියම් රාජ්‍යයක සියලුම ජාතීන්ගේ නිර්ධන පංතිකයන් ගෙනයන ඔවුන්ගේ පංති අරගලයේදී ඔවුන් අතර සමීප හා නොබිඳිය හැකි සන්ධානයකුත්, යනු එම කර්තව්‍යය වේ.

ජාත්‍යන්තරයේ 1896 යෝජනාවෙන් ඉදිරිපත් කරනු ලබන්නේ මෙම දෙ ආකාර කර්තව්‍යය. 1913 ග්‍රීෂ්ම ඍතුවේදී පවත්වන ලද, රුසියානු මාක්ස්වාදීන්ගේ සාකච්ඡා සභාව අනුමත කළ යෝජනාවේ ප්‍රතිපත්තිය පත්ලෙහි ඇති හරයද එයය. ස්වාධිපත්‍යය සහ වෙන් වී ඉවත් වීමේ අයිතිය පිළිගන්නා මෙම යෝජනාවේ 4 වැනි අංකය, ජාතිකවාදයට උපරිම ''ඉඩක් දෙන'' සේ පෙනෙන අතර (යථාර්ථ වශයෙන් ස්වාධිපත්‍යය සඳහා සියලුම ජාතීන්ගේ අයිතිය පිළිගැනීමෙන් අදහස් වන්නේ උපරිම ප්‍රජාතන්ත්‍රවාදය සහ අවම ජාතිවාදය ය). එහි 5 වැනි අංකයෙන් ඕනෑම ජාතියක ධනපති පංතියේ ජාතිකවාදී සටන් පාඨවලින් ප්‍රවේසම් වන ලෙස අවවාද කිරීම හා ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ නිර්ධන පංති සංවිධාන තුළ සියලුම ජාතීන්ගේ කම්කරුවන්ගේ එක්සත් කම හා ඒකාබද්ධතාවය අපේක්ෂා කිරීම, යන කරුණ තුළ ''ප්‍රතිවිරෝධයක්'' දක්නට ලැබෙන බව සමහර අය කියති. නමුත් මෙය ප්‍රතිවිරෝධයක් වන්නේ, නිදර්ශනයක් වශයෙන්,

නෝර්වේ වෙන්වී ඉවත්වීම සඳහා සහ ස්වාධීන රාජ්‍යයක් පිහිටුවීම සඳහා, එයට ඇති නිදහසට ස්වීඩන කම්කරුවන් පක්ෂ වූ කල, ස්වීඩන හා නෝර්විජියන් නිර්ධන පංතියේ සමගිය හා පංති සහෝදරත්වය ශක්තිමත් වූයේ මන්ද යන්න අවබෝධ කර ගැනීමට බැරි, ඉතාමත් නොගැඹුරු සිත්වලට පමණකි.

## 8. මනෝරාජික කාල් මාක්ස් සහ ප්‍රායෝගික රෝසා ලුක්සෙම්බුර්ග්

පෝලන්ත ස්වාධීනත්වය ''මනෝරාජ්‍යයක්'' යයි කියා, එය තිත්ත වන තෙක්ම අනුප්‍රාසය කරන රෝසා ලුක්සෙම්බුර්ග්, උපහාසාත්මක ලෙස මෙසේ වේග ස්වරයෙන් අසන්නීය: අයර්ලන්තයේ ස්වාධීනත්වය සඳහා ඉල්ලීම ඉදිරිපත් නොකරන්නේ මන්ද?

අයර්ලන්ත ස්වාධීනත්වය පිළිබඳ ප්‍රශ්නය කෙරෙහි කාල් මාක්ස් දක්වූ ආකල්පය කුමක්ද යන්න, ''ප්‍රායෝගික'' රෝසා ලුක්සෙම්බුර්ග් නොදන්නා බව පෙනේ. ජාතික ස්වාධීනත්වය සඳහා වූ නියත ඉල්ලීමක්, අවස්ථාවාදී ස්ථාවරයකින් නොව, නියම මාක්ස්වාදී ස්ථාවරයක් අනුව විශ්ලේෂණය කරන ලද්දේ කෙසේද යන්න පෙන්වා දෙනු පිණිස, මේ ගැන සලකා බැලීම වටනේය.

තමන්ගේ දන හැඳුනුම් කම් ඇති සමාජවාදීන්ගේ බුද්ධිය හා ඔවුන්ගේ අවබෝධ ශක්තිය පිරික්සා බැලීම සඳහා ඔවුන් ''විමසීම'' (මාක්ස්ගේම යෙදුම) අනුව මාක්ස්ගේ පුරුද්දක් විය.[146] ලපාතින් හඳුනා ගැනීමෙන් පසු, එම තරුණ රුසියානු සමාජවාදියා ගැන බොහෝ වර්ණනාත්මක ලෙස අදහස් දක්වමින් එංගල්ස් වෙත 1870 ජූලි 5 දින ලිපියක් යැවූ මාක්ස්, එහි මෙසේද සඳහන් කළේය:

''ඔහුගේ දුර්වල තැන පෝලන්තය ය. මෙම කරුණ ගැන ඔහු කථා කරන්නේ බොහෝ දුරට ඉංග්‍රීසි කාරයෙකු මෙනි. නිදර්ශනයක් වශයෙන්, මුල් අවධියේ ඉංග්‍රීසි චාටිස්ට් වරයෙකු අයර්ලන්තය ගැන කථා කරන මෙනි''.

පීඩක ජාතියකගේ සමාජවාදියෙක් පීඩිත ජාතියට දක්වන ආකල්පය ගැන ඔහුගෙන් ප්‍රශ්න කරන මාක්ස්, අධිපති ජාතීන්ගේ සමාජවාදීන්ට (ඉංග්‍රීසීන්ට හා රුසියානුන්ට) පොදු වූ දුර්වල කමක් එක්වරම හෙළිදරව් කරයි. එම දුර්වලකම නම්, පීඩිත ජාතීන් කෙරෙහි තමන්ගෙන් ඉටුවිය යුතු සමාජවාදී යුතු කම අමතක කිරීමය; ''අධිපති ජාතියේ ධනපති පංතියෙන් උරුම කොට ගත් දුර්මතයන් ඔවුන් විසින් දෝංකාර නංවනු ලැබීම ය.



අයර්ලන්තය සම්බන්ධයෙන් මාක්ස් කළ ඒකාන්ත ප්‍රකාශයන් ගැන සඳහන් කිරීමට පෙර, මාක්ස් හා එංගල්ස් ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන් දක්වූයේ ඉතාමත් විමර්ශනාත්මක ආකල්පයක් බවත්, ඔවුන් එහි ඓතිහාසික සැකැස්මෙහි වැදගත්කම පිළිගත් බවත්, පෙන්වා දෙනු කැමැත්තෙමු. ඉතිහාසය ගැන තමන් කරන අධ්‍යයනයන්, පෝලන්තය සම්බන්ධයෙන් අශුභවාදී නිගමනයන්ට තමන් පොළඹවන්නේ යයිද, පෝලන්තයේ වැදගත්කම තාවකාලිකයයිද එනම්, රුසියාවේ ගොවිජන විප්ලවය සිදුවන තෙක් පමණක් පවතින්නක් යයිද, කියමින් මාක්ස් 1851 මැයි 23 දින එංගල්ස් වෙත ලියා යැව්වේ ඒ අනුව ය. පෝලන්ත ජාතිකයන් ඉතිහාසයෙහිදී ඉටු කළේ ''එඩිතර අනුවණ තරම්'' කාර්ය කොටසකි. ''එනිසා, පෝලන්තය රුසියාව හා සම්බන්ධයෙන් වුව, සාර්ථක වශයෙන් ප්‍රගතිය නියෝජනය කළ, නැතහොත්, කිසියම් ඓතිහාසික වැදගත්කමක් ඇති දෙයක් කළ, එකද අවස්ථාවක් පෙන්වීමට කෙනෙකුට පුළුවන් කමක් නැත''. ''අලස ප්‍රභූ පංතියේ පෝලන්තයට'' වැඩි ශිෂ්ටාචාරයක්, අධ්‍යාපනයක්, කර්මාන්තයක් හා ධනපති පංතියක් රුසියාවේ ඇත. ''සාන්ත පීටර්ස්බර්ග්, මොස්කව් හා ඔඩෙස්සා සමග සසඳන කල වෝර්සෝ හා ක්‍රාකොව් කෙසේ සැලකිය හැකි ද!'' පෝලන්ත ප්‍රභූන් කැරළි ගසා නැගී සිටීමේ සාර්ථකත්වය ගැන එංගල්ස් විශ්වාස කළේ නැත.



මෙම මහා ප්‍රාඥ ස්වභාවයේ ගැඹුරු ප්‍රතිවේදී ශක්තිය පෙන්නුම් කරන, මෙම සංකල්පනා එසේ වී නමුත්, ඊට දොළොස් අවුරුද්දකට පසු, රුසියාව තවමත් නිද්‍රාශීලී තත්වයේ හා පෝලන්තය උකුරා හැලෙන තත්වයේ පැවතිය දී, එංගල්ස් හා මාක්ස් විසින්, පෝලන්ත ව්‍යාපාරයට ඉතාමත් ගැඹුරු හා ආසක්ත අනුකූලතාවයක් දක්වන ලදී.

1864 දී ජාත්‍යන්තරයට ඉදිරිපත් කිරීම සඳහා කථාව කෙටුම්පත් කිරීමේදී තමන්ට මැසිනිගේ ජාතිකවාදයට විරුද්ධව සටන් කිරීමට සිදු වූ බව (1864 නොවැම්බර් 4 දින) එංගල්ස්ට ලියූ මාක්ස් මෙසේද, එකතු කළේය: ''කථාවේ ජාත්‍යන්තර දේශපාලනය ගැන සඳහන් කිරීමේදී මා ජාතීන් ගැන නොව රටවල් ගැන සඳහන් කළ අතර, රුසියාව හෙළා දුටු නමුත් කුඩා ජාතීන් හෙළා දුටුවේ නැත.''''ශ්‍රමකරු ප්‍රශ්නය'' හා සමග සසඳන කල, ජාතික ප්‍රශ්නය ඊට වඩා ද්විතීය තැනක් ගත් බවට මාක්ස් තුළ සැකයක් නොවීය.නමුත් ඔහුගේ න්‍යායය ගත්කළ එය ජාතික ව්‍යාපාර ගැන නොසලකා හැරීම අතින් අහසට පොළව මෙන් ඈත් වූවකි.

ඉන් පසු 1866 උදවිය. ''ජාතීන් යනු විකාරයකැයි කියන,බිස්මාර්ක්ට හා ගරිබෝල්ඩිට පහර ගසන පැරිසියේ ''ප්‍රුදොන්වාදී කල්ලිය'' ගැන මාක්ස් එංගල්ස්ට ලිවේය. ජාතෝන්මාදවාදයට විරුද්ධව කරන විවාද වශයෙන්, ඔවුන් කරන කටයුතු ප්‍රයෝජනවත් ය. නමුත් පරුදොන් අදහ-

න්නන් වන, (මෙහි මගේ හොඳ මිතුරන් දෙදෙනෙක් වන ලෆ්පාර්ග් හා ලොන්ගේ ද ඔවුන් අතරටම වැටේ) හා ප්‍රංශයේ සිටින මහත්වරු දුප්පත්කම හා නූගත්කම අහෝසි කරන තෙක්, මුළු යුරෝපයම උක්කුටුකයෙන් වාඩි වී බලා සිටිය යුතු යයි සිතන අය වශයෙන් විකාර ස්වරූපී වෙති.'' (1866 ජූනි 7 දින ලිපිය).

1866 ජූනි 20 දින මාක්ස් මෙසේ ලිවේය: ''වර්තමාන යුද්ධය ගැන... සාමාන්‍යයෙන් ජාතිකත්වය ගැන හා අප එය කෙරෙහි දක්වන ආකල්පය ගැන, ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය තුළ ඊයේ සාකච්ඡාවක් ඇති විය... සියලුම ජාතික කොටස්, එසේම ජාතීන් පවා ''හනමිටි දුර්මත'' වන්නේ යයි කීමට ''තරුණ ප්‍රංශ'' (කම්කරු නොවන) නියෝජිතයෝ ඉදිරිපත් වූහ. ප්‍රූදොන්වාදී කරණයට පත් ස්තිර්නර්වාදය... ප්‍රංශුවන් සමාජ විප්ලවයක් සඳහා මෝරන තෙක් මුළු ලෝකයම බලා සිටී... ජාතික කොටස් කෙළවරක් කළ අපේ මිත්‍ර ලෆ්පාර්ග් හා අනෙකුත් අය අපට ''ප්‍රංශ'' බසින්, එනම්, සභාවේ සිටි අයගෙන් දහයෙන් නවයකට නොතේරෙන බසකින් කථා කළේ යයි කියමින්, මා කථාව පටන් ගත් විට ඉංග්‍රීසින් මහත් සේ සිනාසුනහ. ජාතික කොටස් ප්‍රතික්ෂේධනය කිරීමෙන්, ඔහු සම්පූර්ණයෙන්ම මෙන්, නොදැනුවත්වම, වටහා ගත්තේ ආදර්ශමත් ප්‍රංශ ජාතිය විසින් ඔවුන් උරාගැනීමය, යන අදහසද මම ඉදිරිපත් කළෙමි''.

මාක්ස්ගේ මෙම විවේචනාත්මක අදහස් සියල්ලෙන් බැස ගත හැකි නිගමනය පැහැදිලිය: ධනපති ක්‍රමයේ සංවර්ධනයෙන් සියලුම ජාතීන් ස්වාධීන ජීවිතයක් සඳහා පිබිදී ඒම අවශ්‍යයෙන්ම සිදුවන්නක් නොවන නිසා, ජාතික ප්‍රශ්නය හුවා දැක්වීමේදී කම්කරු පංතිය අන්තිමයා විය යුතුය. නමුත්, පොදු ජන ජාතික ව්‍යාපාර ආරම්භ වූ පසු ඒවා පසෙකට තල්ලු කිරීමේ හා ඒවායේ ඇති ප්‍රගතිශීලී අංගවලට ආධාර කිරීමට ප්‍රතික්ෂේප කිරීමේ ආර්ථය වන්නේ, ජාතිකවාදී දුර්මතයන් සන්තර්පනය කිරීමය, එනම්, තමන්ගේම ජාතිය ආදර්ශමත් ජාතිය ලෙසට පිළිගැනීමය (එසේ නැතහොත් රාජ්‍යයක් පිහිටුවීමේ තනි අයිතිය ඇති ජාතිය ලෙසට එය පිළිගැනීමය)*.

නමුත් අපි නැවතත් අයර්ලන්තය පිළිබඳ ප්‍රශ්නයට යොමු වෙමු.

මෙම ප්‍රශ්නය ගැන මාක්ස් දරූ ස්ථාවරය ඔහුගේ ලියුම්වලින් ගත් මෙම කොටස්වලින් ප්‍රකාශිත වේ:

---

* මාක්ස් එංගල්ස්ට ලියූ 1867 ජූනි 3 ලිපියද බලන්න... ''රුසියාවට විරුද්ධව පෝලන්ත හිතවත් පැරිස් ජනයාගේ මෙම කියමන ගැන ''ද ටයිම්ස්''[147] පත්‍රයේ පැරිස් ලියුම්වලින් දැන ගැනීමට සැබවින්ම සතුටුවීමි... ප්‍රූදොන් මහතා සහ ඔහුගේ කුඩා න්‍යාය ධර්මවාදී කල්ලිය ප්‍රංශ ජනයා නොවෙති''.



ෆිනියන්වාදයට[148] පක්ෂව ඉංග්‍රීසි කම්කරුවන්ගේ මෙම සහයෝගය දැක්වීම ක්‍රියාත්මක කරවීම සඳහා මට හැකි උසස්ම ආකාරයෙන් කටයුතු කෙළෙමි... අයර්ලන්තය එංගලන්තයෙන් වෙන් කළ නොහැකි යයි කල්පනා කිරීමට මම පුරුදුව සිටියෙමි. වෙන්වීමෙන් පසුව පෙඩරල් සම්බන්ධ වීමක් ඇති වුවත්, වෙන්වීම අනිවාරණීය යයි මම දැන් කල්පනා කරන්නෙමි''. මාක්ස් 1867 නොවැම්බර් 2 දින එංගල්ස්ට ලීවේ එසේය.

එම වර්ෂයේම නොවැම්බර් 30 දින ලිපියෙහි ඔහු තවදුරටත් මෙසේ කීවේය:

''අපි ඉංග්‍රීසි කම්කරුවන්ට දිය යුතු උපදේශය කුමක්ද? මා කල්පනා කරන හැටියට ඔවුන් සංගමය Repeal (අවලංගු) කිරීම'' (එංගලන්තය සමග අයර්ලන්තයේ සංගමය — එයින් අදහස් වන්නේ අයර්ලන්තය එංගලන්තයෙන් වෙන් කිරීමය — ''කොටින් කියතොත්, 1783 කටයුත්තෙන් සිදුවූයේ, එකල තත්වයන්ට ගැලපෙන ලෙසට ප්‍රජාතන්ත්‍රවාදී කිරීම හා සකස් කිරීම පමණකි) ඔවුන්ගේ වැඩ පිළිවෙළේ වගන්තියක් ලෙසට ඇතුලත් කළ යුතුය. ඉංග්‍රීසි පක්ෂයේ වැඩ පිළිවෙළ මගින් අයර්ලන්ත විමුක්තිය පිළිගත හැකි එකම නීතිමය ආකෘතියද, එනිසාම එකම සාර්ථක කළ හැකි ආකෘතියද එයයි. රටවල් දෙකක් අතර හුදෙක්ම පෞද්ගලික සංගමයක් දිගටම පැවතිය හැකිද යනු අත් දැකීමෙන් පෙනෙනු ඇත.

''අයර්ලන්ත ජනයාට අවශ්‍යව ඇත්තේ මෙයයි:

1. ස්වතන්ත්‍ර ආණ්ඩුව සහ එංගලන්තයෙන් නිදහස;
2. ගොවිජන විප්ලවය...''

මාක්ස් අයර්ලන්ත ප්‍රශ්නය මහත් වැදගත් කමකින් සැලකූ අතර, මෙම මාතෘකාව ගැන ජර්මන් කම්කරු සංගමයේදී පැය එක හමාරේ දේශන පැවැත්විය (1867 දෙසැම්බර් 17 දින ලිපිය).

''ඉංග්‍රීසි කම්කරුවන් අතර පවතින අයර්ලන්ත ජාතිකයින් කෙරෙහි වූ වෛරය'' ගැන එංගල්ස් 1868 නොවැම්බර් 20 දිනැති ලිපියක සඳහන් කළේය. ඊට අවුරුද්දකට පමණ පසු (1969 ඔක්තෝබර් 24 දින) ඔහු නැවතත් මෙසේ ලිවේය:

''අයර්ලන්තයේ සිට රුසියාවට ඇත්තේ il n'y a qu'un pas (එක පියවරක් පමණකි). එක ජාතියක් විසින් තවත් ජාතියක් යටත් කරගෙන සිටීම මොනතරම් අවාසනාවක්ද යනු අයර්ලන්ත ඉතිහාසයෙන් පෙනේ. ඉංග්‍රීසින්ගේ සියලුම අශික්ෂිතකම්වල ආරම්භය ඇත්තේ අයර්ලන්තයේ ඔවුන් අල්ලා ගෙන සිටින කොටසෙහිය. මට තවමත් ක්‍රොම්වෙල් කාලයේ ඉතිහාසය අධ්‍යයනය කිරීමට තිබෙන නමුත්, එක කරුණක් පැහැදිලිය. අයර්ලන්තයේ යුද්ධමය පාලනයක් පැවැත්වීමේ අවශ්‍යවූ

අතර එහි නව රදළ පෙළැන්තියක් ඇති කිරීම නිසා නොවේ නම්, එංගලන්තයේ තවත් පෙරළියක් වන්නට තිබුනි.''

මෙහිදී මාක්ස් එංගල්ස්ට ලියූ 1869 අගෝස්තු 18 දින ලිපියද සටහන් කර ගනිමු:

''පෝස්නන්හි පෝලන්ත කම්කරුවන්,ඔවුන්ගේ ජර්මන් සගයන්ගේ ආධාරය ඇතිව වැඩ වර්ජනයක් ජයග්‍රාහී නිමාවකට ගෙන ගොස් ඇත. වැඩ වර්ජනය වැනි පහළ මට්ටමේ ආකෘතියකින් වුවද, ප්‍රාග්ධනය නැමති මැති තුමාට විරුද්ධව කරන මෙම අරගලය, ධනපති මහතුන්ගේ මුවින් කෙරෙන චතුර සාම කථාවලට වඩා බරපතල ලෙසින් ජාතික දුර්මතයන් දුරලීමේ මාර්ගයකි''.

ජාත්‍යන්තරයේදී අයර්ලන්ත ප්‍රශ්නය සම්බන්ධයෙන් මාක්ස් අනුගමනය කළ ප්‍රතිපත්තිය පහත දැක්වෙන කරුණුවලින් පෙනේ.

අයර්ලන්ත පොදු සමාව සම්බන්ධයෙන් බ්‍රිතාන්‍ය ඇමති මණ්ඩලය දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය ගැන, ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලයේදී පැය එකකුත් කාලක් කථා කළ බවත්, එසේම පහත සඳහන් යෝජනාව කළ බවත්, මාක්ස් 1869 නොවැම්බර් මස 18 දින එංගල්ස් වෙත යැවූ ලිපියෙන් දන්වා ඇත:

''සිරගත කරන ලද අයර්ලන්ත ජාතික දේශප්‍රේමීන් නිදහස් කරන ලෙසට අයර්ලන්ත ජාතිකයින් කරන ඉල්ලීමට, ග්ලැඩ්ස්ටන් මහතා දෙන පිළිතුරෙන්, ඔහු උවමනාවෙන්ම අයර් ජාතියට නින්ද කරන බවද; වැරදි පාලනයෙන් පීඩාවට පත් අයට හා ඔවුන් අයත් ජනතාවන්ට, එසේම අවමාන කරන කොන්දේසිවලින්, ඔහු දේශපාලන පොදු සමාව අවුරාලන බවද;

ඔහු තමන්ගේ වගකිව යුතු තත්වය නොතකා, ඇමෙරිකානු වහල් අයිතිකරුවන්ගේ කැරැල්ලට පක්ෂව ප්‍රසිද්ධියේ සහ උද්යෝගිමත් ලෙස ඔල්වරසන් දීමෙන් පසුව, දැන් අයර් ජාතික ජනතාවට අවිරෝධී යටහත් භාවයේ ධර්මය දේශනා කිරීමට ඉදිරිපත් වන බවද;

අයර්ලන්ත පොදු සමාව සම්බන්ධයෙන් වූ ඔහුගේ සම්පූර්ණ ක්‍රියා මාර්ගයම, සැබෑ හා නියම වශයෙන්ම පැවත එන්නේ තම ටෝරි ප්‍රතිපාක්ෂිකයන් බලයෙන් පහ කිරීම සඳහා ග්ලැඩ්ස්ටන් මහතා විසින් වේගවත් ලෙස හෙළා දකින ලද ඒ ''රටවල් අල්ලා ගැනීමේ ප්‍රතිපත්තියෙන්'' ම බවද,

අයර් ජාතික ජනතාව ඔවුන්ගේ පොදු සමා ව්‍යාපාරය ගෙනයන ධෛර්යමත්, දැඩි හා මහාත්ම ස්වභාවය ගැන ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ ප්‍රධාන මණ්ඩලය එහි ප්‍රශංසාව පළ කරන බවද,

මෙම යෝජනාව ගැන ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ



කම්කරු ජනතා මණ්ඩලවලට හා එය සමග සම්බන්ධකම් ඇති, යුරෝපයේ හා ඇමෙරිකාවේ තිබෙන එහි සියලුම ශාඛාවලට දන්වා යැවිය යුතු බවද,

තීරණය කරයි''.

අයර්ලන්ත ප්‍රශ්නය සම්බන්ධයෙන්, තමා ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලය හමුවේ කියවීමට යන ලිපියෙහි මෙසේ අඩංගුව ඇති බව මාක්ස් 1869 දෙසැම්බර් 10 දින ලීවේය:

''ජාත්‍යන්තරය නිසැක වශයෙන්ම පිළිගන්නා, ''ජාත්‍යන්තර'' සහ අයර්ලන්තය සඳහා ''මානුෂික'' යුක්තිය යන වදන් මාලාවලට සම්පූර්ණයෙන්ම අමතර වශයෙන්, ඉංග්‍රීසි කම්කරු පංතිය දැනට අයර්ලන්තය සමග පවත්වන එහි සම්බන්ධකම්වලින් එය නිදහස් වීම එම කම්කරු පංතියේ සෘජු සහ ඒකාන්ත යහපතට අදාළ වන්නේය.මෙය මගේ සම්පූර්ණ විශ්වාසයයි. එම නිගමනයට එළඹීමට හේතු වුණු කරුණු සමහරක් ඉංග්‍රීසි කම්කරුවන්ටම කීම මට නොහැකිය. ඉංග්‍රීසි කම්කරු පංතිය බලවත් වීමෙන් අයර්ලන්ත පාලනය පෙරලා දැමීමට හැකි වෙතැයි මම දීර්ඝ කාලයක් තිස්සේ අදහස් කෙළෙමි. මම නිව්යෝක් ට්‍රිබියුන්[149] පත්‍රය (එය මාක්ස් විසින් දීර්ඝ කාලයක් තිස්සේ ලිපි සපයන ලද ඇමෙරිකන් පත්‍රයකි) මගින් නිතරම මෙම අදහස ප්‍රකාශ කෙළෙමි. වඩාත් ගැඹුරු අධ්‍යයනයකින් පසුව එහි අනිත් පැත්ත නිවැරදි බව මට අවබෝධ වී තිබේ. ඉංග්‍රීසි කම්කරු පංතිය අයර්ලන්තය අත් හැර දමන තුරු එයට කිසිම ජයග්‍රහණය ලබා ගත නොහැකි වනු ඇත... එංගලන්තයේ ඇති ඉංග්‍රීසි ප්‍රතිගාමිත්වය මුල් බැස තිබෙන්නේ අයර්ලන්තය යටත් කරගෙන සිටීම තුළය''. (අවධාරණය මාක්ස්ගේ ය)

අයර්ලන්ත ප්‍රශ්නය සම්බන්ධයෙන් මාක්ස්ගේ ප්‍රතිපත්තිය දැන් අපගේ පාඨකයන්ට මනාව පැහැදිලි විය යුතුය.

''මනෝරාජික'' මාක්ස් කොතරම් දුරට ''ප්‍රායෝගික නොවී'' ද යත් අර්ධ ශත වර්ෂයකට පසුත් තවමත් ඉටු කර ගෙන නැති දෙයක් වන අයර්ලන්තයේ වෙන්වීමට පක්ෂ ස්ථාවරයක පිහිටියේ ය.

මාක්ස්ගේ ප්‍රතිපත්තිය උද්ගත වූයේ කුමකින්ද? එම ප්‍රතිපත්තිය වැරදි නොවීද?

ප්‍රථමයෙන් මාක්ස් කල්පනා කළේ, පීඩිත ජාතියේ ජාතික ව්‍යාපාරය විසින් නොව, පීඩිත ජාතියේ කම්කරු පංති ව්‍යාපාරය විසින්, අයර්ලන්තයට විමුක්තිය ගෙන දෙනු ලැබේය යනුයි. සියලුම ජාතික කොටස්වල සම්පූර්ණ විමුක්තිය ඇති කළ හැක්කේ කම්කරු පංතියේ ජයග්‍රහණය මගින් පමණක් බව දැන සිටි මාක්ස් ජාතික ව්‍යාපාරය පරමාර්ථ දහමක් කොට නොගත්තේය. පීඩිත ජාතීන්ගේ ධනපති නිදහස් ව්‍යාපාර හා පීඩක

ජාතියේ නිර්ධන පංති විමුක්ති ව්‍යාපාරය අතර ඇති වීමට ඉඩ තිබෙන සියලුම සම්බන්ධකම් කල්තබා ඇස්තමේන්තු කිරීම කිසිසේත් කළ නොහැක්කකි (රුසියාවේ ජාතික ප්‍රශ්නය මෙතරම් අමාරු එකක් වීමට හේතුවී තිබෙන ගැටළුවද එයමය).

කෙසේ හෝ වේවා, තරමක් දීර්ඝ කාලයක් ගත වන තෙක් ඉංග්‍රීසි කම්කරු පංතිය ලිබරල් නායකත්වය යටතට පත්ව, ලිබරල්වාදීන්ගේ උපැඳියක් බවට පත්වූ තත්වයක් ඇති විය. එමෙන්ම ලිබරල් කම්කරු ප්‍රතිපත්තියක් පිළිගත් නිසා, එය නායකයෙක් නැති තත්වයටද පත්වූයේය. අයර්ලන්තයේ ධනපති නිදහස් ව්‍යාපාරය ශක්තිමත් වී වැඩෙමින් විප්ලවවාදී ආකෘති අනුව කටයුතු කළේය. මාක්ස්ද ඔහුගේ අදහස ගැන නැවත සලකා බලා එය නිවැරදි කළේය: ''එක ජාතියක් විසින් තවත් ජාතියක් යටත් කරගෙන සිටීම මොන තරම් අවාසනාවක්ද?'' අයර්ලන්තය ඉංග්‍රීසි විය ගසෙන් නිදහස් වන තෙක්, ඉංග්‍රීසි කම්කරු පංතියට තමන්ගේ නිදහස කිසි කලෙකත් ලබා ගත නොහැකි වනු ඇත. එංගලන්තයේ ප්‍රතිගාමීත්වය ඇති දැඩි කෙරෙන්නේ හා ශක්තිමත් කෙරෙන්නේ අයර්ලන්තය වහල් කර ගැනීමෙනි. (රුසියාවේ ජාතීන් කීපයක් වහල් කර ගැනීමෙන් එහි ප්‍රතිගාමීත්වය ශක්තිමත් කෙරෙන ලෙසිනි!)

තවද, ''අයර් ජාතියට'', ''අයර් ජාතික ජනතාවට'' සහයෝගය දක්වන යෝජනාවක් ඉදිරිපත් කළ මාක්ස් (දක්ෂයෙකු වූ එල් . ව්. පංති අරගලය ගැන අමතක කිරීම සම්බන්ධයෙන් මාක්ස්ට බැනවදින්නට ඉඩ තිබුණි!), ''වෙන්වීමෙන් පසුව පෙඩරල් ඒකාබද්ධතාවයක් ඇතිවීමට ඉඩ තිබුණත්'', එංගලන්තයෙන් අයර්ලන්තය වෙන්වීමට පක්ෂ අදහස එමගින් ඉදිරිපත් කළේය.

මාක්ස්ගේ නිගමනයට හේතු කොට ගන්නා ලද න්‍යායික කරුණු මොනවාද? එංගලන්තයේ ධනපති විප්ලවය බොහෝ ඉහතදී සම්පූර්ණ කොට තිබිණ. නමුත් අයර්ලන්තයේ එය සම්පූර්ණ කර තිබුණේ නැත. එය සම්පූර්ණ කරනු ලබන්නේ අර්ධ ශතවර්ෂයක් ගතවීමෙන් පසුව, ඉංග්‍රීසි ලිබරල්වාදීන්ගේ ප්‍රතිසංස්කරණයන් මගින්, දූන් පමණකි. මාක්ස් කලින් අපේක්ෂා කළ තරම් ඉක්මණින් එංගලන්තයේ ධනපති ක්‍රමය පෙරළා දමන ලද්දේ නම්, එවිට අයර්ලන්තයේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සහ සාමාන්‍ය ජාතිකවාදී ව්‍යාපාරයකට ඉඩක් නොමැති වන්නට තිබුණි. නමුත් එම ව්‍යාපාරය උද්ගත වී තිබුණු හෙයින්, එයට ආධාර කරන ලෙසත්, එයට විප්ලවවාදී දිරිගැන්වීමක් දෙන ලෙසත්, එය දෙස තමන්ගේම නිදහසේ අවශ්‍යතා අනුව බලන ලෙසත්, මාක්ස් ඉංග්‍රීසි කම්කරුවන්ට උපදෙස් දුන්නේය.

නමුත් 1860 ගණන්වලදී අයර්ලන්තය හා එංගලන්තය අතර පැවති ආර්ථික සම්බන්ධකම්, පෝලන්තය හා උක්‍රේනියාව ආදිය සමග රුසියාවේ ඇති වර්තමාන සම්බන්ධකම්වලටත් වඩා, බොහෝසෙයින් සමීප ස්වභාවයේ විය. අයර්ලන්තය වෙන්වීම (එංගලන්තයේ දූවැන්ත යටත් විජිත ශක්තිය සහ භූමි ශාස්ත්‍රීය තත්වයන් නිසා පමණක්ම වුව) කොතරම් ''ප්‍රායෝගික නොවන'' හා ''නොකළ හැකි'' තත්වයක වීද යන්න, ඉතා පැහැදිලිය. මාක්ස් ප්‍රතිපත්තියක් වශයෙන් පෙඩරල් ඒකාබද්ධතාවයේ සතුරෙක් වූ නමුත්, අයර්ලන්තයේ විමුක්තිය ප්‍රතිසංස්කරණවාදී මාර්ගයකින් නොව, විප්ලවවාදී මාර්ගයකින්, එංගලන්තයේ කම්කරු පංතියේ සහයෝගිතාවය ඇතිව අයර්ලන්ත පොදු ජනතාවගේ ව්‍යාපාරය මගින් පමණක් දිනා ගනු ලැබේ නම්, මෙම අවස්ථාවේදී පෙඩරල් ඒකාබද්ධතාවයක් ඇති වීමේ හැකියාවද ඔහු පිළිගත්තේය*. නිර්ධන පංතියේ වැඩීම යහපතට හේතු වන්නට තිබුණේ සහ සීඝ්‍ර සමාජ ප්‍රගතියට හේතු විය හැකිව තිබුණේ, ඓතිහාසික ප්‍රශ්නයට ඒ ආකාරයෙන් දෙන විසඳීමක් බවට සැකයක් නැත.

නමුත් කරුණු සිදු වූයේ ඊට වෙනස් ලෙසට ය. අයර් ජනතාවත්, ඉංග්‍රීසි නිර්ධන පංතියත් යන දෙකම දුර්වල බව ඔප්පු විය. ඉංග්‍රීසි ලිබරල්වාදීන් සහ අයර් ධනපති පංතිය අතර කෙරෙන ජාවාරම් තුළින්, ඉඩම් ප්‍රතිසංස්කරණය සහ ස්වදේශී පාලනය (තවමත් ආරම්භ කර නැත) මගින්, අයර්ලන්ත ප්‍රශ්නය විසඳනු ලබන්නේ (මොන අමාරුවකින්ද යනු අල්ස්ටර් නිදසුනෙන් පෙනේ) දූන් පමණකි. හොඳයි එසේනම්? මාක්ස් හා එංගල්ස් ''මනෝරාජික'' වූ බවත්, ඉටු ''නොකළ හැකි'' ජාතික ඉල්ලීම් ඉදිරිපත් කළ බවත් එයින් ඔප්පු වේද? එසේ නැතහොත්,

---

* සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ඇසින් බලන කල ''ස්වාධිපත්‍යය'' සඳහා අයිතිය යන්නෙන් අදහස් කෙරෙන්නේ පෙඩරල් ඒකාබද්ධතාවය වත්, ස්වතන්ත්‍රය වත් නොවන්නේ මන්ද යන්න වටහා ගැනීම අපහසු නොවේ (නමුත් වියුක්ත ලෙස කථා කරන කල ඒ දෙකම ''ස්වාධිපත්‍යය'' යන ප්‍රවර්ගයට අයත් වේ). පෙඩරල් ඒකාබද්ධතාවය යන්නෙහි ඇති අර්ථයක් නොමැත. එයට හේතුව එයින් අදහස් වන්නේ ද්විපාක්ෂික කොන්ත්‍රාත්තුවක් පමණක් වීමය. පෙඩරල් ඒකාබද්ධතාවාදය ආරක්ෂා කිරීම මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළෙහි ඇතුලත් කිරීමට ඔවුනට පුළුවන් කමක් නොමැති බව කීමට අවශ්‍ය නොවේ. ස්වතන්ත්‍රය ගැන කථා කරතොත්, මිශ්‍ර ජාතික සංයුතියක් ඇති හා භූමි ශාස්ත්‍රීය සහ වෙනත් කොන්දේසි රැසක් පවතින, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක තිබිය යුතු සාමාන්‍ය හා විශ්වීය ප්‍රතිපත්තියක් වශයෙන්, මාක්ස්වාදීහු ''ස්වතන්ත්‍රය සඳහා අයිතිය'' පමණක් නොව, ස්වතන්ත්‍රයම ආරක්ෂා කරති. ඒ අනුව ''ස්වතන්ත්‍රය සඳහා ජාතීන්ගේ අයිතිය'' යන්නත් ''පෙඩරල් ඒකාබද්ධතාවය සඳහා ජාතීන්ගේ අයිතිය'' මෙන්ම විකාරයකි.

තමන් අයර් ජාතික සුළු ධනපති ජාතිකවාදීන්ගේ (ෆිනියන් ව්‍යාපාරයේ සුළු ධනපති ස්වභාවය ගැන සැකයක් තිබිය නොහැකිය), ආදීන්ගේ බල-පෑමට යටත් වීමට, ඔවුන් ඉඩ තැබූ බවක් එයින් අදහස් වේද?

නැත. අයර්ලන්ත ප්‍රශ්නයේදීද, මාක්ස් සහ එංගල්ස් සසංගත-නිර්ධන පංතික ප්‍රතිපත්තියක් අනුගමනය කළහ. එයින්, ඇත්ත වශයෙන්ම ප්‍රජා-තන්ත්‍රවාදී හා සමාජවාදී ජීවගුණයෙන් යුත් අධ්‍යාපනයක් පොදු ජනතාවට ලැබිණ. අවශ්‍ය ප්‍රතිසංස්කරණයන් ආරම්භ කිරීමට අයර්ලන්තය හා එංගලන්තය යන දෙරටම අඩ ශත වර්ෂයකින් ප්‍රමාදවීම වැලැක්විය හැකිව තිබුණේ සහ, ප්‍රතිගාමීන් සතුටු කිරීම සඳහා, ලිබරල්වාදීන් විසින් මෙම ප්‍රතිසංස්කරණ කප්පාදු කර දැමීම වැලැක්විය හැකිව තිබුණේ, එවැනි ප්‍රයත්නයක් මගින් පමණකි.

ජාතික ව්‍යාපාර කෙරෙහි පීඩක ජාතීන්ගේ නිර්ධන පංතිය දැක්විය යුතු ආකල්පය පිළිබඳ කදිම ව්‍යවහාරික ආදර්ශයක් ලෙසට, මාක්ස් හා එංගල්ස් අයර් ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන් අනුගමනය කළ ප්‍රතිපත්තිය ප්‍රයෝජනවත් වේ. එක් ජාතියක ඉඩම් හිමියන්ගේ සහ ධනපති පංතියේ හිංසනය හා වරප්‍රසාද මගින් ස්ථාපිත කරන ලද රාජ්‍ය දේශ සීමා වෙනස් කිරීමේ අදහස ''මනෝරාජික'' යයි හංවඩු තැබීමට යොමු වෙමින් සියලුම රටවල, සියලුම වර්ණවල හා සියලුම භාෂා කථා කරන අමනයන් දක්වන, ''දීන හදිස්සිය'' ගැන අනතුරු හැඟවීමක් වශයෙන් එය ප්‍රයෝජනවත් වේ.

අයර් ජාතිය සහ ඉංග්‍රීසි නිර්ධන පංතිය මාක්ස්ගේ ප්‍රතිපත්තිය නොපිළිගත්තෝ නම්, අයර්ලන්තය වෙන් වී ඉවත් වීම ඔවුන්ගේ සටන් පාඨය කර නොගත්තෝ නම්, එය ඉතාමත් නරක ආකාරයේ අවස්ථාවාදයක්ද, ප්‍රජාතන්ත්‍රවාදීන් හා සමාජවාදීන් වශයෙන් ඔවුන්ගේ යුතුකම් පැහැර හැරීමක්ද, ඉංග්‍රීසි ප්‍රතිගාමීත්වයට හා ඉංග්‍රීසි ධනපති පංතියට සහනයක් දීමක්ද, වන්නට තිබුණි .

## 9. 1903 වැඩ පිළිවෙළ සහ එහි ලික්විඩේටර්වරු

රුසියානු මාක්ස්වාදීන්ගේ වැඩ පිළිවෙළ අනුමත කළ 1903 සම්මේ-ලනයේ වාර්තා, ඉතා දුර්ලභ දෙයක් වී තිබේ. එහි විවිධ කරුණුවලට අධිතාලම් වූ අභිප්‍රායයන් ගැන, කම්කරු පංති ව්‍යාපාරයේ ක්‍රියාශීලී සාමාජිකයන් අති බහුතරය නොදන්නෝය. (ඊට සම්බන්ධ සාහිත්‍යය සියල්ල-ටම, නීති විරෝධී භාවයේ ආශිර්වාදය ලැබී ඇති නිසා එය තවදුරටත් එසේ වේ.) එනිසා සාකච්ඡාවට භාජනය වී ඇති ප්‍රශ්නය සම්බන්ධයෙන්



1903 සම්මේලනයේදී ඇති වූ විවාදය විශ්ලේෂණය කර බැලීම අවශ්‍ය වන්නේය.

''ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය'' ගැන ලියවුනු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පොත පත කොතරම් අඩු වුවත්, මෙම අයිතිය නිතරම වටහා ගන්නා ලද්දේ වෙන් වී ඉවත් වීම සඳහා අයිතිය ලෙසට ය යනු, එයින් පැහැදිලිව පෙනෙන බැවි, අපි ප්‍රථමයෙන්ම සඳහන් කරන්-නෙමු. මේ ගැන සැක පළ කරමින් 9 වැනි වගන්තිය ''අපැහැදිලිය'' ආදිය කියන සෙම්කෝව්ස්කිලා, ලීබ්මාන්ලා සහ යුර්කේවිච්ලා එසේ කරන්නේ, ඔවුන්ගේ හුදු නොදැනුවත්කම සහ නොසැලකිලිමත් කම නිසාම පමණකි. කෙටුම්පත් වැඩ පිළිවෙළෙහි ඇතුලත් ''ස්වාධිපත්‍යය සඳහා අයිතියට'' පක්ෂව, 1902 තරම් ඈත කාලයකදී ''සර්යා'' මගින් කරුණු ඉදිරිපත් කළ ප්ලෙහානව්*, මෙම ඉල්ලීම පිළිගැනීම ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ට අනිවාර්ය නොවන බවත්, එය ''පිළිගැනීම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අනිවාර්ය දෙයක්'' වන බවත්, ලීවේය. අපගේ මිත්‍ර මහ-රුසියානු ජාතියේ ස්වදේශ වාසීන්ගේ දුර්මතයන්ට රිදවීමට ඇති බිය නිසා, අපි එය ඉදිරිපත් කිරීමට අමතක කරන්නමෝ නම්, නැතහොත් පැකිලෙන්නමෝ නම්, අපගේ තොලග ඇති, ''සකල දේශවාසී කම්කරුවනි, එක්වව්!'' යන හඬ නැඟීම ලජ්ජාවට හේතුවන මුසාවක් වනු ඇත...''[150] යි ප්ලෙහානොව් ලීවේය.

සලකා බැලීමට පාත්‍ර වී තිබෙන කරුණට අදළ මූලික තර්කය ගැන වූ මෙම විස්තරය, ඉතාමත් ගැලපෙනසුලුය. එය කොතරම් ගැලපෙන සුලුද යත්, අපගේ වැඩ පිළිවෙළ ගැන ''හැම ක්‍රමයෙන්ම'' විවේචනය කරන්නවුන්, බිය සුළු ලෙස එය මඟ හැරීම, පුදුමයට කරුණක් නොවේ. මෙම කරුණ අත්හැර දැමීම කුමණ චේතනාවකින් කළත්, එය මහ-රුසියානු ජාතිකවාදයට ඇත්ත වශයෙන්ම සහන සැලසීමකි. එය සියලුම ජාතීන්ගේ ස්වාධිපත්‍යය පිළිබඳ ප්‍රශ්නයක් වන කල, මහ-රුසියන් යයි කියන්නේ මන්ද? එසේ කියන්නේ, මහ-රුසියනුන්ගෙන් වෙන්වී ඉවත් වීම ඉන් අදහස් වන හෙයිනි. නිර්ධන පංතිකයන්ගේ සමගියේ යහපත උදෙසා, ඔවුන්ගේ පංති සහෝදරත්වයේ යහපත උදෙසා ජාතීන්ට වෙන්වී ඉවත්වීමට අයිතිය ඉල්ලා හඬ නගනු — ඉහත උපුටා දක්වන ලද වචන-වලින් අවුරුදු දෙලහකට පෙර ප්ලෙහානව් පිළිගත්තේ එයයි. අවස්-

* 1916 දී ලෙනින් මෙම කොටසට පහත සඳහන් සටහන යෙදුවේය: ''1903 දී ප්ලෙහානව් අවස්ථාවාදයේ ප්‍රධාන ප්‍රතිපාක්ෂිකයෙකු වූ බවත්, ඔහු එවකට සිටියේ, ඔහුගේ අප්‍රසන්න තරම් ප්‍රසිද්ධ වූ අවස්ථාවාදී හැරීමට හා පසුව ජාත්‍යොන්මාදවාදයට වැටීමට වඩා, බොහෝ ඈතින් බවත් අමතක නොකරන ලෙස පාඨකයාගෙන් ඉල්ලමු''.

ථාවාදීන් මේ ගැන කල්පනා කර බැලී නම්, ඔවුන් සමහර විට ස්වාධි-පත්‍යය ගැන මෙතරම් අර්ථ විරහිත කථා නොකියන්නට ඉඩ තිබුණි.

ප්ලෙහානව් යෝජනා කළ කෙටුම්පත් වැඩ පිළිවෙළ අනුමත කළ 1903 සම්මේලනයේදී, ප්‍රධාන වැඩ කොටස ඉටු කෙරුනේ වැඩ පිළිවෙළ කොමිසමෙනි. අවාසනාවකට මෙන් එහි සාකච්ඡාවල වාර්තා තබා නොගන්නා ලදී. මෙම කාරණය සම්බන්ධයෙන් එම වාර්තා තිබුණි නම් ඉතා වැදගත් වන්නට තිබුණි. ඊට හේතුව පෝලන්ත සමාජවාදීන් වූ වාර්ෂාව්ස්කි හා ගනෙත්ස්කි, ඔවුන්ගේ අදහස් වෙනුවෙන් කරුණු ඉදි-රිපත් කිරීමටත්, ''ස්වාධිපත්‍යය සඳහා අයිතිය පිළිගැනීම'' වැරදි බව කීමටත්, උත්සාහ කළේ කොමිසම තුළදී පමණක් වීමය. ඔවුන්ගේ (වර්ෂා-ව්ස්කිගේ කථාවෙන් සහ ඔහුගේ සහ ගනෙත්ස්කිගේ ප්‍රකාශයෙන් ඉදිරි-පත් කර තිබෙන, සම්මේලන වාර්තාවේ පිටු 134—136 හා 388—390 හි ඇති) තර්ක සමග, රෝසා ලුක්සෙම්බුර්ග් විසින් පෝලන්ත භාෂාවෙන් ලියන ලද හා අප විසින් විශ්ලේෂණය කරන ලද, ලිපියෙහි සඳහන් තර්ක සසඳා බැලීමට තරම්, කිසියම් පාඨකයෙක් උනන්දු වුවහොත්, ඒවා එක සමාන බව ඔහුට පෙනෙනු ඇත.

දෙවැනි සම්මේලනයේ වැඩ පිළිවෙළ කොමිසම, මෙම තර්ක ගැන සැලකූයේ කෙසේද? එහිදී අන් කිසිවෙකුටත් වඩා පෝලන්ත මාක්ස්-වාදීන්ට විරුද්ධව කථා කළේ ප්ලෙහානව්ය. මෙම තර්ක එහිදී දයානු-කම්පා විරහිතව සමච්චලයට ලක් කරන ලදී! ස්වාධිපත්‍යය සඳහා ජාතී-න්ගේ අයිතිය පිළිගැනීම රුසියාවේ මාක්ස්වාදීන් විසින් ප්‍රතික්ෂේප කරනු ලැබිය යුතුයයි යෝජනා කිරීමේ විකාර ස්වභාවය එහිදී කොතරම් සරල ලෙස හා පැහැදිලි ලෙස පෙන්වා දෙන ලද්දේද යත්, සම්මේලනයේ පූර්ණ රැස්වීමේදී තම තර්ක නැවත ඉදිරිපත් කිරීමටවත් පෝලන්ත මාක්ස්-වාදීහු ඉදිරිපත් නොවූහ! මහ-රුසියානු, යුදෙව්, ජෝර්ජියානු සහ අර්මේ-නියානු මාක්ස්වාදීන්ගේ ඒ උසස් තම රැස්වීමේදී, තම අදහස් සම්පූර්ණ-යෙන්ම අසාර්ථක වන බව මැනවින් වටහා ගත් ඔවුහු, සම්මේලනයෙන් පිටව ගියහ.

තමන්ගේ වැඩ පිළිවෙළ ගැන බරපතල උනන්දුවක් දක්වන ඕනෑම කෙනෙකුට මෙම සිදුවීම ඉතාමත් වැදගත් වන බව නොකිව මනාය. පෝලන්ත මාක්ස්වාදීන්ගේ තර්ක, වැඩ පිළිවෙළ කොමිසමේදී සම්පූර්ණ-යෙන්ම පරාජය කර දමනු ලැබීමත්, සම්මේලනයේ පූර්ණ රැස්වීමේදී ඔවුන් තමන්ගේ අදහස්වලට පක්ෂව කරුණු දැක්වීමේ ප්‍රයත්නය අත්හැර දැමීමත්, ඉතා වැදගත්ය. රෝසා ලුක්සෙම්බුර්ග් 1908 දී ලියූ ඇගේ ලිපි-යෙහි, මේ ගැන සඳහන් නොකරන තරමට ඇ ''නිහතමානී'' වීම පුදුමයක් නොවේ. සම්මේලනය ගැන මතකය ඉතා අප්‍රසන්න වන්නට ඇත! වැඩ



පිළිවෙළෙහි 9 වැනි වගන්තිය ''සංශෝධනය'' කරන ලෙස කියමින් සියලුම පෝලන්ත මාක්ස්වාදීන් වෙනුවෙන් වාර්ෂාව්ස්කි හා ගනෙත්ස්කි විසින් 1903 දී ගෙන එන ලද, විහිළුවක් වන තරමට අයෝග්‍ය වූ, යෝ-ජනාව ගැනද, ඇ නිහඬ විය. එය පුනරුච්චාරණය කිරීමට රෝසා ලුක්සෙ-ම්බුර්ග් හෝ අනෙකුත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් හෝ ඉදිරිපත් වී (හෝ කිසිකලෙකත් වනු ඇත්තේ හෝ) නැත.

රෝසා ලුක්සෙම්බුර්ග්, තමා 1903 දී ලත් පරාජය වසං කරමින්, මෙම කරුණු ගැන නිහැඬියාව රකින නමුත්, පක්ෂයේ ඉතිහාසය ගැන උනන්-දුවක් දක්වන අය, ඒවා ගැන නිශ්චිත ලෙස කරුණු දැන ගනිමින්, ඒවායේ වැදගත්කම ගැන සිතා බැලීම, තම යුතු කම සේ සලකනු ඇත.

1903 දී සම්මේලනයෙන් පිටවී යන අවස්ථාවේදී රෝසා ලුක්සෙම්-බුර්ග්ගේ මිතුරෝ පහත සඳහන් ප්‍රකාශය ඉදිරිපත් කළහ.

''කෙටුම්පත් වැඩ පිළිවෙළෙහි 7 වැනි වගන්තිය (දැන් 9 වැනි වගන්-තිය) පහත සඳහන් පරිදි විය යුතුයයි අපි යෝජනා කරමු: රාජ්‍යය තුළ සංස්ථා ගත වූ සියළුම ජාතීන්ගේ සංස්කෘතික සංවර්ධනයේ සම්පූර්ණ නිදහස සහතික කරන ආයතන'' (වාර්තාවල පිටු 390).

එකල පෝලන්ත සමාජවාදීන්, ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන් ඉදි-රිපත් කළ අදහස් කොතරම් අපැහැදිලි වීද යත්, ස්වාධිපත්‍යය වෙනුවට ඔවුන් යෝජනා කළේ ඒ අපකීර්තිමත් ''සංස්කෘතික ජාතික ස්වතන්ත්‍රය'' මය — වෙනසකට තිබුණේ එය වෙනත් නමක් යටතේ ඉදිරිපත් කිරීම පමණකි!

මෙය විශ්වාස නොකළ හැකි දෙයක් සේ හැඟෙතත්, අවාසනාවකට මෙන් සත්‍ය කරුණ එය ය. සම්මේලනයේ ඡන්ද පහක් හිමි බුන්ද්වාදීන් පස් දෙනෙක්ද, කොස්ත්‍රොව්ගේ උපදේශක හඬ ගණන් නොගත් කල, ඡන්ද හයක් හිමි කොකේසියානුන් තුන් දෙනෙක්ද සිටි නමුත්, ස්වාධි-පත්‍යය පිළිබඳ වගන්තිය ප්‍රතික්ෂේප කිරීමට පක්ෂව එක ඡන්දයක්වත් නොලැබිණ. මෙම වගන්තියට ''සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය'' යන්න එකතු කිරීම සඳහා යෝජනාවට පක්ෂව (ගෝල්ඩ්බ්ලත්ගේ සූත්‍රයට, එනම්, ජාතියේ සංස්කෘතික සංවර්ධනය සඳහා පූර්ණ නිදහස සහතික කරන ආයතන පිහිටුවීමට පක්ෂව) ඡන්ද තුනක්ද, ලීබෙර්ගේ සූත්‍රයට (සංස්කෘතික සංවර්ධනයේ නිදහස සඳහා ජාතීන්ගේ අයිතියට) පක්ෂව ඡන්ද හතරක්ද, ලැබුණි.

දැන් රුසියානු ලිබරල් පක්ෂය, කැඩෙට් පක්ෂය කල එළි බැස තිබෙන නිසා, එහි වැඩ පිළිවෙළෙහි ජාතීන්ගේ දේශපාලන ස්වාධිපත්‍යය වෙනුවට ''සංස්කෘතික ස්වාධිපත්‍යය'' ආදේශ කර තිබෙන බව අපි දනිමු. එනිසා,

රෝසා ලුක්සෙම්බුර්ග්ගේ පෝලන්ත මිත්‍රයන්,පෝ. ස. ස.පක්ෂයේ ජාතිකවාදයට විරුද්ධ සටන් කළ අතර, එය කොතරම් සාර්ථක ලෙස කරන මාක්ස්වාදී වැඩ පිළිවෙළ වෙනුවට ලිබරල් වැඩ පිළිවෙළක් අදේශ කිරිම සඳහා යෝජනාවක්ද ඔවුහු ඉදිරිපත් කළහ! ඒ ක්ෂණයෙන්ම, අපගේ වැඩ පිළිවෙළ අවස්ථාවාදී යයි ද, ඔවුහු චෝදනා කළහ දෙවැනි සම්මේලනයේ වැඩ පිළිවෙළ කොමිසම,මෙම චෝදනාව සිනා සීමෙන් පිළිගැනීම පුදුමයට කරුණක් නොවේ!

අප දුටු පරිදි ''ජාතීන්ගේ ස්වාධිපත්‍යයට'' එක් අයෙක්වත් විරුද්ධත්වය නොදක්වූ ඒ දෙවැනි සම්මේලනයේ නියෝජිතවරු එය වටහා ගත්තේ කෙසේද?

වාර්තාවලින් ගෙන පහත උපුටා දක්වා ඇති කොටස්වලින් ඊට පිළිතුරු සැපයේ.

''මර්තිනව් අදහස් කරන්නේ 'ස්වාධිපත්‍යය' යන්නට පුළුල් අර්ථ නිරූපනයක් දිය යුතු බවය. එයින් අදහස් කෙරෙන්නේ ප්‍රාදේශීය ස්වයං පාලනය නොව, හුදෙක් වෙනම රාජ්‍යයක ආකාරයෙන් තමන් ස්ථාපිත වීමේ අයිතිය පමණකි'' (පිටු 171). මර්තිනව්, රෝසා ලුක්සෙම්බුර්ග්ගේ මිතුරන්ගේ තර්ක ප්‍රතික්ෂේප කර සමච්චලයට ලක් කරන ලද, වැඩ පිළිවෙළ කොමිසමේ සාමාජිකයෙක් විය. මර්තිනව් එවකට ''ආර්ථිකවාදියෙක්'' වූ අතර, ''ඉස්ක්‍රාවේ'' දැඩි ප්‍රතිපාක්ෂිකයෙක් විය. වැඩ පිළිවෙළ කොමිසමේ වැඩි දෙනා පිළිනොගන්නා අදහසක් ඔහු විසින් ඉදිරිපත් කරන ලද්දේ නම්, නිසැක වශයෙන්ම එය ප්‍රතික්ෂේප වන්නට තිබිණි.

කොමිසම වැඩ අවසන් කළ පසු, සම්මේලනය 8 වැනි වගන්තිය (වර්තමාන 9 වැනි වගන්තිය) සාකච්ඡා කළ කල්හි, ප්‍රථමයෙන්ම සම්මේලනය ඇමතුයේ බුන්ද්වාදී ගෝල්ඩ්බ්ලත් ය.

ඔහු මෙසේ කීවේය:

''ස්වාධිපත්‍යය සඳහා අයිතියට'' විරුද්ධත්වය දැක්වීමට පුළුවන් කමක් නැත. ජාතියක් නිදහස සඳහා සටන් කරන විට ඊට විරුද්ධ නොවිය යුතුය. ප්ලෙහානව් කී ලෙසට, රුසියාව සමග නීත්‍යානුකූල විවාහයකට ඇතුලත් වීමට පෝලන්තය ප්‍රතික්ෂේප කරන්නේ නම්, ඇයට කරදර නොකළ යුතුය. මෙම සීමාවන් තුළ සිටිමින් මම එම අදහසට එකඟ වෙමි'' (පිටු 175—176).

සම්මේලනයේ පූර්ණ රැස්වීමේදී ප්ලෙහානව් මෙම විෂය ගැන කිසිවක් කියා නැත. ගෝල්ඩ්බ්ලත් සඳහන් කළේ ප්ලෙහානව් වැඩපිළිවෙළ කොමිසමේදී කී දේ ගැනය. එහිදී, ස්වාධිපත්‍යය යනු වෙන්වී ඉවත් වීමේ අයිතිය යයි අර්ථ දෙන සේ ඒ ගැන සරල, එහෙත් සවිස්තර



ලෙස පැහැදිලි කරන ලදී. ගෝල්ඩ්බ්ලත්ට පසුව කථා කළ ලීබෙර් මෙසේ කීය:

''රුසියාවේ දේශසීමාවන් තුළ සිටීමට තමන්ට නොහැකි බව කිසියම් ජාතියකට පෙනේ නම්, ඇත්ත වශයෙන්ම, පක්ෂය එහි මඟ අවුරන කිසිම බාධකයක් ඉදි කරන්නේ නැත'' (පිටු 176).

පක්ෂ වැඩපිළිවෙළ අනුමත කළ දෙවැනි සම්මේලනයේ ඒකමතික අදහස වූයේ, ස්වාධිපත්‍යය යන්නෙන් අදහස් කෙරුනේ වෙන්වී ඉවත්වීම ''පමණක්'' බව පාඨකයාට පෙනෙනු ඇත. ඒ අවස්ථාවේදී බුන්ද්වාදීහු පවා, මෙම සත්‍යය අවබෝධ කරගෙන සිටියහ. ස්වකීය නොදැනුවත් කමේ එඩිතර කමින් යුතුව, වැඩපිළිවෙළ ''අපැහැදිලි'' යයි කියන අය දකින්නට ලැබෙන්නේ, එක දිගටම ප්‍රතිවිප්ලවය හා නොයෙක් ආකාරයේ ''අප දෘෂ්ටි'' ඉදිරිපත් වන මේ අපගේ අප්‍රසන්න කාල සීමාවේදී පමණකි. නමුත්, ඒ කණගාටුදායක තත්වයේ සිටින ''අනාගත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්'' ගැන කාලය මිඩංගු කිරීමට පෙර, වැඩපිළිවෙළ කෙරෙහි පෝලන්ත ජාතිකයන් දක්වන ආකල්පය ගැන සලකා බලා හමාර කරමු.

ඔවුන් (1903) දෙවැනි සම්මේලනයට පැමිණියේ සමගිය අවශ්‍ය හා නැතිවම බැරි බව කියමිනි. නමුත් වැඩපිළිවෙළ කොමිසමේදී ඔවුන්ගේ ''පසුබැසීම්'' වලින් පසුව, ඔවුහු සම්මේලනයෙන් පිටවී ගියහ. ඔවුන්ගේ අවසාන කීම වූයේ, ස්වාධිපත්‍යය වෙනුවට සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය ආදේශ කරන ලෙස යෝජනා කරමින් ඉදිරිපත් කළ ලිඛිත ප්‍රකාශය ය — එය සම්මේලන වාර්තාවේ මුද්‍රණය කර ඇත.

1906 දී පෝලන්ත මාක්ස්වාදීහු පක්ෂයට බැඳුනහ. පක්ෂයට බැඳීමේදීවත්, ඉන් පසුවවත් (1907 සම්මේලනයේදී, 1907[151] හා 1908 සාකච්ඡා සභාවලදී, නැතහොත්, 1910[152] පූර්ණ රැස්වීමේදී හෝ) ඔවුහු රුසියානු වැඩ පිළිවෙළෙහි 9 වැනි වගන්තිය සංශෝධනය කිරීමට,එකද යෝජනාවක් වත් ඉදිරිපත් නොකළහ!

එය සත්‍යයකි.

එනිසා, සියලුම කියමන් හා සහතික කිරීම් එසේ තිබියදීම, 1903 දී සම්මේලනයෙන් පිටවී ගිය රෝසා ලුක්සෙම්බුර්ග්ගේ මිතුරන්, වැඩපිළිවෙළේ 9 වැනි වගන්තිය සංශෝධනය කිරීමේ ප්‍රශ්නය, පක්ෂ මාර්ග කිසිවක් තුළින් ඉදිරිපත් නොකරම, 1906 දී පක්ෂයට බැඳීමෙන්, නිශ්චිත ලෙසටම ඔප්පු වන්නේ, දෙවැනි සම්මේලනයේ වැඩපිළිවෙළ කොමිසමේ විවාදයෙන් හා එසේම, එම සම්මේලනයේ තීරණවලින්ද, මෙම ප්‍රශ්නය බේරුම් කෙරුණු බව පිළිගත් ඔවුන්, නිහඬ ලෙස තම වරද පිළිගෙන, එය නිවරද කරගත් බවය.

රෝසා ලුක්සෙම්බුර්ග්ගේ ලිපිය ඇගේ අත්සන ඇතිව 1908 දී පළ විය. නමුත්, පක්ෂයේ ප්‍රකාශකයින්ට වැඩ පිළිවෙළ විවේචනය කිරීමේ අයිතිය දිය නොහැකි බව කීමට කිසිවෙක් කල්පනා කළේ නැත. තවද, මෙම ලිපිය ලිවීමෙන් පසුව ද 9 වැනි වගන්තිය සංශෝධනය කිරීමේ ප්‍රශ්නය, පෝලන්ත මාක්ස්වාදීන්ගේ එකම මණ්ඩලයක් වත් විසින්, මතු කරනු ලැබුවේ නැත.

එනිසා, ''බර්බා'' අංක 2 හි (1914 මාර්තු), එම ප්‍රකාශනයේ කර්තෘවරුන් වෙනුවෙන් පහත සඳහන් පරිදි ලිවීමෙන් රෝසා ලුක්සෙම්බුර්ග්ට පසසන සමහර අයට ට්‍රොට්ස්කි කළේ බලවත් අයහපතකි.

''ජාතික ස්වාධිපත්‍යය සඳහා අයිතිය'' සම්පූර්ණයෙන්ම දේශපාලන සන්ධාරයෙන් තොර යයිද, එය වැඩ පිළිවෙළෙන් ඉවත් කළ යුතු යයිද, පෝලන්ත මාක්ස්වාදීහු සලකති'' (පිටු 25).

උපකාරශීලී ට්‍රොට්ස්කි සතුරෙකුට වඩා භයානකය! ''පෝලන්ත මාක්ස්වාදීන්'' පොදු වශයෙන් රෝසා ලුක්සෙම්බුර්ග් ලියන සෑම ලිපියකටම සහයෝගය දක්වන්නන් ලෙසට වර්ග කිරීමට හේතු වූ කරුණු වශයෙන් ''පුද්ගලික කථා බහ'' හැර (එනම්, ට්‍රොට්ස්කි, ඔහුගේ පැවැත්ම සඳහා පිහිට කොට ගන්නා හුදු කට කථා හැර) වෙනත් කිසිවක් හෝ ඉදිරිපත් කිරීමට ඔහුට පුළුවන් කමක් නැත. ට්‍රොට්ස්කි, ''පෝලන්ත මාක්ස්වාදීන්'' පෙන්වා ඇත්තේ ගරුත්වයක් හා හෘදය සාක්ෂියක් නොමැති, තමන්ගේම අවබෝධයනට හා පක්ෂයේ වැඩපිළිවෙළට පවා ගුරු කිරීමෙහි අසමත්, ජනයා ලෙසට ය. ට්‍රොට්ස්කි මොනතරම් උපකාරශීලීද!

ස්වාධිපත්‍යය සඳහා අයිතිය මුල් කරගෙන, පෝලන්ත මාක්ස්වාදීන් 1903 දී දෙවැනි සම්මේලනයෙන් ඉවත්ව ගිය විට, ඔවුන් විසින් මෙම අයිතිය සන්ධාරයකින් තොර, වැඩපිළිවෙළෙන් ඉවත් කිරීමට යටත් කරුණක් ලෙසට සැලකිනැයි, එකල ට්‍රොට්ස්කිට කිව හැකිව තිබිණ.

නමුත් ඉන් පසුව, පෝලන්ත මාක්ස්වාදීහු, මෙය ස්වකීය වැඩ පිළිවෙළ කොට ගත් පක්ෂයට බැඳුනු අතර, කිසි විටෙක එය සංශෝධනය කිරීමට යෝජනාවක් ඉදිරිපත් කර නැත*

* පෝලන්ත මාක්ස්වාදීන් රුසියානු මාක්ස්වාදීන්ගේ 1913 ග්‍රීස්ම සෘතුවේ සම්මේලනයට සහභාගි වූයේ උපදේශක හඬ පමණක් ඇතිව බවත්, ස්වාධිපත්‍යය (වෙන්වී ඉවත් වීම) සඳහා අයිතිය ගැන ඔවුන් ඡන්දය ප්‍රකාශ නොකළ බවත්, පොදු වශයෙන් එම අයිතියට විරුද්ධත්වය ප්‍රකාශ කළ බවත්, අපට දන්වා ඇත. ඔවුන් කටයුතු කළ ආකාරයටත් මේ දක්වා කර ඇති ලෙසට වෙන්වී ඉවත්වීමට විරුද්ධව පෝලන්තය තුළ උද්ඝෝෂණය කිරීමටත්, අයිතිය ඔවුනට තිබුණු බව ඇත්තකි. නමුත් ට්‍රොට්ස්කි කී දේ එයට වෙනස් ය. එසේ කියන්නේ, ''වැඩ පිළිවෙළෙහි'' 9 වැනි වගන්තිය ''එයින් ඉවත් කරන ලෙස'' පෝලන්ත මාක්ස්වාදීන් ඉල්ලා නැති හෙයිනි.



ට්‍රොට්ස්කි ඔහුගේ සඟරාවේ පාඨකයන්ගෙන් මෙම කරුණු සඟවා තැබුවේ මන්ද? ඔහු එසේ කළේ, ලික්විඩේෂනිස්ට්වාදයේ පෝලන්ත හා රුසියානු ප්‍රතිපාක්ෂිකයන් අතර වෙනස්කම් වර්ධනය කිරීමට හා වැඩ පිළිවෙළ පිළිබඳ ප්‍රශ්නය ගැන රුසියානු කම්කරුවන් රැවටීමට මාන බැලීම ඔහුට වාසි සහගත වන හෙයින් පමණකි.

ට්‍රොට්ස්කි මේ දක්වාම මාක්ස්වාදයේ එකම වැදගත් ප්‍රශ්නයක් ගැනවත්, දැඩි ලෙස අදහසක් දරා නොමැත. නිතරම කිසියම් මත භේදයක පැලුම් ඉරක් තුළට පණුවකු සේ කා වැදෙන ඔහු, එක පැත්තක් අත් හැර තවත් පැත්තකට පැන යයි. මෙම වර්තමාන අවස්ථාවේදී, ඔහු බුන්ද්වාදීන්ගේ හා ලික්විඩේටර්වරුන්ගේ සමාගමයෙහි සිටියි. නමුත් මෙම මහත්වරු පක්ෂය ගැන මහත් සැලකිල්ලකින් කටයුතු කරන අය නොවෙති.

බුන්ද්වාදී ලිබ්මාන්ට කන් දෙන්න.

මෙම මහතා මෙසේ ලියයි: ''අවුරුදු පහළොවකට පෙර, රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, ''ස්වාධිපත්‍යය'' සඳහා සෑම ජාතියකටම ඇති අයිතිය පිළිබඳ වගන්තිය ඔවුන්ගේ වැඩ පිළිවෙළෙහි ඇතුලත් කළ විට සෑම කෙනෙක්ම (!!) තමන්ගෙන්ම මෙසේ ඇසුවේය: මෙම හැඩකාර (!!) පාඨයෙහි නියම අර්ථය කුමක්ද? එයට පිළිතුරක් ලැබුණේ නැත (!!). මෙම වචනය මීදුමෙන් එතී තිබෙන්නට හරින ලදී. එසේම ඇත්ත වශයෙන්ම, එකල එම මීදුම පලවා හැරීම දුෂ්කර දෙයක් විය. මෙම කරුණ නිශ්චය කර කිව හැකි කාලය පැමිණ තිබුණේ නැත. එනිසා දැනට එය මීදුමෙහි තිබෙන්නට හැරිය මනා යයි කියන ලදී (!!) එය තුළ ගැබ් කළ යුතු සන්ධාරය කුමක්ද යනු, ව්‍යවහාරය විසින් පෙන්වනු ඇත''.

මෙම ''හෙළුවැලි පැංචා''[153] පක්ෂයට උසුළු විසුළු කරන ආකාරය අලංකාර නොවේද?

ඔහු එයට උසුළු විසුළු කරන්නේ මන්ද?

ඔහු එසේ කරන්නේ ඔහු කිසි දෙයක් උගෙන ගෙන හෝ කිසිම පක්ෂ ඉතිහාසයක් කියවා හෝ නැති, අන්ත මුග්ධයෙක් හා පක්ෂය හා එය නියෝජනය කරන සියළු දෙයම හා සම්බන්ධයෙන් වූකල, තැන තැන නිරුවතින් ඇවිදීම ''හරි දෙය'' ලෙසට සැලකෙන, ලික්විඩේෂනිස්ට් පිරිස් අතරට වැටුනු අයෙක් වන හෙයිනි.

පොම්යලොව්ස්කිගේ සෙමනේරි ශිෂ්‍යයා ''ලුණු ගෝවා පීප්පයකට කෙළ ගැසූ'' බවට පුරසාරම් දෙඩයි[154] බුන්ද්වාදී මහත්වරු ඊට වඩා

එහාට ගොස් ඇත. ඔවුහු තමන්ගේම පීප්පයට කෙළ ගැසීමට ලීබ්මාන්ලා මුදු හළහ. ජාත්‍යන්තර සම්මේලනය තීරණයක් ගෙන තිබීමත්, ඔවුන්ගේම පක්ෂයේ සම්මේලනයේදී, ''ස්වාධිපත්‍යය'' යන්න ඔවුන්ට වටහා ගත හැකි බව හා එයට ඔවුන්ගේ පක්ෂපාත භාවය පවා ඇති බව, ඔවුන්ගේම බුන්ද් පක්ෂයේ නියෝජිතයන් දෙදෙනෙකු (ඔවුන් ''ඉස්ක්‍රා'' වෙහි මොන ''දරුණු'' විවේචකයන් හා අධිෂ්ඨාන සහගත සතුරන් වීද!) විසින්ම ඔප්පු කර තිබීමත්, යන කරුණු ගැන ලීබ්මාන්ලාට ඇති කැක්කුම කුමක්ද? එසේම, ''පක්ෂ ප්‍රකාශකයන්'' (විහිළු නොකරනු මැනවි!) පක්ෂ ඉතිහාසය හා වැඩ පිළිවෙළ ගැන සලකන්නේ සෙමනේරි ශිෂ්‍යයා ලෙසට නම්, පක්ෂය ඇවර කර දැමීම වඩාත් පහසු නොවන්නේද?

මෙහි තවත් දෙවැනි,''හෙළුවැලි පැංචෙකි''.ඒ ''ඩිස්වින්''[155] සහරාවේ යූර්කේවිච් මහතාය. දෙවැනි සම්මේලනයේ වාර්තාව යූර්කේවිච් මහතා හමුවේ තිබෙන්නට ඇත. එසේ අදහස් කරන්නේ ඔහු ගෝල්ඩ්බ්ලත් විසින් පුනරුච්ඡාරණය කරන ලද පරිදි ප්ලෙහානව් කී දේ උපුටා දක්වන හෙයින්ද, ස්වාධිපත්‍යයෙහි එකම අර්ථය විය හැක්කේ වෙන්වී ඉවත් වීමේ අයිතිය පමණක් ය යනු දන්නා බව පෙනෙන හෙයින්ද වේ. එය එසේ වුවත්, රුසියානු මාක්ස්වාදීන් රුසියාවේ ''රාජ්‍ය ඒකස්ථභාවයට'' පක්ෂ වන්නේ යයි චෝදනා කරමින් ඔවුන් ගැන අපවාද උක්‍රේනියානු සුළු ධනපතියන් අතර පැතිරවීමෙන්, ඔහු වැලකී සිටින්නේ නැත (අංක 7—8, 1913 පිටු 83 ආදිය). උක්‍රේනියානු ප්‍රජාතන්ත්‍රවාදීන්, මහ රුසියානු ප්‍රජාතන්ත්‍රවාදීන් කෙරෙන් ඈත් කර තැබීමට මීට වඩා හොඳ ක්‍රමයක් යූර්කේවිච්ලාට නිර්මානය කරගත නොහැකි බව ඇත්ත ය. ඔවුන් එසේ ඈත් කර තැබීම, විශේෂ ජාතික සංවිධානයක් තුළ සිටිමින්, උක්‍රේනියානු කම්කරුවන් වෙන්වීම යෝජනා කරන, ඩිස්වින් කණ්ඩායමේ සම්පූර්ණ ප්‍රතිපත්තියටම ගැලපෙන්නේය!*

නිර්ධන පංතියේ පිරිස් භේද කරමින් සිටින — වාස්තවික වශයෙන් ''ඩිස්වින්'' සහරාවේ කාර්ය කොටස — ජාතිකවාදී අමනයන් කණ්ඩායමක්, ජාතික ප්‍රශ්නය පිළිබඳව එවැනි අන්ත පටලැවිලි ප්‍රචාරය කිරීම, සම්පූර්ණයෙන්ම වටහා ගත හැකිය.''පක්ෂය අසබඩ''පුද්ගලයන් ලෙසට තමන් ගැන විස්තර කෙරෙන විට ''භයානක ලෙස'' උරණ වන යූර්කේවිච්ලා සහ ලීබ්මාන්ලා, වැඩපිළිවෙළෙහි අන්තර්ගත වෙන්වී ඉවත්

* ලෙවින්ස්කි මහතාගේ (උක්‍රේනියානු බසින් ලියන ලද) ''ගැලීසියාවේ උක්‍රේනියානු කම්කරු පංති ව්‍යාපාරයේ සංවර්ධනය ගැන ලුහුඬු විස්තරයක්'', යන 1914 කීව්හිදී පළ කරන ලද පොතට යූර්කේවිච් මහතා ලියූ පෙරවදන විශේෂයෙන් බලන්න.



වීමේ අයිතිය පිළිබඳ ප්‍රශ්නය කෙසේ බේරුම් කිරීමට තමන් කැමති වන්නේද යන්න ගැන වචනයක්වත්, එකම වචනයක්වත් නොකියන බව, කිවමනා නොවේ.

නමුත්, තුන්වැනි හා ප්‍රධාන ''හෙළුවැලි පැංචා'' වන සෙම්කොව්ස්කි මහතා මෙහි ඇත. ලික්විඩේෂනිස්ට්වාදී ප්‍රවෘත්ති පත්‍රයේ තීරු මගින් මහ-රුසියානු පිරිසක් අමතන ඔහු 9 වැනි වගන්තියට තදබල ලෙස පහර දෙන අතරම, මෙම වගන්තිය ඉවත් කිරීමට කර ඇති ''යෝජනාව, යම් යම් හේතු නිසා අනුමත නොකරන'' බව ප්‍රකාශ කරයි!!

මෙය විශ්වාස කළ නොහැකි වුවත්, ඇත්තක් මය.

1912 අගෝස්තුවේදී පැවැත්වුනු ලික්විඩේටර්වරුන්ගේ සාකච්ඡා සභාව[156] නිල වශයෙන් ජාතික ප්‍රශ්නය මතු කළේය. මාස දහ අටක කාලයක් තුළ, සෙම්කොව්ස්කි මහතා විසින් ලියන ලද ලිපිය හැර, 9 වැනි වගන්තිය ගැන වෙනත් කිසි ලිපියක් පළ වී නොමැත. කතුවරයා මෙම ලිපියෙන්, වැඩ පිළිවෙළ ප්‍රතික්ෂේප කරන නමුත්, ''යම් යම් හේතු නිසා'' (මෙය රහස්‍ය ස්වභාවයේ අසනීපයක්ද?) එය සංශෝධනය කිරීමේ යෝජනාව ''අනුමත නොකර'' සිටියි! මෙවැනි අවස්ථාවාදයක, නැතහොත්, ඊටත් වඩා භයානක ලෙස පක්ෂය අත්හැර දැමීමක හා එය ඇවර කිරීමේ අභිලාෂයක ආදර්ශයක්, ලෝකයේ වෙනත් කිසිම තැනකින් සොයා ගත නොහැකි බව අපට විශ්වාසය.

සෙම්කොව්ස්කිගේ තර්ක කෙබඳුද යනු පෙන්වීමට, මෙම තනි නිදසුන ප්‍රමාණවත් වනු ඇත.

ඔහු මෙසේ ලියයි: ''එකම රාජ්‍යයක රාමු කට්ටුව තුළ රුසියාවේ නිර්ධන පංතිය සමග එක පෙළට සිටිමින් සටන් කිරීමේ අපේක්ෂාව පෝලන්ත නිර්ධන පංතියට ඇත්නම්, ඒ අතර, අනිත් අතට, පෝලන්තය රුසියාවෙන් වෙන් කරගැනීමටත්, ජනමත විමසීමක් මගින් වෙන්වී ඉවත්වීම සඳහා වැඩි ඡන්දයක් ලබා ගැනීමටත්, පෝලන්ත සමාජයේ ප්‍රතිගාමී පංති අපේක්ෂා කරන්නේ නම්, අප කළ යුත්තේ කුමක්ද? රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අප, මධ්‍යම පාර්ලිමේන්තුවේදී අපගේ පෝලන්ත සහෝදරවරුද සමග එක්ව, වෙන්වී ඉවත් වීමට විරුද්ධව ඡන්දය දිය යුතු ද, එසේ නැතහොත්, ''ස්වාධිපත්‍යය සඳහා අයිතිය'' උල්ලංඝනය නොකරනු වස්, වෙන්වී ඉවත් වීමට පක්ෂව ඡන්දය දිය යුතුද?'' (''නෝවයා රබෝචය ගසියෙත''[157], අංක 71).

විවාදයට භාජනය වූ කාරණය කුමක්ද යන්නවත් සෙම්කොව්ස්කි මහතාට නොවැටහෙන බව මෙයින් පෙනේ! වෙන්වී ඉවත්වීමේ අයිතිය ගැන කියන විට ඒ පිළිබඳ ප්‍රශ්නය නිරාකරණය කළ යුතු වන්නේ මධ්‍යම පාර්ලිමේන්තුවක් මගින් නොව, වෙන්වී ඉවත්වන ප්‍රදේශයේ පාර්ලිමේ-

න්තුවක් (ඩයම් සභාවක්, ජනමත විමසීමක්, ආදිය) මගින් බව ඔහුට කල්පනා වූයේ නැත.

ප්‍රජාතන්ත්‍රවාදය යටතේ වැඩි දෙනා ප්‍රතිගාමීත්වයට පක්ෂ වෙති නම් ''අප කළ යුත්තේ කුමක්ද'' යන, මෙම ළමා වික්ෂිප්තතාවයෙන් සේවයක් වන්නේ, පුරිෂ්කේවිච්ලා හා කොකොෂ්කින්ලා යන දෙපිරිසම, විසින් වෙන්වී ඉවත් වීමේ හුදු අදහසම අපරාධයක් ලෙසට සලකනු ලබන තත්වය යටතේ පවතින, සැබෑ ජීවමාන ප්‍රශ්නය මුවා කර තබන කඩතුරාවක් වශයෙන් පමණකි! සමහර විට, ඔහු අදහස් කරන්නේ සමස්ත රුසියාවේම නිර්ධන පංතිකයන් අද පුරිෂ්කේවිච්ලාට හා කොකොෂ්කින්ලාට විරුද්ධව සටන් නොකළ යුතු බව හා ඔවුන් මග හැර ගොස්, පෝලන්තයේ ප්‍රතිගාමී පංතිවලට විරුද්ධව සටන් කිරීම, විය හැකිය!

ලික්විඩේටර්වරුන්ගේ පත්‍රයෙහි පළ කෙරෙන්නේ එවැනි හුදු ජරාවන් මය. එල්. මාර්තව් මහතා, වැඩ පිළිවෙළ කෙටුම්පත් කළ හා එය අනුමත කිරීමට පක්ෂව 1903 දී කථා කළ, එපමණක් නොව වෙන්වී ඉවත් වීමේ අයිතියට පක්ෂව පසුව ලියවිලි පවා කළ, එම එල්.මාර්තව්ම, මෙම පත්‍රයේ දෘෂ්ටිවාදී නායකයන්ගෙන් කෙනෙකි. දැන් එල්.මාර්තව් තර්ක කරන්නේ මෙම න්‍යාය අනුව බව පෙනේ:

එතැනට හපනෙක් ඇවැසි නොවේ,
රෙයද් යැවුම හොඳ වේ.
මෙහි නැවතී සිට බලා සිටිමි මම[158]

ඔහු රෙයද්-සෙම්කොව්ස්කි ඉදිරියට යවා, වැඩ පිළිවෙළ ගැන නොදන්නා පාඨක පිරිසක් ඇති පත්‍රයක් මගින් අපගේ වැඩ පිළිවෙළ විකෘති කරනු හා සීමාවක් නැතිව ව්‍යාකූල කරනු ලැබීමට ඉඩ දෙයි!

ඔව් ලික්විඩේෂනිස්ට්වාදය බොහෝ දුර ගොස් ඇත. පක්ෂ ජීවගුණයේ සේයාවක් පවා ඉතිරිව නැති, හිටපු ප්‍රමුඛ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පවා බොහෝ දෙනෙක් ඔවුන් අතර ඇත.

නමුත්, රෝසා ලුක්සෙම්බුර්ග් ලීබ්මාන්ලා, යුර්කේවිච්ලා හා සෙම්කොව්ස්කිලා සමග එකම ගණයේ ලා සැලකිය නොහැකිය. එසේ වුවත් ඇ විසින් කරන ලද වරද වාසියට හරවාගත් මිනිසුන්ගේ වර්ගය දෙස බලන කල, ඇ වැටී ඇත්තේ අවස්ථාවාදයට බව විශේෂයෙන්ම පැහැදිලිව පෙනේ.

## 10. අවසානය

මෙසේ සම්පිණ්ඩනය කරමු.

සාමාන්‍ය වශයෙන් මාක්ස්වාදී න්‍යාය ගැන කල්පනා කර බලන කල, ස්වාධිපත්‍යය සඳහා අයිතිය පිළිබඳ ප්‍රශ්නය දුෂ්කරතාවයන් මතු කරන්නක්



නොවේ. 1896 ලන්ඩන් යෝජනාව හෝ, ස්වාධිපත්‍යයෙන් අදහස් වන්නේ වෙන්වී ඉවත් වීමේ අයිතිය පමණක්ය යන කරුණ හෝ, එසේ නැතහොත්, ස්වාධීන ජාතික රාජ්‍යයන් පිහිටුවීම සියලුම ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවවල උපනතිය වන බව හෝ බරපතල ලෙස ප්‍රශ්නයට ලක් කිරීමට කිසිවෙකුට නුපුළුවන .

රුසියාවේ පීඩිත හා පීඩක ජාතීන්ගේ නිර්ධන පංතිය උරෙනුර ගැටී සටන් කරන නිසා හා එසේ සටන් කිරීම අවශ්‍ය වීම නිසා, එක්තරා දුරකට දුෂ්කරතාවයක් ඇතිවන්නේය. කර්තව්‍යය වී තිබෙන්නේ, සමාජවාදය සඳහා නිර්ධන පංතිය කරන පංති අරගලයේ සමගිය ආරක්ෂා කිරීම සහ සියලුම ධනපති පංතික, කළු සියය, ජාතිකවාදී බලපෑම් කෙරෙහි ප්‍රතිරෝධය දැක්වීම ය. පීඩිත ජාතීන් ගැන සලකා බලන කල, ස්වාධීන පක්ෂයක් ලෙසට නිර්ධන පංතිය සංවිධානය වූකල, සමහර විට, දේශීය ජාතිකවාදයට විරුද්ධව කොතරම් දැඩි අරගලයක් ඇති වීමට තුඩු දෙන්නේද යත්, අරමුණු විකෘති වී, පීඩක ජාතියේ ජාතිකවාදයද අමතක කරනු ලැබේ.

නමුත් මෙසේ අරමුණ විකෘත වීම දිගු කලක් පැවතිය නොහැකිය. අප දේශපාලන ප්‍රශ්න ඉදිරිපත් කළ යුත්තේ ''ක්‍රාකොව්'' දෘෂ්ටි කෝණයෙන් නොව, සමස්ත රුසියා දෘෂ්ඨි කෝණයෙන් බව, විවිධ ජාතීන්ගේ නිර්ධන පංතිකයන් විසින් කරන ලද ඒකාබද්ධ අරගලවල අත්දැකීමෙන් පෙන්නුම් කර තිබේ. තවද, සමස්ත රුසියා දේශපාලනයේ අසුන අරා සිටින්නේ පුරිෂ්කේවිච්ලා සහ කොකොෂ්කින්ලා ය. ඔවුන්ගේ අදහස් ප්‍රධානත්වය දරයි. ''වෙන්වීම්වාදය'' නිසා, වෙන්වී ඉවත්වීම ගැන කල්පනා කිරීම නිසා, රුසියානු නොවන ජාතිකයන් පීඩාවට පත්කිරීමට පක්ෂ ඔවුන්ගේ අදහස් දුමා සභාවෙහිද, පාඨශාලාවලද, පල්ලිවලද, බැරැක්කවලද, ලක්ෂ ගණන් ප්‍රවෘත්ති පත්‍රවලින්ද දේශනා කරනු හා ක්‍රියාත්මක කරනු ලැබේ. මුළු මහත් සමස්ත-රුසියා දේශපාලන වාතාවරණයම දූෂණය කෙරෙන්නේ, මහ රුසියානු ජාතිකවාදී වස මගිනි. වෙනත් ජාතීන් යටපත් කිරීමෙන් රුසියාව මුළුල්ලේම ප්‍රතිගාමීත්වය ශක්තිමත්කිරීම යනු ජාතියක අවාසනාවය. 1849 හා 1863 පිළිබඳ මතකයෙන් ජීවමාන දේශපාලන සම්ප්‍රදායයක් සැකසෙන අතර, මහා කුණාටු ඇති නොවන්නේ නම්, එය මතුවට අවුරුදු දශක ගණන් යන තෙක් සෑම ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයකටම, විශේෂයෙන්ම, සෑම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයකටම, බාධක වනු ඇත.

පීඩිත ජනතාවන්ට (සමහර විට ඔවුන්ගේ ''අවාසනාව'' වන්නේ ජනගහනයේ පොදුජන කොටස් ''තමන්ගේම'' ජාතික විමුක්තිය පිළිබඳ අදහසෙන් අන්ධව සිටීම ය) අයත් සමහර මාක්ස්වාදීන්ගේ දෘෂ්ටිකෝණය

කොතරම් ස්වාභාවික සේ පෙනුනත්, රුසියාවේ පවතින වාස්තවික බල-වේග පෙළ ගැස්ම හමුවේ, ස්වාධිපත්‍යය සඳහා අයිතියට පක්ෂවාදී වීමට ප්‍රතික්ෂේප කිරීම, යථාර්ථ වශයෙන් ඉතාමත් නරක ආකාරයේ අවස්ථා-වාදයට වැටීමක් හා කොකොෂ්කින්ලාගේ අදහස්වලින් නිර්ධන පංතිය රෝගී කිරීමක් වන බව නිසැකය. එමෙන්ම, මෙම අදහස් අවශ්‍යයෙන්ම පුරිෂ්කේවිච්ලාගේ අදහස් හා ප්‍රතිපත්තිය වන්නේය.

එනිසා, රෝසා ලුක්සෙම්බුර්ග්ගේ අදහස පෝලන්තයට විශේෂ "ක්‍රාකොව්" පටුකල්පනාකාරිත්වය* සේ සලකා, මුලින් එයට සමාව දිය හැකිව තිබුණ නමුත්, අද ජාතිකවාදය, ආණ්ඩුවේ මහ රුසියානු ජාතික-වාදය සෑම තන්හිම බලවත්ව තිබියදී, මෙම මහ රුසියානු ජාතිකවාදය විසින් ප්‍රතිපත්ති හැඩ ගස්වනු ලබද්දී, එයට සමාව දිය නොහැක. එය, ඇත්ත වශයෙන්ම, සියලුම ජාතීන් අතර සිටින, එමෙන්ම, "කුණාටු" හා "සීඝ්‍ර පියවරයන්" පිළිබඳ අදහස මඟ හරින්නා වූද, ධනපති-ප්‍රජාතන්-ත්‍රවාදී විප්ලවය අවසාන වී ඇතැයි විශ්වාස කරන්නා වූද, කොකොෂ්කි-න්ගේ ලිබරල්වාදයේ අඩි පාරේ ගමන් කරන්නා වූද, අවස්ථාවාදීන් විසින් තදින් අල්ලා ගනු ලැබේ.

වෙනත් ඕනෑම ජාතිකවාදයක් මෙන් මහ රුසියානු ජාතිකවාදයද, විවිධ අවධි මගින් ගමන් කරයි. ඒවා තීරණය වන්නේ ධනපති රටෙහි ඒ ඒ නිශ්චිත අවස්ථාවෙහි බලවත්ව සිටින පංති අනුවය. 1905 වන තෙක්ම අප දැන සිටියේ තනිකරම මෙන් ජාතික-ප්‍රතිගාමීන් ගැනය. විප්ලවයෙන් පසුව අප රටේ ජාතිකවාදී-ලිබරල්වාදීන් උද්ගත විය.

අප රටේ ඔක්තෝබර්වාදීන් හා කැඩෙට්වරු (කොකොෂ්කින්), එනම් වර්තමාන මුළු ධනපති පංතියම බොහෝ දුරට පිළිගත් ස්ථාවරය එය ය.

මහ රුසියානු ජාතික-ප්‍රජාතන්ත්‍රවාදීන් අනිවාරණීය ලෙසම කල්යා-මේදී මතු වී එනු ඇත. "පොදු ජන සමාජවාදී" පක්ෂයේ[159] ආරම්භකයන්-

* සමස්ත රුසියාවේම මාක්ස්වාදීන් විසින්, එසේම, ප්‍රථමයෙන් හා ප්‍රමුඛ වශයෙන් මහ රුසියානු මාක්ස්වාදීන් විසින්, වෙන්වී ඉවත්වීම සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගනු ලැබීම නිසා, වෙන්වී ඉවත්වීමට විරු-ද්ධව කිසියම් පීඩිත ජාතියක මාක්ස්වාදීන් කරන උද්ඝෝෂණයකට බාධාවක් නොවන බව වටහා ගැනීම අපහසු නොවේ. එය, දික්කසාද අයිතිය පිළිගත් පමණින්, කිසියම් දික්කසාදයකට විරුද්ධව උද්ඝෝෂණය දැක්වීමට බාධාවක් නොවන මෙනි. එනිසා සෙම්කොව්ස්කි හා ට්‍රොට්ස්කි විසින් දැන් "උනන්දු" කරනු ලබන, නොපවත්නා "ප්‍රතිවිරෝධය" ට සිනා වන පෝලන්ත මාක්ස්වාදීන්ගේ සංඛ්‍යාව අනිවාරණීය වශයෙන්ම වැඩි වනු ඇතැයි අපි අපේක්ෂා කරමු.



ගෙන් කෙනෙක් වන පෙෂෙහෝනව් මහතා ගොවිජනයාගේ ජාතිකවාදී දුර්මතයන් ගැන ප්‍රවේසම් සහිත ලෙස කටයුතු කරන්නැයි කීමෙන් (1906 අගෝස්තු මස සඳහා වූ "රුස්කොය බගාත්ස්ත්වො"[160] කලාපයෙහි), දැනටමත් ප්‍රකාශ කර ඇත්තේ, මෙම මතය ය. අන් අය බෝල්ෂෙවික්වරු-න්ට කොතරම් අවලාද නැඟුවත්, ගොවියා "පරමාදර්ශ කිරීම" ගැන අපට චෝදනා කළත්, අපි නිතරම ගොවි බුද්ධිය හා ගොවි දුර්මතයන් අතර වෙනසද, ප්‍රජාතන්ත්‍රවාදය සඳහා සහ පුරිෂ්කේවිච්ලාට විරුද්ධත්වය දැක්වීම සඳහා දරනු ලබන ගොවි ප්‍රයත්න හා පූජකයා සහ ඉඩම්හිමියා සමග සාමය ඇති කර ගැනීමට ඇති ගොවි අභිලාෂය අතර වෙනසද, පැහැදිලිව වටහා ගත්තෙමු — වටහා ගන්නෙමු.

දැනුදු, එමෙන්ම තව දුරටත් තරමක් දීර්ඝ කාලයක් ගත වනතුරු, මහ රුසියානු ගොවි ජනයාගේ ජාතිකවාදය සැලකිල්ලට ගැනීමට (එයට සහන සැලසීමේ අරමුණ ඇතිව නොව, එයට විරුද්ධව සටන් කරනු පිණිස), නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයට සිදු වනු ඇත*. 1905 න් පසුව එතරම් ප්‍රකට ලෙස පෙනී ගිය පරිදි පීඩිත ජාතීන් අතර ජාතිකවාදය නැගී ඒම (නිදර්ශන වශයෙන්, ප්‍රථම දූමා සභාවේ "ෆෙඩරල් ඒකාබද්ධවාදී-ස්වතන්ත්‍ර" කණ්ඩායමත්, උක්‍රේනියානු ව්‍යාපාරයේ වර්ධනයත්, මුස්ලිම් ව්‍යාපාරයේ වර්ධනයත් ආදිය මතකයට නගමු) අනිවාරණීය ලෙසටම නගරවල හා ගම්බද මහ රුසියානු සුළු -ධනපතියන් අතර ඊට වඩා ජාතික-වාදයක් ඇති වීමට තුඩු දෙනු ඇත. රුසියාවේ ප්‍රජාතන්ත්‍රවාදී කරණය

* පෝලන්ත ජාතිකවාදයෙහි ඇති වන වෙනස්කම්, නිදසුනක් වශ-යෙන්, එය ප්‍රභූ ජාතිකවාදයේ සිට ධනපති ජාතිකවාදයටද ඊළඟට ගො-විජන ජාතිකවාදයටද පරිවර්තනය වීමේ ක්‍රියාදමයෙහිදී ඇති වූ වෙනස්කම්, සොයා බැලීම වැදගත් වනු ඇත. ජර්මන් කොකොෂ්කින් කෙනෙකුගේ අදහස් දරන ලුද්විග් බෙර්න්ගාර්ද, ඔහුගේ "Das polnische Gemeinwesen im preussischen Staat" ("ප්‍රුසියන් රාජ්‍යයේ පෝලන්ත ප්‍රජාව" — රුසියානු පරිවර්තනයක් ඇත) යන පොතෙහි ඉතාමත් ගැලපෙනසුලු ප්‍රපංචයක් විස්තර කරයි: ජර්මනියේ පෝලන්ත ජාතිකයින්, ජාතිකත්වය, ආගම සහ "පෝලන්ත" ඉඩම් සඳහා කරන ඔවුන්ගේ අරගලයේදී, පෝලන්ත ජාතික ගොවි ජනයාගේ සමුපකාර සහ වෙනත් සමාගම්වල සමීප සන්ධානයක ස්වරූපයක් ගත් එක්තරා ආකාරයක "ගොවිජන සමූහාණ්ඩුවක්" ඔවුන් විසින් පිහිටුවනු ලැබීම එහි විස්තර කෙරේ. ජර්මන් පීඩනය නිසා පෝලන්ත ජාතිකයින් එකට බැඳී, තනි වී සිටිති. ප්‍රථම පිබිදීමෙන් පසුව, ප්‍රභූ පංතියේද ඊළට ධනපති පංතියේද, අවසාන වශයෙන් (විශේෂයෙන්ම පාසල්වල පෝලන්ත භාෂාව භාවිතයට විරු-ද්ධව 1873 දී ජර්මන්වරු ගෙනගිය ව්‍යාපාරයට පසුව) ගොවිජනතාවගේද ජාතිකවාදය ප්‍රබෝධ විය. රුසියාවේද ඒ ආකාරයෙන්ම කරුණු සිදුවන්-නේය. ඒ පෝලන්තය හා සම්බන්ධයෙන් පමණක් නොවේ.

ප්‍රමාදී වූ තරමට, ජාතික පීඩනය හා විවිධ ජාතීන්ගේ ධනපති පංතිය අතර අඬ දබර,වඩාත් ම්ලේච්ඡ හා දරුණු වන්නේය.රුසියානු පුරිෂ්කෙවිච්ලාගේ විශේෂ ප්‍රතිගාමී ස්වභාවය හේතු කොට ගෙන, ඒ සමගම, විවිධ පීඩිත හා සමහර විට අසල්වැසි රාජ්‍යයන් තුළ මීට වඩා බෙහෙවින් වැඩි නිදහසක් භුක්තිවිඳින, ජාතික කොටස් තුළ ''වෙන්වීම්වාදී'' ප්‍රවණතාවයන් උද්ගත (හා ශක්තිමත්) වනු ඇත.

මෙම තත්වය යටතේ, දෙ ආකාර, නැතහොත්, දෙ පැත්තකින් යුත් කර්තව්‍යයකට මුහුණ දීමට රුසියාවේ නිර්ධන පංතියට සිදුවේ. එය නම්: සෑම වර්ගයකම ජාතිකවාදයට හා අන් සියල්ලටම වඩා මහ රුසියානු ජාතිකවාදයට විරුද්ධව සටන් කිරීමත්, සාමාන්‍ය වශයෙන් සියලුම ජාතීන් සඳහා සම්පූර්ණයෙන් සමාන අයිතිවාසිකම් පමණක් නොව, රාජ්‍ය පාලන අයිතිය සම්බන්ධයෙන් සමානාත්මතාවය, එනම්, ස්වාධිපත්‍යය සඳහා, වෙන්වී ඉවත්වීම සඳහා ජාතීන්ගේ අයිතිය, පිළිගැනීමත් වේ ඒ අතරම, ජාතික තනි ස්වභාවයක් ඇති කිරීම සඳහා ධනපති පංතිය උත්සාහ දරුවත්, සියලුම ජාතීන් අතර වන සියලුම වර්ගයේ ජාතික වාදයන්ට විරුද්ධව, සාර්ථක ලෙස සටන් කිරීමේ අරමුණ ඉටු කරගනු පිණිස; නිර්ධන පංති සංවිධාන, සමීප ලෙස, එකට ගෙතුනු ජාත්‍යන්තර සංවිධානයක් ලෙසට ඒකාබද්ධ කර ගනිමින්, නිර්ධන පංති අරගලයේ සහ එම සංවිධානවල සමගිය ආරක්ෂා කිරීම, ඔවුන්ගේ කර්තව්‍යය වේ.

මාක්ස්වාදයත්, මුළු ලෝකයේම අත් දැකීමත්, රුසියාවේ අත්දැකීමත්, කම්කරුවන්ට උගන්වන ජාතික වැඩ පිළිවෙළ නම් සියලුම ජාතීන් සඳහා සමාන අයිතිවාසිකම්ද, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතියද, සියලුම ජාතීන්ට අයත් කම්කරුවන්ගේ සමගියද වේ.

---

වී. කොසොව්ස්කි මහතා ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගැනීම සම්බන්ධයෙන් ''නාෂ රබෝචය ගසියෙත'' අංක 3 හි පහත සඳහන් පරිදි ලියා ඇත. එම පත්‍ර කලාපය මා වෙත ලැබෙන විට මෙම ලිපිය මුද්‍රණය කිරීමට සූදානම්ව තිබිණ.

''ප්‍රථම සම්මේලනය විසින් ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනවලින් ගන්නා ලදුව,1898 එම ප්‍රථම සම්මේලනයේ යෝජනාවෙන් යාන්ත්‍රික ලෙස උපුටා ගනු ලැබූ එම පාඨයට,විවාදයෙන් පෙනෙන ලෙසට, 1903 සම්මේලනය විසින් ආරෝපණය කරන ලද්දේද, සමාජවාදී ජාත්‍යන්තරය දුන් අර්ථයමය, එනම්, දේශපාලන ස්වාධිපත්‍යය, දේශපාලන නිදහස පිළිබඳ ක්ෂේත්‍රයෙහි ජාතීන්ගේ ස්වාධිපත්‍යය, යන අර්ථය මය. මේ අනුව බලන කල,ප්‍රදේශ වශයෙන් වෙන්වීමේ අයිතිය අදහස් කෙරෙන ජාතික ස්වාධිපත්‍යයේ සූත්‍රය, පවත්නා රාජ්‍යය හැර යාමට නොහැකි හෝ නොකැමැති හෝ ජාතික කොටස් හා සම්බන්ධයෙන්, යම් නිශ්චිත රාජ්‍ය සංවිධානයක් තුළ ජාතික සම්බන්ධකම් හැසිරවිය යුත්තේ කෙසේද යන්න කෙරෙහි, කිසිසේත් බලපාන්නේ නැත''.

වී.කොසොව්ස්කි මහතා1903දෙවැනි සම්මේලනයේ වාර්තා දැක තිබෙන බවත්, ඔහු ස්වාධිපත්‍යය යන පදයෙහි සැබෑ (සහ එකම) අර්ථය කුමක්ද යන්න ඉතා හොඳින් වටහා ගෙන තිබෙන බවත්, මෙයින් පෙනෙන්නේය. බුන්ද් පුවත්පත වන ''ට්සයිට''[161] හි කර්තෘවරුන් විසින්,වැඩ පිළිවෙළට සමච්චල් කිරීම හා එය අපැහැදිලි යයි ප්‍රකාශ කිරීම සඳහා ලිබ්මන් මහතා මුද හැරීමේ කාරණය මෙය සමග සංසන්දනය කර බලන්න!! මෙම බුන්ද් වාදීන්ට ඇත්තේ පුදුම ''පක්ෂ'' ආචාර ධර්මය... සම්මේලනය යාන්ත්‍රික ලෙසට ස්වාධිපත්‍ය ප්‍රතිපත්තිය භාරගත්තේ යයි කීමට, කොසොව්ස්කි පෙළඹුනේ මන්ද යන්න දන්නේ දෙවියා පමණකි. සමහර මිනිස්සු ''විරුද්ධ'' වීමට කැමැත්ත දක්වති — නමුත් ඒ කෙසේද, මන්ද, කුමණ හේතුවක් නිසාද, යනු ඔවුහු නොදනිති.

| | |
|---|---|
| 1914 පෙබරවාරි-මැයි මාසවල ලියන ලදී.<br>1914 අප්‍රියෙල්-ජූනි මාසවල ''ප්‍රස්වෙශේනිය'' අංක 4,5 හා 6 කලාපවල පළ කරන ලදී | වි. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 25, පිටු 255—320 |

## සංස්කාරකගේ සටහන්

1 ජනවාරි 9 — මේ දින සාර් රජු ගේ නියමය අනුව, සාන්ත පීටර්ස්බර්ග් කම්කරුවන් ගේ සාමාකාමී පෙළපාලියක් යුද්ධ හමුදා විසින් මෘග ලෙස වෙඩි තබා හෙළන ලදී. ගපොන් නැමති පූජක තැන ගේ නායකත්වය යටතේ පෙළපාලි කරුවෝ සාර් රජුට පෙත්සමක් භාර දීම සඳහා සාර් රජුගේ වාස භවන වූ හිම මාලිගය දෙසට ගමන් කරමින් සිටිය හ. නිරායුධ කම්කරුවන් මෙසේ කෲරතර ලෙස ඝාතනය කිරීම නිසා රුසියාව මුළුල්ලේම පොදු ජන දේශපාලන වැඩ වර්ජන රැල්ලක් ඇති විය. ලේ තැවරුණු ඉරිදා නම ලත් ජනවාරි 9 දින සිදුවීම් වලින් 1905—1907 විප්ලවයේ ආරම්භය සලකුණු විය.

2 ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක නැමති පොත ලියන ලද්දේ රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනයට හා ඒ වකවානුවේ ම ජිනීවාහි පැවැත්වුණු මෙන්ෂෙවික් සම්මේලනයට පසුව 1905 ජූනි හා ජූලි මාසවලය.

ලෙනින් ගේ "උපක්‍රම දෙක" පළ කිරීම පක්ෂ ජීවිතයේ වැදගත් සිදුවීමකි. මෙම පොත නීති විරෝධී ලෙස රුසියානු නගර ගණනාවකම බෙදා හැරින. රහසිගත පක්ෂ හා කම්කරු කව එය අධ්‍යයනය කළහ.

පොතෙහි අඩංගු කරුණු සාර්වාදී රජයට හතුරු ආකල්පයක් දක්වන නිසා 1907 පෙබරවාරි මස සාන්ත පීටර්ස්බර්ග් කෘත්‍යයාධිකරණය මෙම පොත රාජසන්තක කළේය. මාර්තු මාසයේ එම රාජ සන්තක කිරීමේ නියෝගය අනුමත කළ සාන්ත පීටර්ස්බර්ග් උසාවිය එම අවුරුද්දේම දෙසැම්බර් මාසයේ පහත සඳහන් නියෝගය ද නිකුත් කළේය: "... එන්. ලෙනින්ගේ "ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක" නැමැති පොත විනාශ කරන ලෙස



නියෝග කරනු ලැබේ". එහෙත් වී. අයි. ලෙනින්ගේ එම ශ්‍රේෂ්ඨ කෘතිය විනාශ කිරීමට සාර්වාදී රජය අසමත් විය.

1907 සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද, ලෙනින්ගේ "දොළොස් අවුරුද්ද" යන කෘති එකතුවෙහි ප්‍රථම වෙළුමට "ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක" ඇතුලත් කෙරිණ. ලෙනින් මෙම සංස්කරණයට අලුත් පා සටහන් එකතු කළේ ය. කෘති එකතුවේ පෙරවදනෙහි පොතෙහි වැදගත් කම පිළිබඳ ඔහු ලිවේය: "මෙන්ෂෙවික්වරුන් සමග ඇති ක්‍රමාන්විත හා ප්‍රධාන උපක්‍රමීය අසමතයන් මෙම පොතෙහි පෙන්වා ඇත. ලන්ඩන්හි පැවැත්වූ රු.ස.ප්‍ර. ක. පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ (බොල්ෂෙවික්වාදී) හා ජිනීවාහි පැවැත්වූ මෙන්ෂෙවික්වාදී සම්මේලනයේ යෝජනා එම අසමතයන් පැහැදිලි ලෙස පෙන්නුම් කළ අතර, නිර්ධන පංතියේ කර්තව්‍යයන්ගේ ප්‍රතිෂ්ඨාවයෙන් අපගේ ධනපති විප්ලවය තක්සේරු කිරීමේදී ඒවා මූලික ලෙස ප්‍රභේද වී ගියේය." (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය වෙළුම 16, පිටු 110—111).

3 ආයුධ සන්නද්ධ "පොටෙම්කින්" කෲසර් නෞකාවේ කැරැල්ල 1905 ජූනි 14(27) දින ආරම්භ විය. නාවිකයෝ යුද්ධ නැව, සමන්ත මහා වැඩ වර්ජනයක් පැවති ඔඩෙස්සාවට ගෙන ආහ. එසේවුවද, ඔඩෙස්සා කම්කරුවන් හා "පොටෙම්කින්" සේලරුවන් අතර ඒකාබද්ධතාවයකින් සටන් කිරීමට තිබුණු අවස්ථාවෙන් ප්‍රයෝජන නොගන්නා ලදී. දින එකොළහක් කළු මුහුදේ ගමන් කිරීමෙන් පසුව, ආහාර හා ගල් අඟුරු නොමැති කම නිසා නැව රුමේනියන් වරායකට ගෙන ගොස් එහි බලධාරීන්ට යටත් වීමට නාවිකයන්ට සිදුවිය. නාවිකයන් බොහෝ දෙනෙක් විදේශයෙහි රැඳුණහ. රුසියාවට ආපසු පැමිණි අය අත් අඩංගුවට ගෙන ඔවුනට යුද්ධාධිකරණයේ නඩු පවරන ලදී.

"පොටෙම්කින්" කැරැල්ල අසාර්ථක විය. නමුත් විශාල යුද්ධ නැවක නාවික භටයන් විප්ලවයට සම්බන්ධ වීම, ඒකාධිපත්‍යයට විරුද්ධව අරගලයේ සංවර්ධනයෙහි වැදගත් අවස්ථාවක් සලකුණු කරන්නක් විය.

4 "ප්‍රොලිතාරි" (නිර්ධන පංති කයා) — සතිපතා,රහසිගත බොල්ෂෙවික් පත්‍රයකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ප්‍රධාන නිල පත්‍රය විය. එය ආරම්භ කරන ලද්දේ පක්ෂයේ තුන්වැනි සම්මේලනයේ තීරණය අනුව ය. පක්ෂයේ 1905 අප්‍රියෙල් 27 (මැයි 10) දින පක්ෂ මධ්‍යම කාරක සභා-

වේ තීරණය අනුව ලෙනින් පත්‍රයේ ප්‍රධාන කර්තෘ වශයෙන් පත් කරන ලදී. කලාප විසි හයක් නිකුත් කරන ලදී.

5 නරෝද්නික්වාදය (නරෝද් — ජනතාව — යන වචනයෙනි) — රුසියානු විප්ලවවාදී ව්‍යාපාරයේ සුළු ධනපති උපනතියකි. එය දහ නව වැනි ශත වර්ෂයේ හැට ගණන්වලදී හා හැත්තෑ ගණන්වලදී ප්‍රකට වන්නට පටන් ගති. නරෝද්නික්වරු ඒකාධිපත්‍යය කෙළවර කර දැමීමටත්, වතුකාර දේපල ගොවි ජනතාවට පවරා දීමටත් සටන් කළහ. තමන් සමාජවාදීන් යයි ඔවුන් කල්පනා කළ නමුත් ඔවුන්ගේ සමාජවාදය මනෝරාජික විය.

රුසියාවේ ධනපති ක්‍රමය අහම්බෙන් ඇති වූ ප්‍රපංචයක් බව හා එය සංවර්ධන වෙතැයි බලාපොරොත්තු විය නො හැකි බව ඒ අතර ම විශ්වාස කළ ඔවුහු, ඒ අනුව රුසියාවේ ප්‍රධාන විප්ලවීය බලවේගය නිර්ධන පංතිය නොව ගොවිජනතාව යයි කල්පනා කළහ. ඔවුහු ග්‍රාම සමූහය තුළ සමාජවාදයේ බීජය දුටහ. ඓතිහාසික ක්‍රියාදාමය තුළ බහු ජනතාවගේ ඇති කාර්යභාරය ප්‍රතික්ෂේප කළ නරෝද්නික්වරු, නරෝද්නික්වාදී ප්‍රතිෂ්ඨාවට අනුව, ජනකායට වඩා වෙනස් වූ ශ්‍රෙෂ්ඨ පුද්ගලයින්, ''වීරයින්'' ඉතිහාසය නිර්මාණය කරන බව කියා සිටියහ. ඒකාධිපතිත්වයට විරුද්ධව අරගලය සඳහා ගොවි ජනතාව කුළු ගැන්වීමේ අරමුණ ඇතිව නරෝද්නික් වරුන් ''ජනතාව අතරට ගිය'' නමුත්, ගමට ගිය නමුත්, ඔවුනට එහිදී සහයෝගයක් නො ලැබිණ.

නරෝද්නික්වාදය විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ සිට ලිබරල්වාදය දක්වා වූ පරිවර්තන අවධි කීපයක්ම ගත කළේය.

අසූ ගණන්වලදී හා අනූ ගණන්වලදී සාර්වාදය සමග සමාදානයේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ නරෝද්නික් වරු, කුලාක් පංතියේ අවශ්‍යතාවයන් නියෝජනය කරමින්, මාක්ස්වාදයට විරුද්ධව අනවරත අරගලයක් කළහ.

6 සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ වැඩ පිළිවෙළ, 1905 දෙසැම්බර් 29 සිට 1906 ජනවාරි 6 දක්වා පින්ලන්තයේ පවත්වන ලද එහි ප්‍රථම සම්මේලනයේ දී අනුමත විය.

සමාජවාදී-විප්ලවවාදීන් (එස්ආර්වරු) රුසියාවේ සුළු ධනේශ්වර පක්ෂයකි. විවිධ නරෝද්නික්වාදී කණ්ඩායම් හා කව බද්ධවීමෙන් 1901 අගදී හා 1902 දී එය බිහි විය. එස්ආර් වරුන්ගේ මත නරෝද්නික්වාදයේ හා සංශෝධනවාදයේ අදහස් සාරසංග්‍රහවාදී ලෙස මිශ්‍ර කිරීමකි.



එස්ආර්වරු සමාජවාදයේ කඩතුරාවට මුවා වීමට කරන උත්සහය එළිදරව් කළ බොල්ෂෙවික්වාදී පක්ෂය, එස්ආර්වරුන් ගොවිජනතාව නොමග යැවීමට විරුද්ධව දැඩි සටනක් ගෙනගිය අතර, ඔවුන්ගේ පුද්ගලික ත්‍රස්තවාදය කම්කරු ව්‍යාපාරයට කරන හානිය පෙන්නුම් කළේය. ''ඒ අතරම බොල්ෂෙවික්වරු යම් යම් කොන්දේසි යටතේ සාර්වාදයට විරුද්ධව කරන සටනේදී එස්ආර්වරුන් සමග එක්වී සහයෝගීව කටයුතු කළහ. පළමුවැනි රුසියානු විප්ලවය අවධියේ දී (1905—1907) එස්ආර්වරුන්ගේ පක්ෂයේ දක්ෂිණාංශික කණ්ඩායම නීත්‍යානුකූල ශ්‍රමවාදී ජනතා-සමාජවාදී සංවිධානය (එන්එස් වරු) පිහිටුවා ගත්හ. අදහස් අනුව එය කැඩෙට් වරුන්ට සමානය. එහි වාමාංශික පිළ අර්ධ ආරාජිකවාදී ''උපරිමවාදීන්ගේ'' සංගමය පිහිටුවා ගත්හ. අන්ත ප්‍රතිගාමී ස්තලීපින් කාල පරිච්ඡේදයේදී (1907—1910) එස්ආර් පක්ෂය සම්පූර්ණ දෘෂ්ටිමය හා සංවිධානාත්මක ලෙස පහත වැටීමකට පත්විය. පළමුවැනි ලෝක මහා යුද්ධය අවධියේ එස්ආර් වරුන්ගේ බහුතරය සමාජ-ජාත්‍යොන්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළහ.

1917 පෙබරවාරි මස ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසු එස්ආර්වරු, මෙන්ෂෙවික් වරු හා කැඩෙට්වරුන් සමග ප්‍රතිවිප්ලවවාදී ධනපති-ඉඩම්හිමි තාවකාලික ආණ්ඩුවේ ප්‍රධාන ආධාර කරුවෝ වූහ. කෙරෙන්ස්කි, අව්ක්සෙන්තියෙව් හා චෙර්නොව් වැනි පක්ෂ නායකයෝ එම ආණ්ඩුවේ සාමාජිකයෝ වූහ, විශාල ඉඩම් හිමි අයිතිය අහෝසි කළ යුතුය යන ගොවි ජන ඉල්ලීමට සහයෝගය දැක්වීම අත්හළ එස්ආර්වරුන්ගේ පක්ෂය ඊට ප්‍රතිවිරුද්ධ ලෙස එම අයිතිය පවත්වාගෙන යාම සඳහා ඉදිරිපත් වූහ. තාවකාලික ආණ්ඩුවේ එස්ආර් ඇමතිවරු ඉඩම් හිමියන්ගේ ඉඩම් අල්ලාගත් ගොවීන්ට විරුද්ධව පොලිස් හමුද මෙහෙයවූහ.

විදේශ යුද්ධ ආක්‍රමණය හා සිවිල් යුද්ධය පැවැති අවධියේදී එස්ආර් වරු ප්‍රතිවිප්ලවවාදී කඩාකප්පල්කාරී කටයුතු ගෙන ගියහ. ආක්‍රමණිකයින්ට හා සුදු හමුදවට ආධාර කළහ. ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රණවලට සහභාගී වූහ. සෝවියට් රජයේ හා කොමියුනිස්ට් පක්ෂයේ නායකයන්ට විරුද්ධව ත්‍රස්තවාදී කටයුතු සංවිධානය කළහ.

7 අකීමව් වාදය — ආර්ථිකවාදයේ ප්‍රමුඛ නියෝජිතයෙක් හා අන්තම අවස්ථාවාදියෙක් වූ වී. පී. අකීමව් (මඛ්නොවෙත්ස්) ගේ නම අනුව සැදුණු වචනයකි.

ආර්ථිකවාදය — 1890 ගණන්වල අවසානයේදී රුසියානු සමාජ

ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සමහර කොටස් අතර ඇති වූ අවස්ථාවාදී උපනතියකි. කම්කරු පංතියේ කර්තව්‍ය වන්නේ කම්කරුවන්ගේ තත්වය උසස් කරගැනීම, වැඩ දිනය කෙටි කර ගැනීම වැටුප් වැඩිකරගැනීම ආදී ආර්ථික අරගලය පමණක් බව ''අර්ථිකවාදීහු'' කියා සිටියහ. ''ආර්ථිකවාදීන්ගේ'' අදහස අනුව සාර් වාදයට විරුද්ධව දේශපාලන අරගලය මෙහෙයවිය යුත්තේ කම්කරු පංතිය විසින් නොව ලිබරල්වාදී ධනපති පංතිය විසිනි. කම්කරු පංතියේ නිදහස් දේශපාලන පක්ෂයක් ගොඩනැගීමට විරුද්ධවූ ''අර්ථිකවාදීහු'' කම්කරු ව්‍යාපාරය පිළිබඳ විප්ලවවාදී න්‍යායයන් පිළි නොගනිමින් සමාජවාදය පිළිබඳ දෘෂ්ටිය ප්‍රචාරය කිරීම ප්‍රතික්ෂේප කළහ.

8 ''අස්වබෝෂ්ජේනිය'' — 1902 ජූනි 18 (ජූලි 1) පටන් 1905 ඔක්තෝබර් 5(18) දක්වා විදේශයේදී පළ කරන ලද, රුසියානු ලිබරල් රාජාණ්ඩුවාදී ධනපති පංතියේ දෙසති පත්‍ර සඟරාවකි. ''අස්වබෝෂ්ජේනිය'' වටා 1903 ජනවාරියේදී ලිබරල් රාජාණ්ඩුවාදී ''අස්වබෝෂ්ජේනිය සංගමය'' රැස් විය. (1904 දී එය සංවිධාන ස්වරූපයක් ගත්තේය). එය 1905 ඔක්තෝබර් දක්වා පැවැත්තේය. 1905 දී රුසියාවේ පිහිටුවන ලද ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී (කැඩෙට්) පක්ෂයේ අරටුව සැදුණේ මෙම සංගමයේ සාමාජිකයන් ගෙනි.

9 රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි සම්මේලනය — 1905 අප්‍රියෙල් 12 හා අප්‍රියෙල් 27 (අප්‍රියෙල් 25 — මැයි 10) අතර ලන්ඩනයේදී පැවැත්විණ. එය බොල්ෂෙවික්වරුන් විසින් සංවිධානය කළ අතර ලෙනින්ගේ නායකත්වය යටතේ පැවැත්විණි. සම්මේලනයට සහභාගිවීම ප්‍රතික්ෂේප කළ මෙන්ෂෙවික්වාදියෝ තමන්ගේම සාකච්ඡා සභාවක් ජිනීවාහිදී පැවැත්වූහ.

ඡන්දය හිමි නියෝජිතයන් විසි හතර දෙනෙක් හා කථා කිරීමේ අයිතිය ඇති හා ඡන්දය අහිමි නියෝජිතයන් දහ හතර දෙනෙක් ද එයට සහභාගී වූහ.

රුසියාවේ සිදුවූ විප්ලවය පිළිබඳ නිශ්චිත ප්‍රශ්න සාකච්ඡාවට භාජනය කළ සම්මේලනය නිර්ධන පංතියේ හා ඔවුන්ගේ පක්ෂයේ කර්තව්‍යයන් නිගමනය කළේය. සම්මේලනයේදී පහත සඳහන් ප්‍රශ්න සාකච්ඡාවට භාජනය විය: ආයුධ සන්නද්ධ නැගිටීම; විප්ලවය ආසන්නයේදී රජයේ ප්‍රතිපත්ති කෙරෙහි දක්වන ආකල්පය; තාවකාලික විප්ලවවාදී රජය ගැන; ගොවිජන ව්‍යාපාරයට දක්වන ආකල්පය; පක්ෂ ව්‍යවස්ථාව; රු. ස. ප්‍ර. ක. පක්ෂයෙන් කැඩීගිය කොටස් කෙරෙහි



දක්වන ආකල්පය; ජාතික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන කෙරෙහි දක්වන ආකල්පය; ලිබරල්වාදීන් කෙරෙහි දක්වන ආකල්පය; ව්‍යවහාරික ලෙස සමාජවාදී-විප්ලවවාදීන් සමග එකඟත්වයකට පැමිණීම; ප්‍රචාරය හා උද්ඝෝෂණය; ප්‍රදේශීය හා වෙනත් කමිටුවල නියෝජිතයන්ගේ හා මධ්‍යම කාරක සභාවේ වාර්තා; සංවිධායක කාරක සභාවේ වාර්තාව; යන මේවාය.

සම්මේලනය මුළුල්ලේම එහි කටයුතු ලෙනින් ගේ මග පෙන්වීම යටතේ කෙරිණ. සම්මේලනය අනුමත කළ ප්‍රධාන කෙටුම්පත් සකස් කළේ ඔහුය. ආයුධ සන්නද්ධව නැගී සිටීම; සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවට සහභාගි වීම; ගොවිජන ව්‍යාපාර කෙරෙහි දක්වන ආකල්පය; විප්ලවය ආසන්නයේදී රජය අනුගමනය කළ උපක්‍රම කෙරෙහි දක්වන ආකල්පය; සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන තුළ සිටින කම්කරු පංතියේ සහ බුද්ධිමතුන්ගේ සම්බන්ධය; පක්ෂ ව්‍යවස්ථාව පිළිබඳ; පක්ෂයේ වැඩ කටයුතු පිළිබඳ මධ්‍යම කාරක සභාව ඉදිරිපත් කළ වාර්තාව ගැන හා වෙනත් ප්‍රශ්න ගණනාවක්ද ගැන ඔහු වාර්තා ඉදිරිපත් කළේය.

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ දී පක්ෂය අනුගමනය කරන උපායශීලී වැඩ පිළිවෙළ හා උපක්‍රමද නිගමනය කළේය. පක්ෂයේ ප්‍රධානතම හා කල් නොදැමිය හැකි කර්තව්‍යය ලෙස ආයුධ සන්නද්ධ නැගිටීම සම්මේලනය විසින් ඉදිරිපත් කරන ලදී. ප්‍රතිවිප්ලවවාදීන්ගේ ප්‍රතිරෝධය මැඩ ජයගත හැකි; තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවීම, රු. ස. ප්‍ර. ක. පක්ෂයේ අවම වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කළ හැකි, සමාජවාදී විප්ලවයක් සඳහා තත්වයන් පිළියෙළ කිරීම ආදිය කළ හැකි තාවකාලික විප්ලවවාදී ආණ්ඩුවක් පිහිටුවිය යුත්තේ ආයුධ සන්නද්ධ ජනතා නැගිටීමක ජයග්‍රහණයේ ප්‍රතිඵලයක් වශයෙන් යයි සම්මේලනය නිගමනය කළේය.

සම්මේලනය පක්ෂ ව්‍යවස්ථාවලද වෙනස් කම් ඇති කළේය. සාමාජිකත්වය පිළිබඳ පළමුවැනි වගන්තිය ලෙනින් විසින් සකස් කරන ලද පරිදි පිළිගන්නා ලදී. කලින් තිබුණු මධ්‍යස්ථාන දෙක, එනම්, මධ්‍යම කාරක සභාව සහ ප්‍රධාන පත්‍රය වෙනුවට, පක්ෂයේ එක නායක මණ්ඩලයක්, එනම්, මධ්‍යම කාරක සභාව පිහිටුවන ලදී. මධ්‍යම කාරක සභාවේ අයිතිවාසිකම් සහ ප්‍රාදේශීය කාරක සභා සමග වූ එහි සම්බන්ධකම් සවිස්තර ලෙස පැහැදිලි කරන ලදී.

මෙන්ෂෙවික්වරුන්ගේ ක්‍රියාකාරිත්වයද සංවිධානාත්මක හා උපක්‍රමීය ප්‍රශ්නවලදී ඔවුන්ගේ අවස්ථාවාදී ආකල්පයද සම්මේලනය විවේචනයට භාජනය කළේය. ''ඉස්ක්‍රා'' පත්‍රය මෙන්ෂෙවික් වරුන්ගේ

යටතට පත්වීම නිසාද එහි අවස්ථාවාදී ලිපි පළවීම නිසාද පක්ෂයේ නව මධ්‍ය පත්‍රය වන ''ප්‍රොලිතාරි'' පත්‍රය ආරම්භ කරන ලෙස රු. ස. ප්‍ර. ක. පක්ෂයේ තුන්වැනි සම්මේලන මධ්‍යම කාරක සභාවට පැවරීය. 1905 අප්‍රියෙල් 27 (මැයි 10) පැවැත්වූ මධ්‍යම කාරක සභාවේ පූර්ණ රැස්වීමේදී වී. අයි. ලෙනින් ''ප්‍රොලිතාරි'' පත්‍රයේ ප්‍රධාන කර්තෘ තනතුරට තෝරා පත් කරන ලදී.

10 ''ඉස්ක්‍රා'' — පළමුවැනි සමස්ත රුසියානු නීතිවිරෝධී පත්‍රයයි. 1900 දී ලෙනින් විසින් මෙය ආරම්භ කරන ලදී. මෙම පත්‍රය රුසියානු කම්කරු පංතියේ විප්ලවවාදී මාක්ස්වාදී පක්ෂය ගොඩ නැගීමේදී තීරණාත්මක කාර්යභාරයක් ඉටු කළේය.

පොලිසියේ ලුහු බැඳීම් නිසා රුසියාව තුළ විප්ලවවාදී පත්‍රයක් පළ කිරීමට ඇති අපහසුතාවය හේතුකොට ගෙන විදේශීය රටක එය මුද්‍රණය කිරීම පිළිබඳ සැලැස්ම සයිබීරියාවේ පිටුවහලේ සිටියදීම ලෙනින් විසින් පිළියෙළ කරන ලදී. පිටුවහල් කාලය අවසාන වීමෙන් පසු (1900 ජනවාරි) ඔහු තම සැලැස්ම ක්‍රියාත්මක කිරීම ආරම්භ කළේය.

පළමුවැනි ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රය 1900 දෙසැම්බර් මස ලෙයිප්සිග් නගරයේදී මුද්‍රණයෙන් පිට විය.පසුව මියුනික් නගරයේද1902 ජූනි සිට ලන්ඩනයේද 1903 සරත් සමයේ සිට ජිනීවා හිද පත්‍රය මුද්‍රණය කරන ලදී. එහි ප්‍රධාන කර්තෘ හා මාර්ගෝපදේශකයා ලෙස ලෙනින් මූලික වශයෙන් කටයුතු කළේය.

පාක්ෂික බලවේගයන් ඒකරාශී කරන සංධිස්ථානය බවට පත්‍රය පත්විය. රුසියාවේ නගර ගණනාවකම රු. ස. ප්‍ර. ක. පක්ෂයේ ඉස්ක්‍රා-වාදය පෙරදැරි කොටගත් කණ්ඩායම් හා කමිටු බිහිවිය.

''ඉස්ක්‍රා'' කතු මඩුල්ල, සාකච්ඡාවට භාජනය කිරීම සඳහා, පක්ෂ වැඩ පිළිවෙළ කෙටුම්පත් කර පළ කළ අතර රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයටද (1903) සූදනම් විය. රුසියාවේ සියළුම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයන් එකම පක්ෂයකට ඒකරාශී කිරීමේදී ''ඉස්ක්‍රා'' පත්‍රයෙන් සිදුවූ ශ්‍රේෂ්ඨ වැඩ කොටස පිළිගත් රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනය එය එහි මධ්‍යම නිල පත්‍රය බවට ප්‍රකාශ කළේය.

එහෙත් රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසුවී සුළු කාලයකදීම ලෙනින් හා අවස්ථාවාදී ප්‍රවනතාවයේ නියෝජිතයන් වූ මෙන්ෂෙවිකයින් අතර අරගලය ඇරැඹිණි. ලෙනින් ''ඉස්ක්‍රා'' කතු මඩුල්ලෙන් ඉවත් විය. එහි 52 කලාපයේ සිට (1903 නොවැම්බර්)



පත්‍රයට ලෙනින්වාදී පැරැණි ''ඉස්ක්‍රා'' වෙනුවට ''නව ඉස්ක්‍රා'' යන නාමය ලැබුණේය. මෙන්ෂෙවික්වාදීහු ''ඉස්ක්‍රා'' පත්‍රය, මාක්ස්වාදයට විරුද්ධව සටන් කරන්නා වූ ද පක්ෂයට විරුද්ධවූ ද අවස්ථාවාදය දේශනා කරන වේදිකාවක් වූ ද මධ්‍යම නිල පත්‍රයක් බවට පත් කළහ.

11 මෙන්ෂෙවික්වරු — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය තුළ වූ අවස්-ථාවාදී උපනතියක සාමාජිකයෝ.

1903 පවත්වන ලද රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේල-නයේදී පක්ෂයේ මධ්‍යම සංවිධානවලට ඡන්දය විමසන විට ලෙනින්ගේ නායකත්වයෙන් යුත් විප්ලවවාදී සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන්ට ඡන්ද බහුතර සංඛ්‍යාවක්ද අවස්ථාවාදීන්ට ඡන්ද අල්පතර සංඛ්‍යාවක්ද ලැබුණේය. එතැන් සිට ලෙනින්වාදී පිළට බොල්ෂෙවික්වාදීන් (බහු-තරය) හා අවස්ථාවාදී පිළට මෙන්ෂෙවික්වාදීන් (අල්පතරය) යන හැඳින්වීම ලැබිණි.

1905—1907 විප්ලව සමයේදී, විප්ලවයේදී කම්කරු පංතියේ නායකත්වයටද කම්කරු පංතිය හා ගොවි ජනතාව අතර සමගියට ද විරුද්ධව මෙන්ෂෙවික්වරු නැගී සිටියහ. ඔවුන්ගේ අදහස අනුව විප්ලවයට නායකත්වය දිය යුතු වූ ලිබරල් ධනපති පංතිය සමග සමගි-යකට එළඹෙන ලෙස කම්කරුවන්ට කියා සිටියහ.විප්ලවයේ පරාජයත් සමග ප්‍රතිගාමීත්වය ඉස්මතු වූ අවස්ථාවේ (1907—1909) බොහෝ මෙන්ෂෙවික්වරු ලික්විඩේටර් වරු බවට පත් වූහ. කම්කරු පක්ෂයේ විප්ලවවාදී නීති විරෝධී පක්ෂය විසුරුවා හරින ලෙස ඔවුහු ඉල්ලා සිටියහ. 1917 පෙබරවාරි මාසයේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය ජය ගැනීමෙන් පසු මෙන්ෂෙවික්වරු ධනපති තාවකාලික රජයට ඇතුලු වූහ. එහි අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිවලට ආධාර දෙමින් සූදනම් වෙමින් තුබූ සමාජවාදී විප්ලවයට විරුද්ධව කටයුතු කළහ.

1917 ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු මෙන්ෂෙවික්-වරු, සෝවියට් රජය පෙරලා දැමීම සඳහා කුමන්ත්‍රණ සහ කැරැළි සංවිධානය කරන ප්‍රතිවිප්ලවවාදී පක්ෂයක් ලෙස විවෘතවම පෙනී සිටියහ.

12 බුලීගින් කොමිසම — 1905 පෙබරවාරි මාසයේ දී, අධිරාජයාගේ ආඥවක් මගින් ස්වදේශ කටයුතු භාර ඇමති, ඒ. ජී. බුලීගින් ගේ ප්‍රධානත්වයෙන් මෙය පත් කරන ලදී. ඔහුගේ නම අනුව කොමිසම හැඳින්වේ. කොමිසමට විශාල ඉඩම් අයිති ඉඩම් හිමියෝද ප්‍රතිගාමී රදළ ධනපතියෝද ඇතුලත් වූහ. උපදේශක බලතල සහිතව රාජ්‍ය

දූමා සභාවක් පිහිටුවීම සඳහා පණතක් හා දූමා සභාවට තෝරාපත් කිරීම පිළිබඳ රෙගුලාසිද, එම කොමිසම විසින් කෙටුම්පත් කරන ලදී. එම පණත හා රෙගුලාසි, සාර්ගේ 1905 අගෝස්තු 6(19) ප්‍රකාශනයද සමග ප්‍රසිද්ධ කරන ලදී. එම දූමා සභාවට තෝරා පත්වීමේ අයිතිය හිමිවූයේ ඉඩම් හිමියන්ට, ධනපතීන්ට සහ සුළු ප්‍රමාණයක් වූ ගොවිපල් හිමියන්ට පමණකි. ව්‍යවස්ථා සම්මත කිරීමට රාජ්‍ය දූමා සභාවට බලයක් නොතිබූ අතර සාර් යටතේ වූ සාකච්ඡා සභාවක් මෙන් යම් යම් ප්‍රශ්න සාකච්ඡාවට භාජනය කිරීමට පමණක් එයට බලය තිබිණි.

බොල්ෂෙවික් වරු ක්‍රියාශීලී ලෙස බුලීගින් දූමා සභාව වර්ජනය කරන ලෙස කම්කරුවන්ට හා ගොවීන්ට හඬ නැගූහ. විප්ලවයේ බල පෑම යටතේ, ආණ්ඩුව දූමා සභාව කැඳවීමට ගත් උත්සාහය ව්‍යර්ථ විය.

13 ව්‍යවස්ථාවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය (කැඩෙට් පක්ෂය) — රුසියාවේ ලිබරල්-රාජාණ්ඩුවාදී ධනපතීන්ගේ ප්‍රධාන පක්ෂය යි. එය 1905 ඔක්තෝබර් මාසයේදී පිහිටුවන ලදී. ධනපති පංතියේ නියෝජිතයෝ, ඉඩම්හිමියන්ගේ සේම්ස්ත්වො සංවිධානවල නායකයෝ සහ ධනපති බුද්ධිමත්හු මෙම පක්ෂයේ සාමාජිකයෝ වූහ. කැඩෙට්වරු වැඩකරන පොදු ජනතාව මුලා කිරීම සඳහා ''ජනතා නිදහස් පක්ෂය'' යන කුහක නාමයෙන් තමන් හඳුන්වා ගත්හ. එහෙත් ඇත්ත වශයෙන් ඔවුහු ව්‍යවස්ථාදායක රාජාණ්ඩුවක් ඉල්ලීමෙන් ඔබ්බට නොගියහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසු කැඩෙට්වරු සෝවියට් බලයේ පරම හතුරෝ වූහ. ඔව්හු සියළු සන්නද්ධ ප්‍රතිවිප්ලවීය ක්‍රියාවන්ට හා ආක්‍රමණිකයන්ගේ ව්‍යාපාරවලට සහභාගි වූහ. ආක්‍රමණිකයින්ගේ හා සුදු හමුදවන්ගේ අන්ත පරාජයෙන් පසු විදේශයන්ට පැන ගිය ඔවුහු එහිදීද ඔවුන්ගේ සෝවියට් විරෝධී ප්‍රතිවිප්ලවීය ක්‍රියා තව දුරටත් ගෙන ගියහ.

14 උපරිම වැඩ පිළිවෙළ හා අවම වැඩ පිළිවෙළ යන කොටස් දෙකෙන් සමන්විත පක්ෂයේ වැඩ පිළිවෙළ, 1903 පැවැති රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී සම්මත කරගන්නා ලදී. උපරිම වැඩ පිළිවෙළේ ඉලක්ක වූයේ සමාජවාදී විප්ලව ජයග්‍රහණය කිරීම හා සමාජවාදී සමාජයක් ගොඩනැගීම සඳහා නිර්ධන පංතියේ ආඥාදායකත්වය පිහිටුවීම ය.අවම වැඩ පිළිවෙළට ඒකාධිපතිත්වය පෙරළීමද ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවීමද පැය 8 ක වැඩ දිනයක් ලබා ගැනීම හා



ගම්වල ඉතිරිව ඇති ප්‍රවේණිදාස ක්‍රමයේ සියළුම නටබුන් විනාශකිරීමද ආදී ක්ෂණික අවශ්‍යතාවයන් ඇතුලත් විය.

15 මිලෙරාන්වාදය — ප්‍රංශයේ ප්‍රතිගාමී ධනේශ්වර ආණ්ඩුවට 1899 දී ඇතුල් වූ ප්‍රංශ සමාජවාදී-ප්‍රතිසංස්කරනවාදී ඒ. මිලෙරාන්ගේ නමින් හැඳින්වූ අවස්ථාවාදී උපනතියකි. ඔහු රජයේ ජනතා විරෝධී ප්‍රතිපත්තිවලට ආධාර දුන්නේය.

16 පැරිස් කොමියුනය — පැරිස් නිර්ධන පංති විප්ලවය විසින් 1871 දී පැරිසියේ දී පිහිටුවන ලද කම්කරු පංතියේ විප්ලවවාදී ආණ්ඩුවකි. නිර්ධන පංති ආඥාදායකත්වයේ මෙම ප්‍රථම ආණ්ඩුව මාර්තු 18 සිට මැයි 28 දක්වා දින 72 ක් පැවැත්තේය.

17 ෆ්‍රැන්ක්ෆර්ට් පාර්ලිමේන්තුව — 1848 මාර්තු විප්ලවයෙන් පසු පිහිටුවන ලද සමස්ත ජර්මන් ජාතික සභාව ය. තම පළමුවැනි සම්මේලන සභාව එය 1848 මැයි 18 වැනි දින මයින් නදී බඩ ෆ්‍රැන්ක්ෆර්ට් නගරයේදී පැවත්වීය. සම්මේලන සභාවේ ප්‍රධාන අරමුණ වූයේ ජර්මනිය දේශපාලන ලෙස කැඩීයාම වැලක්වීම සහ සමස්ත ජර්මන් ව්‍යවස්ථාවක් පිළියෙළ කිරීමය. ලිබරල්වාදීන්ගේ බහුතරයේ බියසුලු භාවය සහ වැනෙන සුලු භාවය නිසාද සුළුධනපති වාමාංශික පිළේ තීරණයන් ගැනීමට ඇති නොහැකියාව සහ ක්‍රමවත් බවක් නොමැතිකම නිසාද රටේ උත්තරීතර බලය තම අතට ගැනීමට ජාතික සභාවට නොහැකි විය. එසේම 1848—1849 ජර්මන් විප්ලවයේ මූලික ප්‍රශ්න කෙරෙහි තීරණයක් ගැනීමටද එයට නොහැකි විය. 1849 දී සභාව වියුර්ටෙම්බර්ග් රජයේ යුද හමුදව විසින් පලවා හරින ලදී.

18 ''නව රයින් පත්‍රය'' ("Die Neue Rheinische Zeitung") — 1848 ජූනි 1 වැනිද සිට 1849 මැයි 19 ද දක්වා කොලොන් නගරයේ පළ වීය. එහි කලමනාකාරිත්වය කාල් මාක්ස් සහ ෆ්‍රෙඩ්රික් එංගල්ස් දැරූහ. මාක්ස් ප්‍රධාන කර්තෘ විය. ලෙනින්ගේ වචන පරිදි එම පත්‍රය ''නිර්ධන පංතියේ හොඳම සමකළ නොහැකි මධ්‍යම පත්‍රයයි'' (සම්පූර්ණ කෘති, පස්වැනි මුද්‍රණය, වෙළුම 26 පිටුව 83). ලුහුබැඳීම් හා පොලිස් බාධක අභිබවා ''නව රයින් පත්‍රය'' විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේද නිර්ධන පංතියේ ද අවශ්‍යතාවයන් සඳහා සටන් කළේය. 1849 දී කාල් මාක්ස් ප්‍රුසියාවෙන් පිටුවහල් කිරීමද අනෙක් කතුවරුන් පීඩනකාරී ලෙස මර්ධනය කිරීම ද එය පළ කිරීම නතර කිරීමට හේතු විය.

19 සොට්සල්-ඩිමොක්‍රට් (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා) — 1905 අප්‍රියෙල් සහ නොවැම්බර් අතර ටිප්ලිස්හි ජෝර්ජියානු බසින් පළකරන ලද, මෙන්ෂෙවික් පුවත් පතකි. කලාප හයක් පිට විය. ජෝර්ජියන් මෙන්ෂෙවික්වාදීන්ගේ නායකයා වූ එන්. ජොර්දනියා එහි කලමනාකාරිත්වය ඉසිලීය.

1905 අප්‍රියෙල් 7(20) ද "සොට්සල්-ඩිමොක්‍රට්" පළමුවැනි කාලාපයේ පළවූ "සෙම්ස්කි සබෝර් හා අපේ උපක්‍රම" යන ලිපිය කොකේසියානු මෙන්ෂෙවික් වරුන් ගේ නායක එන්. ජොර්දනියා විසින් ලියන ලද්දකි. ලෙනින්, "ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක" යන කෘතියෙහි 7 වැනි පරිච්ඡේදයෙන් එය විස්තර සහිත විවේචනයට ලක් කළේය. (මෙම වෙළුමේ 62—68 පිටු බලන්න)

20 කළු සියය පිරිස් — විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව සටන් කිරීම සඳහා සාර්වාදී පොලිසිය ඇති කළ රාජාණ්ඩුවාදී කණ්ඩායම් ය.

ඔවුහු විප්ලවවාදීන් මරා දැමූහ; ප්‍රගතිශීලී බුද්ධිමතුන්ට පහරදීම් සංවිධානය කළහ; යුදෙව් සංහාර ක්‍රියාත්මක කළහ.

21 ෂිපොව් ව්‍යවස්ථාව — ලෙනින් මෙහි සඳහන් කරන්නේ පසුගිය ශතවර්ෂය ගෙවී යන කාලයේදී සෙම්ස්ත්ව ලිබරල් ව්‍යාපාරයේ දක්ශිණාංශයේ නායකයෙකුව සිටි ඩී. එන්. ෂිපොව් විසින් පිළියෙළ කරන ලද රාජ්‍ය ක්‍රමය පිළිබඳ කෙටුම්පත ගැනය. විප්ලවයේ ඉදිරි මග සීමා කිරීමේ සහ සෙම්ස්ත්වො සභාවලට වාසි වන පරිදි සාර්වාදී ආණ්ඩුවෙන් යම් සහන දිනා ගැනීමේ උත්සාහයක් වශයෙන් සාර්ගේ උපදේශකත්වය යටතේ නියෝජිත ආයතනයක් පිහිටුවීමට ෂිපොව් යෝජනා කළේය. එවැනි ගනුදෙනුවක් කිරීමෙන් මධ්‍යස්ථ ලිබරල්වාදීන්ට උවමනා කළේ බහු ජනතාව රවටා, රාජාණ්ඩුව රැකගන්නා අතරම තමන් සඳහා යම් දේශපාලන අයිතීන් දිනා ගැනීමය.

22 නීත්‍යනුකූල මාක්ස්වාදය — දහනවවැනි ශත වර්ශයේ 90 ගණන්වලදී රුසියාවේ ධනපති-ලිබරල්වාදී බුද්ධිමතුන් අතර පැන නැගි සමාජ-දේශපාලන ප්‍රවනතාවයකි. තමන් මාක්ස්වාදීන් යැයි කියාගත් ස්ත්‍රුවේ, බුල්ගාකව්, තුගාන්-බරනොව්ස්කි හා වෙනත් අය මාක්ස්වාදී න්‍යායයේ "විප්ලවවාදී අධ්‍යාත්මය" වන ධනපති ක්‍රමයේ නොවැලැක්විය හැකි විනාශය පිළිබඳද, සමාජවාදී විප්ලවය පිළිබඳව ද, සමාජවාදය කරා පරිවර්තනය වීම පිළිබඳවද උගැන්වීම් වීසිකරමින් රදළ සමාජයීය ආර්ථික සැකැස්ම නොවැලැක්විය හැකි සේ ධනපති සැකැස්මක් දක්වා වෙනස්වීමේ න්‍යායය පමණක් වෙන්කර ගත්හ. "නීත්‍යනුකූල මාක්ස්වාදීහු", නීත්‍යනුකූල ප්‍රකාශන මගින්, රුසියාවේ ධනපති සංවර්ධනයේ නොවැලැක්විය හැකි භාවය නොපිළිගත් නරෝද්නික්වරුන් විවේචනය කළහ.අනතුරුව "නීත්‍යනුකූල මාක්ස්වාදීහු මාක්ස්වාදයේ සතුරන් වී ධනපති කැඩෙට් පක්ෂයේ නායකයින් බවට පත් වූහ.

23 "රුස්කය ස්තරිනා" — ඉතිහාසය පිළිබඳ සඟරාවකි. 1870 සිට 1918 දක්වා පිටර්ස්බර්ග්හිදී මාස්පතා පළ විය.

24 මෙහි සඳහන් වන්නේ කාල් මාක්ස්ගේ "ෆෙයර්බාහ් ගැන තීසිය" නැමැති ලිපිය පිළිබඳවය.

25 අටවැනි සටහන බලන්න.

26 "රුස්කිය වේදමස්ති" — 1863 සිට 1918 දක්වා මොස්කව්හි පළ කරන ලද පුවත් පතකි.

සින් ඔතෙචෙස්ත්ව — 1856 සිට 1905 දක්වා කලින් කල පිටර්ස්බර්ග්හි පළ කරන ලද දිනපතා ප්‍රවෘත්ති පත්‍රයකි.

නාෂ ෂිස්න් — ලිබරල් වාදයට සමීපතාවයක් දැක්වූ දිනපතා පුවත් පතකි. එය 1904 නොවැම්බර් 6(19) සිට 1906 ජූලි 11(24) දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි කඩින් කඩ පළ විය.

නාෂි ද්නී — 1904 දෙසැම්බර් 18(31) පටන් 1905 පෙබරවාරි 5(18) දක්වා සාන්ත පීටර්ස්බර්ග් හි පළ කළ දින පතා ලිබරල් පත්‍රයකි.

27 සෙම්ස්ත්වොවාදියා — සෙම්ස්ත්වො සංවිධානවල සාමාජිකයාය.

සෙම්ස්ත්වො සංවිධාන — රදළයින්ගේ ප්‍රධානත්වයෙන් රුසියාවේ මධ්‍යම ගුබේර්නියා වල 1864 දී පිහිටුවන ලද ඊනියා ප්‍රාදේශික ස්වයං පාලන සංවිධාන මේ නමින් හැඳින්විණි. සෙම්ස්ත්වො සංවිධානවල නීත්‍යනුකූල බලය ස්වකීය ප්‍රදේශයේ සමාජ-ආර්ථික ප්‍රශ්නවලට පමණක් (ආරෝග්‍යශාලා ගොඩනැගීම, මහා මාර්ග තැනීම, සංඛ්‍ය ලේඛන ගැනීම, රක්ෂණ කටයුතු) සීමා විය. රාජ්‍ය විරෝධී සියළුම කටයුතු තහනම් කිරීමේ සම්පූර්ණ බලය ඇති ගුබේර්නියා ආණ්ඩුකාරවරයාගේ සහ අභ්‍යන්තර කටයුතු භාර ඇමැතිවරයාගේ පාලනය යටතේ සෙම්ස්ත්වො සංවිධාන කටයුතු කළහ.

28 කරපටියේ මිනිසා — චේහව් ලියූ, එම නම ඇති කථාවේ ප්‍රධාන චරිතයය. එය සියළු නවතාවයන් හා ක්‍රියාරම්භකතාවයන් පිළිකුල් කරන පටු අදහස් දරන අමනයෙකු ගේ පිළිබිඹුවකි.

29 ලෙනින් සඳහන් කරන්නේ "Aus dem Literarischen Nachlaß von Karl Marx, Friedrich Engels und Ferdinand Lassale. Herausgegeben von Franz Mehring," Band III, Stuttgart, 1902, S. 211. (''කාල් මාක්ස්ගේ, ප්‍රෙඩරික් එංගල්ස්ගේ හා ෆේපර්දිනාන්ද් ලසාල්ගේ සාහිත්‍ය උරුමයෙන්, සංස්කරනය ෆ්‍රාන්තස් මේරිංග්''. වෙළුම 3, ස්ටුට්ගාර්ට්, 1902, පිටුව 211).

30 ජිරොන්ඩ් සහ ජැකොබින් — දහ අටවැනි සියවසේ අවසානයේදී සිදුවූ ප්‍රංශ ධනපති විප්ලවය සමයේ පැවති ධනපති දේශපාලන කණ්ඩායම් දෙකකි. මධ්‍යස්ථ ධනපති පංතියේ අවශ්‍යතාවයන් නියෝජනය කළ ජිරොන්ඩ්වරු විප්ලවය හා ප්‍රති විප්ලවය අතර වැනෙමින් රාජාණ්ඩුව සමග සම්මතයක් ඇතිකර ගැනීමට සූදනම් වූහ. අධිරාජ්‍යවාදය සහ රදළවාදය නැතිකර දැමීමේ අවශ්‍යතාවය පිළිගත් ධනපති පංතියේ සහ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වඩාත් ස්ථිරත්වයක් දක්වූ නියෝජිතයින් ජාකොබින්වරු නමින් හඳුන්වන ලදී. ජැකොබින්වරු 1793 මැයි 31 — ජූනි 2 සිදුවූ ජිරොන්ඩ් ආධිපත්‍යය බිඳ දැමූ ජනතා නැගිටීමට නායකත්වය දුන්හ. පසුව ජැකොබින්වරුන්ගේ ආඥදායකත්වයක් පිහිටුවන ලදී.

31 මෙහි සඳහන් කෙරෙන්නේ, සෙම්ස්ත්ව නියොජිත මණ්ඩලයකට පැමිණ, තමන් බැහැදැකීමට, II වැනි නිකොලායි රජු විසින් 1905 ජූනි 6(19) දින දෙන ලද අවස්ථාව ගැනය.

''අළුත් කරන ලද ආණ්ඩු ක්‍රමයක්'' ස්ථාපිත කරනු පිණිස ජනතාව ගේ නියෝජිතයන් කැඳවන ලෙස ඉල්ලන පෙත්සමක් නියෝජිත මණ්ඩලය විසින් ඔහුට භාර දෙන ලදී. සර්වජන, ඍජු සහ රහස් ඡන්දයක් සඳහා හෝ සහතික කරන ලද නිදහස් ඡන්දයක් සඳහා හෝ ඉල්ලීමක් පෙත්සමෙහි නො වීය.

32 බාෂිබුසුක් වරු — තාවකාලික තුර්කි සේනාංක වලට අයත් (18—19 ශතවර්ෂවල) සොල්දාදුවන් එම නමින් හැඳින්විණි. එම සොල්දාදුවෝ ඔවුන්ගේ කලහකාරිත්වය හා කෲරත්වය නිසා මහත් අපකීර්තියට පත්ව සිටියහ.



33 වපිරියොද්, සම්මේලන, ප්‍රොලිතාරි කණ්ඩායම — බොල්ෂෙවික් වරුන් හැඳින්වීමට යොදන ලද විවිධ නම් ය. එම නම් ලැබී ඇත්තේ, ඔවුන් කැඳවූ තුන්වැනි සම්මේලනයත් ''වපිරියොද්'' හා ''ප්‍රොලිතාරි'' හැඳින්වීම් අනුව ය.

34 මෙම සඳහන කර ඇත්තේ, රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයේදී අලෙක්සාන්දර් පොත්‍රෙසොව් (ස්තරොවේර්) විසින්, ලිබරල් වාදීන් කෙරෙහි දක්වන ආකල්පය ගැන ඉදිරිපත් කළ හා සම්මේලනය පිළිගත් යෝජනාව ගැනය.

35 මෙම සඳහන කර ඇත්තේ ට්සුසිමා දිවයින අසළ කෙරුණු නාවුක සංග්‍රාමය ගැන ය. 1905 මැයි 14—15 (27—28) ඇති වූ මෙම සංග්‍රාමය ජපනුන් විසින් රුසියානු නාවුක හමුදව පරාජය කරනු ලැබීමෙන් කෙළවර විය.

36 පාර්ලිමේන්තු විකලාංගවාදය යන යෙදුම වී. අයි. ලෙනින් බොහෝ අවස්ථාවල පාවිච්චි කරයි. කාල් මාක්ස් හා ප්‍රෙඩරික් එංගල්ස්ද එම යෙදුම පාවිච්චි කළහ.

ලෙනින් මෙම පාඨය යෙදුවේ පාර්ලිමේන්තු ක්‍රමය සර්ව සම්පූර්ණ බලයකින් යුක්ත යයිද පාර්ලිමේන්තු කටයුතු සියලුම තත්වයන් යටතේ ගෙනයා යුතු එකම, නැතහොත් ප්‍රධාන දේශපාලන අරගල ක්‍රමය වශයෙන් සැලකූ අවස්ථාවාදීන් ගැන ය.

37 රිපිතිලොව් — එ. සී. ග්‍රිබයේදෙව් ගේ කවට කමෙන් ඇස් රතුවේ නැමති කථාවේ චරිතයකි.

ලෙනින් මෙම නම යොදු ගත්තේ සිදුවීම් වලින් උද්දම වන විප්ලවවාදී හැඟීම් ඇති, න්‍යායික හෝ සමාජය පිළිබඳ දැනුමක් නො මැති පුද්ගලයන් හැඳින්වීමටය.

38 ලෙනින් සඳහන් කරන්නේ ඔක්තෝබර් 6 සිට 12 දක්වා බ්‍රෙස්ලෝහි පවත්වන ලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ 1895 සම්මේලනය ගැනය. න්‍යාය පත්‍රයෙහි ඇතුළත් ප්‍රධාන කාරණය වූයේ, 1894 ෆ්‍රන්ක්පර්ට් සම්මේලනයේ තීරණය පරිදි පිහිටුවන ලද ගොවිජන ප්‍රශ්නය පිළිබඳ කොමිසම යෝජනා කළ කෙටුම්පත් ගොවිජන වැඩ පිළිවෙළය. කෙටුම්පත් ගොවිජන වැඩ පිළිවෙළෙහි බරපතල වැරදි ගණනාවක් විය. විශේෂයෙන්ම, නිර්ධන පංති පක්ෂය ''පොදුජන''

පක්ෂයක් බවට පරිවර්තනය කිරීමේ ප්‍රවණතාවය එහි දක්නා ලදී. අවස්ථාවාදීන් පමණක් නොව, ඕගස්ට් බෙබෙල් සහ විල්හෙල්ම් ලිබ්නෙහ්ත් ද, කෙටුම්පතට පක්ෂව කථා කළ අතර, පක්ෂ සහෝදරවරු, ඒ ගැන ඔවුනට සම්මේලනයේදී දෝෂාරෝපනය කළහ. කාල් කෞට්ස්කි, ක්ලාරා ට්සෙට්කින් හා සම්මේලනයේ සිටි තවත් සමාජ ප්‍රජාතන්ත්‍රවාදීහු ගණනාවක්ම කෙටුම්පත් ගොවිජන වැඩ පිළිවෙළ විවේචනය කළහ. සම්මේලනය වැඩි ඡන්දයෙන් (158—163) එය ප්‍රතික්ෂේප කළේය.

39 <u>''රබෝචිය දියල''</u> — 1899 අප්‍රියෙල් හා 1902 පෙබරවාරි දක්වා පිනීවා හි පළවූ ආර්ථිකවාදීන්ගේ සඟරාවකි. පළවූයේ කලාප 12 ක් (පොත් 9 ක් පමණකි. රුසියානු සමාජ ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රමීය හා සංවිධානාත්මක ප්‍රශ්න වලදී ''රබෝචිය දියල'' අවස්ථාවාදී පිළිවෙතක් අනුගමනය කළේය.

40 මෙහි සඳහන් කර ඇත්තේ, ''විප්ලවයේ පූර්වාසන්නය. න්‍යායය සහ උපක්‍රම පිළිබඳ ප්‍රශ්න ගැන නරෝද්නික් සමාලෝචනය'' යන පොත් පිංච ගැනය. එය වයි. ඕ. සෙලෙන්ස්කි විසින්, එල්. නදියෙෂ්දින් යන ආරූඪ නාමයෙන් ලියන ලදුව 1901 දී පළ කරන ලදී. ලෙනින් ඔහුගේ ''කළ යුත්තේ කුමක්ද?'' යන කෘතියෙන් මෙම පොත් පිංච තියුණු විවේචනයට ලක් කළේය (මෙහි පළමුවැනි වෙළුම බලන්න).

41 <u>''ප්රැන්ක්පර්ට් පත්‍රය''</u> "Frankfurter Zeitung" — ජර්මනියේ විශාල මූල්‍ය කණ්ඩායම් නියෝජනය කළ දිනපතා පත්‍රයකි. 1856 සිට මයින් ගඟ බඩ ප්රැන්ක්පර්ට් නගරයේ පළ විය.

42 <u>බර්න්ෂ්ටයින්වාදය</u> — ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ මාක්ස්වාදයට විරුද්ධ අවස්ථාවාදී ප්‍රවනතාවයකි. 19 වැනි ශත වර්ෂය අවසානයේදී ජර්මනියේ බිහිවූ එය සංශෝධනවාදය විවෘත ලෙසම ප්‍රකාශ කළ ඒ. බර්න්ෂ්ටයින් නමින් හැඳින්වේ. ප්‍රෙඩ්රික් එංගල්ස්ගේ මරණින් පසු බර්න්ෂ්ටයින් මාක්ස්ගේ විප්ලවවාදී ධර්මය ලිබරල්වාදයේ ජීවය අනුව සංශෝධනය කිරීමට උත්සාහ ගත්තේය. ඒ අනුව ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සමාජ ප්‍රතිසංස්කරණවාදී සුළු ධනපති පක්ෂයක් බවට පත්කිරීමට උත්සහ ගත්තේය.



43 <u>ජොරේස්වාදියෝ</u> — 1890 ගණන්වලදී ඒ. මිල්යෙරාන් හා සමග ''නිදහස් සමාජවාදියෝ'' නමින් කණ්ඩායමක් සංවිධානය කළ ජාන් ජොරේස්ගේ අනුගාමිකයින් මේ නමින් හඳුන්වන ලදී. ඔහු ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ දක්ෂිණාංශ පිළේ නායකයා විය. ''විවේචනය කිරීමේ නිදහස'' යටතේ මාක්ස්වාදයේ මූලික පදනම් සංශෝධනය කිරීමට ඉදිරිපත් වූ ජොරේස්වාදියෝ නිර්ධනීන් හා ධනපතීන් අතර පංති සහයෝගීතාවය දේශනා කළහ. ඔවුහු 1902 දී ප්‍රතිසංස්කරනවාදී ප්‍රතිපත්ති පදනම් කරගත් ප්‍රංශ සමාජවාදී පක්ෂය පිහිටුවා ගත්හ.

44 ලෙනින් අදහස් කරන්නේ, පැරිස් කොමියුනයේ හිටපු සාමාජිකයින් වූ ලන්ඩන් බ්ලාන්කිස්ට් කණ්ඩායම 1874 දී පිට කළ වැඩ පිළිවෙළ ගැනය.

<u>බ්ලාන්කිවාදය</u> — ප්‍රමුඛ විප්ලවවාදියෙක් සහ ප්‍රංශ මනෝරාජික කොමියුනිස්ට්වාදයේ නියෝජිතයෙක් වූ ලුවී ඔගස්ට් බ්ලාන්කි ගේ (1805—1881) නායකත්වයෙන් යුත් වූ ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ උපනතියක අනුගාමිකයින් බ්ලාන්කිස්ට්වරු වශයෙන් හැඳින්විණ.

බ්ලාන්කිස්ට් වරු පංති අරගලය ප්‍රතික්ෂේප කළ අතර, ''නිර්ධන පංති පක්ෂයක් කරන අරගලය වෙනුවට, රහස් කුමන්ත්‍රණකාරයින් කුඩා පිරිසක් කරන කැරැල්ලක් ආදේශ කළහ. නැගිටීමක් සඳහා අවශ්‍ය තත්වයන් ගැන සැලකිල්ලක් නොදැක්වූහ.

45 <u>ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එර්පුර්ට් වැඩපිළිවෙළ</u> 1891 ඔක්තෝබර් මස එර්පුර්ට් සම්මේලනයේදී අනුමත විය. ගෝතා වැඩ පිළිවෙළ (1875) සමග සසඳන විට එය ඉදිරි පියවරක් විය. එය පදනම් වී තිබුණේ, ධනපති නිෂ්පාදන ක්‍රමය අනිවාරණීය වශයෙන් විනාශ වී සමාජවාදී නිෂ්පාදනයට ඉඩ දිය යුතු වන්නේය යන මාක්ස්වාදී උගැන්වීම මතය. කම්කරු පංතිය දේශපාලන අරගලයක් කළ යුතු බව අවධාරණය කළ එය, මෙම අරගලයේ නායකයා වශයෙන් පක්ෂයට පැවරෙන කාර්ය කොටස, ආදිය පෙන්නුම් කළේය. එසේ වුවද, එර්පුර්ට් වැඩ පිළිවෙළ තුළද අවස්ථාවාදයට බරපතල සහන සලසා තිබුණේය. ප්‍රෙඩ්රික් එංගල්ස් එය සවිස්තර ලෙස විවේචනය කළේය. මෙම වැඩ පිළිවෙළ දෙවැනි ජාත්‍යන්තරයේ පක්ෂ විසින් ආදර්ශයක් වශයෙන් සලකන ලදී. එනිසා එංගල්ස්ගේ විවේචනය මුළු දෙවැනි ජාත්‍යන්තරයේම අවස්ථාවාදය ගැන කරන ලද, විවේචනයක් විය. කෙසේ හෝ වේවා, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකත්වය, එංගල්ස්ගේ විවේචන පක්ෂ සාමාජිකත්වයෙන් සඟවා

තැබුවේය. එමෙන්ම වැඩ පිළිවෙළෙ අවසාන වශයෙන් සකස් කරන කල, එංගල්ස්ගේ ඉතාමත් වැදගත් අදහස් නො සලකා හරින ලදී. ලෙනින් ගේ අදහස අනුව එර්පුර්ට් වැඩ පිළිවෙළෙහි ප්‍රධානතම දුර්වල කම වූයේත්, අවස්ථාවාදයට සැලසූ බියගුළු සහනයක් වූයේත්, නිර්ධන පංති ආඥාදායකත්වය ගැන එය නිහඬ වීමය.

46 ලෙනින්, ''ප්‍රජාතන්ත්‍රක විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උපක්‍රම දෙක'' කෘතියේ 10 වැනි පරිච්ඡේදයට ඇතුලත් කිරීම සඳහා මෙම සටහන ලියුවේ, එම කෘතිය ලියන විටය — එහෙත් වෙනම සිටින සේය. සටහනෙහි අත් පිටපතෙහි ඔහු මෙම සටහන ඇතුලත් කළේය: ''10 වැනි පරිච්ඡේදයේ ඇතුලත් කිරීම සඳහා''. එසේ වුවත්, එය පොතේ ප්‍රථම සංස්කරණයේ (1905) හෝ ''උපක්‍රම දෙක'' ඇතුලත් ''දෙළොස් අවුරුද්ද'' (1907) කෘති එකතුවෙහිද ඇතුලත් නොවීය. එය ප්‍රථමයෙන් පළවූයේ 1926 දී ''ලෙනින්, විවිධ කෘති V'' එකතු-වෙහිය.

47 බකූනින්වාදය — ආරාජිකවාදී දෘෂ්ටියේ නායකයෙකු වූ ද මාක්ස්වාද-යේ හා විද්‍යාත්මක සමාජවාදයේ සතුරකු වූ ද එම්. ඒ. බකූනින්ගේ නමින් හඳුන්වන ලද ප්‍රවනතාවයකි.

කම්කරු පංති ව්‍යාපාරයේ උපක්‍රම වලට හා මාක්ස්වාදයේ න්‍යායට විරුද්ධව බකූනින්වාදීහු දැඩි සටනක් ගෙන ගියහ. බකූනින්වාදයේ මූලික පදනම වූයේ නිර්ධන පංතියේ ආඥාදායකත්වය ඇතුළුව සියළු අන්දමේ රජයන් ප්‍රතික්ෂෙප කිරීමය, නිර්ධන පංතියේ සමස්ත ලෝක ඓතිහාසික නොවටහා ගැනීමය. ''සම්භාවනීය'' පුද්ගලයින්ගෙන් සැදුම් ලත් රහස් විප්ලවවාදී සංගමයක් විසින්, බකූනින්වාදීන්ගේ අදහස අනුව, ජනතා කැරැලි වලට නායකත්වය දිය යුතුය. ඔවුන්ගේ උපක්‍රම වන කුමන්ත්‍රණ හා ත්‍රස්තවාදය පදනමකින් තොර වූ අතර නැගී සිටීම පිළිබඳ මාක්ස්වාදී ධර්මයට සතුරු විය.

48 ලෙනින් සඳහන් කරන්නේ ''ප්‍රොලිතාරි'' අංක 3 හි පළවූ ඔහුගේ ''තාවකාලික විප්ලවවාදී ආණ්ඩුව ගැන'' යනුවෙන් වූ (දෙවැනි) ලිපිය ගැනය. එංගල්ස්ගේ ''බකූනින්වාදීන් වැඩ කරන හැටි — 1873 ග්‍රීෂ්ම කාලයේ ස්පාඤ්ඤයේ ඇතිවූ නැගිටීම ගැන සමාලෝචනයක්'' යන ලිපියෙන් උපුටාගත් කරුණු ලෙනින් මෙම ලිපියේ දක්වා ඇත. ලෙනින් සඳහන් කළ එම ලිපියෙන් බකූනින් වරුන්ගේ යෝජනාව විවේචනය කර ඇත.



49 "Credo" (''ක්‍රීඩෝ'') — විශ්වාසවන්ත භාවයේ සලකුණ, වැඩ පිළි-වෙළ, දෘෂ්ටිය ඉදිරිපත් කිරීම ය. ''ආර්ථිකවාදීන්ගේ'' කණ්ඩායම විසින් 1899 දී ප්‍රසිද්ධ කරන ලද ප්‍රකාශනයට දුන් නමකි. මෙම ප්‍රකාශ-නය රුසියානු ''ආර්ථිකවාදයේ'' අවස්ථාවාදය වඩාත් පැහැදිලි ලෙස පෙන්නුම් කරයි. ලෙනින් ''ආර්ථිකවාදීන්ගේ'' අදහස් වලට විරුද්ධව, ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විරෝධය'' නැමති තියුණු විවේචනයක් ඉදිරිපත් කළේය.

50 ''රබෝචය මීසල්'' — ''ආර්ථිකවාදීන්ගේ'' මධ්‍යම නිල පත්‍රයයි. 1897 ඔක්තෝබර් සිට 1902 දෙසැම්බර් දක්වා පළ විය. කලාප 16 ක් පිට විය.

51 මෙහි සඳහන් කර ඇත්තේ මාක්ස් ගේ ''අයිතිය පිළිබඳ හේගල්ගේ දර්ශනවාදයේ විශ්ලේෂනය ගැන'' නැමති කෘතියෙහි එන කියමන ගැනය.

52 "L' Humanité" (''මිනිස් සංහතිය'') ප්‍රංශ සමාජවාදී පක්ෂයේ නිල පත්‍රය ලෙසට, 1904 දී ජාන් ජොරේස් විසින් ආරම්භ කරන ලද, දිනපතා පත්‍රයකි. 1905 දී මෙම පත්‍රය, රුසියාවේ ආරම්භ වී තිබුණු විප්ලවයට ශුභ පැතුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ දී (1914—1918) එය, ජාතෝන්මාදවාදී ස්ථාවරයක් ගත් ප්‍රංශ සමාජවාදී පක්ෂයේ අන්ත දක්ෂිණාංශයේ අදහස් ප්‍රකාශ කළේය.

1919 දී මර්සෙල් කාෂෙන් පත්‍රයේ ප්‍රධානත්වය ගත්තේය. ඔහු ප්‍රංශ ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ ප්‍රමුඛ පුද්ගලයෙක් විය. සෝවියට් රටට විරුද්ධව සටන් කිරීමට ස්වකීය හමුදා යැවූ ප්‍රංශ ආණ්ඩු-වේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියට 1918—1920 කාලයේදී එම පත්‍රය විරුද්ධත්වය පෑවේය.

තූර්ස් සම්මේලනයේදී (1920 දෙසැම්බර්), ප්‍රංශ සමාජවාදී පක්ෂය භේද වීමෙන් හා ප්‍රංශයේ කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමෙන් පසුව, එය පසුකී පක්ෂයේ ප්‍රධාන පුවත් පත බවට පත් විය.

53 ලෙනින් සඳහන් කරන්නේ, ප්‍රංශ කම්කරු පංති ව්‍යාපාරයේ ප්‍රමුඛ-යෙක් හා පළමු ජාත්‍යන්තරයේ සාමාජිකයෙක් වූ ලුවී එෂෙන් වාර්ලෙන් ගැනය. ඔහු 1871 පැරිස් කොමියුනයේ පාලක මණ්ඩලයෙහි සිටියේ ය.

54 මෙම සඳහන කර ඇත්තේ, 1905 ජිනීවාහි පවත්වන ලද මෙන්ෂෙවික් සාකච්ඡා සභාවේ දී අනුමත කෙරුණු ''සංවිධානය පිළිබඳ ව්‍යවස්ථාව'' ගැනය.

55 ලෙනින් සඳහන් කරන්නේ 1904 ශරත් කාලයේ පටන් 1905 ජනවාරි දක්වා ධනපති ලිබරල්වාදීන් විසින් ගෙනයන ලද ''සෙම්ස්ත්ව ව්‍යාපාරයට'' ආධාර දීමේ මෙන්ෂෙවික් සැලැස්ම ය. ව්‍යාපාරය ගෙන යන ලද්දේ, මධ්‍යස්ථ ව්‍යවස්ථානුකූල ඉල්ලීම්වලට සරිලන ආකාරයේ කථා පැවැත්වීම හා යෝජනා සම්මත කිරීම කළ සම්මේලන, රැස්වීම් හා භෝජන සංග්‍රහ මාර්ගයෙනි. යෝජනා ස්ථිර කරගන්නා ලද්දේ ව්‍යවස්ථා අඩවශයෙන් පිළිගනිමිනි. ලෙනින් ලියූ ''සෙම්ස්ත්ව සැලැස්ම සහ ''ඉස්ක්‍රා'' වේ සැලැස්ම'' යන ලිපියෙන්, ඔහු මෙම ප්‍රශ්නය පිළිබඳ මෙන්ෂෙවික් වරුන් ගේ ස්ථාවරය තදබල විවේචනයට ලක් කළේය.

56 කාල් මාක්ස්, ''1848 සිට18 50 දක්වා ප්‍රංශයේ පංති අරගලය''.

57 පංති සටන පිළිබඳ බ්‍රෙන්තානෝ අවබෝධය, ''බ්‍රෙන්තානෝවාදය'' — නිර්ධන පංතියේ විප්ලවවාදී නොවන ''පංති'' සටන පිළිගන්නා ලිබරල් ධනවාදී ධර්මයකි'' [වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 37, පිටු 237—238]. කම්හල් පිළිබඳව ව්‍යවස්ථා ඇති කිරීමෙන් සහ කම්කරුවන් වෘත්තීය සමිතිවලට සංවිධානය කිරීමෙන් ධනපති රාමුවක් තුළ කම්කරු ප්‍රශ්න විසඳිය හැකි යයි ඔවුහු දේශනා කළහ. ධනපති දේශපාලන අර්ථ ශාස්ත්‍රයේ කතිඩර-සමාජවාදී නිකායයේ ප්‍රධාන නියෝජිතයෙකු වූ එල්. බ්‍රෙන්තානෝගේ අනුගාමිකයින් මේ නමින් හැඳින්වේ.

හීර්ෂ්-දුන්කර් වෘත්තීය සමිති — 1868 දී හිර්ෂ් හා දුන්කර් නම් ධනපති ප්‍රගතිවාදී පක්ෂයේ නායකයින් දෙදෙනකු විසින් ආරම්භ කරන ලද ජර්මනියේ ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සමිති සංවිධානයකි. කම්කරුවන්ගේ හා ධනපතීන්ගේ අවශ්‍යතාවයන් ''පෑහීම'' පිළිබඳව දේශනා කළ හිර්ෂ්-දුන්කර් වෘත්තීය සමිති සංවිධායකයෝ, කම්කරුවන් හැරුනු විට ධනපතීන්ද වෘත්තීය සමිතිවලට බඳවා ගැනීම සුදුසු යැයි කල්පනා කළහ. ප්‍රාග්ධනයේ පීඩනයෙන් ධනපති පංතිය මුදවාගත හැක්කේ වෘත්තීය සමිති සංවිධාන ආධාරයෙන් හා ධනපති රජයක ව්‍යවස්ථා මාර්ගයෙන් ධනපති සමාජයක රාමුවක් තුළ යැයි ඔවුහු ප්‍රකාශ කර සිටියහ. ඔවුන් වෘත්තීය සමිතිවල ප්‍රධාන කර්තව්‍යය දුටුවේ කම්කරුවන් හා හාම්පුතුන් අතර මැදිහත්ව කටයුතු කිරීම සහ මුදල් මාධ්‍යයන් සමුච්ඡය කිරීම තුළ ය. ඔවුන්ගේ ක්‍රියාකාරිත්වය ප්‍රධාන වශයෙන් අන්‍යොන්‍යාධාර සමිති හා සංස්කෘතික-අධ්‍යාපනික කටයුතු වලට පමණක් සීමා විය.



58 ''රස්වියෙත්'' — 1905 මාර්තු සිට නොවැම්බර් දක්වා සාන්ත පීටර්ස්-බර්ග්හි පළ කරන ලද නීත්‍යානුකූල ලිබරල්වාදී පුවත්පතය.

59 ''සර්යා'' — මාක්ස්වාදී විද්‍යාත්මක දේශපාලන සඟරාවකි. ''ඉස්ක්‍රා'' කර්තෘ මණ්ඩලය විසින් ජර්මනියේ ස්ටුට්ගාට්හි 1901—1902 වසරවලදී පළ කරන ලදී. කලාප හතරක් (පොත් තුනක්) පමණක් පිට විය. එම සඟරාව ජාත්‍යන්තර හා රුසියානු ප්‍රතිසංස්කරණවාදය විවේචනය කිරීමටද මාක්ස්වාදයේ න්‍යායික පදනම ආරක්ෂා කිරීමටද ඉදිරිපත් විය.

60 ''මස්කෝව්ස්කිය වේදමස්ති'' — 1756 සිට මොස්කව් විශ්වවිද්‍යාලය විසින් පළ කරන ලද පැරණි පුවත් පතකි. 1863 සිට 1887 දක්වා එහි ප්‍රධාන කර්තෘ හා ප්‍රකාශක තනතුර ඉසිලුයේ අන්ත ප්‍රතිගාමියෙකු හා ජාතොයාන්මදවාදියෙකු වූද සුළු වශයෙන් හෝ වන ප්‍රගතිශීලී අදහස් වලට විරුද්ධ වූද එම්. එන්. කත්කොව් ය. ඔහු එය ඉඩම් හිමියන්ගේ සහ පූජකයින්ගේ ඉතාමත්ම ප්‍රතිගාමී කොටස්වල අදහස් පළ කරන රාජාණ්ඩුවාදී-ජාතිකවාදී පත්‍රයක් බවට පත් කළේය. 1905 සිට එය කළු සියය සංවිධානයේ මධ්‍යම පත්‍රය බවට පත්විය. 1917 ඔක්තෝබර් විප්ලවයෙන් පසු පත්‍රය තහනම් කරන ලදී.

61 ලෙනින් සඳහන් කර ඇත්තේ,"Aus dem literarischen Nachlaß von Karl Marx, Friedrich Engels und Ferdinand Lassale, Herausgegeben von Franz Mehring", Band III, Stuttgart, 1902, S. 53. (''කාල් මාක්ස්ගේ, ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ සහ ෆර්දිනන්ද් ලසාල්ගේ සාහිත්‍යමය උරුමයෙනි'' යන පොතට මේරිංග් ලියූ ප්‍රස්ථාවනාව ගැනය — වෙළුම III, ෂ්ටුට්ගාට්, 1902, පිටු 53.)

62 කාල් මාක්ස්. ''අර්බුදය සහ ප්‍රතිවිප්ලවය'' (3 වැනි පරිච්ඡේදය).

63 ලෙනින් මෙහි දක්වන්නේ ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ ''ජර්මන්ක්පර්ට් රැස්වීම'' නැමති ලිපියයි.

64 ෆ්‍රෙඩ්රික් එංගල්ස්. ''විප්ලවය පිළිබඳ බර්ලින් විවාදය''.

65 කාල් මාක්ස්. ''වැඩවසම් ක්‍රමය අහෝසි කිරීම පිළිබඳ ව්‍යවස්ථා කෙටුම්පත''

66 කොලෝන් කම්කරු සංගමයේ මධ්‍යම පත්‍රය ප්‍රථමයෙන් හඳුන්වන ලද්දේ "Zeitung des Arbeiter-Vereins zu Köln" (''කොලෝන් කම්කරු සංගමයේ පත්‍රය'') යන නමිනි. එකල, "Freiheit, Brüderlichkeit, Arbeit" (නිදහස, සහෝදරත්වය, ශ්‍රමය) යන අනු නාමය ද එහි විය. මෙම නම යටතේ 1848 අප්‍රියෙල් සිට ඔක්තෝබර් දක්වා පළ කරන පත්‍රය සංස්කරණය කරන ලද්දේ කොමියුනිස්ට් සංගමයේ සාමාජිකයන් විසිනි. එම කාලය තුළ කලාප හතළිහක් පළ විය. එය අඩු වැඩි වශයෙන් මිඩංගු වූයේ කොලෝන් කම්කරු සංගමයේ සහ රයින් පෙදෙසේ වෙනත් කම්කරු සමිතිවල කටයුතු වෙනුවෙනි. ඔක්තෝබර් 26 දින කොලෝන් කම්කරු සංගමය "Freiheit, Brüderlichkeit, Arbeit" යන නම යටතේ පත්‍රය නැවත පළ කිරීම පටන් ගත්තේ ය. එය 1849 ජූනි 24 දක්වා පළ කෙරුණු අතර ඉන් කලාප තිස් දෙකක් නිකුත් විය.

67 කොමියුනිස්ට් සංගමය — මාක්ස් හා එංගල්ස් විසින් 1847 දී ලංඩනයේදී පිහිටුවනු ලැබූ නිර්ධන පංතියේ ප්‍රථම ජාත්‍යන්තර කොමියුනිස්ට් සංවිධානය ය.

සංගමයේ වැඩ පිළිවෙළ හා සංවිධානාත්මක මූලධර්ම මාක්ස් ගේ හා එංගල්ස්ගේ සහභාගිත්වය ඇතිව සකස් කරන ලදී. 1848 දී ප්‍රසිද්ධ කරන ලද වැඩ පිළිවෙළ ලියවිල්ල වන ''කොමියුනිස්ට් පක්ෂයේ ප්‍රකාශනය'' ද ලියන ලද්දේ ඔවුන් විසිනි.

කොමියුනිස්ට්වරුන්ගේ සංගමය 1852 නොවැම්බර් දක්වා පැවති අතර එය ජාත්‍යන්තර වැඩකරන ජනතා සංගමයේ (පළමුවැනි ජාත්‍යන්තරයේ) පූර්වජයා විය. කොමියුනිස්ට්වරුන්ගේ සංගමයේ නායකයෝ පසුව පළමුවැනි ජාත්‍යන්තරයේ නායකයින් බවට පත්වූහ.

68 ලෙනින් සඳහන් කරන්නේ ''තවාරිෂ්'' අංක 381 පත්‍රයෙහි 1907 සැප්තැම්බර් 26 (ඔක්තෝබර් 9) දින පළ කරන ලද ජී. වී. ප්ලෙහානව්ගේ ''මෙය විය හැකිද?'' යන ලිපිය ගැනය.

''තවාරිෂ්'' (''සහෝදරයා'') — සාන්ත පීටර්ස්බර්ග්හි 1906 මාර්තු 15(28) දින සිට 1907 දෙසැම්බර් 30 (1908 ජනවාරි 12) දක්වා පළ කරන ලද දිනපතා ධනපති පුවත් පතකි. විධිමාත්‍ර වශයෙන් එය කිසියම් පක්ෂයක නිල පත්‍රය නොවූ නමුත්, එය ඇත්ත වශයෙන්ම වාම කැඩෙට්වරුන් ගේ හොරණෑව විය. එයට ක්‍රියා ශීලී ලෙස ලිපි සැපයුවන් අතර සෙර්ගේයි ප්‍රකොපෝවිච් සහ යෙකතරිනා කුස්කෝවා වූහ. එය මෙන්ෂෙවික්වරුන්ගේ ලිපිද පළ කළේය.

69 ෆ්‍රෙඩ්රික් එංගල්ස්, ''කොමියුනිස්ට් වරුන්ගේ සංගමයේ ඉතිහාසය ගැන''

70 හ්ලෙස්තකොව් — ගෝගොල් ගේ ''ඉන්ස්පැක්ටර් ජනරාල්'' යන කථාවේ ප්‍රධාන චරිත ය — අන්ත පුරාජේරුවෙක් හා බොරු කාරයෙක් පිළිබිඹු කරන්නකි.

71 ස්වේච්ඡා සටන් කණ්ඩායම් වල ඒකාබද්ධ මණ්ඩලය — මෙය 1905 ඔක්තෝබර් මස අගදී මොස්කව්හි පිහිටුවන ලදී. මුලින් එය පිහිටුවීමේ අදහස වූයේ ''කළු සියය'' පිරිස් වලට විරුද්ධව සටන් කිරීම ය. දෙසැම්බර් නැගිටීම කාලයේ ද එය පවත්වා ගන්නා ලදී. එසේ වුවත් එහි සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදී සහ මෙන්ෂෙවික් බහුතරය එහි වැඩ අවුල් කළේය. එය විප්ලවවාදී සිදුවීම් පසු පස ඇදී ගිය අතර, ස්වකීය කාර්ය භාරය ඉටු කිරීමෙහි අසමත් විය.

72 මෙහි සඳහන් වන්නේ රු. ස. ප්‍ර. ක. ප. මොස්කව් කාරක සභාවේ තීරණය පරිදි ආරම්භ කරන ලද සමන්ත මහා දේශපාලන වැඩ වර්ජනය ගැන ය. වැඩ වර්ජනය ආරම්භ වූයේ ඔක්තෝබර් 7(20) දින මොස්කව්-කසාන් දුම්රිය සේවයෙනි. එය සියළුම කාර්මික මධ්‍යස්ථානවලට පැතිරී ගොස් විසි ලක්ෂයක් දෙනා සම්බන්ධවූ සමස්ත රුසියා වැඩ වර්ජනයක් විය. වැඩ වර්ජනයේ සටන් පාඨ වූයේ, ඒකාධිපත්‍යය පෙරළා දමනු, ක්‍රියාශීලී ලෙස බුලීගින් දූමා සභාව වර්ජනය කරනු, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවනු හා ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවනු යනුයි. විප්ලවවාදී ව්‍යාපාරයේ වර්ධනය ගැන බිය පත් සාර්වාදී ආණ්ඩුව, ඉක්මන් සහන කීපයක් දුන්නේ ය. ''සිවිල් නිදහස'' හා ''ව්‍යවස්ථාදයක'' දූමා සභාවක් ඇති කිරීමට පොරොන්දු වෙමින් සාර් ඔක්තෝබර් 17 දින ප්‍රකාශනයක් නිකුත් කළේය.

සාර් ගේ ප්‍රකාශනයේ ව්‍යාජ ස්වභාවය හෙළිදරව් කළ බොල්ෂෙවික් වරු, අරගලය නොනවත්වාම ගෙනයන ලෙස ජනතාවට හඬ නැගූහ. ප්‍රකාශනය ගැන සතුට පළකළ මෙන්ෂෙවික් වරු හා සමාජවාදී-විප්ලවවාදීහු වැඩ වර්ජනය අවසන් කරන ලෙස කම්කරුවන්ට ආයාචනා කළහ. ධනපති පංතියේ ආධාරය ලැබූ සාර්, මෙන්ෂෙවික් වරුන් ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන් ගේ ද්‍රෝහිකමෙන් ප්‍රයෝජන ගනිමින් පහර දීමක් ආරම්භ කළේය. හිංසා කිරීම් හා තාඩන පීඩන රැල්ලක් රට පුරා පැතිර ගියේය.

ඇති වී තිබෙන තත්වය ගැන සලකා බලා රු. ස. ප්‍ර. ක. ප.

මොස්කව් නාගරික සාකච්ඡා සභාව ඔක්තෝබර් 22 (නොවැම්බර් 4) දින වැඩ වර්ජනය අවසන් කළේය. ඔක්තෝබර් සමන්ත මහා දේශපාලන වැඩ වර්ජනය කම්කරු පංති ව්‍යාපාරයේ ශක්තිය හා බලය පෙන්වූ අතර, ගම්බද පෙදෙස් වල, යුද්ධ හමුදාවේ සහ නාවුක හමුදාවේ විප්ලවීය ව්‍යාපාරයට එයින් ධෛර්යයක් ලැබිණ. ඔක්තෝබර් සමන්ත මහා වැඩ වර්ජනය, දෙසැම්බර් නැගිටීම සඳහා නිර්ධන පංතිය සූදානම් කළේ ය.

73 ලෙනින් සඳහන් කරන්නේ මාක්ස් ''1848 සිට 1850 දක්වා ප්‍රංශයේ පංති අරගලය'' යන පොතෙහි ඉදිරිපත් කර තිබෙන ප්‍රස්තුතය ගැනය.

74 1905 දෙසැම්බර් 8(21) දින මත්ස්‍ය තටාක උයනෙහි නෘත්‍ය ශාලාවක ජනාකීර්ණ රැස්වීමක් පැවැත්වෙමින් තිබියදී සොල්දාදුවන් හා පොලිස් භටයන් විසින් එම උයන වටා මුර වලල්ලක් දමන ලදී. රැස්වීම මුර කරමින් සිටි කම්කරු ස්වේච්ඡා කණ්ඩායමේ ප්‍රයත්නයට ස්තුති වන්නට ලේ වැගිරීමක් වැලැක්විනි. ආයුධ සන්නද්ධව සිටි අයට වැටක් බිඳී තැනකින් බේරී යාමට ඉඩ සලස්වන ලදුව, රැස්වීමේ අනිකුත් අය දෙරටුවෙන් පිට වී ගිය කල පරීක්ෂා කිරීමට හා පහර දීමට ලක් වූහ. බොහෝ දෙනෙක් සිර භාරයට ගන්නා ලදී.

75 fපිද්ලර් පාසල් ගොඩනැගිල්ල පක්ෂ රැස්වීම් සඳහා නිතිපතා යොදා ගැනිණ. 1905 දෙසැම්බර් 9(22) දින සවස, එහි පක්ෂ රැස්වීමක් පවැත්වෙද්දී යුද්ධ භටයෝ එය වැටලූහ. රැස්වීමට වැඩි වශයෙන් සහභාගි වී සිටියේ කම්කරු ස්වේච්ඡා කණ්ඩායම්වල සාමාජිකයන්ය. යටත් වීම ප්‍රතික්ෂේප කළ ඔවුහු ආරක්ෂක විධි විධාන යොදා ගොඩනැගිල්ල තුළ කඳවුරු බැඳ ගත්හ. යුද්ධ භටයෝ කාල තුවක්කු සහ මැෂින් තුවක්කු ප්‍රහාරය එල්ල කළහ. 30 දෙනෙකුට වැඩි සංඛ්‍යාවක් මරණයට පත්වූහ, නැතහොත් තුවාල ලැබූහ. 120 දෙනෙක් සිර භාරයට ගන්නා ලදහ.

76 සෙමෙනොව්වරු—මෙය මොස්කව් කම්කරුවන්ගේ නැගිටීම මර්දනය කරනු පිණිස සාන්ත පීටර්ස්බර්ග් නගරයෙන් 1905 දෙසැම්බර් මස මොස්කව් නගරයට එවන ලද හමුදා රෙජිමේන්තුවකි.

77 කොසාක්වරු — වැඩවසම් ක්‍රමයේ පීඩනයෙන් ගැලවී පැනගිය ප්‍රවේණිදාස ගොවීන්ගෙන් ද නගරබද දුප්පතුන්ගෙන්ද සැදුම් ලත්, රුසියාවේ නැගෙනහිර දේශ සීමා අසබඩ පදිංචිව සිටි මිනිස් කණ්ඩායම් මේ නමින් හැඳින්විණ. දහ අටවැනි ශතවර්ෂය වන විට කොසාක්වරු විශේෂ කොන්දේසි යටතේ රජයේ හමුදාවන්ට සේවය කළ විශේෂ වරප්‍රසාද ලත් ගොවීන් බවට පත් වූහ. විප්ලවවාදී සටන් මැඩ පැවැත්වීමට සාර්වාදී ඒකාධිපති රජය ප්‍රයෝජනයට ගත් විශේෂ හමුදා කණ්ඩායම් කොසාක්වරුන්ගෙන් සාදන ලදී.



78 මෙහි සඳහන් වන්නේ එංගල්ස් ගේ ''ජර්මනියේ විප්ලවය හා ප්‍රතිවිප්ලවය'' ගැනය. එය 1851—1852 කාලය තුළ "New-York Daily Tribune" පත්‍රයෙහි ලිපි පෙළක් ලෙසට මාක්ස්ගේ අත්සනින් පළ විය. ප්‍රථමයෙන් මාක්ස් ඒවා ලිවීමට අදහස් කළ නමුත්, ආර්ථික පර්යේෂණවල යෙදී සිටීම නිසා, එම කර්තව්‍යය එංගල්ස්ට පැවරුවේය. මෙම ලිපි ලිවීමේදී එංගල්ස් නිතරම මාක්ස් සමග කරුණු සාකච්ඡා කළ අතර, ලිපි පත්‍රවලට යැවීමට පෙර මාක්ස් ඒවා කියවා බැලුවේය. 1913 දී මාක්ස් හා එංගල්ස් අතර හුවමාරු වූ ලිපි පළවන තෙක්ම, මෙම කෘතිය ලියන ලද්දේ එංගල්ස් විසින් බව නොදැන ගන්නා ලදී.

79 එංගල්ස් ඔහුගේ කෘති ගණනාවකම, විශේෂයෙන්ම ''ඩූරිං-විරෝධයෙහි'' මෙම ප්‍රස්තුතය විස්තර කළේය.

80 1905 දෙසැම්බරයේදී කැරලි කාර කම්කරුවන්ගෙන්, කෘෂිකාර්මික කම්කරුවන් ගෙන් හා ගොවීන්ගෙන් සමන්විත ආයුධ සන්නද්ධ කණ්ඩායම් විසින් විවිධ ලත්වියන් නගර අල්ලා ගන්නා ලදී. සාර්වාදී යුද්ධ හමුදාවලට විරුද්ධව ගරිල්ලා යුද්ධය ආරම්භ විය. දණ්ඩන හමුදා ප්‍රහාරයන් මගින් 1906 ජනවාරියේ දී ලත්වියන් නැගිටීම මර්දනය කෙරිණ.

81 මෙහි සඳහන් වන්නේ අගමැති විත්තේ විසින් පිළියෙළ කරන ලද කෙටුම්පත අනුව 1906 අප්‍රියෙල් 27 (මැයි 10) කැඳවන ලද පළමුවැනි දූමා සභා වාරය ගැනය.

1905 ඇතිවූ සමස්ත රුසියා වැඩ වර්ජනයේ බලපෑම නිසා ආණ්ඩු ක්‍රම සම්පාදක කටයුතු සඳහා රාජ්‍ය දූමා සභාව කැඳවීම පිළිබඳ ප්‍රකාශනයක් නිකුත් කිරීමට ඔක්තෝබර් 17 වැනි ද සාර්ට සිදුවිය. නව දූමා සභාවක් කැඳවීමෙන් විප්ලවවාදී ව්‍යාපාරය කඩා කප්පල් කර දුර්වල කිරීමටත්, ව්‍යවස්ථාදායක රාජාණ්ඩුවාදී මාර්ගයක් දිගේ රට සංවර්ධනය කිරීමටත් සාර් අදහස් කළේය. ව්‍යවස්ථා මගින් පොරො-

න්දු දෙමින්, රජය ඒ අතරම රාජ්‍ය දූමා සාභාවේ සාමාජිකත්වය, ඊට කැමති ලෙසට සැලැස්වීමද සොයා බැලුවේය.

82 ලෙනින් සඳහන් කරන්නේ 1906 ජූලි මස ඇතිවූ ස්වීබෝර්ග් සහ ක්‍රොන්ෂ්තාද්ත් කැරලි ගැනය.

83 ලෙනින් අදහස් කරන්නේ රු. ස. ප්‍ර. ක. ප. පස්වැනි සමස්ත රුසියා සාකච්ඡා සභාව ගැනය. එය 1908 දෙසැම්බර් 21 සිට දෙසැම්බර් 27 (1909 ජනවාරි 3—9) දක්වා පැරීසියෙහි දී පැවැත්විණ. මෙන්ෂෙවික්-වාදී-ලික්විඩේටර් වරුන්ට විරුද්ධව කළ සටනේදී බොල්ෂෙවික් වාදීහු සාකච්ඡා සභාව තුළ විශාල ජයක් අත්කර ගත්හ.

84 <u>තෘදෙවික් වරු</u> — ගොවීන් ගෙන් සහ නරෝද්නික් අදහස් ඇති බුද්ධිමතුන්ගෙන් සමන්විත, දූමා සභාවේ සිටි සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමකි. තෘදෙවික් කණ්ඩායම ආරම්භවූයේ 1906 අප්‍රියෙල් මාසයේදීය — එය සමන්විත වූයේ ප්‍රථම දූමා සභාවේ ගොවිජන මන්ත්‍රීවරුන් ගෙනි.

දූමා සභාවේ තෘදෙවික්වරු, කැඩෙට්වරු සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර එහා මෙහා වැනෙමින් සිටියහ. ඔවුන් ගේ චපලත්වයට හේතු වූයේ සුළු දේපල හිමියන් වන ගොවීන්ගේ පංති ස්වභාවය ය. තෘදෙවික්වරු එක්තරා ප්‍රමාණයකට ගොවිජනතා කොටස් නියෝජනය කළ නිසා, බොල්ෂෙවික්වරු දූමා සභාව තුළ අනුගමනය කළ උපක්‍රමවල ඉලක්කය වූයේ, සාර්වාදී ඒකාධිපත්‍යයට හා කැඩෙට්වරුන්ට විරුද්ධව ඒකාබද්ධ අරගලයක් කිරීමේ අරමුණ ඇතිව, ඔවුන් සමග එක් එක් කරුණුවලදී එකඟත්වයන් ඇති කර ගැනීමය. 1917 දී පොදුජන සමාජවාදී පක්ෂය සමග ඒකාබද්ධ වූ තෘදෙවික්වරු ධනපති තාවකාලික ආණ්ඩුවට ක්‍රියාශීලී සහයෝගය දුන්හ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව, තෘදෙවික්වරු ධනපති ප්‍රතිවිප්ලවයේ පැත්ත ගත්හ.

85 <u>ඔක්තෝබර්වාදීන්</u> — සාර්ගේ 1905 ඔක්තෝබර් 17 දින ප්‍රකාශනය පළ කිරීමෙන් පසුව රුසියාවේ පිහිටුවන ලද ඔක්තෝබර් දහහත සංගමයේ සාමාජිකයින්ය. මෙම ප්‍රති විප්ලවවාදී පක්ෂය, ලොකු කාර්මිකයන් ගේ සහ ධනපති ක්‍රමයට ගොවිතැන් කළ ඉඩම් හිමියන් ගේ අවශ්‍යතාවයන් නියෝජනය කළ අතර ඒවා ආරක්ෂා කළේය. එහි නායකයන් වූයේ සුප්‍රසිද්ධ කාර්මිකයෙක්, මොස්කව් නිවාස හිමියෙක් වූ ඒ. අයි.



ගුච්කොව් සහ ලොකු ඉඩම් හිමියෙක් වූ එම්. වී. රොද්ස්යාන්කො ය. ඔක්තෝබර් වාදීහු සාර්වාදී ආණ්ඩුවේ විදේශීය හා දේශීය ප්‍රතිපත්තියට ආධාර දුන්හ.

86 ලෙනින් සඳහන් කරන්නේ ස්තලිපින් ක්‍රියාත්මක කළ ගොවිජන නීති ගැනය. 1906 නොවැම්බර් 9 (22) දින හා 1906 නොවැම්බර් 15 (28) දින, ගොවිතැන පිළිබඳ නව පනත් නිකුත් කෙරිණ. මෙම පනත් යටතේ ගොවියාට ඔහුගේ ඉඩම් කට්ටිය පුද්ගලික දේපලක් ලෙසට අයිති කර ගැනීමට හා ග්‍රාමීය සමූහ වලින් ඉවත්ව ඔහුගේ ඉඩම් කැබැල්ලට හෝ ගෙපත්වලට හෝ යා හැකි විය. ඉඩම් කැබැල්ල හෝ ගෙපත් හිමි ගොවියාට ඉඩම් මිළට ගැනීම සඳහා ගොවිජන බැංකුවෙන් ණයක් ගත හැකි විය. ස්තලිපින් ගොවිජන ප්‍රතිසංස්කරණයේ අරමුණ වූයේ, වතුකාර දේපල රැකගනිමින් ගොවිජන සමූහ විනාශ කරන අතරම, ඒකාධිපත්‍යයට ආධාරකයක් ආකාරයෙන් කුලාක් පංතියක් ගොඩ නැගීමය.

ලෙනින් 1906 ස්තලිපින් කෘෂිකර්ම නීති (සහ 1910 ජූනි 14 (27) දින පනවන ලද නීතිය) හැඳින්වූයේ, රුසියාව වැඩවසම් ඒකාධිපත්‍යයක සිට ධනපති රාජාණ්ඩුවක් දක්වා පරිවර්තනය කිරීම සඳහා 1861 ප්‍රතිසංස්කරණවලට අනතුරුව ගන්නා ලද දෙවැනි පියවර ලෙසට ය.

ස්තලිපින් කෘෂිකාර්මික නීති පැනවීමෙන්, සමස්තයක් වශයෙන් ගොවි ජනතාව හා ඉඩම් හිමියන් අතර මූලික ප්‍රතිවිරෝධය ඉවත් නොවූ අතර එනිසා ගොවිජන සමූහයා තව තවත් දරිද්‍රතාවයට පත්වීමත්, කුලාකයන් හා ගම්බද දුප්පතුන් අතර ප්‍රතිවිරෝධතාවය වඩාත් උග්‍ර වීමත් සිදු විය.

87 <u>සමාජවාදීන්ට විරුද්ධ අතිවිශේෂ නීතිය.</u> — මෙය 1878 සිට 1890 දක්වා ජර්මනියේ ක්‍රියාත්මක විය. මෙම නීතිය මගින් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සියළුම සංවිධානද, කම්කරු සංවිධානද, කම්කරුවන්ගේ මුද්‍රණාගාරද තහනම් කළ අතර සමාජවාදී සාහිත්‍යය රාජසන්තක කෙරිණි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සිරභාරයට ගැනීම් පිටුවාහල් කිරීම් කෙරිණ. එහෙත්, ජනතාවත් සමග සම්බන්ධකම් තහවුරු කර ගැනීම සඳහා නීත්‍යානුකූල ප්‍රස්තුතයන් පුළුල් ලෙස උපයෝගී කර ගත් ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය නීති විරෝධී කටයුතු පවත්වා ගෙන ගියේය. කම්කරු පංති ව්‍යාපාරයේ දැඩි විරෝධයන්ගේ ප්‍රතිඵලයක් වශයෙන් 1890 දී සමාජවාදීන්ට විරුද්ධ අතිවිශේෂ නීතිය ඉවත් කරගන්නා ලදී.

88 ඔත්සොවිස්ට්වරු — බොල්ෂෙවික්වරු අතර 1908 දී උද්ගත වූ අවස්ථාවාදී කණ්ඩායමකි. විප්ලවවාදී වදන් දඩමීමා කරගනිමින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රීවරුන් තුන්වැනි දූමා සභාවෙන් ඉවත් කරගන්නා ලෙසද, නීත්‍යානුකූල සංවිධානවල වැඩ අතහැර දමන ලෙසද ඔවුහු ඉල්ලූහ. ප්‍රතිගාමීත්වයේ තත්වයන් යටතේ පක්ෂය කළ යුත්තේ නීති විරෝධී වැඩ පමණක්ය යන අදහස දැරූ ඔවුහු, දූමා සභාවටත්, වෘත්තීය සමිති වලටත්, වෙනත් පොදු ජන නීත්‍යානුකූල හා අර්ධ නීත්‍යානුකූල සංවිධානවලටත් සහභාගී වීම ප්‍රතික්ෂේප කළහ.සියළුම පක්ෂ කටයුතු නීතිවිරෝධී සංවිධානවලට සීමා කිරීම අවශ්‍ය යයි ඔවුහු කල්පනා කලහ. 'ඔත්තිම නිවේදනවාදය' ඔත්සොවිස්ට්වාදයේ එක් වර්ගයක් විය.

89 උග්‍රයන් — ප්‍රතිගාමී ඉඩම් දේපල හිමියන් ගේ අන්ත දක්ෂිණාංශයට රුසියානු දේශපාලන සාහිත්‍යයේ දී තිබෙන නම ය.

90 මනීලව් — ගෝගොල්ගේ ''මළගිය ආත්මය'' නැමැති නවකථාවේ එක් චරිතයකි. සාන්ත, සුන්දර ආධ්‍යාත්මයක් ඇති මනීලව් නම් ඉඩම් හිමියාගේ චරිතයෙහි දුර්වල අධිෂ්ඨාන ශක්තියකින් යුතුව හිස් සිහින මවන්නකුගේ ද වැඩ නොකරන වාචාලයෙකුගේද ආත්මයක් නිරූපනය වේ.

91 දෙකබ්රිස්ති (දෙසැම්බර් පුරුෂයෝ) — 1825 දෙසැම්බර් 14 දින අවිගත් කැරැල්ල ඇති කළ, සමහර රුසියානු වංශවතුන්ගෙන් සමන්විත වූ විප්ලවවාදී පිරිසකි. මොවුහු ප්‍රවේණිදස ක්‍රමයට හා ඒකාධිපත්‍යයට විරුද්ධ වූහ.

92 ලෙනින් උපුටා දක්වන්නේ අලෙක්සාන්දර් හෙර්ට්සන් ගේ ''කෙළවර සහ ආරම්භය'' යන කෘතියෙනි.

93 මෙහි අදහස් කරන්නේ 1848 ජූනි 23—26 දිනවල ඇති වූ පැරිස් නිර්ධනයින්ගේ කැරැල්ල පිළිබඳවය. එය දරුණු ලෙස මැඩ පවත්වන ලදී. 1848—1849 අවුරුදු වලදී ඇතිවූ විප්ලවවල වර්ධනයට එය විශාල ලෙස බලපෑවේය.

94 ලෙනින් මෙහි උපුටා දක්වන්නේ අලෙක්සාන්දර් හෙර්ට්සන්ගේ ''පැරණි සහෝදරයෙකුට ලියුම්'' වලිනි (ලිපි දෙක සහ හතර).

95 මෙහි සඳහන් කෙරෙන්නේ 1861 දී රුසියාවේ ප්‍රවේණිදස ක්‍රමය අහෝසි කිරීම ය.



96 ගොවිජන සංගමය (සමස්ත රුසියා ගොවිජන සංගමය) — 1905 දී පිහිටුවන ලද විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයකි. දේශපාලන නිදහස සහ වහාම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් කැඳවන ලෙස ඉල්ලූ එය ප්‍රථම දූමා සභාව වර්ජනය කිරීමට සහයෝගය දැක්විය. පෞද්ගලික ඉඩම් හිමිකම අහෝසි කිරීම ද, ආරාම, පල්ලි, අධිරාජයා හා රාජ්‍යය සතු ඉඩම් වන්දි නොමැතිව ගොවි ජනයාට පවරාදීම ද, සංගමයේ ගොවිජන වැඩ පිළිවෙළෙන් අරමුණු කරන ලදී. සමාජවාදී-විප්ලවවාදීන් ගේ බල පෑම යටතේ, සංගමයේ ප්‍රතිපත්තිය සුළු ධනපති, බාගෙට බාගේ සහ වැනෙන සුලු එකක් විය.

97 ''කෝලකොල්'' (සණ්ටාව) අලෙක්සාන්දර් හෙර්ට්සන් සහ නිකොලායි අගරියොව් විසින් පළ කරන ලද දේශපාලන සඟරාවකි. එහි ආදර්ශ පාඨය වූයේ "Vivas voco!" (මම පණ ඇතියවුන් අමතමි) යනුයි. එය හෙර්ට්සන් විසින් ආරම්භ කරන ලද නිදහස් රුසියානු මුද්‍රණාලයෙහි, 1857 ජූලි 1 දින පටන් 1865 අප්‍රියෙල් දක්වා ලන්ඩනයෙහිද 1865 මැයි සිට 1867 ජූලි දක්වා ජිනීවාහි ද, මුද්‍රණය කරන ලදී. එය මාසික වශයෙන් පළ වූ අතර කෙටි කලක් දෙසතියකට වරක් පළ විය. පළ වූ මුළු කලාප සංඛ්‍යාව 245 කි. 1868 දී සඟරාව ප්‍රංශ බසින් පළ කරන ලද (කලාප 15 ක් නිකුත්විය) අතර, සමහර කලාප සමග රුසියන් බසින් අතිරේක පළ කෙරිණ. සංස්කරණයන් පිටපත් 2500 ක් දක්වා වූ හෙයින් සඟරාව රුසියා මුළුල්ලේම පුළුල් ලෙස බෙදා හරින ලදී.

''කෝලකොල්'' පුවත් පාලනය නොකළ විප්ලවවාදී පත්‍ර අතර මුල් තැන ගත්තේය. එය රුසියාවේ කම්කරු පංති පත්‍රවල පුරෝගාමියා විය. රුසියාවේ ප්‍රජාතන්ත්‍රවාදී සහ විප්ලවවාදී ව්‍යාපාරය සංවර්ධනය කිරීමෙහි දී ද, ඒකාධිපත්‍යය සහ ප්‍රවේණිදස ක්‍රමයට විරුද්ධව අරගලයෙහිදී ද එය වැදගත් කාර්ය කොටසක් ඉටු කළේය.

98 ''පොල්යාර්නයා ස්වෙස්ද'' (උත්තරධරුව තරුව) — සාහිත්‍ය හා දේශපාලන ස්වභාවයේ විවිධ ලිපි පළ කළ සඟරාවකි. පළවූ කලාප සංඛ්‍යාව අටකි. 1855—1862 අවුරුදුවලදීහෙර්ට්සන් ලන්ඩනයේ ආරම්භ කළ නිදහස් රුසියානු මුද්‍රණාලයේ මුද්‍රණය කෙරිණ. අවසාන කලාපය ජිනීවා හි දී (1868) පළ විය. ප්‍රගතිශීලී රුසියානු සාහිත්‍ය සහ සමාජ චින්තනය සංවර්ධනය කිරීමෙහිලා ''පොල්යාර්නයා ස්වෙස්ද'' වැදගත් කාර්ය කොටසක් ඉටු කළේය.

99 ''රාස්නචින්ට්සි'' (විවිධ ධුර ඉසිලූ සාමාන්‍ය ජනයා) — වංශවතුන්

අතරින් බිහිවූ රුසියානු බුද්ධිමතුන්ට වෙනස් ලෙසට, වෙළෙඳ පංතිවලින්, පූජකයන්, සුළු නාගරිකයන් හා ගොවි ජනයා අතරින් බිහිවූ රුසියානු බුද්ධිමතුන් ය.

100 "නරෝද්නය — වෝලිය" — "සෙම්ලියා ඊ වෝලිය" සංවිධානය භේදවීමේ ප්‍රතිඵලයක් වශයෙන් 1876 අගෝස්තු මස පිහිටුවන ලද නරෝද්නික්-ත්‍රස්තවාදීන්ගේ රහසිගත සංවිධානයකි. නරෝද්නික්වාදී මන කල්පිත සමාජවාදය කෙරෙහි එල්බගත් ඔවුහු ඒ සමගම සාර්වාදී ආධිපත්‍යය පෙරලා දැමීම හා දේශපාලන නිදහස ලබාගැනීම වැදගත්ම කාර්යය බව අදහස් කරමින් දේශපාලන සටන් මාර්ගයටද පිවිසියහ. "නරෝද්නය වෝලිය" වරු සාර්වාදී ආධිපත්‍යයට විරුද්ධව වීර ලෙස සටන් කළහ. එහෙත් එසේ කළේ ඔවුන්ගේ ක්‍රියාකාරී "වීරයින්" හා "අක්‍රීය පිරිස" නැමැති වැරදි න්‍යායය අනුගමනය කරමින්ය. ඔවුහු පොදු ජනතාවගේ සම්බන්ධයක් නොමැතිව තමන්ගේ ශක්තියෙන්ම පුද්ගලික ත්‍රස්තවාදී ක්‍රියා මාර්ගයෙන් සමාජය වෙනස් කිරීමට උත්සාහ දැරූහ. 1881 මාර්තු පළමුවැනි දිනට (දෙවැනි අලෙක්සාන්දර් සාර් රජු මරාදැමීමෙන්) පසුව රජය විසින් එම සංවිධානය විනාශ කරන ලදී. "නරෝද්නය වෝලිය" නැවත සංවිධානය කිරීමට 1880 ගණන්වලදී ගන්නා ලද සියලුම උත්සාහයන් අසාර්ථක විය.

101 මෙහි සඳහන් වන්නේ බොල්ෂෙවික් වරුන්ගේ නීත්‍යානුකූල න්‍යායික මාසික සඟරාවක් වූ "ප්‍රස්විශේනිය" ගැනය. "ප්‍රස්විශේනිය" — මාස්පතා නීත්‍යානුකූලව පළ කරන ලද බොල්ෂෙවික්වාදී න්‍යායාත්මක සඟරාවකි. 1911 දෙසැම්බර් සිට 1914 ජූනි දක්වා සාන්ත පීටර්ස්බර්ග්හිදී මුද්‍රණය කර පළ කරන ලදී. මුද්‍රණය කරන ලද පිටපත් සංඛ්‍යාව පන්දහසක් පමණ වේ.ලෙනින් පැරිස්වල සිටද පසුව ක්‍රාකව් හා පරොනින් වල සිටද "ප්‍රස්විශේනිය" සඟරාවට නායකත්වය දුන් අතර ලිපි සංස්කරනය කිරීම හා කර්තෘ මණ්ඩලය සමග නොකඩවා හුවමාරු කරගත් ලිපි මගින් සඟරාවේ වැඩ කටයුතු කිරීමද කළේය.

පළමුවැනි ලෝක යුද්ධය ආසන්නයේදී සාර් රජය විසින් "ප්‍රස්විශේනිය" සංඟරාව පළකිරීම අත්හිටුවන ලදී. 1917 සරත් සමයේදී සඟරාව පළ කිරීම නැවතත් ඇරඹුණ නමුත් පළවූයේ කලාප එකක් (ද්විකලාප) පමණකි.

102 "බර්බා" (අරගලය) — 1914 පෙබරවාරි සිට ජූලි දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද, ට්‍රොට්ස්කිගේ සඟරාවය. "කට්ටිවාදී නොවීම" යන්නට මුවා වී සිටිමින් ට්‍රොට්ස්කි ලෙනින්ට සහ බොල්ෂෙවික් පක්ෂයට විරුද්ධව අරගලයක් ගෙන ගියේය.

103 "සේවෙර්නයා රබෝචයා ගසියත" (උතුරේ කම්කරුවන්ගේ පත්‍රය) — 1914 ජනවාරි 30 (පෙබරවාරි 12) පටන් මැයි 1(14) දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද මෙන්ෂෙවික් ලික්විඩේටර්වරුන්ගේ දිනපතා පත්‍රයකි.

104 ස්ටොක්හෝම් සම්මේලනය — රු. ස. ප්‍ර. ක. ප. හතරවැනි (එක්සත්) සම්මේලනය 1906 අප්‍රියෙල් 10 සිට 25 (අප්‍රියෙල් 23 — මැයි 8) දින වල පවත්වන ලදී.

නැගිටීමට නායකත්වය දුන් බොල්ෂෙවික් පක්ෂ සංවිධාන බොහොමයක් විනාශ කරනු ලැබ තිබුණෙන්, සම්මේලනයට නියෝජිතයන් යැවීම ඒවාට කළ නොහැකි වූයෙන්, එම සම්මේලනයේ බහුතරය මෙන්ෂෙවික් වරුන් විය. සම්මේලනයේ තීරණවල ස්වභාව නිරූපිතාවය ඒ අනුව නිර්ණය විය. සම්මේලනයේ දී සාකච්ඡා කළ ප්‍රශ්නවලින් බහුතරයකටම මෙන්ෂෙවික්වාදී යොජනා සම්මත විය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පස්වැනි සම්මේලනයේදී (1907, ලංඩන්) බොල්ෂෙවික් වරුන්ට බහුතර ඡන්ද සංඛ්‍යාවක් ලැබුණු අතර විප්ලවවාදී මාක්ස්වාදී මාර්ගය සඳහා ඔවුන්ට ජය අත්විය. සම්මේලනයේදී සාකච්ඡා කළ සියළුම මූලික ප්‍රශ්නවලදී බොල්ෂෙවික්වාදී යෝජනා සම්මත කරගන්නා ලදී.

රු. ස. ප්‍ර. ක. ප. පස්වැනි සම්මේලනය, රුසියානු කම්කරු පංති ව්‍යාපාරයේ විශාල බොල්ෂෙවික් ජයග්‍රහණයක් සලකුණු කළේය. ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ යුගයේදී, පක්ෂයේ අවස්ථාවාදී මෙන්ෂෙවික් අංශය පරදවා බොල්ෂෙවික්වාදය ලත් ජයග්‍රහණය, සම්මේලනයේදී සම්පිංඩණය කෙරිණි.

බොල්ෂෙවික් උපක්‍රම මුළු පක්ෂයම අනුගමනය කළ යුතු උපක්‍රම ලෙස අනුමත කරන ලදී.

105 බොල්ෂෙවික්වරුන්ගේ පක්ෂය නිදහස් පක්ෂයක් ලෙස සංවිධානාත්මක ලෙස ආරම්භ කළ සමස්ත-රුසියා සාකච්ඡා සභාවක් 1912 දී ප්‍රාග්වල පවත්වන ලදී. ප්‍රාග් සාකච්ඡා සභාව විසින් මෙන්ෂෙවික්වාදීන් හා ලික්විඩේටර්වරුන් පක්ෂයෙන් නෙරපන ලදී.

106 "ප්‍රාව්දා" (ඇත්ත) — 1912 අප්‍රියෙල් 22 (මැයි 5) පටන් සාන්ත පීටර්-

ස්බර්ග්හි පළ කරන ලද බොල්ෂෙවික් වරුන්ගේ දින පතා නීත්‍යානුකූල පුවත් පතකි.

එය කම්කරුවන්ම එකතු කළ මුදලින් පළ කෙරුණු අතර පිටපත් 40,000 ක සාමාන්‍ය ප්‍රචාරයක් තිබුණි. සමහර කලාප 60,000 ක් දක්වා නිකුත් විය.

ලෙනින් "ප්‍රාව්ද" පත්‍රය මෙහෙයවූ අතර, දිනපතාම පාහේ එයට ලිවේය. එහි කර්තෘ මණ්ඩලයට උපදෙස් දුන්නේය.

"ප්‍රාව්ද" පත්‍රය නිරන්තරවම පොලිසියේ අතවරවලට භාජනය විය. සාර්වාදී ආණ්ඩුව, අට වරක්ම එය වසා දැමුවේය. නමුත් ඒ හැම වරකම එය අළුත් නමකින් නැවත ඉදිරිපත් විය. මෙම පත්‍රය 1914 ජූලි 8(21) දින අවසාන වරට මර්දනය කරන ලදී.

ඉන් පසුව 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සිදුවන තෙක් එය නැවත පළ නො කරන ලදී. 1917 ජූලි සිට ඔක්තෝබර් දක්වා "ප්‍රාව්දා" පත්‍රයට විරුද්ධ ප්‍රතිවිප්ලවවාදී, ධනපති තාවකාලික ආණ්ඩුවේ අතවර එල්ලවූ හෙයින්, එය එම කාලය තුළ නිතර නිතර නම වෙනස් කරමින් වරින් වර "ලිස්තොක් ප්‍රාව්දී" (ප්‍රාව්ද පත්‍රිකාව), "ප්‍රොලිතාරි" (නිර්ධන පංතිකයා), "රබොචි" (කම්කරුවා), "රබොචි පුත්" (කම්කරු මාවත) යන නම් වලින් පළ විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසු, 1917 ඔක්තෝබර් 27 (නොවැම්බර් 9) දින පක්ෂයේ මධ්‍යම නිල පුවත් පත, එහි මුල් "ප්‍රාව්දා" යන නාමින් පළවීම නැවත ආරම්භ විය.

107 මෙහි අදහස් කරන්නේ සමාජවාදී-විප්ලවවාදීන්ගේ (එස්ආර්වරුන්ගේ) පක්ෂය ගැනය. 6 වැනි සටහන බලන්න.

108 "විපිරියොද්" කණ්ඩායම — 1909 දී සංවිධානය කරන ලද පක්ෂ විරෝධී කණ්ඩායමකි. 1912 ප්‍රාග් සාකච්ඡා සභාවෙන් පසු විපිරියොද්වරු සාකච්ඡා සභාවේ තීරණවලට විරුද්ධ සටනේ දී මෙන්ෂෙවික් ලික්විඩේටර් වරුන් හා ට්‍රොට්ස්කිවාදීන් සමග එකතු වූහ. කම්කරු ව්‍යාපාරයේ සහයෝගය නොලැබූ "විපිරියොද්" කණ්ඩායම 1913—1914 අවුරුදුවලදී සම්පූර්ණයෙන්ම කැඩී විසිරී ගියේය.

"විපිරියොද්" කණ්ඩායම් දෙකක් ගැන සඳහන් කිරීමෙන් ලෙනින් අදහස් කරන්නේ කණ්ඩායම අභ්‍යන්තරයෙහි වූ භේදකාරී භාවය හා අරගලය පිළිබඳවය.

109 පක්ෂයට හිතවත් බොල්ෂෙවික්වරු — ලික්විඩේටර්වරුන්ට පක්ෂපාත කම් ඇති සමාදන කාරීන්ය.



පක්ෂයට හිතවත් මෙන්ෂෙවික් වරු — ජී. වී. ප්ලෙහානව්ගේ නායකත්වයෙන් යුත් මොවුහු ප්‍රතිගාමීත්වය කාලයේදී ලික්විඩේටර්වරුන්ට විරුද්ධව ඉදිරිපත් වූහ. ප්ලෙහානව්වාදීහු, මෙන්ෂෙවික් ස්ථාවරයක පිහිටන අතරම, නීති විරෝධී පක්ෂ සංවිධානය රැක ගැනීමට හා ශක්තිමත් කිරීමට පක්ෂ වූ හෙයින්, බොල්ෂෙවික්වරු සමග එක පෙරමුණකට වන්හ. ප්ලෙහානව් 1911 අගදී බොල්ෂෙවික්වරු සමග පෙරමුණ බින්දේය. "කට්ටිවාදයට" සහ රු. ස. ප්‍ර. ක. ප. භේදයට විරුද්ධව සටන් කිරීමේ මුවාවෙන්, බොල්ෂෙවික්වරුන් හා අවස්ථාවාදීන් අතර සමගියක් ඇති කිරීමට ඔහු උත්සාහ කළේය. 1912 දී ට්‍රොට්ස්කිවාදීන්, බුන්ද්වාදීන් හා ලික්විඩේටර්වාදීන් සමග එක්වූ ප්ලෙහානව්වාදීහු රු. ස. ප්‍ර. ක. ප. ප්‍රාග් සම්මේලනයේ තීරණවලට විරුද්ධව සටනට එළඹියහ.

110 මහ්වාදී න්‍යායය — මහ්වාදය — ප්‍රතිගාමී මනෝමූල විඥානවාදී දර්ශනික ප්‍රවනතාවයක් වූ මෙය දහඅටවැනි සියවසේ අග භාගයේදී හා දහ නවවැනි සියවසේ මුල් භාගයේදී බට හිර යුරෝපයේ පුළුල් ලෙස පැතිර ගියේය. ඔස්ත්‍රියානු භෞතික විද්‍යාඥයෙක් හා දර්ශනිකයෙක්වූ මහ් හා ජර්මන් දර්ශනිකයෙක් වූ අවෙනරියුස් මෙහි මූලාරම්භකයෝ වූහ. 1905—1907 රුසියානු විප්ලවයේ පරාජයෙන් පසු, ප්‍රතිගාමීත්වය කාලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බුද්ධිමතුන්ගෙන් කොටසක් මහ්වාදී බලපෑමට හසු විය. රුසියානු මහ්වාදීහු මාහ්වාදයේ වර්ධනය ගැන කථා කරමින්, මූලික මාක්ස්වාදී දර්ශනය සංශෝධනය කිරීමට තැත් කළහ. විපිරියෝද් කණ්ඩායමේ එක් නායකයෙක් වූ බග්දනව් තමාගේම දර්ශනයක් වන අනුභූති අද්වෛතවාදය එනම් මහ්වාදී දර්ශනයේ වෙනත් උපනතියක් බිහිකිරීමට උත්සාහ ගත්තේය. "ද්‍රව්‍යවාදය සහ අනුභූතිවාදී විවේචනය" නැමැති කෘතියෙන් ලෙනින් අනුභූති අද්වෛත වාදය විවේචනය කළේය.

111 "නාෂ සර්යා" (අපගේ උදව) — මෙන්ෂෙවික් ලික්විඩේටර් වරුන්ගේ නීත්‍යානුකූල මාසිකයකි. එය 1910 ජනවාරි පටන් 1914 සැප්තැම්බර් දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළවිය. මෙම සඟරාව වටා රුසියාවේ ලික්විඩේටර්වරුන් ගේ කවය ඇතිවිය.

112 නස්ද්‍රියෙව් — ගෝගොල්ගේ "මළගිය අත්මය" නවකථාවේ එන වංචාකාර නින්දිත ඉඩම් හිමියෙකි.

"ජූදුස්" ගොලොව්ලියොව් — සල්තිකොව්-ෂෙද්රින්ගේ "ගො-

ලොව්ලියොව් පවුල'' යන පොතේ එන චරිතයකි. බොරු ධාර්මික ස්වභාවය, වංචනික ගතිය හා ගොරහැඩිකම නිසා එයට ''ජුදස්'' යන නම පට බඳින ලදී. මෙම අදහස් විස්තර කිරීමට ජුදස් ගොලො-ව්ලයොව් යන නම බොහෝ විට උපයෝග කරගනු ලැබේ.

113 ''ලූච්'' (''කිරණ'') — ලික්විඩේටර් මෙන්ෂෙවික් වරුන්ගේ නීත්‍යානුකූල දිනපතා පත්‍රයකි. 1912 සැප්තැම්බර් 16(29) සිට 1913 ජූලි 5(18) දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කෙරිණ. මෙම පුවත් පත පවත්වා ගන්නා ලද්දේ ප්‍රධාන වශයෙන් ම ලිබරල් වාදීන් ගේ දායක මුදල්වල ආධාරයෙනි.

114 "Vorwärts" (''ඉදිරියට'') — දිනපතා පුවත් පතකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම නිල පත්‍රයයි. 1891 සිට බර්ලින්හි පළ විය. මතුවන සෑම ආකාරයකම අවස්ථාවාදයට විරුද්ධව එංගල්ස් මෙම පත්‍රය මාර්ගයෙන් සටන් කළේය. 1890 ගණන්වල අවසාන භාගයේදී, එංගල්ස්ගේ මරණින් පසු "Vorwärts" කතුමඬුල්ලට පක්ෂයේ දක්ෂිනාංශිකයෝ පත්වූහ. පසුව ක්‍රම ක්‍රමයෙන් අවස්ථාවාදී ලිපි පත්‍රයේ පළ විය.

පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914—1918) "Vorwäts" සමාජ-ජාත්‍යොන්මාදවාදී පිළිවෙතක් ගත්තේය. 1917 ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු පත්‍රය සෝවියට් විරෝධී ප්‍රචාරක කටයුතු ගෙන ගියේය. එය 1933 දක්වා බර්ලින්හි පළ විය.

115 මෙම සඳහන 1912 අගෝස්තු මස වියනා හි පැවති ලික්විඩේටර්වරුන්ගේ සාකච්ඡා සභාව ගැනය. මෙම සාකච්ඡා සභාවේදී, ලෙනින්වාදයට විරුද්ධ සියලුම කණ්ඩායම් හා උපනති වලින් ට්‍රොට්ස්කි විසින් සංවිධානය කරන ලද අගෝස්තු පෙරමුණ ආරම්භ විය. සාකච්ඡා සභාවේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රම පිළිබඳ සියළුම ප්‍රශ්නවලදී පක්ෂ විරෝධී හා ලික්විඩේටර්වාදී තීරණ ගත් අතර නීති විරෝධී පක්ෂයක පැවතීමට විරුද්ධව අදහස් ප්‍රකාශ කෙරිණ.

සාකච්ඡා සභාවේ ප්‍රධාන කර්තව්‍යය වූයේ මෙම පෙරමුණ ගොඩ නැගීමය. නිර්ධන පංතියේ නීතිවිරෝධී පක්ෂය ආරක්ෂා කළ බොල්ෂෙවික් වරුන්ගේ පහර ගැසීම් යටතේ විවිධාකාර කොටස්වලින් ගෙන ගොඩනගන ලද බොල්ෂෙවික් විරෝධී මෙම පෙරමුණ බිඳ වැටිණ.

116 හත්දෙනා — හතරවැනි රාජ්‍ය දූමා සභාව තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම නියෝජනය කළ මෙන්ෂෙවික්වාදී මන්ත්‍රීවරු.



117 බොල්ෂෙවික්වාදී ''ප්‍රාව්ද'' පුවත්පතේ තවත් හැඳින්වීමකි.

118 හයදෙනා — හතරවැනි රාජ්‍ය දූමා සභාව තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම නියෝජනය කළ බොල්ෂෙවික්වාදී මන්ත්‍රීවරු.

119 රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ සහ පක්ෂ නිලධාරීන්ගේ ඒකාබද්ධ සාකච්ඡා සභාව — (රහස්‍ය භාවය සඳහා එය ග්‍රීෂ්ම සෘතුවේ සම්මේලනය වශයෙන් හඳුන්වන ලදී). එය 1913 සැප්තැම්බර් 23 සිට ඔක්තෝබර් 1 (ඔක්තෝබර් 6—14) දක්වා (ක්‍රාකොව් අසල) පොරොනින් හිදී පැවැත්විණි. එවකට ලෙනින් වාසය කළේ එහිය.

දූමා සභාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමේ බොල්ෂෙවික් සහ මෙන්ෂෙවික් සාමාජිකයන්ට සමාන අයිතිවාසිකම් තිබිය යුතුයයි, එම කණ්ඩායම ගැන වූ ස්වකීය යෝජනාවෙන් ඉල්ලූ, සාකච්ඡා සභාව, අහම්බෙන් ඇති වූ තත්වයක් වන, එක වැඩි ඡන්දයක් උපයෝගිකර ගනිමින්, රුසියාවේ කම්කරුවන් අති බහුතරය නියෝජනය කළ බොල්ෂෙවික් මන්ත්‍රීවරුන්ගේ මූලික අයිතිවාසිකම් උල්ලංඝනය කළ මෙන්ෂෙවික් වරුන් ගේ කටයුතු හෙළා දුටුවේය. ලෙනින්ගේ සහ බොල්ෂෙවික් පක්ෂ මධ්‍යම කාරක සභාවේ උපදෙස් අනුව, ඒකාබද්ධ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී දූමා කණ්ඩායමෙන් ඉවත් වූ බොල්ෂෙවික් මන්ත්‍රීවරු, 1913 ඔක්තෝබරයේ දී ස්වාධීන බොල්ෂෙවික් කණ්ඩායමක් (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු කණ්ඩායමක්) පිහිටවූහ.

120 ජාත්‍යන්තර සමාජවාදී, බියුරොවේ දෙසැම්බර් සාකච්ඡාවේදී (1913 දෙසැම්බර් 13—14 දිනවලදී ලන්ඩන්හි පැවැත්විය) ප්‍රශ්න පිළිබඳ අන්‍යොන්‍ය අදහස් හුවමාරුව සඳහා (Aussprache) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙළ පිළිගන්නා හෝ එහි වැඩ පිළිවෙළට අනුකූල වැඩ පිළිවෙළවල් පිළිගන්නා, රුසියානු පෝලන්තය ඇතුළු, රුසියාවේ සියලුම කම්කරු ව්‍යාපාර කණ්ඩායම්වල නියෝජිතයින් සාකච්ඡාවකට කැඳවීම, බියුරෝවේ විධායක කාරක සභාවට පැවරෙන යෝජනාවක් සම්මත විය. කෞට්ස්කි දෙසැම්බර් 14 වැනි දින තම කථාවේද එම යෝජනාව මාතෘකාවට ගනිමින් රුසියාවේ පැරණි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය මියගොස් ඇතිබව පැවසුවේය. රුසියානු කම්කරුවන්ගේ එක්සත්වීමට ඇති කැමැත්ත මත පදනම් වෙමින් එය පුනරුත්ථාපනය කළ යුතුය. ''හොඳ යෝජනාව හා නරක කථාව''

නැමති ලිපියෙන් ලෙනින් යෝජනාවේ සංධාරය පෙන්වා කෞට්ස්කිගේ කථාව පුදුමාකාර දේශනයක් බවට තක්සේරු කළේය.

121 ''වාම අංශය'' — පෝලන්ත සමාජවාදී පක්ෂයේ (Polska Partia Socjalistyszna) භේදයක ප්‍රතිඵලයක් වශයෙන් 1906 දී පිහිටුවන ලද පෝලන්ත කම්කරු පක්ෂයකි.

පී. එස්. පී. — පෝලන්ත සමාජවාදී පක්ෂය — 1892 ආරම්භ කළ ප්‍රතිසංස්කරණවාදී ජාතිවාදී සංවිධානයකි.

පී.එස්. පී. පෝලන්ත කම්කරුවන් අතර ජාතික භේදකාරී ප්‍රචාර ගෙන ගියේය. ඒ අනුව රුසියානු කම්කරුවන් සමග සාර්වාදී ඒකාධිපත්‍යයට **සහ** ධනවාදයට විරුද්ධව ගෙන ගිය සටනින් පොලන්ත කම්කරුවන් ඉවත් කිරීමට පී. එස්. පී. උත්සාහ කළේය. පී. එස්. පී. පැවැති මුළු කාලය තුළම සාමාන්‍ය කම්කරුවන්ගේ බලපෑම නිසා එය අභ්‍යන්තරයේ වාමාංශික කණ්ඩායම් බිහි විය. පසුව ඔවුන්ගෙන් සමහරු පොලන්ත කම්කරු ව්‍යාපාරයේ විප්ලවවාදී පිළට එකතු වූහ. 1906 දී පී. එස්. පී., පී. එස්. පී. ''වාම'' අංශය හා ඊනිය පී. එස්.පී. ''දක්ෂින'' අංශයට (''විප්ලවවාදී කණ්ඩායම''හා ''ෆ්‍රාකි'') කැඩී වෙන් විය. පී. එස්. පී. ''වාම'' අංශය පසුව පෝලන්ත රාජධානියේ හා ලිතුවේනියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සමග එකතු වී පෝලන්තයේ කොමියුනිස්ට් වාදී කම්කරු පක්ෂය පිහිටුවා ගත්හ.

122 ''කරදර සහිත කාලය'' — දහහත් වැනි ශත වර්ෂයේ මුල් භාගයේ ගොවි යුද්ධය සහ පෝලන්ත හා ස්වීඩන් ආක්‍රමණයට විරුද්ධව රුසියානු ජනතාව කළ අරගලයේ කාලය හැඳින්වීමට, විප්ලව-පූර්ව රුසියානු ධනපති ඉතිහාසඥයන් යෙදූ පාඨයකි.

පෝලන්ත ඉඩම් හිමියන්ගේ හෙන්චයියෙකු වූ හා ඉවන් ග්‍රොස්නි (බිහිසුණු ඉවාන්) නැමති රුසියානු සාර් රජුගේ බාල පුත්‍රයා ලෙසට වෙස්වළා ගෙන පෙනී සිටි, ව්‍යාජ-දෙවැනි දිමිත්‍රි යටතේ 1608 පැමිණි පෝලන්ත සේනා, රුසියාව ආක්‍රමණය කර, මොස්කව් නගරය ආසන්නය තෙක් පැමිණි, තූෂිනෝ ග්‍රාමයෙහි කඳවුරු බැඳ ගත්හ. මොස්කව් ආණ්ඩුවට විරුද්ධව ව්‍යාජ දිමිත්‍රිගේ ප්‍රධානත්වයෙන් යුත් ආණ්ඩුවක් තූෂිනෝ හි පිහිටුවන ලදී. රුසියානු වංශවතුන් සමහර දෙනෙක් හා බොයර් රදළයන්, ජයග්‍රහණය කරන පැත්තට යෑම සඳහා පැත්තෙන් පැත්තට යන ලද අතර, මෙම පැන යන්නවුන් ''තූෂිනෝ පිල් මාරු කරන්නෝ'' යනුවෙන් හැඳින්විණි.



123 ට්‍රොට්ස්කි විසින් ඉදිරිපත් කරන ලද ''ස්ථිර විප්ලවය'', විප්ලවයේදී නිර්ධන පංතියේ එක්සත්බව පිළිබඳ ලෙනින්වාදී අදහස්ද නිර්ධන පංතියේ සගයින් ලෙස විප්ලවයේදී ගොවි ජනතාවගේ ඇති කාර්ය භාරයද අභාවය කරා ගෙන ගිය අතර වෙනම ගත් එක රටක පමණක් විප්ලවයක් කළ නොහැකි යැයි ඔප්පුකිරීම සඳහා උත්සාහයක්ද විය.

124 බූන්ද් (ලිතුවේනියාවේ, පෝලන්තයේ හා රුසියාවේ සමස්ත යුදෙව් කම්කරු සංගමය) 1897 දී විල්නො හි පැවති යුදෙව් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම්වල ව්‍යවස්ථාදයක සම්මේලනයේදී සංවිධානය කරන ලදී. විශේෂයෙන්ම බටහිර රුසියාවේ යුදෙව් ජාතික කුඩා කර්මාන්තකරුවන් වූ අර්ධ නිර්ධන පංතිකයියෝ මෙම සම්මේලනයේදී ඒකාබද්ධ වූහ. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පළමුවැනි සම්මේලනයේ දී (1898) බූන්ද් ''යුදෙව් ජාතික නිර්ධන පංතියේ ප්‍රශ්නවලදී පමණක් නිදහස්ව තීරණ ගත හැකි ස්වාධීන සංවිධානයක් ලෙස'' රු. ස. ප්‍ර. ක. පක්ෂයට එකතු විය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේ දී යුදෙව් නිර්ධන පංතියේ එකම නියෝජිතයා බූන්ද් ලෙස පිළිගැනීමට කළ ඉල්ලීම ප්‍රතික්ෂේප කිරීමෙන් පසු එය පක්ෂයෙන් ඉවත් විය. 1906 දී හතරවැනි (සමගිවීමේ) සම්මේලනයේ තීරණය පරිදි එය නැවතත් රු. ස. ප්‍ර. ක. පක්ෂයට ඇතුළු විය.

රු. ස. ප්‍ර. ක. පක්ෂය තුළ බූන්ද් වරු නිතරම අවස්ථාවාදී පිළිට (''ආර්ථිකවාදීන්'', මෙන්ෂෙවික්-ලික්විඩේටර්වරුන්) සහයෝගය දැක්වූහ. බොල්ෂෙවික්වාදයට හා බොල්ෂෙවික් වරුන්ට විරුද්ධව සටන් ගෙන ගියහ. 1917 දී ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුවට ආධාර දුන් බූන්ද්වරු ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ සතුරන්ගේ පැත්ත ගෙන සටන් කළහ. විදේශීය යුද ආක්‍රමණය හා සිවිල් යුද්ධය කාලයේ දී බූන්ද් නායකයෝ ප්‍රතිවිප්ලවවාදී බලවේග සමග එකතු වූහ. ඒ අතරම බූන්ද් සංවිධානයේ සාමාන්‍ය සාමාජිකයින් අතර සෝවියට් රජය සමග සහයෝගයෙන් වැඩ කිරීමට ඇති කැමත්ත පෙණින. 1921 මාර්තු මස බූන්ද් සාමාජිකයින් විසිර ගිය අතර එහි කොටසක් පොදු කොන්දේසි යටතේ රු. කො. පක්ෂයේ (බො) සාමාජිකත්වය ලබා ගත්හ.

125 "Die Neue Zeit" (''නූතන කාලය'') — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ න්‍යායාත්මක සඟරාව වූ මෙය 1883 සිට 1923 දක්වා ෂ්ටුට්ගාර්ට්හි පළ විය.

"Die Neue Zeit" හි මාක්ස්වාදී ධර්මයේ මූලාරම්භකයින්ගේ ලිපි ගණනාවක් පළමු වතාවට පළ විය. එංගල්ස් සඟරාවේ කතු මුඩුල්ලට නිතරම උපදෙස් දුන් අතර සඟරාව සුළු වශයෙන් හෝ මාක්ස්වාදයෙන් ඉවතට හැරුණු සෑම වතාවකම එය විවේචනය කළේය. 1890 ගණන්වල අගභාගයේ සිට, එංගල්ස්ගේ මරණින් පසු, සංශෝධනවාදී ලිපි සඟරාවෙහි නිතරම පළවිණි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී සඟරාව ඇත්ත වශයෙන්ම සමාජ-ජාත්‍යොන්මාදවාදීන්ට ආධාර දෙමින් මධ්‍යස්ථ ප්‍රතිෂ්ඨාවක් ගත්තේය.

126 "නවුච්නයා මිස්ල්" — ("විද්‍යාත්මක චින්තනය") — 1908 දී රිගාහි පළ කරන ලද මෙන්ෂෙවික් සඟරාවකි.

127 "Przeglad Socjaldemokratyczny" (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සමාලෝචනය) — රෝසා ලුක්සෙම්බුර්ග් ගේ සමීප සහයෝගය ඇතිව, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් 1902 සිට 1904 දක්වා හා 1908 සිට 1910 දක්වා ක්‍රාකොව්හි පළ කරන ලද සඟරාවකි.

128 කාල් මාක්ස්. "ප්‍රාග්ධනය", වෙළුම 1, "නූතන යටත් විජිතවාදී න්‍යායය" යන පරිච්ඡේදය.

129 "රුස්කයා මිස්ල්" ("රුසියානු චින්තනය") — 1880 සිට 1918 දක්වා මොස්කව්හි පළ කරන ලද ලිබරල්-ධනපති මාසිකයකි. 1905 ට පෙර ලිබරල්-නරෝද්නික් උපනතියක් අනුගමනය කළේය. 1890 ගණන්වල මාක්ස්වාදීහු සමහරවිට එයට ලියූහ. 1905 න් පසුව එය කැඩෙට් පක්ෂයේ දක්ෂිණාංශයේ පත්‍රය බවට පත්වූ අතර පියොතර් ස්ත්‍රුවේ එහි සංස්කාරක විය. ජාතිකවාදය සහ ආගම ප්‍රචලිත කළ එය වතුකාර දේපල හිමියන්ට පක්ෂ වූයේය.

130 මෙහි සඳහන් කෙරෙන්නේ (ඔස්ත්‍රියාවේ) බෲන්හි 1899 සැප්තැම්බර් 24 සිට 29 දක්වා පවත්වන ලද ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සම්මේලනය ගැනය. න්‍යාය පත්‍රයට ඇතුලත් ප්‍රධාන කරුණ වූයේ ජාතික ප්‍රශ්නය ය. එකිනෙකට වෙනස් අදහස් දෙකක් ප්‍රකාශ කරන යෝජනා දෙකක් සම්මේලනයට ඉදිරිපත් කරන ලදී. ඒවා නම්, (1) ජාතීන්ගේ දේශීය ස්වතන්ත්‍රය පිළිබඳ අදහසට සහයෝගය දක්වන මධ්‍යම කාරක සභාවේ යෝජනාවද, (2) දේශීය නොවන සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය පිළිබඳ අදහසට සහයෝගය දක්වන දකුණු ස්ලාව් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කාරක සභාවේ යෝජනාවද, විය.



සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රයේ වැඩ පිළිවෙළ ඒකමතිකව ප්‍රතික්ෂේප කළ සම්මේලනය, ඔස්ත්‍රියානු රාජ්‍යයේ දේශ සීමා තුළ, ජාතික ස්වතන්ත්‍රය පිළි ගනිමින්, එකඟ යෝජනාවක් අනුමත කළේය.

131 එක්සත් වංශවතුන්ගේ මණ්ඩලය — 1906 මැයි මස හැඩ ගැසී 1917 ඔක්තෝබර් දක්වා පැවති, වැඩ වසම් ඉඩම් හිමියන්ගේ ප්‍රතිවිප්ලවවාදී සංවිධානයකි. එහි ප්‍රධාන අරමුණ වූයේ ඒකාධිපත්‍යයේ පාලන ක්‍රමයත්, ලොකු වතුකාර දේපලත්, වංශවතුන් ගේ වර ප්‍රසාදත් ආරක්ෂා කිරීමය.

132 1907 ජූනි 3(16) දින සාර් ප්‍රකාශනයක් නිකුත් කළේය. එමගින් දෙවැනි දූමා සභාව විසුරුවා හළ ඔහු, ඡන්ද නීතිය සංශෝධනය කළේය. දූමා සභාව තුළ ඉඩම් හිමියන් ගේ, වාණිජ සහ කාර්මික ධනපති පංතියේ නියෝජනය සැලකිය යුතු තරමින් වැඩි කළ නව නීතිය, ඒවන විටත් බොහෝ අඩුව තිබුණු ගොවිජන හා කම්කරු නියෝජිතයන් සංඛ්‍යාව තවත් දුරට බරපතල ලෙස අඩු කළේය. මෙය 1905 ඔක්තෝබර් 17 දින ප්‍රකාශනය හා 1906 මූලික නීතිය බරපතල ලෙස උල්ලංඝනය කිරීමක් විය. ඒවා අනුව දූමා සභාවේ අනුමැතිය නොමැතිව කිසිම නීතියක් සම්මත කළ නොහැකි විය. මෙම අළුත් නීතිය අනුව 1907 නොවැම්බර් 1 (14) දින තෝරා පත් කරන ලද තුන්වැනි දූමා සභාව, කළු සියය-ඔක්තෝබර්වාදී දූමා සභාවක් විය.

133 ප්‍රගතිවාදීන් — "පක්ෂග්‍රාහී නොවන" යන ධජය යටතේ කටයුතු කරමින්, දූමා සභා මැතිවරණ කාලයේදී සහ දූමා සභාව තුළ, විවිධ ධනපති-ඉඩම් හිමි පක්ෂ හා කණ්ඩායම් එක්සත් කිරීමට උත්සාහ කළ රුසියානු ලිබරල්-රාජාණ්ඩුවාදී දේශපාලන කණ්ඩායමකි.

1912 නොවැම්බරයේදී ප්‍රගතිවාදීන් ස්වාධීන දේශපාලන පක්ෂයක් පිහිටුවා ගත්හ.

පළමු ලෝක යුද්ධය කාලයේදී වඩාත් ක්‍රියාශීලී වූ ප්‍රගතිවාදීහු, යුද්ධ හමුද නායකත්වයේ වෙනසක් කරන ලෙසත්, යුද පෙරමුණේ අවශ්‍යතාවයන් ඉටු කිරීමට කර්මාන්තය යොමු කරන ලෙසත්, රුසියානු ධනපති පංතියේ නියෝජිතයන් ද ඇතුලත් "වගකීම් භාර ඇමති මණ්ඩලයක්" පත් කරන ලෙසත් ඉල්ලූහ. පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව, එම පක්ෂයේ සමහර නායකයෝ ධනපති තාවකාලික ආණ්ඩුවේ සාමාජිකයන් වූහ.ඔක්තෝබර් සමාජවාදී

විප්ලවයෙන් පසුව, ප්‍රගතිවාදී පක්ෂය සෝවියට් ආණ්ඩුවට විරුද්ධව ක්‍රියාශීලී අරගලයක් කළේය.

134 ''රෙච්'' (''කථාව'') — කැඩෙට් පක්ෂයේ ප්‍රධාන පත්‍රය ලෙසට, 1906 පෙබරවාරි 23 (මාර්තු 8) පටන් සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද දිනපතා පත්‍රයකි. පෙට්‍රොග්‍රෑඩ් විප්ලවවාදී යුද්ධ කාරක සභාව විසින් 1917 ඔක්තෝබර් 26 (නොවැම්බර් 8) දින එය වසා දමන ලදී.

135 ''ෂ්ලයාහි'' (''මාවත්'') —1913 අප්‍රියෙල් සිට 1914 මාර්තු දක්වා ල්වොව්හි පළ කෙරුණු, උක්‍රේනියානු ශිෂ්‍ය සංගමයේ පත්‍රය (ජාතික වාදී උපනතියකි).

136 ප්‍රාව්ද පුත්‍රයට තවත් හැඳින්වීමකි.

137 ''නෝවය ව්රේමියා'' (නව යුගය) 1868 සිට 1917 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද දිනපතා පත්‍රයකි. ආරම්භයේදී එය යම්තමින් ලිබරල්වාදී වූ නමුත් 1876 න් පසුව එය වංශවතුන්ගේ හා නිලධාරිවාදීන් ගේ ප්‍රතිගාමී පිරිස්වල පත්‍රයක් බවට පත් විය. 1905 න් පසුව එය කළු සියය පිරිස්වල හොරනෑවක් බවට පත් විය.

138 ''සියෙම්ශිනා'' — 1909 පටන් 1917 දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද කළු සියය දිනපතා පත්‍රයකි. එය දූමා සභාවේ සීමාන්තික දක්ෂිණාංශික මන්ත්‍රීවරුන්ගේ පත්‍රය විය.

139 ලෙනින් උපුටා දක්වන්නේ ග්ලෙබ් උස්පෙන්ස්කිගේ ''මුර කූඩුව'' යන කෘතියෙනි. මෙය පොලිස් හිතුවක්කාර කම් හඟවන පාඨයකි.

140 ''කීව්ස්කයා මිසල්'' — 1906 සිට 1918 දක්වා කීව්වල පළ කරන ලද ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී උපනතියට අයත් දිනපතා පුවත් පතකි.

141 ලෙනින් මෙය උපුටා දක්වන්නේ ග්‍රිබොයෙදොව්ගේ ''කවට කමින් ඇස් රතුවේ'' යන හාස්‍ය ජනක කථාවෙනි.

142 ''නප්ෂුඩ්'' ("Naprzód") (''ඉදිරියට'') — 1892 පටන් ක්‍රාකොව්හි පළ කරන ලද, ගැලීසියාවේ හා සිලීසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන පත්‍රය. එය සුළු ධනපති පංති ජාතිකවාදී අදහස් ප්‍රචාරය කළේය.

143 121 වැනි සටහන බලන්න.

144 96 වැනි සටහන බලන්න.

145 ලෙනින් සඳහන් කරන්නේ සාර්වාදී ඒකාධිපත්‍යයේ වියගසට විරුද්ධව 1863—1864 ඇතිවූ පෝලන්ත ජාතික විමුක්ති නැගිටීම ගැනය. ප්‍රථමයෙන් නැගිටීමට නායකත්වය දෙන ලද්දේ සුළු වංශවතුන් 1862 දී පිහිටවූ ''රතු'' පක්ෂයෙන් පත් කෙරුනු මධ්‍යම කාරක සභාව මගිනි. පෝලන්තයට නිදහස ද, ආගම හා උපත ගැන නොතකා රටේ සියළුම මිනිසුන්ට සමාන අයිතිවාසි කම් ද, ගොවීන් ගොවිතැන් කරන ඉඩම් වල අයිතිය, ගාස්තු වලින් තොරව, සම්පූර්ණයෙන් ගොවීන්ට පවරා දීම ද, කෝර්වී සේවය අහෝසි කිරීම ද, ඉඩම් හිමියන්ට අහිමි කරන ලද ඉඩම් සඳහා වන්දි රාජ්‍ය අරමුදල් වලින් ගෙවීමද, ආදිය ඉල්ලූ එහි වැඩ පිළිවෙළ නිසා, කර්මාන්ත ශිල්පීන්, කම්කරුවන්, ශිෂ්‍යයන්, ප්‍රභූ කොටස් අතරින් බුද්ධිමතුන්, ගොවීන් හා පූජක පක්ෂයේ කොටස්ද යන පෝලන්තයේ ජනතා විවිධ කොටස් නැගිටීම සඳහා ආකර්ෂණය වීමට හේතු විය.

නැගිටීම අතර වාරයේ, ''සුදු'' පක්ෂයේ (ලොකු ඉඩම් හිමි රදළයන්ගේ සහ ලොකු ධනපතියන්ගේ පක්ෂයේ) කොටස්, එය තමන්ගේම යහපත පිණිස යොදා ගැනීමේ අරමුණ ඇතිව, බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ ආධාරය ඇතිව සාර්වාදී ආණ්ඩුව සමග වාසිදායක ජාවාරමක් කර ගැනීමේ අරමුණ ඇතිව, එය වටා එකතු විය.

කැරලි කරුවන් කෙරෙහි රුසියාවේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් දක්වූයේ ගැඹුරු අනුකූලතාවයේ ආකල්පයකි.

''රතු'' පක්ෂයේ චපලත්වය නිසා, නැගිටීමේ ක්‍රියාරම්භකත්වය තමන් අත තබා ගැනීමට එයට නො හැකි වූයෙන්, කැරැල්ලේ නායකත්වය ''සුදු'' පක්ෂය අතට පත්වූ අතර, ඔවුහු එය පාවා දුන්හ. 1864 ග්‍රීෂ්ම ඍතුව වන විට සාර්වාදී යුද්ධ හමුදා විසින් කැරැල්ල මෘග ලෙස මැඩලන ලදී.

1863—1864 පෝලන්ත නැගිටීම ප්‍රගතිශීලී ව්‍යාපාරයක් ලෙස සැලකූ මාක්ස් සහ එංගල්ස් එයට සම්පූර්ණ අනුකූලත්වය දක්වමින්, ජාතික විමුක්තිතිය සඳහා පෝලන්ත ජනතාව කරන අරගලයේදී එයට ජයග්‍රහණය පැතූහ. එංගලන්තයේ විගාමික ජර්මන් ජනපදය

වෙනුවෙන්, පෝලන්ත ජනයාට ආධාර කරන ලෙස ඉල්ලා මාක්ස් ආයාචනයක් ලිවේය.

146 ලෙනින් සඳහන් කරන්නේ විල්හෙල්ම් ලිබ්ක්නෙෂ්ත්ගේ 'මාක්ස් ගැන මතක සටහන්' ගැනය.

147 ''ද ටයිම්ස්'' ("The Times") — 1785 දී ලන්ඩනයේ ආරම්භ කෙරුණු දිනපතා පත්‍රයකි. මෙය බ්‍රිතාන්‍ය ධනපති පංතිය පළ කළ ඉතාමත් ගතානුගතික පුවත් පතකි.

148 ෆිනියන්වාදය — 1850 ගණන්වල ඇතිවූ අයර්ලන්ත සුළු ධනපති පංති ව්‍යාපාරයකි. ෆිනියන් වරුන්ගේ වැඩ පිළිවෙළ සහ කටයුතු වලින් පිළිබිඹු වූයේ එංගලන්තයේ යටත් විජිත හිමිකමට විරුද්ධව අයර්ලන්තයේ පැවති පොදු ජන විරෝධය පැම ය. තමන් ගේ රටට ජාතික නිදහස දෙන ලෙසත්, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවන ලෙසත්, කුලී ගොවියන් ඔවුන් ගොවිතැන් කළ ඉඩම්වල හිමිකරුවන් බවට පත් කරන ලෙසත් ඔවුහු ඉල්ලූහ. එසේ වුවද ෆිනියන් වරුන්ගේ කුමන්ත්‍රණ නිසා, අයර් ජනයාගේ පුළුල් කොටස් සමග සම්බන්ධකම් ශක්තිමත් කර ගැනීමෙන් ඔවුන් වැලකිණි. මහා බ්‍රිතාන්‍යයේ පොදු ප්‍රජාතන්ත්‍රවාදී සහ කම්කරු පංති ව්‍යාපාරය සමග ද ඔවුන් ගේ සම්බන්ධ කමක් නො තිබිණි. 1867 පෙබරවාරි හා මාර්තු මාසවල ෆිනියන් වරුන් ගැසූ කැරැල්ල පරාජය විය. කැරැල්ල පරාජය වීමෙන් පසුව ෆිනියන්-වරුන් ඔවුන්ගේ කටයුතු ත්‍රස්තවාදී ක්‍රියාවන්ට සීමා කළ අතර, හැත්තෑ ගණන්වලදී එම ව්‍යාපාරය බිඳ වැටුණේය.

149 ''ද නිව්යෝක් ඩේලි ට්‍රිබියුන්'' ("The New-York Daily Tribune") — 1841 සිට 1924 දක්වා පළ කරන ලද ඇමෙරිකානු ප්‍රවෘත්ති පත්‍රයකි. පණස් ගණන්වල මැද භාගය වන තෙක් එය ඇමෙරිකානු විග් වරුන්ගේ වාමාංශයේ පත්‍රය වූ අතර, ඉන් පසුව රිපබ්ලිකන් පක්ෂයේ පත්‍රය විය. 1851 අගෝස්තු පටන් 1862 දක්වා මාක්ස් එයට ලිපි සැපයුවේය. මාක්ස් ගේ ඉල්ලීම අනුව ෆ්‍රෙඩ්රික් එංගල්ස්ද ඊට ලිපි රැසක් ලිවේය.

150 ලෙනින් උපුටා දක්වන්නේ, 1902 ''සර්යා'' අංක 4 හි පළ කෙරුණු, ජී. වී. ප්ලෙහානව් ගේ ''රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කෙටුම් පත් වැඩ පිළිවෙළ'' යන ලිපියෙනි.

151 මෙහි සඳහන් කෙරෙන්නේ 1907 ජූලි 21 සිට ජූලි 23 (අගෝස්තු 3—5) දක්වා ෆින්ලන්තයේ කොත්කාහි පැවැත්වුණු රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි (දෙවැනි සමස්ත රුසියා) සාකච්ඡා සභාව සහ, 1907 නොවැම්බර් 5 සිට නොවැම්බර් 12 (නොවැම්බර් 18—25) දක්වා හෙල්-සිංෆෝර්ස්හි පැවැත්වුණු රු. ස. ප්‍ර. ක. ප. හතරවැනි (තුන්වැනි සමස්ත රුසියා) සාකච්ඡා සභාව ගැන ය.

152 ලෙනින් සඳහන් කරන්නේ, 1910 ජනවාරි 2 සිට 23 (ජනවාරි 15 සිට පෙබරවාරි 5) දක්වා පැරිසියේ දී පවත්වන ලද, ''එක්සත්'' පූර්ණ රැස්වීම යනුවෙන් හැඳින්වෙන, රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ පූර්ණ රැස්වීමේ තීරණ ගැනය.

රුසියාවේ විවිධ ජාතීන්ගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවලට අයත් කට්ටි හා කට්ටිවාදී කණ්ඩායම් සියල්ලෙහිම නියෝජිතයෝ මෙම පූර්ණ රැස්වීමට සහභාගි වූහ. එහි බහුතරය වූයේ සමාදන කාරීන් ය. ලෙනින්, ලික්විඩේටර්වරුන්ටත්, ''ව්පිරියොද්'' කණ්ඩායමටත්, ට්‍රොට්ස්කිවාදීන්ටත්, විරුද්ධව දැඩි අරගලයක් කළ අතර, බොල්ෂෙවික් වරුන් හා පක්ෂයට හිතවත් මෙන්ෂෙවික් වරුන් අතර සමගියක් ඇති කිරීමට සමාදන කාරීහු උත්සාහ කළහ. ලෙනින්ගේ බල කිරීම අනුව, එම පූර්ණ රැස්වීම ''පක්ෂය තුළ පවතින තත්වය ගැන'' යෝජනාව අනුමත කළේය. ලික්විඩේටර් වාදයේ සහ අත්සොව්ස්ට්වාදයේ භයානක කම හා ඒවාට විරුද්ධව අරගල කිරීමේ අවශ්‍යතාවය එම යෝජනාවෙන් පෙන්වා දෙන ලදී. එම නිශ්චිත ඓතිහාසික අවස්ථා-වේදී, පක්ෂයේ දෘෂ්ටිමය හා දේශපාලනමය කර්තව්‍යයන් හා සම්බන්-ධයෙන් පක්ෂයේ සැබෑ සමගියක් ඇති කිරීමේ අවශ්‍යතාවය පිළිබඳ ප්‍රශ්නය ද, එම යෝජනාවෙන් මතු කෙරිණ. පූර්ණ රැස්වීම අනුමත කළ සමාදන කාරී තීරණ, ලෙනින් ගේ තියුණු හෙළා දැකීමට ලක් විය.

153 සල්තිකොව් ෂෙද්රින් ගේ ''විදේශයෙහි'' යන රචනයෙන් උපුටා ගැනීමකි.

154 ලෙනින් උපුටා දක්වන්ගේ රුසියානු ලේඛක පොම්යලොව්ස්කි ලියූ ''සෙමනේරි ජීවිතයෙන් සටහන්'' වලිනි. ඔහු, සාර්වාදී රුසියාවේ දේව ධර්ම පාසල්වල පැවති නදබල තත්වයන්, ශරීර දඬුවම් සහ ම්ලේච්ඡ සිරිත් ගැන සැබෑ සිත්තුරයක් ඉදිරිපත් කළේය.

155 ''ඩ්ස්වින්'' (''සංටාව'') — 1913 ජනවාරි පටන් 1914 මැද භාගය දක්වා

කීව්හි උක්‍රෙනියානු භාෂාවෙන් පළ කරන ලද මෙන්ෂෙවික් ජාතිකවාදී නීත්‍යානුකූල මාසික සඟරාවකි.

156 115 වැනි සටහන බලන්න.

157 "නෝවයා රබෝචයා ගසියතා" — 1913 අගෝස්තු සිට 1914 ජනවාරි දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කරන ලද මෙන්ෂෙවික්-ලික්විඩේටර් දිනපතා පුවත් පතකි.

158 ක්‍රිමියානු යුද්ධයේදී 1855 අගෝස්තු 4 දින චෝර්නයා ගංගාව අසලදී ඇති වූ සංග්‍රාමයක් ගැන සෙවස්තෝපල් සොල්දාදුවෙකුගේ ගීයකින්, ලෙනින් මෙය උපුටා දක්වයි. ගීය ලෙව් තොල්ස්තෝයි විසින් ලියන ලද්දකි.

159 "පොදු ජන සමාජවාදී" පක්ෂය (එන්එස්වරු) — සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ දක්ෂිණාංශයෙන් 1906 දී පිහිටුවන ලද සුළු ධනපති පක්ෂයකි. පොදු ජන සමාජවාදීහු කැඩෙට්වරු සමග පෙරමුණක් ඇති කිරීමට යෝජනා කළහ. මෙම පක්ෂය, "එහි වැඩ පිළිවෙළෙන් සමූහාණ්ඩුවාදයත්, සියළුම ඉඩම් සඳහා ඉල්ලීමත් යන දෙකම අත්හැර දමන නිසා, එය කැඩෙට්වරුන්ගෙන් වෙනස් වන්නේ ඉතා අල්ප වශයෙන්" බව ලෙනින් අවධාරණය කළේ ය.

160 "රුස්කොය බගාස්ත්ව" — 1976 සිට 1918 දක්වා සාන්ත පීටර්ස්-බර්ග් හි පළවූ මාසික සඟරාවකි. එය 1890 ගණන්වල ආරම්භයේ සිට නරෝද්නික්වාදී මධ්‍යම පුවත් පත බවට පත්විය. පුවත්පත 1883 දී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධව සටනක් රුසියාව පුරා ගෙන ගියේය. 1906 සිට "රුස්කොය බගාස්ත්ව" අර්ධ කැඩෙට්වාදී පක්ෂයක් වූ එන්එස් ("පොදුජන සමාජවාදී") පක්ෂයේ මධ්‍යම පත්‍රය බවට පත් විය.

161 "වියයිට්" ("කාලය") — 1912 සිට 1914 දක්වා යුදෙව් භාෂාවෙන් සාන්ත පීටර්ස්බර්ග් නගරයේ දිනපතා පළවූ බුන්ද් සංවිධානයේ මධ්‍යම පත්‍රයයි.

## නාමාවලිය

අකිමව් (මඛ්නෝවෙට්ස්*), ව්ලදීමීර් පෙත්‍රෝවිච් (1872–1921) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, "ආර්ථිකවාදයේ" ප්‍රධාන පෙළේ නායකයෙකි, අන්ත අවස්ථාවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසුව (1903) "ඉස්ක්‍රා" පත්‍රයේ විරුද්ධවාදියෙක් බවට පත් විය. සම්මේලනයට පසුව මෙන්ෂෙවික්වාදයේ අන්ත දක්ෂිනාංශික පිළේ නියෝජිත යෙකු බවට පත් විය. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඉවත් විය. — පිටු 15, 69, 126

ආන් — කස්ත්‍රොව් බලන්න.

අරක්චේයව්, අලෙක්සේයි අන්ද්‍රෙයවිච් (1769–1834) — අත්තනෝමතික පොලිස් සේවය ආරම්භ කළ තැනැත්තාය. පළමුවැනි පාවෙල් හා පළමුවැනි අලෙක්සාන්දර් සාර් රජවරුන්ගේ කිට්ටුම නිලධාරියෙකි. — පිටුව 171

අර්නිම්-සුකොව් (Arnim Suckow), හෙන්රිහ් අලෙක්සාන්දර් (1798–1861) — ආදිපාදවරයෙකි, ප්‍රුසියානු රාජ්‍යතන්ත්‍රිකයෙකි, ජර්මනියේ ප්‍රුසියානු රාජාණ්ඩු බලයේ කැපී පෙනෙන එක් අනුගාමිකයෙකි. 1848 දී (මාර්තු — ජූනි) කම්ප්හවුසන්ගේ ඇමති මණ්ඩලයේ විදේශ කටයුතු භාර ඇමති ධුරය ඉසිලීය. — පිටුව 143

දෙවැනි අලෙක්සාන්දර් (රොමානොව්) (1818–1881) — 1855 සිට 1881 දක්වා රුසියාව පලනය කළ අධිරාජයා ය. — පිටු 175, 176

* වරහන් තුළ දක්වා ඇත්තේ සත්‍ය නම බව සලකන්න.

එංගල්ස් (Engels), ෆ්‍රෙඩ්රික් (1820–1895) — පිටු 86, 92, 93, 101, 131, 147, 149, 150, 158, 211, 245, 448—256.

කබ්ලුකොව්, නිකලායි අලෙක්සේයවිච් (1849–1919) — ආර්ථික විද්‍යාඥයෙක් හා සංඛ්‍යාන ලේඛකයෙකි. ලිබරල් නරෝද්නික්වාදයේ අනුගාමිකයෙකි. සුළු ගොවිපළ් ආර්ථිකය පිළිබඳ න්‍යායය ගැලපීමට උත්සාහ ගත්තේය. ගොවි සමාජ පිළිබඳ අදහස ඉදිරිපත් කළේය. පංති සටනේ කාර්ය භාරය හා වැදගත්කම පිළිබඳ ප්‍රශ්නයේදී මාක්ස්වාදයට විරුද්ධ විය. පංති සමාදනය දේශනා කළේය. — පිටුව 145

කවේලින්, කන්ස්තන්තීන් දිමිත්‍රියවිච් (1818–1885) — ඉතිහාසඥයෙක් හා නීතිඥයෙකි, මොස්කව් හා පීටර්ස්බර්ග් විශ්ව විද්‍යාලවල මහාචාර්ය වරයෙකි. රදළ-ධනපති ලිබරල්වාදයේ නියෝජිතයෙකි. 1861 දී ගොවීන් ප්‍රවේනිදස වහල්භාවයෙන් නිදහස් කිරීමේ ප්‍රතිසංස්කරන නීති පිළියෙළ කළ කාලයේදී විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට විරුද්ධව කටයුතු කළේය. — පිටු 175, 176

කම්ප්හවුසන් (Camphausen), ලියුදොල්ෆ් (1803–1890) — ප්‍රරුසියානු රාජ්‍ය නායකයෙකි, බැංකු අධිපතියෙකි, රයින් ලිබරල් ධනපතීන්ගේ එක් නායකයෙකි. 1848 මාර්තු මාසයේ සිට, කම්කරු පංතිය සම්බන්ධව පාවාදීමේ පිළිවෙතක් අනුගමනය කළ ප්‍රරුසියානු ලිබරල් ධනපති රජයේ නායකයා බවට පත්විය. — පිටු 141, 143, 144

කනිත්ස් (Kanitz), අවුගුස්ත් (1783–1852) — ප්‍රරුසියානු ජනරාල් වරයෙකි. ප්‍රතිගාමී රදළ පැළැන්තියේ සහ නිලධාරිවාදයේ නියෝජිතයෙකි. 1848 මැයි-ජුනි වලදී කම්ප්හවුසන්ගේ රජයේ යුද්ධ කටයුතු පිළිබඳ ඇමැති ධුරය ඉසිලුවේය. — පිටුව 143

කකොෂ්කින්, ෆියෝදර් ෆියෝදරවිච් (1871–1918) — දේශපාලඥයෙක් හා ප්‍රකාශකයෙකි. කැඩෙට් පක්ෂයේ මූලාරම්භකයෙකි, එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. පළමුවැනි දූමා සභාවේ සාමාජිකයෙකි.— පිටු 231—235, 241, 247, 266—268

කල්ත්සොව්, ඩී. (ගින්ස්බුර්ග් බරීස් අබ්රාමවිච්, සෙදොව්, එල්.) (1863–1920) — සමජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී (1903) ඉස්ක්‍රාවාදී-මෙන්ෂෙවිකයෙකි. සම්මේලනයට පසුව මෙන්ෂෙවික්වාදියෙක් වූ ඔහු මෙන්ෂෙවික්වාදී පුවත් පත්වල සේවය කළේය. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) හා නව ප්‍රතිගාමී රැල්ල කාලයේ ලික්විඩේටර්වරයෙක් බවට පත්විය පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914–1918) සමාජ-ජාතොයාන්මාද වාදියෙක් බවට පත්විය. — පිටු 150, 192

කසොවිස්කි, වී. (ලෙවින්සොන් එම්. වයි.) (1870-1941) — බුන්ද් සංවිධානයේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට (1903) බුන්ද් සංවිධානයේ විදේශගත කොමිටියේ නියෝජිතයෙකු ලෙස සහභාගි වූවේය. ඉස්ක්‍රා විරෝධියෙකි. සම්මේලනයට පසුව මෙන්ෂෙවිකයෙක් බවට පත්විය. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) ලික්විඩේටර්වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාතොයාන්මාදවාදියෙකි. — පිටු 270, 271.

කස්ත්‍රොව් (ජෝර්දානියා, නොයි නිකලායවිච්. ආන්) (1870–1953) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මෙන්ෂෙවික්වාදියෙකි රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී මෙන්ෂෙවික්වාදී ඉස්ක්‍රාවාදීන්ට හේත්තු විය. සම්මේලනයට පසු කොකේසියානු මෙන්ෂෙවික් වාදීන්ගේ නායකයා බවට පත් විය. ප්‍රතිගාමීත්වය කාලයේදී (1907–1910) ලික්විඩේටර් වරුන්ට සහයෝගය දුන්නේය. — පිටු 192, 259

කොලියුබාකින් අලෙක්සාන්දර් මිහායිලවිච් (1868–1915) — සෙම්ස්ත්වෝ නායකයෙකි, ධනේෂ්වර ලිබරල්වාදියෙකි, කැඩෙට් වරයෙකි. 1907 දී තුන්වැනි රාජ්‍ය දූමා සභාවේ සාමාජියෙකු බවට පත්විය. කැඩෙට් වරුන්ගේ පක්ෂයේ පාර්ලිමේන්තු කණ්ඩායමේ ලේකම් හා එම පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. — පිටුව 231

කෞට්ස්කි (Kautsky), කාල් (1854–1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි. ඔහු මුලදී මාක්ස්වාදියෙකු වුවද පසුව මාක්ස්වාදය පාවාදෙන්නෙකු විය. අවස්ථාවාදයේ ඉතාම භයානක හා හානිදයක වර්ගය වන මධ්‍යස්ථවාදයේ (කෞට්ස්කිවාදයේ) න්‍යායාචාර්ය වරයාය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ න්‍යායාත්මක සඟරාව වූ "Die Neue Zeit" (නූතන කාලය) සඟරාවේ කර්තෘ වරයාය. — පිටු 68, 69, 115, 158, 195, 205—209, 211, 222, 225, 245

ක්‍රිචේව්ස්කි, බරීස් නවුමවිච් (1866–1919) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි.

ප්‍රකාශකයෙක් හා ''ආර්ථිකවාදයේ'' එක් නායකයෙකි. 1890 ගණන්වල අවසානයේදී ''විදේශගත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සංගමයේ නායකයෙකු බවට පත් විය. 1899 දී ''රබෝචිය දියල'' සඟරාවේ කතුකම කළේය. එම සඟරාව මගින් ඔහු බර්න්ෂටයින්වාදී අදහස් ප්‍රචාරය කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසුව (1903) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඈත් විය. — පිටුව 69

ක්‍රොම්වල් (Cromwell), ඔලිවර් (1599–1658) — ධනපති පංතියේ සහ දහහත්වැනි ශත වර්ෂයේ එංගලන්ත විප්ලව අවධියේදී ධනපතීන් බවට පත්වූ වංශවතුන්ගේ නායකයාය. 1653 සිට එංගලන්තයේ, ස්කොට්ලන්ත යේ සහ අයර්ලන්තයේ ආරක්ෂක කටයුතු බාර සාමි වරයාය. — පිටුව 251

ගන්කෙවිච්, නිකලායි (උපත 1869) උක්‍රේනියානු (ගලීසියානු) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් නායකයෙකි, ජාතිකවාදියෙකි. උක්‍රේනියාව ධනපති පෝලන්තය සමග සම්බන්ධ වීම ඉල්ලා සිටියේය. — පිටුව 218



ගනෙට්ස්කි (ෆියුර්ස්ටන් බෙර්ග්), යාකව් ස්තනිස්ලාවවිච් (1879–1937) — රුසියානු හා පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. පොලන්ත හා ලිත්වියානු රාජධානිවල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලන කීපයකටම සහභාගි විය. එසේම රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි, හතරවැනි හා පස්වැනි සම්මේලන වලටද සහභාගි විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පස්වැනි සම්මේලනයේදී පක්ෂයේ මධ්‍යම කාරක සභාවට තේරී පත් විය. — පිටු 258, 259

ගරිබාල්ඩි (Garibaldi), ජුසේප්පෙ (1807–1882) — ඉතාලියේ ජාතික වීරයෙකි. ඉතාලියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රික ව්‍යාපාරයේ සම්භාවණීය නායකයෙකි, සේනාධිපතිවරයෙකි. විදේශිකයින්ගේ පීඩනයට විරුද්ධව හා ඉතාලිය ඒකාබද්ධ කිරීම සඳහා ඉතාලියානු ජනතාව ගෙනගිය (1848–1867) සටනට නායකත්වය දුන්නේය. — පිටුව 249

ගපොන්, ගියෝර්ගි අපලෝනවිච් (1870–1906) — පූජකයෙකි, 1905 ජනවාරි 9 ද සාර් වෙත පෙත්සමක් රැගෙන ගිය පීටර්ස්බර්ග් කම්කරුවන්ගේ පෙළපාලිය සංවිධානය කළේය. — පිටු 11, 56

ගුච්කොව්, අලෙක්සාන්ද්‍ර් ඉවානවිච් (1862–1936) — මහා පරිමාන වාණිජ-නිෂ්පාදනමය ආයතන හිමි රුසියානු ධනපතියෙකි. ඔක්තෝබරිස්ට් පක්ෂයේ නායකයාය. රාජාණ්ඩුවාදියෙකි. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) රාජ්‍ය ආරක්ෂක කොමිටියේ සභාපති වරයා සහ තුන්වැනි රාජ්‍ය දූමා සභාවේ සභාපති වරයා ලෙස කටයුතු කළේය. — පිටුව 164

ග්ලැඩ්ස්ටන් (Gladstone) විලියම් යුවර්ට් (1809-1898) — ඉංග්‍රීසි ජාතික දේශපාලන හා රාජ්‍ය නායකයෙකි. ලිබරල් පක්ෂයේ නායකයාය. 1868–1874 අවුරුදුවලදී හා පසුව කීපවතාවක්ම අගමැති ධූරය සහ ලිබරල් කැබිනට් මණ්ඩලයේ සාමාජික ධූර ඉසිලීය. පුළුල් යටත් විජිතවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටුව 252

ගෙර්ට්සෙන්ෂ්ටෙයින්, මිහයිල් යාකව්ලෙවිච් (1859–1906) — ආර්ථික විද්‍යාඥයෙකි. පළමුවැනි රාජ්‍ය දූමා සභාවේ නියොජිත යෙකි. කැඩෙට්වරුන්ගේ පක්ෂයේ එක් නායකයෙක් හා කෘෂිකාර්මික ප්‍රශ්න පිළිබඳ එහි න්‍යායාචාර්ය වරයා ය — පිටුව 145

ගොල්ඩ්බලත් (මෙඩෙම් වී. ඩී.) (1879–1923) — බුන්ද් සංවිධානයේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී (1903) බුන්ද් සංවිධානයේ විදේශගත කොමිටිය නියෝජනය කළේය. 1906 දී බුන්ද් සංවිධානයේ මධ්‍යම කාරක සභාවට තේරී පත් විය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ පස්වැනි සම්මේලනයට (1907) සහභාගි විය. මෙන්ෂෙවික්වාදීන්ට සහයෝගය දුන්නේය. — පිටු 259, 260, 264

ග්‍රෙදෙස්කුල්, නිකලායි අන්ද්‍රෙයවිච් (උපත 1864) — නීතිඥයෙක් හා ප්‍රකාශකයෙකි, කැඩෙට් වරයෙකි. ''රාජ්‍ය විරෝධී ස්වරූපයක්'' ගත් ලිපි ප්‍රසිද්ධ කිරීම නිසා 1905 දී සිරභාරයට පත් විය. පසුව අර්හන්ගිල්ස්කයා ගුබෙර්නියාවට පිටුවාහල් කරන ලදී. — පිටුව 134

චෙර්නිෂේව්ස්කි, නිකලායි ගව්රිලවිච් (1828–1889) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මනොරාජ්‍ය-සමාජවාදියෙකි. ලේඛකයෙකි. සාහිත්‍ය විචාරකයෙකි, ද්‍රව්‍යවාදී-දර්ශනවාදියෙකි. 1860 ගණන්වල රුසියාවේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ නායකයා ය.

1862 දී සිරභාරයට ගන්නා ලදී. අවුරුදු 7 කට බරපතල වැඩ ඇතිව සිරගෙට නියම කර පසුව සයිබීරියාවට පිටුවාහල් කරන ලදී. 1883 දී ඔහු ආපසු පැමිණියේය. — පිටු 175, 176, 178, 246

චහෙයිඩ්සෙ, නිකලායි සිමියෝනවිච් (1864–1926) — ජෝර්ජියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. තිෆ්ලිස් ගුබෙර්නියාව වෙනු-

වෙන් හතරවැනි රාජ්‍ය දූමා සභාවේ පෙනී සිටියේය. හතරවැනි දූමා සභාවේ මෙන්ෂෙවික් කණ්ඩායමේ නායකයා ය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914–1918) මධ්‍යස්ථවාදියෙකි. — පිටුව 191

ජොරේස් (Jaurès), ජාන් — (1859–1914) — ප්‍රංශ හා ජාත්‍යන්තර සමාජවාදී ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. 1902 දී ජොරේස් සහ ඔහුගේ සගයෝ ප්‍රංශ සමාජවාදී පක්ෂය ආරම්භ කළ හ. "L'Humanité" පත්‍රයේ ප්‍රාරම්භකයා සහ කර්තෘ වරයාය. ප්‍රංශ සමාජවාදී පක්ෂයේ දක්ෂිණාංශික අවස්ථාවාදී පිළේ නායකයාය. ඒ අතරම මිලිටරිවාදයට විරුද්ධව මහත් උද්යෝගයකින් සටන් කළේය. පළමුවැනි ලෝක යුද්ධය ආසන්නයේදී (1914–1918) ජාත්‍යොන්මාදවාදීන් විසින් මරා දමන ලදී. — පිටු 84, 105

ට්‍රොට්ස්කි (බ්‍රොන්ෂ්ටයින්), ලෙව් දවීදවිච් (1879–1940) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ (1903) දෙවැනි සම්මේලනයෙන් ඉක්බිතිව මෙන්ෂෙවික්වාදියෙකු විය. 1905–1907 විප්ලවය පරාජය වීමෙන් පසුව ලික්විඩේටර්වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914–1918) මධ්‍යස්ථවාදියෙකි, යුද්ධය සාමය හා විප්ලවය යන ප්‍රශ්න වලදී ලෙනින්ට විරුද්ධව සටන මෙහෙයවිය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ හයවැනි සම්මේලනයේදී (1917) පක්ෂයට බැඳුනේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසුව වගකිවයුතු තනතුරු කීපයකම ඉසිලීය. පක්ෂය ගෙනයන මූලික පිළිවෙත ට විරුද්ධවද සමාජවාදය ගොඩනැගීමේ ලෙනින්වාදී වැඩ පිළිවෙළට විරුද්ධවද දැඩි සටනක් ගෙන ගියේ ය. සෝවියට් සංගමය තුළ සමාජවාදය ගොඩනැගිය නොහැකි යයි දේශනා කළේය. 1927 දී ට්‍රොට්ස්කි පක්ෂයෙන් නෙරපා දමන ලදී. 1929 දී සෝවියට් විරෝධී ක්‍රියා නිසා රටින් නෙරපන ලදී. — පිටු 16, 69, 179—188, 190—200, 268

ත්‍රැබෙත්ස්කොයි, සෙර්ගේයි නිකලායවිච් (1862–1905) — සිටුවරයෙකි, තම දේශපාලන අදහස් අනුව ලබරල්වාදියෙකි, විඥාන වාදී-දර්ශනවාදියෙකි. මධ්‍යස්ථ ව්‍යවස්ථාවක් මාර්ගයෙන් සාර්වාදය තහවුරු කිරීමට උත්සහ ගත්තේය. — පිටු 127, 145, 215

තුරති (Turati), ෆිලිපො (1857–1932) — ඉතාලියානු කම්කරු ව්‍යාපාරයේ ප්‍රතිසංස්කරනවාදී නායකයෙකි. ඉතාලියානු සමාජවාදී පක්ෂයේ (1892) එක් සංවිධායකයෙකි. එහි දක්ෂිණාංශික ප්‍රතිසංස්කරනවාදී පිළේ නායකයා ය. 1896 දී පාර්ලිමේන්තුවට තේරී පත්විය. නිර්ධන පංතියේ සහ ධනපති පංතියේ පංති සහයෝගීතාවය ඔහුගේ පිළිවෙත විය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914–1918) මධ්‍යස්ථවාදියෙකි. — පිටු 80, 93

තුර්ගේනෙව්, ඉවාන් සෙර්ගේයෙවිච් (1818–1883) — රුසියානු ලේඛකයෙකි, තම දේශපාලන අදහස් අනුව ලිබරල්වාදියෙකි. — පිටුව 176

තුලියකොව්, ඊ. එන්. (උපත 1877) — කම්කරුවෙකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදියෙකි. හතරවැනි රාජ්‍ය දූමා සභාවේ මන්ත්‍රීවරයෙකි. — පිටුව 191

තියෙර් (Thiers) අදොල්ෆ් (1797–1877) — ප්‍රංශ දේශපාලඥ යෙක් හා ඉතිහාසඥයෙකි. පැරිස් කොමියුනයට සහභාගී වූන් මෘග ලෙස මර්ධනය කිරීම හා ඔවුන්ගෙන් පළිගැනීම සංවිධානය කළේද මොහුය.— පිටු 136, 137

දබ්‍රලියුබව්, නිකලායි අලෙක්සාන්ද්‍රවිච් (1836–1861) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. සම්භාවණීය සාහිත්‍ය විචාරකයෙක් හා ද්‍රව්‍යවාදී දර්ශනවාදියෙකි. — පිටුව 175

දන්ත්සොව්, ඩිමිට්‍රො — උක්‍රේනියානු ජතිවාදියෙකි. — පිටු 226, 227

දාන් (ගුර්විච්), ෆියෝදර් ඉලියිච් (1871–1947) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. පීටර්ස්බර්ග්හි "කම්කරු පංතියේ විමුක්තිය සඳහා අරගල සංගමයේ" සමාජිකයෙකු විය. 1903 දී මෙන්ෂෙවිකයින්ට හේත්තු විය. 1905–1907 විප්ලවයේ පරාජයෙන් පසු ලික්විඩේටර්වරුන්ගේ විදේශගත කණ්ඩායමට නායකත්වය දුන්නේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914–1918) ප්‍රබල ආරක්ෂකවාදියෙක් විය. — පිටු 185, 192, 194

දුන්කර් (Duncker) ෆ්‍රන්ත්ස් (1822–1888) — ජර්මන් දේශපාලඥයෙකි, ප්‍රකාශකයෙකි. 1860 ගණන් වලදී ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සමිති ආරම්භ කළ අයගෙන් කෙනෙකි. — පිටුව 128

දුබාසව්, ෆෙයෝදර් වසිලියෙවිච් (1845–1912) — ඇජුටන්ට්-ජෙනරාල්වරයෙකි, ඇඩ්මිරාල්වරයෙකි. සාර්වාදී ප්‍රතිගාමිත්වයේ එක් අළුගො-

සුවෙකි. 1905 නොවැම්බර් සිට මොස්කව් ආණ්ඩුකාරයා ලෙස කටයුතු කළේය. මොස්කව්හි ඇතිවූ දෙසැම්බර් අවිගත් නැගිටීම මර්ධනය කිරීම මෙහෙය විය. — පිටු 153, 156

<u>දුගමානව්, මිහයිල් පෙත්‍රෝවිච්</u> (1841–1895) — උක්‍රෙනියානු ඉතිහාසඥයෙකි, මානව විද්‍යාඥ යෙක් හා ප්‍රකාශකයෙකි. ධනපති ලිබරල්-වාදයේ එක් නියෝජිතයෙකි. — පිටුව 246

<u>නදේෂ්දින්, එල්. (සෙලේන්ස්කි, යෙව්ගේනි ඕසිපවිච්)</u> (1877–1905) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. තම දේශපාලන ජීවිතය නරෝද්නික් වාදියෙකු ලෙස ආරම්භ කළේය. පසුව ''ආර්ථිකවාදීන්ට'' ආධාර දුන් අතර ''පොදු ජනතාව කුපිත කරවීමේ'' මාධ්‍යයක් ලෙස ත්‍රස්තවාදය දේශනා කළේය. ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රයට විරුද්ධව නැගී සිටියේය. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසුව (1903) මෙන්ෂෙවික්වාදී පුවත්පත්වලට හා සඟරාවලට ලිපි ලියුවේය. — පිටුව 74

<u>තුන්වැනි නැපෝලියන් (බොනපාට්, ලුයී)</u> (1808–1873) — 1852 සිට 1870 දක්වා ප්‍රංශ අධිරාජයාය. පළමුවැනි නැපොලියන්ගේ බෑනා කෙනෙකි. — පිටුව 173

<u>දෙවැනි නිකොලායි</u> (රොමානොව්, ලේ ''තැවරුනු නිකොලායි'') (1868–1918) — අවසාන රුසියානු අධිරාජයා (1894–1917) — පිටු 60, 67, 136

<u>නෙක්රාසව්, නිකලායි විසරියෝනවිච්</u> (උපත 1879) — තුන්වැනි රාජ්‍ය දූමා සභාවේ මන්ත්‍රීවරයෙකි. කැඩෙට්වරයෙකි. 1917 පෙබරවාරි ධනපති විප්ලවයෙන් පසුව ධනපති තාවකාලික රජයට ඇතුල් විය. — පිටුව 231

<u>ප්ලෙහානව්, ගියෝර්ගි වලෙන්තිනවිච්</u> (1856–1918) — රුසිනු හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවණීය නායකයෙකු වන මොහු රුසියාවේ මාක්ස්වාදය ප්‍රචාරය කළ පුරෝගාමියා ය. පළමුවැනි රුසියානු මාක්ස්වාදී කණ්ඩායම වූ ''ශ්‍රම විමුක්තිය'' කණ්ඩායමේ (1883) ප්‍රාරම්භකයා ය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසු මෙන්ෂෙවික්වාදීන් වෙතට මාරු විය. 1907–1914 අවුරුදුවලදී ලික්විඩේටර්වරුන්ට විරුද්ධව නැගී සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914–1918) සමාජ-ජාතෝන්මාදවාදී තත්වයක් ඉසිලීය. — පිටු 124, 132, 148, 150, 155, 191, 228, 257, 258, 260, 264



<u>පමියලොව්ස්කි, නිකලායි ගෙරාසිමවිච්</u> (1835–1863) — රුසියානු ලේඛකයෙකි, ප්‍රජාතන්ත්‍රවාදියෙකි. — පිටුව 263

<u>ප්රුදොන් (Proudhon), පියෙර් ජොසෙෆ්</u> (1809–1865) ප්‍රංශ ප්‍රකාශකයෙකි, ආර්ථික විද්‍යාඥයෙක් හා සමාජ විද්‍යාඥයෙකි. ආරාජිකවාදයේ එක් ප්‍රාරම්භකයෙකි. සුළු ධනපති දෘෂ්ටිවාදියෙකි. සුළු දේපල හිමි කම සදකාලික කිරීමට උත්සාහ ගත් ප්රුදොන් මහා පරිමාන දේපල හිමිකම, සුළු ධනපති ස්ථාවරයක සිට විවේචනය කළේය. — පිටු 149, 249, 250

<u>පුරිෂ්කේවිච්, ව්ලදීමීර් මිත්‍රිෆානවිච්</u> (1870–1920) — මහා ඉඩම් හිමියෙකි, රාජාණ්ඩුවාදියෙකි. ප්‍රතිගාමියෙකි. 1905–1907 කළු සියය මිණීමරු සංවිධාන ආරම්භ කළේය. එම සංවිධාන පිහිටවූයේ විප්ලවවාදී ව්‍යාපාරවලට විරුද්ධව සටන් කිරීම සඳහාය. — පිටු 164, 230, 235, 266—270

<u>පෙත්‍රෝව්, අන්තෝන්</u> (1824–1861) — කසාන් ගුබේර්නියාවේ බෙස්ද්නා ගමේ ගොවියෙකි. 1861 ඉඩම් ප්‍රතිසංස්කරනයට විරුද්ධ ව්‍යාපාරය මෙහෙය වූයේය. — පිටුව 177

<u>පෙත්‍රූන්කේවිච්, ඉවාන් ඉලියිච්</u> (1844–1928) — ඉඩම් හිමියෙකි, සෙම්ස්ත්වො නායකයෙක් හා කැඩෙට්වරයෙකි. කැඩෙට් පක්ෂයේ ප්‍රාරම්භකයින්ගෙන් හා නායකයින්ගෙන් අයෙකි. කැඩෙට් පක්ෂයේ මධ්‍යම පත්‍රය වූ ''රෙච්'' මුද්‍රණය කර ප්‍රසිද්ධ කළේය. පළමුවැනි රාජ්‍ය දූමා සභාවේ මන්ත්‍රීවරයෙකි. — පිටු 60, 127, 144

<u>පෙෂෙහොනව් අලෙක්සේයි වසීලියවිච්</u> (1867–1933) — සමාජ සේවකයෙක් හා ප්‍රකාශකයෙකි. 1906 සිට සුළු ධනපති පක්ෂයක් වූ ''ජනතා සමාජවාදියෝ'' (එන්එස්) පක්ෂයේ එක් නායකයෙකි. — පිටුව 269

<u>ප්‍රකපොවිච්, සෙර්ගේයි නිකලායවිච්</u> (1871–1955) — ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි ''ආර්ථිකවාදය'' ප්‍රවනතාවයේ ප්‍රධාන පෙළේ නියෝජිතයෙකි. රුසියාව තුළ ප්‍රථමයෙන්ම බර්න්ෂ්ටයින්වාදය දේශනා කළ කෙනෙකි. — පිටුව 128

<u>ෆිද්ලෙර්, ඊ. ඊ.</u> (උපත 1864) මොස්කව් කාර්මික විද්‍යාලයේ අධ්‍යක්ෂකවරයාය. 1905 දී කම්කරුවන්ගේ හා වැඩකරන ජනතාවගේ රැස්වීම

ෆිද්ලර්ගේ අනුදැනුම ඇතිව විද්‍යාල ගොඩනැගිල්ල තුළ පැවැත්විණි. — පිටුව 153

<u>ෆොයර්බාහ් (Feuerbach), ලුද්විග් අන් යස්</u> (1804–1872) — සම්භාවණීය ජර්මන් ද්‍රව්‍යවාදී දර්ශනිකයෙක් හා ආදේවවාදියෙකි. මාක්ස්වාදයේ එක් ප්‍රාරම්භකයෙකි. ෆොයර්බාහ් හෙගල්ගේ විඥානවාදී දර්ශනය විවේචනය කළ අතර ආගම හා විඥානවාදය අතර සම්බන්ධකම පෙන්නුවේය. එහෙත් සමාජ ක්‍රියාදාමය ගැන ධර්මයේදී ෆොයර්බාහ් විඥානවාදියෙක් විය. ඔහුගේ ද්‍රව්‍යවාදය පාරභෞතිකවාදී විය. එසේම නිර්මාණාත්මක විය. — පිටු 43, 172

<u>බකූනින්, මිහයිල් අලෙක්සාන්දරවිච්</u> (1814–1876) — රුසියානු විප්ලවවාදියෙකි, ආරාජික වාදයේ න්‍යායාචාර්ය වරයෙකි. 1840 සිට පිට රට ජීවත් විය. 1848–1849 අවුරුදුවලදී ජර්මන් විප්ලවයට සහභාගි විය. මාක්ස් ධර්මයේ හතුරකු ලෙස පළමුවැනි ජාත්‍යන්තරයට සහභාගි විය. නිර්ධන පංතියේ ආඥාදායකත්වය ඇතුළු සියළුම ආකාරයේ රජයන් ප්‍රතික්ෂෙප කළේය. නිර්ධන පංතියේ සමස්ත ලෝක-ඓතිහාසික කාර්යභාරය ඔහු තේරුම් නොගත්තේය. කම්කරු පංතියේ ස්වාධීන දේශපාලන පක්ෂය ගොඩනැගීමට විරුද්ධව ප්‍රසිද්ධියේ කථා කළේය. බකූනින්ගේ ප්‍රතිගාමී අදහස් වලට විරුද්ධව මාක්ස් සහ එංගල්ස් තීරණාත්මක ලෙස සටන් කළහ. කඩාකප්පල්කාරී ක්‍රියා නිසා 1872 දී බකූනින් ජාත්‍යන්තරයෙන් නෙරපන ලදී. — පිටු 101, 131, 173

<u>බර්න්ෂ්ටයින් (Bernstein), එඩ්වඩ්</u> (1850–1932) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ අන්ත අවස්ථාවාදී පිළේ නායකයාය. සංශෝධනවාදයේ සහ ප්‍රතිසංස්කරනවාදයේ න්‍යායාචාර්ය වරයාය.

බර්න්ෂ්ටයින්ගේ හා ඔහුගේ සගයින්ගේ න්‍යායයන් ද එසේම ඔවුන්ගේ අවස්ථාවාදී ව්‍යවාහාරික කටයුතු ද කම්කරු පංතියේ අවශ්‍යතාවයන් පාවා දුන් අතර එනිසා දෙවැනි ජාත්‍යන්තරය භේද භින්න විය. — පිටු 80, 102, 114, 129

<u>බ්ලාන්, (Blanc), ලුයී</u> (1811–1882) — ප්‍රංශ සුළුධනේශ්වර සමාජවාදියෙක් හා ඉතිහාසඥයෙකි. ධනපති ක්‍රමය යටතේ පංතිමය ප්‍රතිවිරුද්ධතාවයන් විසඳාලිය නොහැකිය යන්න නොපිළිගත්තේය. ඔහු නිර්ධන පංතික විප්ලවයේ හතුරෙකු විය. ධනපති පංතිය සමග එකඟ වීමේ ප්‍රතිපත්තිය පිළිගත්තේය. — පිටව 149



<u>බ්ලන්කි (Blanqui), ලුයී ඔගියුස්ට්</u> (1805–1881) — සම්භාවනීය ප්‍රංශ විප්ලවවාදියෙකි. මනෝරාජ්‍ය කොමියුනිස්ට් ක්‍රමයේ ප්‍රධාන නියෝජිතයෙකි. රහසිගත විප්ලවවාදී සංවිධාන කීපයකම නායකයා ලෙස කටයුතු කළේය. කුඩා ප්‍රමාණයකින් යුත් විප්ලවවාදී-කුමන්ත්‍රණකාරී කණ්ඩායමක් මගින් බලය අල්ලා ගැනීමට උත්සාහකළ ඔහු විප්ලවවාදී සටන් සඳහා පොදු ජනතාව සංවිධානය කිරීමේ ඇති තීරණාත්මක වැදගත්කම තේරුම් නොගත්තේය. — පිටුව 86

<u>බුල්කින් (සිමියෝනව්), ෆියෝදර් අෆනාසියව්</u> (උපත 1888) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදියෙකි. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) සහ නව විප්ලවවාදී පුනර්ජීවය කාලයේ ලික්විඩේටර් වරයෙකි.— පිටුව 189

<u>බුලීගින්, අලෙක්සාන්දර් ග්‍රිගෝරියවිච්</u> (1851–1919) — සාර්වාදී රුසියාවේ රාජ්‍ය නායකයෙකි. මහා ඉඩම් හිමියෙකි. 1905 ජනවාරි සිට විදේශ කටයුතු භාර ඇමති වරයා ලෙස කටයුතු කළේය 1905 පෙබරවාරි සිට සාර් රජතුමාගේ නියමය පරිදි රාජ්‍ය දූමා සභාවේ සාකච්ඡා සභාවක් කැඳවීම සඳහා කෙටුම්පත් ව්‍යවස්ථාවක් පිළියෙළ කිරීමේ කමිටුවේ ප්‍රධානියා ලෙස කටයුතු කළේය. — පිටු 18, 58, 63, 65—67, 199

<u>බුරියානව්, අන්ද්‍රෙයි ෆදේයවිච්</u> (උපත 1880) — මෙන්ෂෙවික්වාදියෙකි. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) සහ නව විප්ලවවාදීපුනර්ජීවය අවධියේ ලික්විඩේටර්වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914–1918) ආරක්ෂාවාදීන්ට හේත්තු විය. — පිටුව 191

<u>බිරෝන්, එර්නස්ට් යෝගන්</u> (1690–1772) — රුසියානු අධිරාජිනියක් වූ ආන්න යොආනව්නාගේ කිට්ටු මිත්‍රයෙකි. ඔහු රුසියාවේ ස්වදේශීය හා විදේශීය කටයුතුවලට බොහෝ සේ බලපෑවේය. — පිටුව 171

<u>බිස්මර්ක් (Bismarck), ඔත්තො එදුවාර්ද් ලියොපොල්ද්</u> (1815–1898) — ප්‍රුසියාවේ හා ජර්මනියේ රාජ්‍ය නායකයෙකි, රාජ්‍ය තන්ත්‍රිකයෙකි. බිස්මර්ක්ගේ මූලික අරමුණ වූයේ ''රුදිරයේ සහ යකඩයේ'' මාර්ගයෙන් විසිරී ඇති ජර්මන් රාජ්‍යයන් ඒකාබද්ධ කොට ජුන්කර් ප්‍රුසියාවේ ආධිපත්‍යය යටතේ සමස්ත ජර්මන් අධිරාජ්‍ය පිහිටුවීමය. — පිටු 136, 189, 249

බෙර්න්හර්ද් (Bernhard), ලුද්විග් (1875–1935) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි. ටික කාලයක් පෝලන්ත-ප්‍රරුසියානු දේශපාලනයේ නියැලී සිටියේය. පෝලන්ත වැසියන් ජර්මානුන් කිරීමට උත්සාහ ගත්තේය. — පිටුව 269

බෙනිග්සෙන්, ඒ. පී. (උපත 1873) — ඉඩම් හිමි සිටුවරයෙකි. ඔක්තිබ්‍රිස්ට් වරයෙකි. තුන්වැනි හා හතරවැනි රාජ දූමා සභාවේ මන්ත්‍රීවරයෙකි.— පිටුව 201

බෙබෙල් (Bebel), අව්ගුස්ත් (1840–1913) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ සම්භාවනීය නායකයෙකි. වෘත්තියෙන් ලියවන පට්ටල් කම්කරුවෙකි. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙක්ව සිටියේ ය. 1869 දී ලීබ්නෙෂ්ත් සමග එකතුව ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය (''එයිසෙනාෂ්වරු'') ආරම්භ කළේය. සංශෝධනවාදයට සහ ප්‍රතිසංස්කරනවාදයට විරුද්ධව නැගී සිටියේ ය. — පිටු 68, 69



බෝයර් (Bauer), ඔත්තො (1882–1938) — ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි. අවස්ථාවාදයේ එක් න්‍යායාචාර්ය වරයෙකි. ''සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය'' නැමැති න්‍යායයේ කර්තෘ වරයාය. 1918–1919 අවුරුදුවලදී ඕස්ත්‍රියානු සමූහාණ්ඩුවේ විදේශ කටයුතු භාර ඇමතිවරයා ලෙස කටයුතු කළේය. ඕස්ත්‍රියානු කම්කරු පංතියේ විප්ලවවාදී නැගී සිටීම මර්ධනය කිරීමට සහභාගි විය. — පිටු 206

බොර්න් (Born), ස්ටෙෆන් (සැබෑ නම සිමොන් බුතර්මිල්ෂ්) (1824-1898) — ජර්මන් සමාජ ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ප්‍රතිසංස්කරනවාදී උපනතියේ එක් නියෝජිතයෙකි. වෘත්තියෙන් අකුරු අමුනන්නෙකි. කොමියුනිස්ට්වරුන්ගේ සංගමයේ සාමාජිකයෙකි. කම්කරු ව්‍යාපාරය දේශපාලන අරගලයෙන් ඉවත් කර එය සුළු ආර්ථික ප්‍රතිසංස්කරන ඇති කිරීම සඳහා යෙදවීමට ඔහු උත්සාහ ගත්තේය. — පිටු 147, 148, 149, 150

බ්‍රෙන්තානො (Brentano), ලුයෝ (1844–1931) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි. ''රාජ්‍ය-සමාජවාදය'' පිළිගත්තේය. පංති සටන ප්‍රතික්ෂේප කිරීම සහ ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සමිති සංවිධානය හා පැක්ටරි ව්‍යවස්ථා මාර්ගයෙන් ධනපති සමාජයක් තුළ කම්කරුවන්ගේ සහ ධනපතීන්ගේ අවශ්‍යතාවයන් සැපයිය හැකි බව දේශනා කළේය. — පිටු 128, 129

මසේපා, ඉවාන් ස්තෙපානවිච් (1644–1709) — උක්‍රෙනියානු ජන නායකයෙකි. උක්‍රෙනියාව රුසියාවෙන් ඉවත් කර පෝලන්තයේ හෝ ස්වීඩනයේ ආරක්ෂාව යටතේ පවතින වෙනම රජයක් බවට පත්කිරීමේ අරමුණෙන් යුත් ව්‍යාපාරය මෙහෙය වීය. — පිටුව 233

මලාහව්, නිකලායි නිකලායවිච් (උපත 1827) — සාර්වාදී ජෙනරාල් වරයෙකි. ඔහු මොස්කව් යුද හමුදාවේ අනදෙන නිලධාරියා විය. 1905 මොස්කව්හි දෙසැම්බර් අවිගත් නැගිටීම මෘග ලෙස මර්ධනය කිරීම සංවිධානය කළ අයගෙන් කෙනෙකි. — පිටුව 157

මනුයිලව්, අලෙක්සාන්දර් අපලොනවිච් (1861–1929) — ආර්ථික විද්‍යාඥයෙකි. 1905–1911 මොස්කව් විශ්ව විද්‍යාලයේ කුලපති ලෙස කටයුතු කළේය. කැඩෙට් පක්ෂයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. — පිටුව 145

මර්තිනව් (පිකර්, අලෙක්සාන්දර් සමොයිලවිච්) (1865–1935) — ''ආර්ථිකවාදයේ'' එක් නායකයෙකි. ලෙනින්වාදී ''ඉස්ක්‍රා'' පත්‍රයට විරුද්ධව කටයුතු කළේය. පසුව මෙන්ෂෙවික්වාදයේ එක් න්‍යායාචාර්ය වරයෙක් බවට පත් විය. ප්‍රතිගාමිත්වය කාලයේ (1907–1910) ලික්විඩේටර් වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914–1918) මධ්‍යස්ථවාදී තත්වයක් ගත්තේය. — පිටු 27, 30, 33, 41, 69, 70, 78, 80, 81, 83 88, 100, 102, 115, 116, 131—133, 138—140, 202, 260

මොගිලාන්ස්කි, එම්. එම් (1873–1942) — අධිනීතිඥයෙකි. ප්‍රකාශකයෙකි, කැඩෙට්වරයෙකි. කැඩෙට් පක්ෂයේ මධ්‍යම ප්‍රකාශනය වූ ''රෙච්'' පත්‍රයට සහ රුසියාවේ හා උක්‍රෙනියාවේ කලින් කල පළ වූ පුවත් පත්වලට, සඟරා වලට ලිපි සැපයුවේය. — පිටු 227, 228

මාක්ස් (Marx), කාල් (1818–1883) — 43, 59, 85, 93, 103, 120, 131, 137, 140—142, 144, 146—150, 153, 157, 173, 207, 211, 245, 248—256

මාර්තව්, එල්. (ට්සෙදෙර්බවුම්, යූලි ඔසිපවිච්) (1873–1923) — මෙන්ෂෙවික් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී අවස්ථාවාදී අල්පතරයට නායකත්වය දී එතැන් සිට මෙන්ෂෙවික්වාදී

මධ්‍යම ආයතනවල ප්‍රධානියෙක් හා මෙන්ෂෙවික්වාදී ප්‍රකාශනවල කර්තෘ වරයෙක් ලෙස කටයුතු කළේය. ප්‍රතිගාමිත්වය කාලයේ (1907–1910) ලික්විඩේටර වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914–1918) මධ්‍යස්ථ තත්වයක් ගත්තේය. — පිටු 83, 184, 266.

මාහ් (Mach), එර්න්ස්ට් (1838–1916) — ඔස්ත්‍රියානු භෞතික විද්‍යාඥයෙක් හා දර්ශනිකයෙකි. මනෝමූලවාදී විඥානවාදියෙකි. අනුභූතිවාදී විවේචනයේ එක් ආරම්භකයෙකි. — පිටුව 184

මිලෙරාන් (Millerand), අලෙක්සාන්දර් එතියෙන් (1859–1943) — ප්‍රංශ දේශපාලඥයෙකි. 1890 ගණන්වලදී සමාජවාදීන්ට එකතු විය. ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ අවස්ථාවාදී ප්‍රවනතාවයට නායකත්වය දුන්නේය. 1899 දී සමාජවාදය පාවාදෙමින් ප්‍රංශයේ ප්‍රතිගාමී රජයට අතුලු විය. — පිටු 27, 80, 115

මේරිංග් (Mehring), ෆ්‍රන්ත්ස් (1846–1919) — ජර්මන් කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශික පිළේ එක් නායකයෙකි. ඉතිහාසඥයෙකි, ප්‍රකාශකයෙකි, සාහිත්‍යවිශාරදයෙකි. කේ. ලිබ්ක්නෙහ්, පී. ලුක්සෙම්බුර්ග් හා වෙනත් අය සමග එකතුව ජර්මනියේ කොමියුනිස්ට් පක්ෂය පිහිටවූයේය. — පිටු 59, 140, 141, 146, 149

මොල් (Moll), යෝසිෆ් (1812–1849) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. කොමියුනිස්ට් වරුන්ගේ සංගමයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. කොලෝන් කම්කරු සංගමයේ සභාපති වරයා ය. — පිටුව 147

යුර්කේවිච්, එල්. (1885–1918) — උක්‍රේනියානු ජාතිකවාදියෙකි. — පිටු 203, 204, 209, 228, 229, 235, 243, 244, 257, 264, 266

රියසානව් (ගොල්දෙන්දහ්), දවිද් බරිසවිච් (1870–1938) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ''ඉස්ක්‍රා'' පත්‍රය මගින් පිළියෙළ කරන ලද පක්ෂ වැඩ පිළිවෙළට හා පක්ෂය ගොඩනැගීමේ ලෙනින්වාදී මූලධර්මවලට විරුද්ධව නැගීසිටි ''බර්බා'' නම් සාහිත්‍ය කණ්ඩායමේ එක් සංවිධායකයෙකි. ''බර්බා'' කණ්ඩායමේ නියෝජිතයකු මෙන් සම්මේලනයට සහභාගිවීම සඳහා රියසානව්ට ආරාධනා කිරීමේ යෝජනාව රු. ස.-ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනය (1903) නිෂ්ප්‍රභා කළේය. — පිටුව 202



රෙයද්, නිකලායි අන්ද්‍රෙයවිච් (1793 පමණ 1855) — රුසියානු ජෙනරල් වරයෙකි. රුසියාව එංගලන්තයට ප්‍රංශයට තුර්කියට හා සර්දීනියාවට විරුද්ධව 1853–1856 දී කළ ක්‍රිමි යුද්ධයේදී චෝර්නයා ගඟ බඩ වූ පරාජය පිළිබඳ ඔහුට චෝදනා කරන ලදී. — පිටුව 266

රෙගෙර් (Reger), වදේවුෂ් (1872–1938) — සිලීසියාවේ හා ගලීසියාවේ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයෙකි, පත්‍ර කලාවේදියෙකි. 1911 සිට 1917 දක්වා ඔස්ත්‍රියානු පාර්ලමේන්තුවේ මන්ත්‍රීවරයෙකුව සිටියේය. — පිටුව 218

රෙයිතෙර්න් (විපත 1861) — සාර් හමුදවේ කර්නල් වරයෙකි. වීදි පෙළපාලිවලට වෙඩිතැබීමට හා ඒවා මැඩපැවැත්වීමට අකමැති වූ ඔහු වෝර්සෝ නගරයේදී වෙඩිතබාගෙන සියදිවි හානිකර ගත්තේය. — පිටුව 177

රෙනාන් (Renan), එර්නෙස්ත් ජොසෙෆ් (1832–1892) — ප්‍රංශ විද්‍යාඥයෙකි. ආගම පිළිබඳ ඉතිහාසඥයෙකි. විඥානවාදී දර්ශනිකයෙකි. මුල් අවධියේ ක්‍රිස්තුධර්මය පිළිබඳ ඔහුගේ ලිපි නිසා ඔහු ප්‍රසිද්ධියට පත්විය. දේශපාන අදහස් අනුව විවෘතවම ඔහු ප්‍රජාතන්ත්‍රවාදයට හා 1871 පැරිස් කොමියුනයට හතුරු ආකල්පයක් දක්විය. — පිටුව 150

රෝදිචෙව්, ෆියෝදර් ඉවානවිච් (උපත 1856) — මහා ඉඩම් හිමියෙක් හා සිම්ස්ත්වො නායකයෙකි. නීතිඥයෙක් හා කැඩෙට් පක්ෂයේ නායකයෙකි, එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. රාජ්‍ය දූමා සභාවේ සියලුම සැසි වාරවලට සහභාගි වූ මන්ත්‍රීවරයෙකි. — පිටු 127, 144

රොමානව්වරු — 1613 සිට 1917 දක්වා රුසියාව පාලනය කළ රුසියානු සාර් අධිරාජ්‍ය පරම්පරාව. — පිටුව 176

ලසාල් (Lassalle), ෆේර්දිනාන්ද් (1825–1864) — ජර්මන් සුළුධනපති සමාජවාදියෙකි. ජර්මන් කම්කරු ව්‍යාපාරයේ අවස්ථාවාදයේ එක් ආකාරයක් වූ ලසාල්වාදයේ ආදිකර්තෘවරයාය. ලසාල් සමස්ත ජර්මානු කම්කරු සංගමයේ මූලාරම්භකයෙකුද වූයේය (1863). සංගමය ආරම්භ කිරීම නිසා කම්කරු ව්‍යාපාරය සඳහා වැදගත් මෙහෙයක් ඉටුවූ නමුත් එහි සභාපති වූ ලසාල් එය අවස්ථාවාදී මාර්ගයක් ඔස්සේ මෙහෙයවූයේය. — පිටුව 211

ලෆාර්ග් (Lafargue), පෝල් (1842–1911) — ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ ප්‍රධාන නායකයෙකි. මාක්ස්වාදයේ සම්භාවනීය ප්‍රචාරකයෙකි. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකි. දෙවැනි ජාත්‍යන්තරයේ අවස්ථාවාදයට විරුද්ධව දැඩි සටනක් ගෙනගියේය. ප්‍රංශයේ කම්කරු පක්ෂයේ මූලාරම්භකයින්ගෙන් කෙනෙකි. මාක්ස්ගේ හා එංගල්ස්ගේ ගෝලයෙක් හා අනුගාමිකයෙකි. — පිටුව 250

ලපාතින්, ගෙර්මන් අලෙක් සාන්ද්‍රවිච් (1845–1918) — ප්‍රසිද්ධ රුසියානු විප්ලවවාදියෙක් හා නරෝද්නික්වාදියෙකි. පළමුවැනි ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලයේ සාමාජිකයෙකි. කාල් මාක්ස්ගේ ''ප්‍රාග්ධනය'' පළමුවැනි වෙළුම රුසියානු භාෂාවට පරිවර්තනය කළේය. — පිටුව 248

ලීබෙර් (ගෝල්ද්මන්, මිහයිල් ඉසාකවිච්) (1880–1937) — බුන්ද් සංවිධානයේ එක් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී (1903) බුන්ද් නියෝජිත පිරිසේ නායකයා ලෙස කටයුතු කළේය. අන්ත දක්ෂිණාංශික, ඉස්ක්‍රාවිරෝධී තත්වයක් ගත්තේය. සම්මේලනයට පසු මෙන්ෂෙවිකයෙකි. — පිටු 259—261

ලීබ්මන්, එෆ්. (ගෙර්ෂ්, පෙයිසහ්) (උපත 1882) — බුන්ද් සංවිධානයේ එක් නායකයෙකි; ලික්විඩේටර්වරුන්ට එකතු විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914–1918) මධ්‍යස්ථවාදියෙකි. — පිටු 203, 204, 229, 233, 243, 257, 263, 264, 266, 271

ලුක්සෙම්බුර්ග් (Luxemburg), රෝසා (1871–1919) — ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායිකාවකි. දෙවැනි ජාත්‍යන්තරයේ වාමාංශික පිළේ එක් නායකයෙකි. පොලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මූලාරම්භකයෙකු හා නායිකාවකි. පෝලන්ත කම්කරු ව්‍යාපාරයේ ජාතිකවාදයට විරුද්ධව ක්‍රියා කළාය. 1897 සිට ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය තුළ උද්යෝගයෙන් කටයුතු කළ ඈ ප්‍රතිගාමිත්වය කාලයේ (1907–1910) සහ නව විප්ලවවාදී උන්නතිය කාලයේ ලික්විඩේටර්වරුන් සමග සමගිවීමේ ආකල්පයක් දක්වූවාය. — පිටු 202—216, 218, 221, 222, 224, 225, 227 232, 233, 236—240, 242—245, 248, 258, 259—262, 266, 268

ලෙවින්ස්කි, වී. පී. (1880–1953) ගලිසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ උක්‍රේනියානු නායකයෙකි. 1913–1914 අවුරුදු වලදී



නීත්‍යානුකූල ලෙස පළ වූ ධනපති-ජාතිවාදී සඟරාවක් වූ ''ඩ්ස්වින්'' (''සංටාරය'') ට ලිපි සැපයුවේය. — පිටුව 264

ලෙනින් වී. අයි. (උල්‍යානව්, වලදීමිර් ඉලියිච් (1870–1924) — පිටු 68, 123, 132, 140, 202

13 වැනි ලියෝ (ජචොකිනො වින්චෙන්ට්සො, පෙච් සිටුතුමා) (1810-1903) — රොමන් පාප්වහන්සේය (1878 සිට). ධනපති සමාජයට සරිලන ලෙස කතෝලික ආගම හැඩගැස්වීමට සහ පාප්වහන්සේටද දේශපාලන කාර්ය කොටසක් ලබාගැනීමටත් උත්සාහ ගත්තේය. නිර්ධන පංතියේ පංති සංවිධානවල සමතුලිතතාවය සඳහා, පල්ලියේ පාලනය යටතේ පවතින හා හාම්පුතුන් සමග සහයෝගීතාවයෙන් කටයුතු කරන වැඩකරන ජනතාවගේ සංවිධාන පිහිටුවන ලෙස ඉල්ලා සිටියේය. — පිටුව 136

ලොංගෙ (Longuet), ෂාර්ල් (1839–1903) — ප්‍රංශ කම්කරු ව්‍යාපාරයේ නායකයෙකි, ප්රුදොන්වාදියෙකි, පත්‍රකලාවේදියෙකි (කාල් මාක්ස්ගේ දුව — ජේන් ගේ ස්වාමි පුරුෂයාය ය.) පළමුවැනි ජාත්‍යන්තරයේ ප්‍රධාන මණ්ඩලයේ සාමාජිකයෙකුව සිටියේය. 1871 පැරිස් කොමියුනයේ සාමාජිකයෙක්ව සිටියේය. — පිටුව 250

එල්. ච් (ආරූඪ නාමය මිරොන් කන්ස්තන්තීනවිච් ෂෙයින්ෆින්කෙල්) (1879–1925) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. බොල්ෂෙවික්වාදියෙකි. 1903 සිට රු. ස. ප්‍ර. ක. පක්ෂයේ සාමාජිකයෙකි. 1905–1907 විප්ලවයට සහභාගි විය. 1911 දී බොල්ෂෙවික්වරුන්ගෙන් ඉවත්වූ ඔහු ප්ලෙහානව්වාදීන්ගේ පැරිස් කණ්ඩායමට එකතු විය. — පිටු 223, 254

වර්ලෙන් (Varlin), ලුයී එෂෙන් (1839–1871) — ප්‍රංශ විප්ලවවාදියෙකි. පැරිස් කොමියූනයේ (1871) සම්භාවනීය නායකයෙකි. පළමුවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකි. පිටුව 115

වර්ෂාව්ස්කි, ඒ. සී. (වර්ස්කි (Warski), අදොල්ෆ් (1868–1937) — පෝලන්ත විප්ලවවාදී ව්‍යාපාරයේ පැරණිතම හා ප්‍රධාන පෙළේ නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ හතරවැනි (සමගිවීමේ) සම්මේලනයට සහභාගි විය. සම්මේලනයට පසුව පක්ෂයේ මධ්‍යම කාරක සභාවට තේරී පත් විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදියෙකි.

පෝලන්ත කොමියුනිස්ට්වාදී කම්කරු පක්ෂයේ මූලාරම්භකයෙක් හා එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. — පිටු 258, 259

ව්ලදීමීර් (රොමානව්, ව්ලදීමීර් අලෙක්සාන්ද්‍රවිච්) (1847–1909) — මහා ආදිපාදවරයෙකි. දෙවැනි නිකොලායි සාර් රජතුමාගේ බෑනනු කෙනෙකි. 1884-1905 අවුරුදුවලදී රාජකීය හමුදාවේ සහ පීටර්ස්බර්ග් හමුදාවල ප්‍රධාන අන දෙන නිලධාරියා වශයෙන් කටයුතු කළේය. 1905 ජනවාරි 9 දින සාර්ගේ අන පරිදි පීටර්ස්බර්ග් කම්කරුවන්ට වෙඩි තැබීම සංවිධානය කළේය. — පිටුව 9

ශෙද්‍රීන් (සල්ටිකොව්-ශෙද්‍රීන්, මිහයිල් යෙව්ග්‍රාෆවිච්) (1826–1889) — ප්‍රසිද්ධ රුසියානු උපහාසාත්මක ලේඛකයෙකි. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි. — පිටුව 199

ෂ්වෙරින් (Schwerin), මක්සිමිලියන් (1804–1872) — ප්‍රරුසියානු දේශපාලඥයෙකි. ප්‍රතිගාමී රදළ පැලැන්තියේ සහ නිලධාරි පැලැන්තියේ නියෝජිතයෙකි. 1848 (මාර්තු-ජූනි) දී කම්ප්හවුසෙන්ගේ කැබිනට් මණ්ඩලයේ සංස්කෘතික, අධ්‍යාපන හා සෞඛ්‍ය ඇමති ධුරය ඉසිලීය. — පිටුව 143

ෂ්තිර්නර් (Stirner), මක්ස් [ෂ්මිද්ත්, කස්පාර් (Schmidt, Kaspar)] (1806–1856) — ජර්මානු දර්ශනිකයෙකි. ධනපති ඒකපුද්ගලවාදයේ සහ ආරාජිකවාදයේ න්‍යායාචාර්ය වරයෙකි. — පිටුව 250

ෂපර් (Schapper), කාල් (1812–1870) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. කොමියුනිස්ට්වරුන්ගේ සංගමයේ වැඩ කටයුතුවලට උද්යෝගයකින් සහභාගි විය. 1850 ජූලි මාසයේදී එංගලන්තයට විදේශගත වී කොමියුනිස්ට් වරුන්ගේ සංගමයේ මධ්‍යම කාරක සභාවට ඇතුළු විය. එහිදී ඔහු ඒ. විලිච් හා සමග එකතුව මාක්ස් ගේ හා එංගල්ස්ගේ නායකත්වයෙන් යුත් මධ්‍යම කාරක සභාවේ බහුතරයට විරුද්ධව කටයුතු කළේය. පසුව එහි කුට භෙදකාරී කණ්ඩායමේ නායකයා බවට පත් විය. — පිටුව 147

සවෙන්කො, අනතෝලි ඉවානවිච් (උපත 1874) — අන්ත ජාතිවාදියෙකි, කළු සියය ප්‍රකාශනවලට ලිපි සැපයුයේ ය. — පිටුව 233

ස්තරවේර් (පොත්රෙසව්, අලෙක්සාන්දර් නිකලායවිච්) (1869–1934) — මෙන්ෂෙවික් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේ-



ලනයට (1903) ''ඉස්ක්‍රා'' පත්‍රයේ කර්තෘ මණ්ඩලය වෙනුවෙන් සහභාගි විය. මෙන්ෂෙවික්වාදී ඉස්ක්‍රා වාදියෙකි. ප්‍රතිගාමීත්වය කාලයේ (1907–1910) හා නව විප්ලවවාදී උන්නතිය කාලයේ ලික්විඩේටර් වාදයේ න්‍යායාචාර්ය වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914–1918) සමාජ-ජාතෙයාන්මාදවාදියෙක් බවට පත්විය. — පිටු 61, 70, 79, 124, 133

ස්තලිපින්, පීටර් අර්කාඩියවිච් (1862–1911) — සාර්වාදී රුසියාවේ රාජ්‍ය නායකයෙකි. මහා ඉඩම් හිමියෙකි. 1906 සිට 1911 දක්වා අගමැති ධුරය සහ ස්වදේශ කටයුතු භාර ඇමති ධුරය ඉසිලීය. 1907–1910 මංග දේශපාලන ප්‍රතිගාමීත්වය ස්තලිපින්ගේ නම හා සම්බන්ධ ය. ස්තලිපින් ගම්බද පොහොසත් කුලාකයින්ට වාසිවන පරිදි හා දුප්පත් ගොවීන් විනාශවී යන පරිදි කෘෂිකාර්මික ප්‍රතිසංස්කරණයක් කළේය. — පිටු 164, 165, 170

ස්ත්‍රුවේ, පියෝතර් බෙර්න්ගාර්දවිච් (1870–1944) — ආර්ථික විද්‍යාඥයෙක් හා ප්‍රකාශකයෙකි. 1890 ගණන් වලදී ''නීත්‍යානුකූල මාක්ස්වාදයේ'' ප්‍රධාන පෙළෙ නායකයෙක් බවට පත් විය. පසුව කැඩෙට් පක්ෂයේ නායක තනතුරක් ඉසිලීය. — පිටු 15, 28, 52, 56, 66, 68—80, 102, 103, 105, 126, 127, 134—137, 246,

සෙදොව්, එල්. — කල්ත්සොව්. ඩී. බලන්න

සෙම්කොව්ස්කි, එස්. (බ්‍රොන්ෂ්ටෙයින් සිමියොන් යූලියවිච්) (උපත 1882) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික් වාදියෙකි. මෙන්ෂෙවික්වාදී-ලික්විඩේටර්වාදී ප්‍රකාශන වලට හා වෙනත් මුද්‍රණ ආයතනවලට ලිපි සැපයුවේය. ජාතික හා වෙනත් ප්‍රශ්න පිළිබඳ සෙම්ස්කෝව්ස්කි දරන අදහස් වී. අයි. ලෙනින් තම ලිපි මගින් විවේචනය කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914–1918) මධ්‍යස්ථවාදියෙකි. — පිටු 191, 203, 204, 209, 221, 228, 229, 235, 243, 244, 257, 265—268

සෙර්නො-සලවියෙවිච්, අලෙක්සාන්දර් අලෙක්සාන් විච් (1838–1869) — 1860 ගණන්වල විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. ''සෙම්ලිය ඊ වෝලිය'' රහසිගත සංවිධානයේ එක් සංවිධායකයෙකි. 1862 දී විදේශගත විය. හෙර්ට්සන්ගේ ලිබරල්වාදී වැනෙනසුලු භාවයට විරුද්ධව ලියන ලද පොතේ කර්තෘවරයාය. — පිටුව 175

**හන්සෙමන් (Hansemann), දවිද් යුස්තුස්** (1790–1864) — ප්‍රුසියානු දේශපාලඥයෙකි. ජර්මානු මහා ධනවතෙකි. ලිබරල්වාදී ධනපති පංතියේ නායකයෙකි. 1848 මාර්තු-සැප්තැම්බර් මාසවලදී ප්‍රුසියාවේ මුදල් ඇමති ලෙස කටයුතු කළේය. ප්‍රතිගාමීත්වය සමග එකතු වෙමින් පාවාදීමේ පිළිවෙතක් ගෙන ගියේය. — පිටු 144, 145

**හාර්කොට් (Harcourt), විලියම්** (1827–1904) — ඉංග්‍රීසි දේශපාලඥයෙකි, ලිබරල්වාදියෙකි. 1873 සිට රජයේ සැලකිය යුතු ධුරයන් ඉසිලීය. 1894–1898 ලිබරල් පක්ෂයේ නායකයා බවට පත්විය. — පිටු 136

**හිර්කෙ** — ප්‍රුසියාවේ හන්සෙමාන් රජයේ (1848) කෘෂිකර්ම ඇමතිවරයාය. ප්‍රුසියානු පාර්ලිමේන්තුවේ මන්ත්‍රීවරයෙකි. — පිටුව 144, 145

**හිර්ෂ් (Hirsch), මාක්ස්** (1832–1905) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙක් සහ ප්‍රකාශකයෙකි. ප්‍රගතිශීලී පක්ෂයේ සාමාජිකයෙකු වූ මොහු රෙයිහ්ස්ටාග් මන්ත්‍රීවරයෙකි. 1868 දී ෆ්‍රාන්ට්ස් දුන්කර් සමග එකතුව ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සංගම් ගණනාවක්ම පිහිටවුවේය (ඊනියා ''හිර්ෂ්-දුන්කර් වෘත්තීය සංගම්''). — පිටුව 128

**හෙගල් (Hegel), ගියොර්ග් විල්හෙල්ම් ෆ්‍රෙද්රිහ්** (1770–1831) මහා ජර්මන් දර්ශනිකයෙකි. විශයමූලික විඥනවාදියෙකි. දයලෙක්තික ද්‍රව්‍යවාදය කෙරෙහි බල පෑ එක් න්‍යායයක් ලෙස ගතහැකි විඥනවාදී දයලෙක්තික විද්‍යාව සවිස්තරාත්මක ලෙස විශ්ලේශනයට භාජනය කිරීම ඔහුගෙන් සිදුවූ ඓතිහාසික කාර්ය භාර්යකි. — පිටුව 172

**හෙකර් (Haecker), එමිල්** (1875–1934) — පී. පි. ඍ. දක්ෂිණාංශික පිළේ නායකයෙකි. 1894 සිට අවුරුදු 40 ක් පමණ ක්‍රාකව් සමාජවාදී පුවත්පතක් වූ “Naprzód” (''ඉදිරියට'') හි කර්තෘවරයා ලෙස කටයුතු කළේය. — පිටුව 144

**හෙර්ට්සන්, අලෙක්සාන්දර් ඉවානවිච්** (1812–1870) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ද්‍රව්‍යවාදී දර්ශනිකයෙකි, ලේඛකයෙක් හා ප්‍රකාශකයෙකි. විදේශගත වූ මොහු ලන්ඩන්වල ''ස්වාධීන රුසියානු මුද්‍රණාලය'' පිහිටුවා 1857 සිට ''කොලකෝල්'' (''සාන්ටාරය'') නමින් සඟරාවක් මුද්‍රණය කළේය. රහසිගතව රුසියාවේ බෙදහරිනු ලැබූ මෙම සඟරාව රුසියානු විප්ලවවාදී ව්‍යාපාරය වර්ධනය වීම සඳහා විශාල ආධාරකයක් විය. — පිටු 171—178



## පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාව ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු.

අපේ ලිපිනය:

Progress Publishers,
17, Zubovsky Boulevard,
Moscow, USSR.

